වී. අයි. ලෙනින්ගේ තෝරාගත් කෘති පස්වැනි වෙළුමෙහි
පහත දැක්වෙන කෘති හා වෙනත් කෘතිද පළවේ:
''විදේශයෙහි සිට එවූ ලියුම්''
''වර්තමාන විප්ලවයේදී නිර්ධන පංතියට
පැවරෙස කර්තව්‍යයන්'
''අපගේ විප්ලවයේදී නිර්ධන පංතියට පැවරෙන කර්තව්‍යයන්''
''සම්මුති ගැන''
''ළඟ එන මහා විපත හා එයට විරුද්ධව සටන් කරන හැටි''.

ලෙනින් * තෝරාගත් කෘති 4

# ලෙනින්

## තෝරාගත් කෘති

### වෙළුම් දෙළහ



වෙළුම

**4**

යුද්ධය සහ රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය
මහ රුසියානු ජාතිකාභිමානය ගැන
අධිරාජ්‍යවාදය ධනපති ක්‍රමයේ ඉහළම අවධිය
නිර්ධන පංති විප්ලවයේ යුද්ධ වැඩ පිළිවෙළ

ප්‍රගති ප්‍රකාශක මන්දිරය

# LIBERATIONBASE
## ඩිජිටල් පුස්තකාලය

ඩිජිටල් පුස්තකාලය සහ ලේඛණ සංරක්ෂණ ව්‍යාපෘතිය
ආරම්භය (***NMSG Library*** ලෙස): 2010
***LIBERATIONBASE*** ලෙස නැවත නාමකරණය: 2013



සූචිකරණ දත්ත

කෘතිය: ලෙනින් තෝරාගත් කෘති වෙළුම් දොළහ, වෙළුම 4
කතෘ/පරිවර්තක: වී.අයි. ලෙනින්/උ. මු. අබයරත්න
ප්‍රකාශක: ප්‍රගති ප්‍රකාශක මන්දිරය, මොස්කව්
පළමු ඩිජිටල් පළ කිරීම: 2014-09-22
ඩිජිටල් සංස්කරණයන්: V1:2014-09-22, V2:2019-05-29
පිටු ගණන: 232
භාෂා මාධ්‍ය: සිංහල
ගොනු ආකෘතිය: PDF

Web: https://liberationbase.wordpress.com
Email: slradical@ymail.com

# ලෙනින්

## තෝරාගත් කෘති

### වෙළුම් දොළහ



## වෙළුම

## 4



මොස්කව්
ප්‍රගති ප්‍රකාශක මන්දිරය
1979

අනුවාදය — ළ. මු. අබයරත්න

В. И. ЛЕНИН
ИЗБРАННЫЕ ПРОИЗВЕДЕНИЯ В 12 ТОМАХ
Том 4
*на языке сингхала*



Л $\frac{10102-813}{014(01)-79}$ 920—79 0101020000

## පටුන


යුද්ධය සහ රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය . . . . . . . 7
මහ රුසියානු ජාතිකාභිමානය ගැන . . . . . . . . . . 16
යුරෝපා එක්සත් ජනපදයක් සඳහා වන සටන් පාඨය ගැන . . . 22
යුද්ධය ගැන රු. ස. ප්‍ර. ක. ප. මධ්‍යම කාරක සභාව නිකුත් කළ ප්‍රකාශනය ගැන "සොට්සල්-ඩිමොක්‍රට්" පත්‍රයේ කතු වැකියෙන් දැක්වූ අදහස . . . . . . . . . . . . . . 27
අධිරාජ්‍යවාදය ධනපති ක්‍රමයේ ඉහළම අවධිය . . . . . . . . 28
පෙරවදන . . . . . . . . . . . . . . . . . 28
ප්‍රංශ සහ ජර්මන් සංස්කරණයන්ට පෙරවදන . . . . . . . 30
I. නිෂ්පාදනය සංකේන්ද්‍රණය වීම සහ ඒකාධිකාර . . 38
II. බැංකු සහ ඒවායේ අළුත් කාර්ය කොටස . . . 55
III. මූල්‍ය ප්‍රාග්ධනය සහ මූල්‍ය කතිපයාධිපත්‍යය . . . 74
IV. ප්‍රාග්ධන අපනයනය . . . . . . . . . . . 90
V. ධනපති හවුල් ව්‍යාපාර අතර ලෝකය බෙදා ගැනීම . 96
VI. ලෝකය මහ බලවතුන් අතර බෙදා ගැනීම . . . 106
VII. අධිරාජ්‍යවාදය ධනපති ක්‍රමයේ විශේෂ අවධියක් ලෙස 120
VIII. ධනපති ක්‍රමයේ පරපෝෂිතභාවය සහ දිරාපත් වීම . 132
IX. අධිරාජ්‍යවාදය පිළිබඳ විවරණය . . . . . . . . 143
X. අධිරාජ්‍යවාදයට ඉතිහාසයෙහි හිමි වන තැන . . . 158
"අධිරාජ්‍යවාදී ආර්ථිකවාදයේ" ජායමාන උපනතිය . . . . . . 165
නිර්ධන පංති විප්ලවයේ යුද්ධ වැඩ පිළිවෙළ . . . . . . . . 175
සංස්කාරකගේ සටහන් . . . . . . . . . . . . . . . 188
නාමාවලිය . . . . . . . . . . . . . . . . . . . 209

# යුද්ධය සහ
# රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය[1]



සියළුම රටවල ආණ්ඩු සහ ධනපති පංති පක්ෂ දශක ගණන් තිස්සේ සූදානම් කරමින් සිටි යුරෝපා යුද්ධය ආරම්භ වී තිබේ. අවි ආයුධ වර්ධනයත් දියුණු රටවල ධනපති සංවර්ධනයේ නවතම අවධියේ, එනම්, අධිරාජ්‍යවාදී අවධියේ වෙළඳ පොළවල් සඳහා කෙරෙන තරඟය උග්‍ර වීමත්, වඩාත් නොදියුණු නැගෙනහිර යුරෝපීය රාජාණ්ඩුවල රාජවංශික උවමනාවනුත් නිසා මෙම යුද්ධය ඇතිවීම නොවැළැක්විය හැකි දෙයක් විය. එසේම එය ඇති විය. වර්තමාන යුද්ධයේ සම්පූර්ණ යථාර්ථ සන්ධාරය, වැදගත්කම හා අර්ථය වනුයේ, වෙනත් ජාතීන් ගේ දේශභූමි අල්ලා ගැනීම හා එම ජාතීන් යටත් කිරීම, තරඟකාරී ජාතීන් විනාශ කිරීම සහ ඒවායේ වස්තුව කොල්ලකෑම, රුසියාවේ, ජර්මනියේ, එංගලන්තයේ සහ අනෙකුත් රටවල අභ්‍යන්තර දේශපාලන අර්බුද කෙරෙන් වැඩ කරන ජනතාවගේ අවධානය වෙනතකට යොමු කිරීම, කම්කරුවන් අසමගි කිරීම හා ඔවුන් ජාතිකවාදී මුළාවට පත් කිරීම සහ නිර්ධන පංතියේ විප්ලවවාදී ව්‍යාපාරය දුර්වල කිරීම පිණිස කම්කරුවන් ගේ පෙරමුණු බල ඇණිය තුරන් කර දැමීම ය.

යුද්ධයේ සැබෑ තේරුම අනාවරණය කිරීමේත්, පාලක පංති, ඉඩම් හිමියන් හා ධනපති පංතිය යුද්ධයට පක්ෂව පතුරුවා හරින අසත්‍ය කථා, විතණ්ඩවාදී හා ''දේශප්‍රේමී'' වදන් හරඹය ගැන නිර්දය ලෙස හෙළිදරව් කිරීමේත්, වගකීම ප්‍රධාන වශයෙන් පැවරෙන්නේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයට ය.

යුද්ධකාරී ජාතීන්ගේ එක කණ්ඩායමක නායකත්වය ගෙන ඇත්තේ ජර්මන් ධනපති පංතිය ය. මෙය පීතෘභූමිය, නිදහස හා ශිෂ්ටාචාරය ආරක්ෂා කිරීමත්, සාර්වාදය විසින් පීඩාවට පත් කෙරෙන ජනතාවන් නිදහස් කිරීමත්, ප්‍රතිගාමී සාර්වාදය විනාශ කිරීමත් සඳහා කරන යුද්ධයකැයි

කියමින්, එය කම්කරු පංතිය හා වැඩ කරන ජනතාව රවටයි. නමුත් ඇත්ත වශයෙන්ම, දෙවැනි විල්හෙල්ම් ගේ නායකත්වයෙන් යුත් ප්‍රුසියන් ජුන්කර්වරුන්[2] ඉදිරියේ දීන ලෙස මුනින් වැටී බඩගාන මෙම ධනපති පංතිය, නිරතුරුවම සාර්වාදයේ ඉතාමත් හිතවත් මිතුරෙක් වූ අතර රුසියාවේ කම්කරුවන් ගේ සහ ගොවියන් ගේ විප්ලවවාදී ව්‍යාපාරයේ සතුරෙක් විය. සැබවින් ම, යුද්ධයේ ප්‍රතිඵලය කුමක් වුවත්, රුසියාවේ විප්ලවයට විරුද්ධව සාර්වාදී රාජාණ්ඩුවට ආධාර කිරීම සඳහා, ජුන්කර්වරුන් සමග අතිනත් ගනිමින්, මෙම ධනපති පංතිය සෑම ප්‍රයත්නයක් ම දරනු ඇත.

ඇත්ත වශයෙන්ම ජර්මන් ධනපති පංතිය සර්බියාවට විරුද්ධ වෛරව ප්‍රහාරයක් දියත් කළේ එරට යටත් කරගැනීමේ සහ දක්ෂිණ ස්ලාව් ජනතාව ගේ ජාතික විප්ලවයේ ගෙල මිරිකා දැමීමේ අරමුණ ඇතිවය. ඒ අතරම එය එහි යුද්ධ හමුදවලින් වැඩි කොටස වඩාත් නිදහස් රටවල් වූ බෙල්ජියමට හා ප්‍රංශයට විරුද්ධව යැව්වේ වඩාත් පොහොසත් තරඟකරුවන් කොල්ල කෑම සඳහා ය. ජර්මන් ධනපති පංතිය කරන්නේ ආරක්ෂක යුද්ධයකැයි යන මිථ්‍යා ප්‍රබන්ධය පතුරුවා හරිමින් සිටි එය, යුද්ධෝපකරනවල නවීනතම වැඩි දියුණු කිරීම්වලින් ප්‍රයෝජන ගනිමින් හා රුසියාව සහ ප්‍රංශය කල් තබා සැලසුම් කර හා තීරණය කර තිබුණ නැවත ආයුධ සන්නද්ධ වීම් වළක්වමින්, යුද්ධය සඳහා තමන් වඩාත් වාසිදයක යයි සිතූ අවස්ථාව තෝරා ගත්තේය.

යුද්ධකාරී ජාතීන් ගේ අනිත් කණ්ඩායමේ නායකත්වය ගෙන ඇත්තේ බ්‍රිතාන්‍ය සහ ප්‍රංශ ධනපති පංති වෙති. තමන් යුද්ධ කරන්නේ තමන් ගේ රටවල් ආරක්ෂා කර ගැනීමටත්, තමන්ගේ නිදහස හා සංස්කෘතිය සඳහාත්, ජර්මන් යුද්ධවාදයට සහ සර්වාධිකාරයට විරුද්ධවත්, යයි කියමින් ඔවුහු කම්කරු පංතිය හා වැඩ කරන ජනතාව රවටති. ඇත්ත වශයෙන් ම මෙම ධනපති පංතිය, යුරෝපයේ ඇති ඉතාමත් ප්‍රතිගාමී හා ම්ලේච්ඡ රාජාණ්ඩුව වන රුසියානු සාර්වාදයේ යුද්ධ හමුද කුලියට ගැනීම සහ ජර්මනියට ප්‍රහාරයක් දීම සඳහා එම හමුද සූදනම් කිරීමට, බොහෝ කාලයක සිට ම, සිය කෝටි ගණනින් මුදල් වැය කරමින් සිටියේය.

ඇත්තෙන් ම, එංගලන්තය හා ප්‍රංශ ධනපති පංතිවල අරගලයේ අරමුණ වී තිබෙන්නේ, ජර්මන් යටත් විජිත අල්ලා ගැනීම සහ වඩාත් සීඝ්‍ර ආර්ථික සංවර්ධනයකට පත් වූ ඒ ප්‍රතිමල්ල ජාතිය විනාශ කිරීම ය. මෙම උතුම් අරමුණ අනුව යන ''දියුණු'', ''ප්‍රජාතන්ත්‍රවාදී'' ජාතීහු, පෝලන්තය, උක්‍රේනියාව ආදී වූ රටවල බෙල්ල තවත් මිරිකීම සඳහා සහ රුසියාවේ විප්ලවය වඩාත් සම්පූර්ණ ලෙස පොඩි පට්ටම් කර දැමීම සඳහා, මෘග සාර්වාදී පාලනයට ආධාර කරති.



කොල්ලකෑම, කෲර කම් හා යුද්ධයේ ම්ලේච්ඡ ක්‍රියා අතින්, එක කලහකාරී කණ්ඩායමක් අනිකට දෙවැනි නොවේ. එසේ වුව ද, ඒ ඒ රටෙහි ධනපති පංතිය, නිර්ධන පංතිය රැවටීම හා නියම විමුක්ති යුද්ධය වන ''තමන් ගේ'' සහ ''විදේශ'' යන දෙරටෙහි ම ධනපති පංතියට විරුද්ධව එල්ලවන සිවිල් යුද්ධය කෙරෙන්, එහි අවධානය වෙනතකට යොමු කිරීම සඳහා, එවැනි උතුම් අරමුණක් ඉටු කර ගැනීම සඳහා, දේශප්‍රේමී වදන් උපයෝගී කර ගනිමින් ප්‍රයත්න දරන්නේ, ''තමන් ගේ'' ජාතික යුද්ධය, දේශභූමි අල්ලා ගැනීම පිණිස නොව, තමන් ගේ ජනතාව හැර, අන් සියළුම ජනතාවන් මුද ගැනීම පිණිස වූ ව්‍යායාමයක් සේ පෙන්වා, එහි අර්ථාන්විත බව හුවා දැක්වීමට ය.

නමුත්, කම්කරුවන් අසමගි කර, ඔවුන් එකිනෙකාට විරුද්ධව ඔට්ටු කර තැබීමට හා මෙම උසස් අරමුණ ඉටු කර ගැනීම සඳහා, යුද්ධ නීතිය හා යුද්ධමය පුවත් පාලනය (දැනුදු, යුද්ධ කාලයේ පවා බාහිර සතුරාට වඩා දැඩි ලෙස ''අභ්‍යන්තර'' සතුරාට විරුද්ධව ක්‍රියාත්මක කරනු ලබන පියවරයන්) වඩාත් දරුණු ලෙස ක්‍රියාවට නැංවීමට, සියළුම රටවල ධනපති පංතිය වඩ වඩාත් ආයාසමත් ලෙස උත්සාහ කරන තරමට, සියළුම රටවල ''දේශප්‍රේමී'' ධනපති පංතියේ මුදහළ ජාත්‍යොන්මාදවාදයට විරුද්ධව ස්වකීය පංති සමගිය, ජාත්‍යන්තරවාදය සහ සමාජවාදී අවබෝධය ආරක්ෂා කර ගැනීම පිළිබඳ පංති විඥනය ඇති නිර්ධන පංතියේ වගකීම ද වැඩි වන්නේ ය. පංති විඥනය ඇති කම්කරුවෝ මෙම අරමුණ අත් හරිත් නම්, එයින් අදහස් වන්නේ ඔවුන් නිදහස සහ ප්‍රජාතන්ත්‍රවාදය සඳහා වූ තමන් ගේ අපේක්ෂාවන් අත් හරින බවය. එවැනි තත්වයක් යටතේ ඔවුන් ගේ සමාජවාදී අපේක්ෂාවන් ගැන කීම අවශ්‍ය නැත.

ප්‍රධාන යුරෝපා රටවල සමාජවාදී පක්ෂ මෙම යුතුකම ඉටු කිරීමට සමත් වී නැති බවත්, මෙම පක්ෂවල නායකයන්, විශේෂයෙන් ජර්මනියේ එම නායකයන් හැසිරෙන ආකාරය, සමාජවාදී සත් ව්‍යාපාරය සම්පූර්ණයෙන් ම පාවා දීමක් වන බවත්, අපට ලිවීමට සිදුවී තිබෙන්නේ බලාපොරොත්තු සුන්වීම පිළිබඳ ඉතාමත් අම්හිරි හැඟීමකින් යුතුව ය. වැදගත්කම අතින් ඉතා උසස් හා ඓතිහාසික වන මෙම අවස්ථාවේදී වර්තමාන සමාජවාදී ජාත්‍යන්තරයේ, එනම්, (1889—1914) දෙවැනි ජාත්‍යන්තරයේ නායකයෝ සමාජවාදය වෙනුවට ජාතිකවාදය ආදේශ කිරීමට උත්සාහ දරති. ඔවුන් ගේ හැසිරීමේ ප්‍රතිඵලයක් වශයෙන්, මෙම රටවල කම්කරු පක්ෂ, ආණ්ඩුවල සාපරාධී කටයුතු වලට විරුද්ධත්වයක් නොදැක්වූ අතර, අනිත් අතට, අධිරාජ්‍යවාදී ආණ්ඩුවල ප්‍රතිෂ්ඨාව සමග කම්කරු පංතියේ ප්‍රතිෂ්ඨාව ද සමාන තත්වයට ගෙන එන ලෙස ඔවුහු එම පංතියට

ආයාචනා කළහ. යුද්ධ වියදම් සඳහා මුදල් ගෙවීම් අනුමත කිරීමට ඡන්දය දීමෙන් ද, ''තමන්ගේ'' රටවල ධනපති පංතියේ ජාත්‍යෝන්මාදවාදී (''දේශප්‍රේමී'') සටන් පාඨ පුනරුච්චාරනය කිරීමෙන් ද, යුද්ධය සාධාරණ කර පෙන්වා එය ආරක්ෂා කිරීමෙන් ද, යුද්ධකාරී රටවල ධනපති ආණ්ඩුවලට සම්බන්ධ වීමෙන් ද, යනාදී ආකාරයෙන්, ජාත්‍යන්තරයේ නායකයන් සමාජවාදයට විරුද්ධව කළේ ද්‍රෝහී කමකි. වර්තමාන යුරෝපයේ ඉතාමත් බලවත් සමාජවාදී නායකයන් හා සමාජවාදී පුවත්පත් අතරින් වඩාත්ම බලවත් පත්‍ර දරන්නේ, කිසිසේත් සමාජවාදී නොවන, ජාත්‍යෝන්මාදවාදී, ධනපති හා ලිබරල් අදහස් ය. එසේ සමාජවාදයට නින්ද කිරීමේ වගකීම මූලික වශයෙන් පැවරෙන්නේ දෙවැනි ජාත්‍යන්තරයේ බලවත්ම පක්ෂය වන ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයට ය. නමුත්, තමන් ගේ ම රට පාවා දෙමින්, කොමියුනය[3] මර්දනය කර දැමීමට බිස්මර්ක් සමග සන්ධානයට එළඹුනු ඒ ධනපති පංතියේ ම ඇමති ධුර පිළිගත් ප්‍රංශ සමාජවාදී පක්ෂයේ ක්‍රියාව නිවැරදි යයි කීමට ද, කෙනෙකුට නො පුළුවන.

යුද්ධයට ආධාර කිරීම මගින් තමන් රුසියානු සාර්වාදයට විරුද්ධව සටන් කරන බවක් කියමින්, ජර්මන් හා ඕස්ත්‍රියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීහු ඔවුන් යුද්ධයට දෙන ආධාරය නිවැරදි බව කීමට උත්සාහ දරති. එවැනි සාධාරණීකරනයක් හුදෙක් ම විතණ්ඩවාදී වන බව කියමින් රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් වන අපි පිළිතුරු දෙන්නෙමු. අප රටේ සාර්වාදයට විරුද්ධ ව්‍යාපාරය, නැවතත්, පසුගිය වසර කීපය තුළදී දැවැන්ත පරිමාණයට පත්ව ඇත. මෙම ව්‍යාපාරයට කවදත් නායකත්වය දුන්නේ රුසියාවේ කම්කරු පංතිය ය. පසුගිය අවුරුදු කීපයේ දේශපාලන වැඩ වර්ජන වලට දශ ලක්ෂ ගණන් කම්කරුවන් සම්බන්ධ වූ අතර, ඒවායේ සටන් පාඨය වූයේ සාර්වාදය පෙරළා දමා ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුවක් පිහිටුවීම ය. යුද්ධය ආරම්භ වීමට ආසන්නව තිබිය දී දෙවැනි නිකොලායි සාර් හමුවීමට පැමිණි ප්‍රංශ සමූහාණ්ඩුවේ ජනාධිපති පුවන්කාරේට ම දැන ගත හැකි වූ දෙයකි, සාන්ත පීටර්ස්බර්ග් වීදිවල රුසියානු කම්කරුවන් ඉදිකර තිබුණු වීදි බාධක. සාර්වාදී රාජාණ්ඩුවේ අපහාසයෙන් මිනිස් වර්ගයා නිදහස් කිරීමට, ඕනෑම ආකාරයේ කැප කිරීමක් කිරීමට රුසියානු නිර්ධන පංතිය පසුබට වී නැත. එසේ වුවත්, කිසියම් තත්වයන් යටතේ සාර්වාදයේ බිඳ වැටීම ප්‍රමාද කළ හැකි යමක් වේ නම්, රුසියාවේ සමස්ත ප්‍රජාතන්ත්‍රවාදයටම විරුද්ධව සාර්වාදය කරන අරගලයේ දී එයට ආධාර කළ හැකි යමක් වේ නම් ඒ අනෙකක් නොව, සාර්වාදයේ ප්‍රතිගාමී අරමුණුවලට ධෛර්ය දීමට ඉංග්‍රීසි හා ප්‍රංශ සහ රුසියානු ධනපති පංතියේ මුදල් සාර්වාදයේ ප්‍රයෝජනය සඳහා යෙදීමට හේතුවන වර්තමාන යුද්ධය ය. සාර්වාදයට විරුද්ධව රුසියාවේ කම්කරු පංතිය ගෙනයන විප්ලවවාදී අරගලයට බාධා කිරීමට සමත් යමක් වේ නම්, ඒ අනෙකක් නොව, රුසියානු ජාත්‍යෝන්මාදවාදී පුවත් පත් විසින් අපට ආදර්ශයක් ලෙසට නිතරම හුවා දක්වනු ලබන, ජර්මන් හා ඕස්ත්‍රියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් ගේ හැසිරීමය.

සියළුම විප්ලවවාදී කටයුතුවලින් වැලකී සිටීම නො කර බැරි තරමට ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය දුර්වල වී යයි උපකල්පනයක් වශයෙන් පිළිගත්ත ද, එය ජාත්‍යෝන්මාදවාදීන් ගේ කඳවුරට එකතු වීම හෝ, එසේ නැතහොත්, ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී නායකයන් නිර්ධන පංති ජාත්‍යන්තරයේ ධජයට අගෞරව කරතියි යනුවෙන් ඉතාලි සමාජවාදීන් විසින් චෝදනා කරනු ලැබීමට හේතු කාරකවන පියවරයන් ගැනීම හෝ නො කටයුතුව තිබිණි.

යුද්ධය හා සම්බන්ධයෙන් අපගේ පක්ෂය, එනම් රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂය මහා කැප කිරීම් කර තිබේ. එය තවදුරටත් එසේ කරනු ඇත. අපගේ නීත්‍යානුකූල කම්කරු පංති පුවත් පත් සියල්ලම මර්දනය කරනු ලැබ තිබේ. කම්කරු පංති සමිති සමාගම් අති බහුතරය තහනම් කර තිබේ. අපගේ සහෝදරවරු විශාල සංඛ්‍යාවක් අත් අඩංගුවට ගෙන පිටුවාහල් කර තිබේ. එසේ වුවද, අපගේ පාර්ලිමේන්තු නියෝජිතයන් වන, ඩූමා සභාවේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු කණ්ඩායම, යුද්ධ වියදම් සඳහා මුදල් ගෙවීමට පක්ෂව ඡන්දය නොදීමත්, එපමණක් නොව ඔවුන්ගේ විරෝධය වඩාත් බලවත් ලෙස ප්‍රකාශ කිරීම සඳහා ඩූමා සභාවෙන් පිටව යාමත් තමන්ගේ යුතුකම ලෙස සැලකුවේය. යුරෝපා ආණ්ඩුවල ප්‍රතිපත්තිය අධිරාජ්‍යවාදී ප්‍රතිපත්තියක් ලෙසට හංවඩු තැබීම තම යුතුකම ලෙසට ඔවුහු සැලකූහ.[4] සාර්ගේ ආණ්ඩුවේ දුෂ්ඨත්වය දස ගුණයකින් වැඩි කර තිබුණත්, රුසියාවේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරුවෝ, ඔවුන් ගේ ප්‍රථම යුද්ධ විරෝධී ප්‍රකාශනය දැනටමත් පළ කරමින් සිටිති.[5] ඒ අනුව ඔවුහු ප්‍රජාතන්ත්‍රවාදයටත්, ජාත්‍යාන්තරයටත් ඇති තම වගකීම ඉටු කරති.

ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් ගේ අඩුතරය සහ මධ්‍යස්ථ රටවල විශිෂ්ඨතම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් නියෝජනය කරන විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් අතර දෙවැනි ජාත්‍යන්තරයේ බිඳවැටීම ගැන දැවෙන ලජ්ජා සහගත හැඟීමක් උද්ගත වී තිබියදී බ්‍රිතාන්‍යය සහ ප්‍රංශය යන දෙරටෙහිම සමාජවාදීන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂ බොහොමයකම ජාත්‍යෝන්මාදවාදයට විරුද්ධව කථා කරමින් සිටියදී, නිදසුනක් ලෙසට, දීර්ඝ කාලයක් තිස්සේම ජාතිකවාදී ලිබරල් ස්ථාවරයක් ගෙන සිටි ජර්මන් ''සමාජවාදී මාසිකය'' ("Sozialistische Monatshefte")[6] වැනි කොටස් විසින් නියෝජනය කරනු ලබන වැනි අවස්ථාවාදීන්, යුරෝපා සමාජවාදය

පරදවා ඔවුන් ලත් ජයග්‍රහණය සම්බන්ධයෙන් සහේතුකව ප්‍රීති උත්සව පවත්වමින් සිටියදී අවස්ථාවාදය හා විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය අතර වැනෙමින් සිටින (ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ ''මධ්‍ය'' කොටස වැනි) අය විසින්, දෙවැනි ජාත්‍යන්තරයේ බිඳවැටීම පතළ විය නොදී වසං කර තැබීමට හෝ තාන්ත්‍රික වදන් මගින් එයට වෙනත් මුහුණු-වරක් දීමට හෝ උත්සාහ කරන අය විසින්, නිර්ධන පංතියට කරනු ලබන්නේ ඉතාමත් බරපතල හානියකි.

ඊට ප්‍රතිකූල වශයෙන් කළ යුතු වන්නේ, සියළු දේශවල කම්කරු-වන්ගේ නව සහ වඩාත් කල්පවත්නා සමගියක් ඇති කළ හැකි වනු පිණිස, මෙම බිඳවැටීම අවංකව පිළගෙන, ඊට හේතු වූ කරුණු වටහා ගැනීමය.

සෑම සහ සියළුම තත්වයන් යටතේ ජාත්‍යෝන්මාදවාදයට විරුද්ධව සටන් කිරීම සියළුම රටවල සමාජවාදීන්ගේ ඒකාන්ත වගකීමක් බවත්, ධනපති පංතිය සහ ආණ්ඩු විසින් ආරම්භ කෙරෙන ඕනෑම යුද්ධයකට, සිවිල් යුද්ධය හා සමාජ විප්ලවය පිළිබඳව උත්සන්න කළ ප්‍රචාරයෙන් පිළිතුරු දීම සමාජවාදීන් ගේ අනිවාර්ය වගකීම බවත්, ෂ්ටුට්ගාට්, කෝපන්හේගන් හා බාසල් සාකච්ඡා සම්මේලන තීරණය කළේය.[7] අවස්ථා-වාදීහු මෙම සාකච්ඡා සම්මේලනවල තීරණ කඩාකප්පල් කළහ. දෙවැනි ජාත්‍යන්තරය බිඳ වැටීමෙන් පිළිබිඹු වූයේ, ගතවූ (සහ ඊනියා ''සාම කාමී'') ඓතිහාසික කාල සීමාවක අංග ලක්ෂණවලින් ඇති වූ සහ මෑත අවුරුදු වලදී ජාත්‍යන්තරයේ සම්පූර්ණයෙන් ම පාහේ ප්‍රබල වූ, අවස්ථා-වාදයේ බිඳ වැටීම ය. සමාජවාදී විප්ලවය ප්‍රතික්ෂේප කිරීමෙන් හා ඒ වෙනුවට ධනපති ප්‍රතිසංස්කරණවාදය ආදේශ කිරීමෙන්ද, පංති අරගලය හා එය කිසියම් අවස්ථාවක සිවිල් යුද්ධය බවට අනිවාරණීය වශයෙන්ම පරිවර්තනය වීම ප්‍රතික්ෂේප කිරීමෙන් හා පංති සහයෝගය දේශනා කිරීමෙන්ද, දේශ ප්‍රෙමීත්වයේ සහ පීතෘ භූමියේ ආරක්ෂාවේ වෙස් මුහුණට මුවා වී, ධනපති පංතියේ ජාත්‍යෝන්මාදවාදය දේශනා කිරීමෙන් හා වැඩ කරන ජනතාවට රටක් නැතැයි යනුවෙන්, බොහෝ කලකට පෙර ''කොමියුනිස්ට් ප්‍රකාශනයෙහි'' සඳහන් කර ඉදිරිපත් කර තිබෙන සමාජවාදයේ මූලික සත්‍යය නොසලකා හැරීමෙන් හා ප්‍රතික්ෂේප කිරීමෙන් ද, යුද්ධ-වාදයට විරුද්ධව කරනු ලබන අරගලයේදී,සියළුම රටවල ධනපති පංතියට විරුද්ධව, සියළුම රටවල නිර්ධනයන් එක්ව විප්ලවීය යුද්ධයක් කිරීමේ අවශ්‍යතාවය පිළිගනු වෙනුවට, එම අරගලය භාවාත්මක හා අමන දෘෂ්ටි කෝණයකට සීමා කිරීමෙන් ද, ධනපති පාර්ලිමේන්තුවාදය සහ ධනපති නීත්‍යානුකූල භාවය උපයෝගී කරගැනීමේ අවශ්‍යතාවය දේවාලයක් බවට පත් කර ගනිමින්, අර්බුද අවස්ථාවලදී නැතිවම බැරි නීති විරෝධී සංවිධාන හා ප්‍රචාරක ආකෘති අමතක කර දැමීමෙන් ද, අවස්ථාවාදීහු



දීර්ඝ කාලයක් තිස්සේම මෙම බිඳ වැටීම සඳහා භූමිය සකස් කරමින් සිටියහ. අවස්ථාවාදයේ ස්වාභාවික ''උපැදිය'' වන, එසේම ධනපති පංතික වන හා නිර්ධන පංති දෘෂ්ටි කෝණයට සතුරුතාවයක් දක්වන, අරාජික-සම්මේලවාදී උපනතිය ද, වර්තමාන අර්බුද සමයේදී, ඊට නො දෙවැනි ලජ්ජා විරහිත භාවයක් පාමින්, ජාත්‍යෝන්මාදවාදයේ සටන් පාඨ කුටු පහටු ලෙස අනුප්‍රාසය කිරීම ප්‍රකටව දක්නා ලදී.

අවස්ථාවාදයෙන් තීරණාත්මක ලෙස බිඳී ඉවත්වන්නේ නැතිව, එසේම එහි අනිවාරණීය වියවුල පොදුජනතාවට පැහැදිලි කර දෙන්නේ නැතිව, සමාජවාදයේ වර්තමාන කාලයේ අරමුණු සපුරාලිය නොහැක. එමෙන්ම කම්කරුවන්ගේ නියම ජාත්‍යන්තර සමගිය ද ඇති කරගත නොහැක.

කිසියම් රටක ජාත්‍යෝන්මාදවාදයට විරුද්ධව සටන් කිරීම එරටේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් ගේ මූලික කර්තව්‍යය වන්නේය. රුසියාවේ මෙම ජාත්‍යෝන්මාදවාදය, ධනපති ලිබරල්වාදීන් (''කැඩෙට්වරු'')[8] සහ නරෝද්නික්වරුන්ගෙන්[9] කොටසක් යට කරගෙන ගොස් සමාජවාදී-විප්ලවවාදීන්[10] සහ ''දක්ෂිණ'' සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් දක්වා පැතිරී තිබේ. (විශේෂයෙන්ම ඊ. ස්මිර්නොව් ගේ, පී. මාස්ලව් ගේ සහ ජී. ප්ලෙ-හානව් ගේ ජාත්‍යෝන්මාදවාදී කථාවලට හන ලකුණු යෙදිය යුතුය. ධනපති ''දේශප්‍රෙමී'' පුවත් පත් එම කථා අල්ලාගෙන එයින් පුළුල් ලෙස ප්‍රයෝජන ගනිති.)

සමාජවාදයට අඩු නරකක් සිදු වන්නේ,යුද්ධකාරී ජාතීන් ගේ කණ්ඩා-යම් දෙකෙන් කුමණ කණ්ඩායම පරාජය වුව හොත් ද යන්න, ජාත්‍යන්තර නිර්ධන පංතියේ ස්ථාවරය අනුව, වර්තමාන තත්වය යටතේ කිසිසේත් තීරණය කළ නොහැකිය. නමුත් රුසියාවේ සියළුම ජාතීන්ට අයත් කම්-කරු පංතියේ සහ වැඩ කරන ජනතාවගේ ස්ථාවරය අනුව බලන කල ආණ්ඩු අතරින් ඉතාමත් ප්‍රතිගාමී හා ම්ලේච්ඡ ආණ්ඩුව වන, එසේම යුරෝපයේ හා ආසියාවේ ජාතීන් විශාලම සංඛ්‍යාවක් හා විශාලතම ජනග-හනයක් පීඩනයට පත් කරන, සාර්වාදී රාජාණ්ඩුවේ පරාජයෙන් අඩු නරකක් සිදු වන බව රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට අල්පමාත්‍ර හෝ සැකයක් නොමැත.

සමූහාණ්ඩුවාදී යුරෝපා එක්සත් ජනපදයක් පිහිටුවීම යුරෝපයේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් ගේ හදිසි දේශපාලන ඉල්ලීම විය යුතුය. නිර්ධන පංතිය ජාත්‍යෝන්මාදවාදයේ මහා ප්‍රවාහය තුළට ඇද ගැනීමට, ඕනෑම ''පොරොන්දුවක්'' දීමට සූදානම් ධනපති පංතියට වඩා වෙනස් මගක් ගන්නා සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීහු, ජර්මන් ඔස්ත්‍රියානු සහ රුසියානු රාජා-

ණ්ඩු බලයෙන් පහ කිරීමෙන් තොරව,මෙම සටන් පාඨය අත්‍යන්තයෙන් ම ව්‍යාජ හා අර්ථ විරහිත එකක් වන බව පැහැදිලි කරති.

රුසියානු ඉතාමත් නො දියුණු හා ධනපති විප්ලවය තවමත් සම්පූර්ණ නොකළ තත්වයක පවතින නිසා, සසංගත ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රතිසංස්කරණ සඳහා අවශ්‍ය මූලික කොන්දේසි තුන වන (සියළුම ජාතීන්ගේ සම්පූර්ණ සමානත්වය හා ස්වාධිපත්‍යය සමග) ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුවක් ද, වතුකාර දේපල ජනසතු කිරීමද, පැය අටේ වැඩ දිනය ද දිනාගැනීම තවමත් ඉටුකිරීමට ඉතිරිව එරටේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් හමුවේ ඇති කර්තව්‍යයක් වී තිබේ. නමුත් සියළුම දියුණු රටවල යුද්ධය විසින් සමාජවාදී විප්ලවයේ සටන් පාඨය දවසේ න්‍යාය පත්‍රයට ඇතුලත් කරනු ලැබ තිබේ. නිර්ධන පංතියේ දෙඋර මත වැටෙන යුද්ධයේ බර වැඩි වූ තරමට, එය වඩාත් හදිසි සටන් පාඨයක් වන්නේය. මහා පරිමාණ ධනපති ක්‍රමයේ දැවැන්ත කාර්මික ශිල්පීය ප්‍රගතියේ තත්වය යටතේ ක්‍රියාත්මක වන, වර්තමාන ''දේශප්‍රෙමී'' ම්ලේච්ඡභාවයේ සංත්‍රාසයෙන් පසුව, යුරෝපය නැවත නිර්මාණය කිරීමේ එහි කාර්ය කොටස,ඒ තාක් දුරට වඩාත් කාර්යශීලී විය යුත්තේය. නිර්ධන පංතිය නිහඬ කර තැබීමට ධනපති පංතිය යුද්ධ කාලීන නීති උපයෝගි කරගන්නා හෙයින්, එම මුලින් කී පංතියේ උද්ඝෝෂණ සහ සංවිධාන කටයුතු සඳහා නීති විරෝධී ආකෘති නිර්මාණය කර ගැනීම, එයට පැහැර හැරිය නොහැකි කටයුත්තක් වේ. තමන්ගේ අවබෝධයට ද්‍රෝහි වීමේ පාඩුව කර ගනිමින් අවස්ථාවාදීන් නීත්‍යානුකූල සංවිධාන ''ආරක්ෂා කර'' ගත්තාවේ. නමුත්, විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්, සමාජවාදය සඳහා අරගල කිරීමේ නීති විරෝධී ආකෘති, එනම් අර්බුදයේ කාලයට ගැලපෙන ආකෘති නිර්මාණය කිරීමටද, නිර්ධන පංතිය ඒ ඒ රටවල ජාත්‍යෝන්මාදවාදී ධනපති පංතිය සමග නොව, සියළුම රටවල කම්කරුවන් සමග එක්සත් කිරීමටද, ඔවුන් සතු සංවිධාන පළපුරුද්ද සහ කම්කරු පංතිය සමග වූ සම්බන්ධකම් උපයෝගි කරගන්නවා ඇත. නිර්ධන පංති ජාත්‍යන්තරය ගිලී ගොස් නැත. එය ගිලී යන්නේ ද නැත.බාධක කොතෙක් තිබුණත්, කම්කරු පොදු ජනතාවන් නව ජාත්‍යන්තරයක් නිර්මාණය කරනු ඇත. අවස්ථාවාදයේ වර්තමාන ජයග්‍රහණය අඩු ආයුෂ ඇති එකකි. යුද්ධය නිසා දිරාගන්නට සිදුවන කැප කිරීම් වැඩි වූ තරමට, අවස්ථාවාදීන් කම්කරු ව්‍යාපාරය පාවා දුන් බවත්, ආයුධ ඒ ඒ රටෙහි ආණ්ඩුවට හා ධනපති පංතියට විරුද්ධව එල්ල කළ යුතු බවත්, කම්කරු පොදු ජනතාවට පැහැදිලි වන්නේ ය.

වර්තමාන අධිරාජ්‍යවාදී යුද්ධය සිවිල් යුද්ධයකට පරිවර්තනය කිරීම එකම නිවැරදි නිර්ධන පංති සටන් පාඨයද, කොමියූනයේ අත් දැකීමෙන් නිගමනය වන හා (1912) බාස්ල් සාකච්ඡා සම්මේලනයෙන් සලකුණු කෙරුණු සටන් පාඨය ද වන්නේය. එය, උසස් මට්ටමට සංවර්ධනය වූ ධනපති රටවල් අතර කෙරෙන අධිරාජ්‍යවාදී යුද්ධයක සියළු කොන්දේසි අනුව නියම කෙරෙන සටන් පාඨයකි. මෙම පරිවර්තනය ඉටු කිරීම කොතරම් දුෂ්කර ලෙසට කිසියම් අවස්ථාවකදී පෙනුනත්, දැන් යුද්ධය යථාර්ථයක් බවට පත්ව ඇති නිසා, මෙම අරමුණ ඉලක්ක කරගෙන ක්‍රමානුකූල ලෙස,නොපසුබට ලෙස හා එක එල්ලේම සූදනම්කාරී කටයුතු කිරීම, සමාජවාදීන් කිසි කලෙකත් අත් නොහරිනු ඇත.

ජාත්‍යෝන්මාදවාදී ධනපති පංතිය කෙරෙහි තමන් ගේ බැඳීම් ඉවත ගසා දැමීමටත්, ජාතීන් ගේ නිදහස දෙසට හා සමාජවාදය දෙසට එක් හෝ තවත් ආකාරයකින්,තරමක් සීඝ්‍ර ලෙස තීරණාත්මක පියවර ගැනීමටත්, නිර්ධන පංතියට හැකි වන්නේ මෙම මාර්ගයේ ගමන් කළහොත් පමණකි.

සියළුම රටවල ධනපති පංතියේ ජාත්‍යෝන්මාදවාදයට හා දේශප්‍රෙමයට විරුද්ධ ජාත්‍යන්තර නිර්ධන පංති සංහෝදරත්වය දිනේවා!

අවස්ථාවාදයෙන් නිදහස් වූ නිර්ධන පංති ජාත්‍යන්තරය දිනේවා!

රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ
මධ්‍යම කාරක සභාව

1914 සැප්තැම්බර් 28
(ඔක්තෝබර් 11) දිනට පෙර
ලියන ලදී

වී. අයි. ලෙනින්. සම්පූර්ණ
කෘති, 5 වැනි මුද්‍රණය,
වෙළුම 26 පිටු 13—23

1914 නොවැම්බර් 1 දින
''සොට්සල්-ඩිමොක්‍රට්'' අංක 33 හි
පළ කරන ලදී

# මහ රුසියානු ජාතිකාභිමානය ගැන

ජාතිකත්වය සහ පිතෘ භූමිය ගැන අද මොන තරම් කථා කරති ද! තර්ක කරති ද! ඝෝෂා කරති ද! බ්‍රිතාන්‍යයේ ලිබරල් සහ උන්නතිකාමී කැබිනට් ඇමතිවරුද, ප්‍රංශයේ ''ඉදිරිය බලන පුවත්පත් කලාවේදීන් (ඔවුහු ඔවුන් ගේ ප්‍රතිගාමී සගයන් සමග සම්පූර්ණ එකඟත්වයක් ඇතිව සිටින බව ඔප්පු කර ඇත්තාහ.) සමූහයක්ද, රුසියාවේ නිල, කැඩෙට්වාදී සහ ප්‍රගතිශීලී කුරුටුගාන්නන් (නරෝද්නික්වරු සහ මාක්ස්වාදීන් කීප දෙනෙක් ඇතුලත්ව) රංචුවක්ද, යන සියළු දෙනාම තම තමන් ගේ රටෙහි විමුක්තියේ සහ ස්වාධීනත්වයේ ද, ජාතික ස්වාධීනත්වය පිළිබඳ ප්‍රතිපත්තියේ ද, ශ්‍රේෂ්ඨත්වය ගැන වර්ණනාත්මක ප්‍රසංශා කරන්නාහ. මොවුන් අතරේ සිටිනවුන් අතුරෙන් නිකොලායි රොමානව්ටත්, නීග්‍රෝවරුන් හා ඉන්දියානුවන් ම්ලේච්ඡ ලෙස පීඩාවට පත්කරන්නාටත්, කුලියට තියූ ගී ගයන්නා කවරෙක්ද යන්න හා හුදෙක් අඥාන කම හා නැතහොත් කොන්ද පන නැති නිසාම, ප්‍රවාහය සමග ගසාගෙන යන්නා කවරෙක්ද යන්න, තෝරා ගැනීම උගහටය. මොවුන් වෙන් කොට හඳුනා ගැනීමේ විශේෂ අවශ්‍යතාවයක් ද නොමැත. අධිපති රටවල ඉඩම් හිමියන් ගේ සහ ධන හිමියන් ගේ උවමනාවන් හා සමග ආසන්න ලෙස වෙළී පැටලී තිබෙන සමාරම්භය සහිත, විශාල සහ ගැඹුරු දෘෂ්ටිමය ප්‍රවණතාවයන්, අප හමුවේ දක්නට තිබේ. එම පංතිවලට වාසි සහගත වන අදහස් පතුරුවාලීම සඳහා, අවුරුදු පතාම, කෝටි ගණන් හා දස කෝටි ගණන් මුදල් වියදම් කරනු ලැබේ. සෑම පැත්තකින්ම පළවන අදහස්, එනම්, අවබෝධයෙන් ජාත්‍යෝන්මාදවාදියෙක් වූ මෙන්ෂිකෝව් ගේ පටන්, අවස්ථාවාදය, නැතහොත් කොන්ද පණ නැති කම නිසා ජාත්‍යෝන්මාදවාදීන් වූ ප්ලෙහානව් සහ මාස්ලව්, රුබනොවිච් හා ස්මිර්නොව්, ක්‍රපොත්කින් හා බුර්ත්සෙව් දක්වා වූ සියළු දෙනා විසින් ම පළ කෙරෙන අදහස් උකහා ගනිමින් ගෙනයන, මෙම ව්‍යාපාරය බලවත් ප්‍රවාහයක් බඳුය.

මහ රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් වන අපිද, මෙම දෘෂ්ටිමය ප්‍රවණතාවය විෂයෙහි අප දක්වන ආකල්පය පැහැදිලි කිරීමට උත්සාහ දරමු. යුරෝපයේ, ඈත පෙරදිග සහ ආසියාවේ විශාල කොටසක අධිපතිත්වයට පත්, විශේෂයෙන්ම, ''ජනතාවගේ හිරගෙදර'' යනුවෙන් නිවැරදි ලෙස හඳුන්වා තිබෙන රටක නියෝජිතයින් වශයෙන්, ජාතික ප්‍රශ්නයේ ඇති වැදගත්කම අමතක කිරීම අපට තරම් නොවේ. විශේෂයෙන්ම නැගෙනහිර යුරෝපයේ සහ ආසියාවේ, විශාල සහ කුඩා ''නව'' ජාතීන් ගණනාවක්ම, ධනපති ක්‍රමය විසින් ජීවන ප්‍රබෝධයටත්, ආත්ම සංවිත්තියටත් ගෙන එන අවස්ථාවක, වංශවතුන්ගේ එක්සත් මණ්ඩලයේ[11] සහ ගුච්කොව්ලා සමග ක්‍රෙස්තොව්නිකොව්ලාගේ, දෙල්ගරුකව්ලාගේ, කුත්ලෙර්ලාගේ සහ රොදිචෙව්ලාගේ අවශ්‍යතාවයන්ට අනුකූල වන ලෙසට ජාතික ප්‍රශ්න ගණනාවක්ම ''විසඳීමට'' මහ රුසියානුවන් හා රුසියානු නොවන දශ ලක්ෂ ගණන් පිරිස් මෙහෙයා ඇති අවස්ථාවක, එම ප්‍රශ්නය අමතක කළ නොහැක.

පංති විඥානය ඇති, මහ රුසියානු නිර්ධන පංතිකයන් වන අපට, ජාතික අභිමානය පිළිබඳ හැඟීම අන්‍යතර දෙයක් ද? ඇත්තෙන්ම නැත! අපි අපේ භාෂාවට සහ රටට ආදරය ඇත්තෙමු. ඇගේ වැඩ කරන ජනතාවගේ (ඇගේ ජනගහනයෙන් දහයෙන් නව පංගුවක්ම) ප්‍රජාතන්ත්‍රවාදී හා සමාජවාදී විඥානයේ මට්ටමට උසස් කිරීමට අපි සියළු දෙයක්ම කරන්නෙමු. සාර්ගේ බුචේරුවන්, වංශවතුන් සහ ධනපතියන් අතින්, අපගේ මේ ශෝභමාන රටට විඳින්නට සිදුවී තිබෙන දුෂ්ටාපරාධ, පීඩනය සහ නින්ද අපහාස දකින්නට හා දැන ගන්නට ලැබෙන විට, එය අපට මහත් වේදනා දනවයි. මෙම දුෂ්ටාපරාධයන්ට විරුද්ධව, අප අතරින්, මහ රුසියානුවන් අතරින්, දක්වනු ලබන ප්‍රතිරෝධය ගැන අපි ආඩම්බර වෙමු. ඔවුන් අතරින් රදීෂෙව් දෙසැම්බර්වාදීන්[12] සහ විප්ලවවාදී රස්නචින්ට්සි[13] ඉදිරිපත් කළ හැකිවීම ගැන අපි ආඩම්බර වෙමු. මහ රුසියානු කම්කරු පංතිය 1905 දී පොදු ජනතාව ගේ මහා බලවත් විප්ලවවාදී පක්ෂයක් ඇති කිරීම සම්බන්ධයෙන් ද, මහ රුසියානු ගොවි ජනතාව ප්‍රජාතන්ත්‍රවාදය වෙතට හැරවීමේ සහ දෙවගැති බලය සහ ඉඩම් හිමියන් බලයෙන් පහකර දැමීමේ කටයුතුවල යෙදෙන්නට පටන් ගැනීම සම්බන්ධයෙන් ද, ආඩම්බර වන්නෙමු.

ස්වකීය ජීවිතයම, විප්ලවයේ සද්ව්‍යාපාරයට කැප කළ මහ රුසියන් ප්‍රජාතන්ත්‍රවාදියා වූ චෙර්නිෂෙව්ස්කි, අර්ධ ශතවර්ෂයකට පෙර මෙසේ කී බව අපි දනිමු. ''කාල කණ්ණි ජාතියක්, වහලුන් ගේ ජාතියක්, ඉහළ

සිට පහළට සියළු දෙනාම වහල්ලුය''.[14] මහ රුසියානු විවෘත හා ආවෘත වහල්ලු (සාර්වාදී රාජ ආණ්ඩුව සම්බන්ධයෙන් වහල් වූ අය) මෙම වචන සිහිපත් කිරීමට අකැමති වෙති. එහෙත් මෙම වචන රටට ඇති සැබෑ ඇල්මෙන් කියන ලද බව, මහ රුසියන් ජනතාවගේ පොදු ජන කොටස් අතර විප්ලවවාදී ජීව ගුණයක් නොතිබීම ගැන ආවේගයෙන් කියන ලද බව, අපි අදහස් කරන්නෙමු. ඒ වකවානුවේදී එම ජීව ගුණය කොහෙත්ම තිබුණේ නැත. දැනට එය ඇත්තේ මඳ වශයෙනි. එහෙත් එය දැනටමත් ඇති වී පවතින්නේය. මහ රුසියන් ජාතියද, විප්ලවවාදී පංතියක් නිර්මාණය කර තිබෙන නිසා, නිදහස හා සමාජවාදය සඳහා වූ අරගලයේ ශ්‍රේෂ්ඨ ආදර්ශයන් මිනිස් වර්ගයා හමුවේ තැබීමට එය ද සමත් වී තිබෙන නිසා, අපි අභිමානයෙන් පිරී සිටින්නෙමු. අප අභිමානවත් වන්නේ යුදෙව් සංහාර, එල්ලුම් ගස් පේළි, බිම් ගෙවල මහා සිරමැදිරි, මහා සාගත සහ පූජකවරුන්ට, සාර්ලාට, ඉඩම් හිමියන්ට සහ ධනපතියන්ට දක්වන මහා දීනකම නිසා නොවේ.

අපි ජාතික අභිමානය පිළිබඳ හැඟීමෙන් ඔද වැඩී සිටින්නෙමු. එනිසාම අපි අපේ වහල් අතීතයට (හංගේරියාවේ, පෝලන්තයේ, පර්සියාවේ සහ චීනයේ නිදහස කුරුවල් කිරීම පිණිස වංශවතුන් විසින් ගොවිජනතාව යුද්ධයට මෙහෙයවූනු අතීතයට), විශේෂයෙන්ම වෛර කරන්නෙමු. ධනපතියන් ගේ ආධාරය ලබන එම ඉඩම් හිමියන්ම විසින්, පෝලන්තයේ සහ උක්‍රේනියාවේ බෙල්ල මිරිකීම පිණිස, පර්සියාවේ සහ චීනයේ ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාර මර්ධනය කිරීම පිණිස සහ අපේ මහ රුසියානු ගෞරවය කෙලෙසන අපහාසයක් වන රොමානව්ලා, බොබ්‍රින්ස්කිලා සහ පූරිෂ්කේවිච්ලා කල්ලිය ශක්තිමත් කිරීම පිණිස, අප යුද්ධයට මෙහෙයවනු ලබන වර්තමානයට ද, අපි එසේම වෛර කරන්නෙමු. වහලෙකුව ඉපදීම ගැන කිසිවෙකුට දෙස් කිව නොහැකිය. නමුත්, නිදහස සඳහා දරන ප්‍රයත්නයක් බැහැර කරන වහලෙක් වේ නම්, එපමණක් නොව, ස්වකීය වහල් භාවය සාධාරණ බව කියන සහ වර්ණනා කරන (නිදර්ශනයක් වශයෙන් පෝලන්තයේ සහ උක්‍රේනියාවේ ආදී දේශවල බෙල්ල මිරිකීම මහ රුසියන්වරුන් ගේ ''පිතෘ භූමිය ආරක්ෂා කිරීම'' යයි හඬ නගන) වහලෙක් වේ නම්, ඔහු සාධාරණ කෝපාන්විත හැඟීමකට, පිළිකුලට සහ අප්‍රිය බවට හේතුවන නිවට කෙල තොල්ලෙකි, අශික්ෂිතයෙකි.

''වෙනත් ජාතීන් පීඩාවට පත් කරන කිසිම ජාතියකට නිදහස් විය නොහැකිය''[15] යි දහනව වැනි ශත වර්ෂයේ ස්ථිරසාර ප්‍රජාතන්ත්‍රවාදයේ ශ්‍රේෂ්ඨතම නියෝජිතයෙක් වූ මාක්ස් සහ එංගල්ස් කීහ. අපිද ජාතික



අභිමාණයෙන් පිරුණු හැඟීමෙන් යුතු වෙමු. එහෙයින් මොනවා සිදු වූවත්, මහා රුසියානු කම්කරුවන් වන අපට, නිදහස් සහ ස්වාධීන, ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුවක් වන ප්‍රෞඪ මහා රුසියාවක් අවශ්‍ය බව, ප්‍රකාශ කරන්නෙමු. අපට අවශ්‍ය අසල් වැසි රටවල් සමග ඇති කරගන්නා සම්බන්ධකම් මහා ජාතියකට නින්දාවක් වන, වරප්‍රසාදය පිළිබඳ රදළ ප්‍රතිපත්තිය මත නොව, සමානාත්මතාවය පිළිබඳ මිනිස් ප්‍රතිපත්තිය මත සකස් කර ගන්නා මහ රුසියාවක්ය. අපට එය අවශ්‍ය නිසාම, අපි මෙසේ කියන්නෙමු. විසි වැනි ශත වර්ෂයේදී, යුරෝපය තුළ (යුරෝපයේ ඈත පෙරදිග පවා) තමන් ගේ ම පිතෘ භූමියේ රාජ ආණ්ඩුවට, ඉඩම් හිමියන්ට සහ ධනපතියන්ට විරුද්ධව, එනම්, අප රටේ ඉතාමත් ම නරක සතුරන්ට විරුද්ධව සටන් කිරීමට, සෑම විප්ලවවාදී මාර්ගයක් ම උපයෝගි කර නො ගෙන, ''පිතෘ භූමිය ආරක්ෂා කිරීම කළ නොහැක්කකි. ඕනෑම යුද්ධයකින් සාර්වාදය පරාජය කිරීමට කැමති වීම හැර, වෙනත් මගකින්, මහ රුසියානුන්ට ''පිතෘ භූමිය ආරක්ෂා කිරීමට'' නොහැකි බව අපි කියන්නෙමු. මහ රුසියා වාසීන් ගෙන් දහයෙන් නව පංගුවකටම අඩු ලන්සුවේ දුර්භාග්‍යය වන්නේ එයයි. එසේ කියන්නේ, ජනතාවගේ මෙම දහයෙන් නව පංගුව ආර්ථික හා දේශපාලන වශයෙන් පීඩාවට පත් කරීමෙන් නො නවතින සාර්වාදය, වෙනත් ජාතීන් පීඩාවට පත් කිරීමටත්, එයින් වන ලජ්ජාව වසා ගැනීම පිණිස ව්‍යාජ සහ අර්ධ වශයෙන් දේශප්‍රේමී සටන් පාඨ කීමටත්, එම ජනතාව පුරුදු කිරීමෙන්, ඔවුන් දුර්මුඛ කරන, නින්දවට හා දූෂණයට පත් කරන හෙයිනි.

සාර්වාදයට අමතරව, එහි අනුග්‍රහය යටතේ තවත් ඓතිහාසික බලවේගයක්, එනම් මහ රුසියානු ධනපති ක්‍රමය මතුවී තිබෙන බවත්, එය විශාල ප්‍රදේශ ආර්ථික වශයෙන් මධ්‍යගත කරමින් හා ඒකාබද්ධ කරමින් ප්‍රගතිශීලී ලෙස වැඩ කරගෙන යන බවත්, කියා අපට විරුද්ධ අදහසක් මතු කිරීමට ඉඩ තිබේ. මෙම විරෝධය පෑම නිසා, අපගේ සමාජවාදී-ජාතොයාන්මාදවාදීන්ට සමාව ලැබෙන්නේ නැත. ඊට ප්‍රතිකූල වශයෙන්, එනිසාම, මොවුන් තව දුරටත් හෙළා දැකීමට ලක් වේ. (මාක්ස්, ලසාල්-වාදීන්[16] හැඳින් වීමට රාජකීය-ප්රුසියන් සමාජවාදීන් යන නාම යෙදූ පරිද්දෙන්)[17] මොවුන් හැඳින්විය යුත්තේ සාර්වාදී — පූරිෂ්කෙවිච් සමාජවාදීන් යනුවෙනි. මහ රුසියන් අධිපති ජාතියේ ධනපති ක්‍රමයට පක්ෂව සහ සියයකුත් එකක් කුඩා ජාතීන්ට විරුද්ධව, ඉතිහාසය තීරණය කරනු ඇතැයි යන්න වුවද, උපකල්පනයක් වශයෙන් පිළිගනිමු. ප්‍රාග්ධනයේ මුළු ඉතිහාසයම, හිංසනයෙන්, මංකොල්ලයෙන්, ලෙයින් හා දූෂණයෙන් සැදුනු එකක් වන නිසා, මෙය සිදු විය හැක්කක් නොවේ. කුඩා ජාතීන්

මොන ක්‍රමයකින් හෝ තබාගත යුතුයයි අපි නො කියමු. අන් තත්වයන් එක සමාන නම්, අපි නිශ්චිත වශයෙන් ම මධ්‍යගතකරණයට පක්ෂ වෙමු; පෙඩරල් සම්බන්ධකම් පිළිබඳ සුළු ධනපති අදහසට විරුද්ධ වන්නෙමු. ප්‍රථමයෙන් ම, අපේ උපකල්පනය සැබෑ වුවත් උක්‍රේනියාව ආදී ප්‍රදේශවල බෙල්ල මිරිකීමට රොමානව්-බොබ්‍රින්ස්කි පුරිෂ්කේවිච්ලාට උදව් දීම, අපගේ, නැතහොත් (සමාජවාදීන්ගේ තබා), ප්‍රජාතන්ත්‍රවාදීන් ගේ හෝ කාර්යයක් නොවේ. බිස්මර්ක්, ඔහුටම විශේෂ වූ ජුන්කර් ශෛලියෙන්, ප්‍රගතිශීලී ඓතිහාසික කර්තව්‍යයන් ඉටු කළේය. නමුත්, එම කරුණ හේතුවක් වශයෙන් ගනිමින්, බිස්මර්ක්ට සමාජවාදී ආධාර දීම සාධාරණ යයි කල්පනා කරන අයෙක් වී නම්, ඇත්තෙන්ම ඔහු හැබෑම ''මාක්ස්වාදියෙකි!'' එපමණක් නොව, අනිකුත් ජාතීන් විසින් පීඩාවට පත් කරනු ලැබූ, අසමගිව සිටි, ජර්මන් ජාතීන් එක්සත් කිරීම මගින් බිස්මර්ක් ආර්ථික සංවර්ධනයට ද රුකුල් දුන්නේය. එසේ වුවද, මහ රුසියාවේ ආර්ථික සමුර්ධිය සහ වේගවත් සංවර්ධනය සඳහා අවශ්‍ය වන්නේ, වෙනත් ජාතීන් මහ රුසියානු පීඩනයට ලක් කරන තත්වයෙන් රට මුදා ගැනීමටය. සැබෑ රුසියානු රුකඩ බිස්මර්ක්ලා කෙරෙහි නෙත් සිත් රඳවා සිටින අපේ අය අමතක කරන්නේ මෙම වෙනසය.

දෙවැනිව, ඉතිහාසය, මහ රුසියානු අධිපති ජාතියේ ධනපති ක්‍රමයට පක්ෂව තීරණය කරයි නම්, එයින් බැස ගත යුතු නිරායාස නිගමනය වන්නේ, ධනපති ක්‍රමයෙන් ජනිත කරන ලද, කොමියුනිස්ට් විප්ලවයේ ප්‍රධාන ගාමක බලවේගය වන මහ රුසියානු නිර්ධන පංතියේ සමාජවාදී කාර්ය කොටස තවත් විශාල වන බවයි. නිර්ධන පංති විප්ලවය සඳහා, සම්පූර්ණ ජාතික සමානාත්මතාවය සහ සහෝදරත්වය පිළිබඳ ජීවගුණයෙන්, දීර්ඝ කාලයක් තිස්සේ කම්කරුවන් ශික්ෂණය කිරීම අවශ්‍ය වන්නේය. එනිසා, මහ රුසියානු නිර්ධන පංතියේ යහපත පිණිස කළ යුතු වන්නේ, මහ රුසියානුන් විසින් පීඩනයට පත් කරනු ලබන සියළුම ජාතීන් ගේ සම්පූර්ණ සමානාත්මතාවය සහ ස්වාධිපත්‍යය පිළිබඳ අයිතියට පක්ෂව සටන් කිරීමට, පොදු ජනතාව ක්‍රමානුකූල ලෙස ශික්ෂණය කිරීමයි. මහ රුසියානු ජාතික අභිමානයේ (වහල් අර්ථයෙන් වටහා නොගත්) අවශ්‍යතාවයන් මහ රුසියානු සහ අන් සියළුම නිර්ධන පංතිකයන් ගේ සමාජවාදී අවශ්‍යතාවයන් සමග සම්පාත වන්නේය. කවදත්, අප ආදර්ශයට ගන්නේ, මාක්ස්ය. ඔහු දශක ගණන් බ්‍රිතාන්‍යයේ ජීවත්ව සිට අර්ධ ඉංග්‍රීසි වැසියෙකු ගේ තත්වයට පත්වූවත්, බ්‍රිතාන්‍ය කම්කරුවන් ගේ සමාජවාදී ව්‍යාපාරයේ යහපත පිණිස, අයර්ලන්තයට නිදහස සහ ජාතික ස්වාධීනත්වය දෙන ලෙස ඉල්ලීය.

අප සැලකිල්ලට ගත් දෙවැනි කල්පිතය අනුව, අපේ දේශීය සමාජවාදී-ජාත්‍යෝන්මාදවාදීන් වන, ප්ලෙහානව් යනාදීන්, ඔවුන් ගේ රටට පමණක් නොව, නිදහස් හා ප්‍රජාතන්ත්‍රවාදී මහ රුසියාවකට පමණක් නොව, රුසියාවේ සියළුම ජාතීන් ගේ නිර්ධන පංති සහෝදරත්වයට, එනම්, සමාජවාදයේ සද් ව්‍යාපාරයටද, ද්‍රෝහී වූ බව ඔප්පු වේ.

''සොට්සල්-ඩිමොක්‍රට්'' අංක 35, 1914 දෙසැම්බර් 12

වී. අයි. ලෙනින්. සම්පූර්ණ කෘති, වෙළුම 26, පිටු 106—110

# යුරෝපා එක්සත් ජනපදයක් සඳහා වන සටන් පාඨය ගැන

''යුරෝපා එක්සත් ජනපදය'' යන සටන් පාඨයේ ආර්ථික පැත්ත ගැන පුවත් පත් මගින් සාකච්ඡා කරන තෙක්, එම ප්‍රශ්නය කල් තැබීමට පක්ෂයේ විදේශගත කණ්ඩායම්වල සාකච්ඡා සභාවක්[18] තීරණය කළ බව අපි ''සොට්සල්-ඩිමොක්‍රට්''[19] අංක 40 හි වාර්තා කෙළෙමු.

මෙම ප්‍රශ්නය පිළිබඳව අපේ සාකච්ඡා සභාවේ ඇති වූ විවාදය සම්පූර්ණයෙන් ම දේශපාලන ස්වරූපයක් ගත්තේය. මෙයට අර්ධ වශයෙන් හේතු වූයේ, එය මධ්‍යම කාරක සභාවේ ප්‍රකාශනයෙහි ඍජු දේශපාලන සටන් පාඨයක් වශයෙන් (''හදිසි දේශපාලන සටන් පාඨය'' — යනුවෙන් එහි සඳහන්ය.) ඉදිරිපත් කර තිබීම විය හැක. යුරෝපා එක්සත් ජනපද සමූහාණ්ඩුවක් සඳහා සටන් පාඨය ඉදිරිපත් කළ එය, එතැනින් නොනැවතී, ''ජර්මන්, ඔස්ත්‍රියන් සහ රුසියන් රාජ ආණ්ඩු පෙරළා දැමීමෙන් තොරව'' එම සටන් පාඨය අර්ථ විරහිත හා ව්‍යාජ එකක් වන බවද සඳහන් කළේය.

මෙම සටන් පාඨයේ දේශපාලන පැහැදිලි කිරීමේ සීමාවන් තුළ මෙම ප්‍රශ්නය ඉදිරිපත් කිරීමට විරුද්ධ වීම, වැරදි සහගත ය. නිදර්ශනයක් වශයෙන්, සමාජවාදී විප්ලවය සඳහා වූ සටන් පාඨය එයින් වැසී යන්නේය, නැතහොත්, දුර්වල වන්නේය, යනුවෙන් තර්ක කිරීම වැරදිය. සැබවින් ම ප්‍රජාතන්ත්‍රවාදී ස්වරූපයේ වන, දේශපාලන වෙනස් වීම් නිසා, විශේෂයෙන්ම, දේශපාලන විප්ලව නිසා, සමාජවාදී විප්ලවය සඳහා වූ සටන් පාඨය වැසී යාමට හෝ දුර්වල වීමට, කුමන තත්වයක් යටතේ හෝ ඉඩක් නොමැත. ඊට ප්‍රතිකූල වශයෙන්, එය නිසා, සමාජවාදී විප්ලවය නිතරම ආසන්න වේ; එහි පදනම පුළුල් වේ; සුළු ධනපති සහ අර්ධ නිර්ධන පංතිවලට අයත් නව ජනතා කොටස් සමාජවාදී අරගලය වෙතට අද්දයි. අනික් අතට, සමාජවාදී විප්ලවය අතරතුර දී අනිවාරණීය වශයෙන් ම



දේශපාලන විප්ලවයක් සිදුවනු ඇත. සමාජවාදී විප්ලවය එක සිදුවීමක් වශයෙන් නොගත යුතුය. එය කැළඹිලි සහිත දේශපාලන සහ ආර්ථික පෙරළි ඇති වන, ඉතාමත් තියුණු පංති අරගල, සිවිල් යුද්ධ, විප්ලව හා ප්‍රති විප්ලව ඇති වන කාලයකි.

නමුත්, යුරෝපා එක්සත් ජනපද සමූහාණ්ඩුවක් සඳහා වූ සටන් පාඨය, රුසියානු රාජාණ්ඩුව ප්‍රධාන කොට ගත් යුරෝපයේ ඉතාමත් ප්‍රතිගාමී රාජාණ්ඩු තුන විප්ලවවාදී ලෙස පෙරළා දැමීම හා සමග සම්බන්ධ කර ගත් කල, එය ඉතාමත් ශක්තිමත් දේශපාලන සටන් පාඨය වන්නේය. එහෙත් එහි ආර්ථික සන්ධාරය හා වැදගත්කම සම්බන්ධයෙන් වූ ඉතාමත් වැදගත් ප්‍රශ්නය පරීක්ෂා කර බැලීමට තිබේ. අධිරාජ්‍යවාදයේ ආර්ථික කොන්දේසිවල ස්ථාවරය යටතේ, එනම්, ප්‍රාග්ධන අපනයනය සහ ''දියුණු'' සහ ''ශිෂ්ටාචාර'' රටවල් විසින් ලෝකය බෙදා ගැනීම යටතේ, ධනපති ක්‍රමය යටතේ, යුරෝපා එක්සත් ජනපදයක් එක්කෝ කිසිසේත් පිහිටුවිය නො හැකිය, නැතහොත්, එය ප්‍රතිගාමීය.

ප්‍රාග්ධනය ජාත්‍යන්තර සහ ඒකාධිකාරී බවට පත්ව ඇත. මහා බලවතුන් අතලොස්සක් විසින් එනම්, ජාතීන් කොල්ල කෑමෙන් හා පීඩාවට පත් කිරීමෙන් ජයගත් බලවතුන් විසින්, ලෝකය බෙදා කොටස් කර ගෙන තිබේ. යුරෝපයේ මහ බලවතුන් හතර දෙනා වන, බ්‍රිතාන්‍යය. ප්‍රංශය, රුසියාව සහ ජර්මනිය යන රටවල මුළු ජනගහනය 25,00,00,000 හා 30,00,00,000 අතරද, මුළු භූමි ප්‍රමාණය වර්ග කිලෝමීටර් 70,00,000 පමණද වන නමුත්, ඔවුනට අයත් යටත් විජිතවල ජනගහනය 50,00,00,000 ක් පමණ (49,45,00,000) ද භූමි ප්‍රමාණය වර්ග කිලෝමීටර් 6,46,00,000 ක් එනම් (උත්තර සහ දක්ෂිණ ද්‍රැව අත් හැරුණු කල, වර්ග කිලෝමීටර් 13,30,00,000 ක් වූ) මුළු පොළෝ තලයෙන් දෙකෙන් පංගුවක් තරම්ද වන්නේ ය. ජපානය, රුසියාව, බ්‍රිතාන්‍යය සහ ප්‍රංශය යන, දැනට ''විමුක්ති'' යුද්ධයක් කරමින් සිටින්නාවූ තක්කඩියන් විසින් කැබලිවලට ඉරා ගනිමින් සිටිනු ලබන චීනය, තුර්කිය සහ පර්සියාව යන ආසියානු රාජ්‍ය තුන මෙයට එකතු කරන්න. මෙම ආසියානු රාජ්‍යයන් තුන අර්ධ යටත් විජිත වශයෙන් හැඳින්විය හැක. (ඇත්ත වශයෙන් දැන් ඒවා සියයට 90 ක්ම යටත් විජිත බවට පත්ව ඇත.) එම රටවල් තුනෙහි මුළු ජනගහනය 36,00,00,000 ක් හා භූමි ප්‍රදේශය වර්ග කිලෝමීටර් 1,45,00,000 ක් (යුරෝපයේ භූමි ප්‍රමාණය මෙන් එක හමාරක් තරම) වේ.

එපමණක් ද නොවේ. බ්‍රිතාන්‍යය, ප්‍රංශය සහ ජර්මනිය යන තෙරට, රූබල් කෝටි 7000 ක් තරම් වටිනා ප්‍රාග්ධනය විදේශයන්හි ආයෝජනය කර තිබේ. මෙම දැවැන්ත මුදල සඳහා ''යුක්ති සහගත'' ලාභ, එනම් වසරකට රූබල් කෝටි 300 කට අධික වූ ලාභ ලැබීම, සහතික කිරීමේ

කාර්ය ඉටු කරන්නේ ආණ්ඩු යයි කියන කෝටිපතියන් ගේ ජාතික කාරක සභා මගිනි. ඒවාට යුද්ධ හමුද සහ නාවුක හමුද ඇත. ඒවා කෝටිපතියන් ගේ පුතුන්ට හා සොහොයුරන්ට, යටත් විජිතවල සහ අර්ධ යටත් විජිතවල ප්‍රතිරාජ තනතුරු ද, කොන්සල් තනතුරු ද, විවිධ වර්ගයේ නිලධාරීන්, පූජකවරුන් හා වෙනත් කුඩැල්ලන් ද වශයෙන්, තනතුරු සපයති.

ධනපති ක්‍රමයේ උසස්ම සංවර්ධන අවධියේ දී, මිහිපිට ජනගහනයෙන් සියක් කෝටියක් පමණ කොල්ල කෑමට මහ බලවතුන් අතලොස්සක් ගෙන යන කටයුතු සංවිධාන කර තිබෙන්නේ මේ ආකාරයෙනි. ධනපති ක්‍රමය යටතේ වෙනත් ආකාරයක සංවිධානයක් කළ නො හැක. යටත් විජිත ''බල ප්‍රදේශ'' සහ ප්‍රාග්ධන අපනයනය අත්හැර දමන්නට බැරිද? එය කළ හැකි යයි විශ්වාස කිරීම යනු, සෑම ඉරිද දිනකම ක්‍රිස්තු ධර්මයේ උත්තම ප්‍රතිපත්ති ගැන දේශනා කරමින්, අවුරුදු පතා රූබල් දශ ලක්ෂ ගණනින් බැරි නම්, යටත් පිරිසෙයින් සිය ගණනින් වත් දුප්පතුන්ට දෙන ලෙස පොහොසතුන්ට දේශනා කරන යාඥ කාරයෙකු ගේ තත්වයට වැටීමය.

ධනපති ක්‍රමය යටතේ යුරෝපා එක්සත් ජනපදයක් යනු, යටත් විජිත බෙද ගැනීමක් සඳහා ඇති කරගත් ගිවිසුමකට සමාන එකකි. එසේ වුවත්, ධනපති ක්‍රමය යටතේ, බලහත්කාරය හැර බෙද ගැනීම පිළිබඳ වෙනත් කිසිම ක්‍රමයක් හෝ ප්‍රතිපත්තියක් ක්‍රියාත්මක කළ හැකි නොවේ. ධනපති රටක කෝටිපතියෙකුට, එරටෙහි ''ජාතික ආදයම'' තවත් කෙනෙකු සමග බෙද ගැනීමේ ක්‍රමය ආයෝජනය කළ ''ප්‍රාග්ධනය අනුව'' (ලොකු ප්‍රාග්ධන හිමියාට නිසි පමණට වැඩි කොටසක් ලැබෙන සේ ප්‍රසාද මුදලක් ද සහිතව) බෙද ගැනීම පමණකි. එය කළ හැකි වෙනත් ක්‍රමයක් නොමැත. ධනපති ක්‍රමය යනු නිෂ්පාදන මාර්ගවල පෞද්ගලික අයිතිය සහ නිෂ්පාදනයේ අරාජික භාවය ය. එවැනි පදනමක් මත සිටිමින් ආදයම ''සාධාරණ'' ලෙස බෙද ගැනීමට යෝජනා කිරීම හුදු ප්රූදොන්වාදයයි,[20] මොට්ට අමන ස්වභාවයයි. ශක්තියේ අනුපාතය අනුව මිස වෙනත් ක්‍රමයකින් බෙදගැනීමක් කළ නොහැකි වන අතර, ආර්ථික සංවර්ධනයේ ඉදිරි ගමන සමග ශක්තිය වෙනස් වන්නේය. 1871 පසුව, ජර්මනියේ ශක්ති වර්ධන වේගය බ්‍රිතාන්‍යයේ සහ ප්‍රංශයේ මෙන් තුන් හෝ හතර ගුණයක් විය; ජපානයේ ශක්ති වර්ධන වේගය රුසියාවේ මෙන් දශ ගුණයක් පමණ විය. ධනපති රාජ්‍යයක නියම ශක්තිය මැනීමට, යුද්ධය හැර වෙනත් ක්‍රමයක් නොමැත. යුද්ධය පෞද්ගලික දේපල හිමිකම පිළිබඳ ප්‍රතිපත්තියේ මූල ධර්මයන්ට ප්‍රති විරෝධී වන්නේ නැත. ඊට ප්‍රතිකූල වශයෙන්, යුද්ධය, එම මූල ධර්මවලින් එක එල්ලේ සහ අනිවාරණීය ලෙස පැන නගින ප්‍රතිඵලයකි. ධනපති ක්‍රමය යටතේ තනිපුද්ගල ව්‍යවසායයන් හෝ තනි රාජ්‍යයන් සංයත ලෙස ආර්ථික වශයෙන් සංවර්ධනය වීම කිසිසේත් සිදුවිය නොහැක්කකි. ධනපති ක්‍රමය යටතේ කලින් කලට වෙනස්වන සමතුලිතතාවය නැවත ඇති කිරීම පිණිස කර්මාන්තයෙහි අර්බුදයත්, දේශපාලනයෙහි යුද්ධයත් හැර වෙනත් ක්‍රමයක් නොමැත.



නමුත් ධනපතියන් සහ රාජ්‍යයන් අතර තාවකාලික එකඟතාවයක් ඇති කර ගැනීමට පුළුවන. මේ අර්ථයෙන් යුරෝපීය ධනපතියන් අතර ගිවිසුමක් වශයෙන් යුරෝපා එක්සත් ජනපදය ඇති කළ හැක... එහෙත්, එහි අරමුණ වන්නේ කුමක් ද?එය ඇති කළ හැක්කේ ඒකාබද්ධ ලෙස යුරොපයේ සමාජවාදය මර්දනය කිරීම පිණිස හා කොල්ලකාගත් යටත් විජිත, ඇමෙරිකාවට හා ජපානයට විරුද්ධව ආරක්ෂා කර ගැනීම පිණිසය. පසුගිය පණස් වසර තුළ, එම දෙරටෙහි ශක්ති වර්ධනය රාජාණ්ඩුවාදී නොදියුණු යුරෝපයට වඩා බෙහෙවින් වේගවත් විය. ඇමෙරිකා එක්සත් ජනපදය හා සමග සසඳන කල, රාජාණ්ඩුවාදී යුරෝපය වයෝවෘධ තත්වයට පත්ව ඇත. යුරෝපය සමස්තයක් වශයෙන් ගත් කල, එයින් නියෝජනය වන්නේ, ආර්ථික අසංවර්ධනයයි. වර්තමාන ආර්ථික පදනම අනුව, යුරෝපා එක්සත් ජනපදයක අර්ථය වන්නේ, ඇමෙරිකාවේ වඩාත් වේගී සංවර්ධනය ප්‍රමාද කිරීමට ඇති කරන ප්‍රතිගාමී සංවිධානයකි. ප්‍රජාතන්ත්‍රවාදයේ හා සමාජවාදයේ මෙහෙය යුරෝපය හා සමග පමණක් සම්බන්ධ වී තිබුණු කාලය සදහටම ගෙවී ගොසිනි.

කොමියුනිස්ට් ක්‍රමය සම්පූර්ණයෙන් ජයග්‍රහණයට පත්වී, ප්‍රජාතන්ත්‍රවාදී රාජ්‍යය ඇතුළු, සියළු රාජ්‍යයන් අහෝසිවන තාක් කල්, අප සමාජවාදයේ දී අපේක්ෂා කරන ජාතීන් ගේ සමගියේ සහ නිදහසේ රාජ්‍ය ආකෘතිය වන්නේ (යුරෝපයේ පමණක් නොව), ලෝක එක්සත් ජනපදයකි. එහෙත් ලෝක එක්සත් ජනපදයක් සඳහා වෙනම ඉදිරිපත් කරන සටන් පාඨය නිවැරදි එකක් ලෙස සැලකිය නොහැකිය. එයට හේතුව, ප්‍රථමයෙන්ම එය සමාජවාදී ක්‍රමය තුළම, ඒ සමගම,සම්මිශ්රිතව තිබීමය; දෙවැනිව, එම සටන් පාඨයට වැරදි අර්ථ දෙමින්, එක රටක් තුළ සමාජවාදය ජයග්‍රහණය කළ නො හැකි යයි කීමට එය රුකුලක් විය හැකි නිසා සහ එවැනි රටක් හා වෙනත් රටවල් අතර සම්බන්ධකම් පිළිබඳව වැරදි හැඟීම් ඇති කර ගැනීමට ද ඉඩ ඇති නිසාය.

අසමාන ආර්ථික හා දේශපාලන සංවර්ධනය ධනපති ක්‍රමයට ආවේණික ඒකාන්ත නියාමයකි. එනිසා, සමාජවාදය, ප්‍රථමයෙන් ධනපති රටවල් කීපයක, හෝ එකක පමණක් පවා, ඇතිවීමට පුළුවන. එරටේ ජයග්‍රාහී කම්කරු පංතිය, ධනපති පංතියේ දේපල අත්පත් කරගෙන, තමන්ගේම සමාජවාදී නිෂ්පාදනය සංවිධානය කර ගැනීමෙන් පසුව, වෙනත්

රටවල පීඩිත පංති ස්වකීය සද්ව්‍යාපාරය වෙතට ආකර්ෂණය කරමින්, එම ජනතාවන් ගේ රාජ්‍යවල, එම ජනතාවන් සූරා කන පංතිවලට විරුද්ධව, අවශ්‍ය තන්හි අවි බලය පවා පාවිච්චි කරමින්, ඉතිරි ලෝකයට, එනම්, ධනපති ලෝකයට විරුද්ධව නැගී සිටිනු ඇත. ධනපති පංතිය බලයෙන් පහකර දමා, ජයග්‍රහණය අත්කරගත් රටක, දේශපාලන සමාජක්‍රමය වනුයේ ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුවකි. අදාළ රටෙහි හෝ රටවල, එම සමූහණ්ඩුව, එතෙක් සමාජවාදයට නො එළඹ සිටින රාජ්‍යයන්ට විරුද්ධව අරගල කිරීම සඳහා, ස්වකීය කම්කරු පංතියේ බලවේගයන් වැඩි වැඩියෙන් සංකේන්ද්‍රණය කරනු ඇත. පීඩිත පංතියේ, එනම්, නිර්ධන පංතියේ, ආඥාදායකත්වයක් නොමැතිව, පංති අහෝසි කිරීම කිසිසේත් කළ නොහැක්කකි. නොදියුණු රාජ්‍යයන්ට විරුද්ධව, සමාජවාදී සමූහාණ්ඩු විසින් කරනු ලබන, එක්තරා දුරකට දිග්ගැස්සුනු සහ දැඩි අරගලයකින් තොරව, සමාජවාදී ක්‍රමය තුළ ජාතීන් ගේ නිදහස් සමගියක් ඇති කිරීමටද නොහැකි වනු ඇත.

යුරෝපා එක්සත් ජනපදයක් සඳහා වූ සටන් පාඨය වැරදිය යන නිගමනයට, ප්‍රධාන පත්‍රයේ කර්තෘ මණ්ඩලය එළඹියේ, මෙම හේතු නිසා සහ රු. ස. ප්‍ර. ක. ප. විදේශගත කණ්ඩායම්වල සාකච්ඡා සභාවේදී සහ ඉන් පසුව, ඒ ගැන නැවත නැවතත් සාකච්ඡා කිරීමෙන් පසුව ය.

''සොට්සල් ඩිමොක්‍රට්'' අංක 44,
1915 අගෝස්තු 23

වී. අයි. ලෙනින්. සම්පූර්ණ කෘති, වෙළුම 26, පිටු 351—355

# යුද්ධය ගැන රු. ස. ප්‍ර. ක. ප. මධ්‍යම කාරක සභාව නිකුත් කළ ප්‍රකාශනය ගැන ''සොට්සල්-ඩිමොක්‍රට්'' පත්‍රයේ කතු වැකියෙන් දැක්වූ අදහස

යුරෝපා එක්සත් ජනපදයක් සඳහා වූ සටන් පාඨය ගැන

රුසියාවේ, ඔස්ත්‍රියාවේ සහ ජර්මනියේ රාජාණ්ඩු බලයෙන් පහ කරන ලෙස කරන හඬ නැගීමක් සමග එකට සම්බන්ධ කර, මධ්‍යම කාරක සභාවේ ප්‍රකාශනය මගින් ඉදිරිපත් කරනු ලබන, එක්සත් යුරෝපා රාජ්‍යයක් සඳහා වූ ඉල්ලීම, මෙම සටන් පාඨයට කෞට්ස්කි සහ වෙනත් අය දෙන සමාදානවාදී අර්ථ නිරූපනයට වඩා වෙනස් වූවකි.

''යුරෝපා එක්සත් ජනපදය'' සඳහා වූ සටන් පාඨය, ආර්ථික වශයෙන් වැරදි බව ඔප්පු කරමින්, අප පක්ෂයේ ප්‍රධාන පත්‍රය වන ''සොට්සල් ඩිමොක්‍රට්'' පත්‍රයේ අංක 44 කලාපයෙහි කතු වැකියක් පළ කර ඇත.* මෙම ඉල්ලීම අනුව, ඒ ඒ තනි රටවල් අතර යටත් විජිත, බල ප්‍රදේශ, යනාදිය බෙදා ගැනීමක් සහිතව සැලසුම් කළ ලෝක ආර්ථිකයක් තිබීම පූර්වාවශ්‍යතාවයක් වන හෙයින්, එක්කෝ එය ධනපති ක්‍රමය යටතේ ක්‍රියාත්මක කළ නොහැකි ඉල්ලීමකි; එසේ නැතහොත්, එය යටත් විජිත පීඩනයට පත් කිරීම වඩාත් උත්සන්න කිරීමේ හා වඩාත් සීඝ්‍ර ලෙස සංවර්ධනය වන ජපානය හා ඇමෙරිකාව කොල්ලකෑමේ අරමුණ ඇතිව, යුරෝපයේ මහ බලවත් රටවල් තාවකාලික ලෙස සංගම්ගත කිරීම සලකුණු කරන, ප්‍රතිගාමී සටන් පාඨයකි.

1915 අගෝස්තු මස ලියන ලදී
''සොට්සල් ඩිමොක්‍රට්'' කර්තෘ මණ්ඩලය 1915 අගෝස්තු මස ජිනීවාහිදී පළ කළ ''සමාජවාදය සහ යුද්ධය'' යන පොතෙහි පළ කරන ලදී

වී. අයි. ලෙනින්. සම්පූර්ණ කෘති, වෙළුම 26, පිටු 356

* මෙම වෙළුමේ පිටු 22—26 බලන්න. — සංස්කාරක

# අධිරාජ්‍යවාදය, ධනපති ක්‍රමයේ ඉහළම අවධිය[21]

(සාමාන්‍ය කෙටි විස්තරයකි)

## පෙරවදන

පාඨකයා වෙත ඉදිරිපත් කෙරෙන මෙම පොත 1916 වසන්තයේ දී සූරිච් හි දී ලියන ලදී. එහි මට වැඩ කිරීමට සිදුවූ තත්වයන් යටතේ ප්‍රංශ සහ ඉංග්‍රීසි පොතපත හිඟවීම නිසාත්, රුසියානු පොත පත ඉතා දුර්ලභ වීම නිසාත්, මට ස්වාභාවික වශයෙන්ම තරමක දුෂ්කරතාවයන්ට මුහුණ දීමට සිදුවිය. එසේ වුවද, අධිරාජ්‍යවාදය ගැන ඉංග්‍රීසි බසින් ලියැවුනු ප්‍රධාන කෘතිය වූ, ජේ. ඒ. හොබ්සන් ගේ පොත මම ප්‍රයෝජනයට ගත්තෙමි. එසේ කිරීමේ දී, මම, මගේ අදහස අනුව, එම කෘතියට සුදුසු සුපරීක්ෂාකාරී සැලකිල්ල දැක්වූයෙමි.

මෙම පොත ලියන ලද්දේ සාර්වාදී පුවත් පාලනය ගැන කල්පනාවට ගනිමිනි. එනිසා, මෙම කෘතිය ලිවීමේදී කරුණු පිළිබඳ තනිකරම න්‍යායික හා විශේෂයෙන් ම ආර්ථික වූ විශ්ලේෂණයකට තරයේ සීමා වීමට පමණක් නොව, දේශපාලනය ගැන අවශ්‍ය නිරීක්ෂණයන් කීපය ඉදිරිපත් කිරීමේදී, ඉතාමත් සුපරීක්ෂාකාරී ලෙස, ඉඟි කිරීම් මගින්, උපමා කථා භාෂාවෙන්, ඒ ශාපලත් ඊසොප් භාෂා ශෛලියෙන් — එසේ කිරීමට සිදුවිය. සාර්වාදයේ බලපෑම හමුවේ ''නීත්‍යානුකූල'' කෘතියක් ලිවීමට පැන ගත් විටෙක සෑම විප්ලවවාදියෙකුටම එම භාෂාව උපයෝගි කර නො ගෙන බැරි විය.

පුවත් පාලකයා නිසා විකෘති කර, සිර කොට අසුරා, දඹු අඬුවෙන් මෙන් එකට තද කොට ඉදිරිපත් කර ඇති මෙම පොතේ සමහර ඡේද මෙම නිදහස ඇති කාලයේ කියවීම සිත් වේදනා දෙන සුලු ය. අධිරාජ්‍යවාදී අවධිය සමාජවාදී විප්ලවයේ පූර්වාසන්නය වන බවද, සමාජ-ජාත්‍යෝන්මාදවාදය (වචනයෙන් සමාජවාදය සහ ක්‍රියාවෙන් ජාත්‍යෝන්මාදවාදය) යනු සමාජවාදය අත්‍යන්තයෙන් ම පාවාදීම හා සම්පූර්ණයෙන්ම ධනපති පැත්තට පලායාම බවද, කම්කරු පංති ව්‍යාපාරයේ භේදය අධිරාජ්‍යවාදයේ වාස්තවික තත්වයන් සමග එකට බැඳී පවතින්නක් බවද, යනාදී වූ, කරුණු සම්බන්ධයෙන් මට කථා කිරීමට සිදුවූයේ ''වහල්'' භාෂාවකිනි. මෙම විෂය ගැන උනන්දුවක් ඇති පාඨකයාගේ අවධානය මා විදේශයෙහි සිටියදී 1914—1917 ලියූ ලිපි කෙරෙහි යොමු කරනු කැමැත්තෙමි. එම ලිපිවල නව සංස්කරණයක් ළඟදීම පළවීමට නියමිතය. පිටු 119—120 හි* තිබෙන ඡේදයකට විශේෂ අවධානය යොමු කළ යුතුය. රටවල් අල්ලා ගැනීම සම්බන්ධයෙන් ප්‍රශ්නවලදී ධනපතියන් හා ඔවුන්ගේ පැත්තට පලා ගිය සමාජ-ජාත්‍යෝන්මාදවාදීන් (කෞට්ස්කි ස්ථිර ස්වභාවයකින් තොරව ඔවුනට විරුද්ධ වෙයි) කියන්නේ කොතරම් ලජ්ජා විරහිත බොරුද යනු පෙන්වා දීමටත්, ඔවුන් ඔවුන්ගේ ම ධනපතියන් රටවල් අල්ලා ගන්නා අවස්ථා කොතරම් ලජ්ජා විරහිත ලෙස ආවරණය කරන්නේද යනු පෙන්වාදීමටත්, නිදර්ශනයක් ලෙසට ජපානය ගැන සඳහන් කිරීමට මට සිදුවිය! සුපරීක්ෂාකාරී පාඨකයා එහිදී ජපානය වෙනුවට රුසියාවත්, කොරියාව වෙනුවට, පින්ලන්තය, පෝලන්තය, කූර්ලන්තය, උක්‍රේනියාව, හීවාව, බොහරාව, එස්තෝනියාව හෝ මහ රුසියානුන් වාසය නොකරන වෙනත් ප්‍රදේශත්, පහසුවෙන්ම ආදේශ කරගනු ඇත.

මූලික ආර්ථික ප්‍රශ්නය වන, අධිරාජ්‍යවාදයේ ආර්ථික සන්ධාරය පිළිබඳ ප්‍රශ්නය වටහා ගැනීමට පාඨකයාට මෙම පොත ආධාරකාරී වේ යයි විශ්වාස කරමි. මෙම ප්‍රශ්නය අධ්‍යයනය නොකර නවීන යුද්ධය හා නවීන දේශපාලනය වටහා ගැනීම හා ඇගැයීම කිසිසේත් කළ නො හැකිය.

පෙත්‍රොගෑඩ්. 1917 අප්‍රියෙල් 26

කර්තෘ

---

* මෙම වෙළුමේ 158 පිටුව — සංස්කාරක

## ප්‍රංශ සහ ජර්මන් සංස්කරණයන්ට පෙරවදන[22]

### I

රුසියානු මුද්‍රණයේ පෙරවදනෙහි සඳහන් පරිදි, සාර්වාදයේ පූවත් පාලනය ගැන කල්පනාවට ගනිමින් මෙම පොත 1916 දී ලියන ලදී. මේ අවස්ථාවේ මට මුළු පොතම සංශෝධනය කළ නොහැකිය. සමහර විට එසේ කිරීම නුවණට ද හුරු නොවන්නට පිළිවන. මක්නිසාද යත්, මෙම පොතෙහි ප්‍රධාන අරමුණ වූයේ හා දැනුදු ප්‍රධාන අරමුණ වන්නේ, ප්‍රතික්ෂේප කළ නොහැකි ධනපති සංඛ්‍යා ලේඛණ වලින් පිඬු කොටගත් වාර්තා සහ සියළුම රටවල ධනපති උගතුන් පිළිගත් කරුණු පදනම් කරගෙන, විසිවැනි ශතවර්ෂයාරම්භයේ දී, නැතහොත් ප්‍රථම ලෝක අධිරාජ්‍යවාදී යුද්ධයේ පූර්වාසන්නයේ දී, ලෝක ධනපති ක්‍රමයේ පැවති ජාත්‍යන්තර සම්බන්ධකම් සහිත එම ක්‍රමයේ සංගත චිත්‍රයක් ඉදිරිපත් කිරීම බැවිනි.

සමකාලීන ඇමෙරිකාව හෝ ප්‍රංශය වැනි රටවල් මෑත දී තොග පිටින්ම මෙන් කොමියුනිස්ට්වරු අත් අඩංගුවට ගැනීමෙන් පසුව වුවද, සමාජ-සමාදනවාදී අදහස්වල සහ ''ලෝක ප්‍රජාතන්ත්‍රවාදය'' ගැන වූ බලාපොරොත්තුවල, අන්ත ව්‍යාජභාවය පැහැදිලි කිරීම පිණිස, කොමියුනිස්ට්වරුන්ට ඉතිරි වී ඇති නීත්‍යානුකූල භාවයේ ස්වල්ප අවකාශය පවා ඒ සඳහා උපයෝජනය කර ගැනීමේ හැකියාව සහ අවශ්‍යතාවය පිළිබඳ අවබෝධය, දියුණු ධනපති රටවල කොමියුනිස්ට්වරුන් බොහෝ දෙනෙක් වෙත ගෙන එන ආදර්ශයක් ලෙසට ද, සාර්වාදී පූවත් පාලකයාගේ ස්ථාවරය අනුව නීත්‍යානුකූල වන මෙම පොත එක්තරා දුරකට ප්‍රයෝජනවත් වනු ඇත. පූවත් පාලනයට යටත් කළ මෙම පොතට එකතු කළ යුතු ඉතාමත් අවශ්‍ය කරුණු මෙම පෙරවදනින් ඉදිරිපත් කිරීමට උත්සාහ කරන්නෙමි.

### II

1914—1918 යුද්ධයට සම්බන්ධ දෙපාර්ශවයම කළේ අධිරාජ්‍යවාදී යුද්ධයක් (එනම් රටවල් අල්ලා ගැනීමේ, චෞරව හා කොල්ල කෑමේ



යුද්ධයක්) බව මෙම පොතෙන් ඔප්පු කර තිබේ. එය ලෝකය බෙදා ගැනීම සඳහා , එනම් යටත් විජිත සහ මූල්‍ය ප්‍රාග්ධනයේ බල ප්‍රදේශ, ආදිය බෙදා ගැනීම සහ යළි බෙදා ගැනීම සඳහා, කරන ලද යුද්ධයකි.

යුද්ධයේ නියම සමාජ ස්වභාවය, එසේ නැතහොත්, නියම පංති ස්වභාවය ඔප්පු කරන සාධකයන් දැකිය හැක්කේ, යුද්ධයේ රාජ්‍ය තන්ත්‍රික ඉතිහාසය තුළින් පමණක් නොව, යුද්ධකාරී සියළුම රටවල් පාලක පංතිවල වාස්තවික තත්වය ගැන කරන විශ්ලේෂණයක් තුළින් ද වේ. මෙම වාස්තවික තත්වය විස්තර කර දැක්වීම පිණිස, යමෙක් තනි දත්තයන් වෙනම නො ගෙන (සමාජ ජීවිතයේ ප්‍රපංචයන් ගේ අත්‍යන්ත සංකීර්ණත්වය අනුව බලන කල, ඕනෑම ප්‍රස්තුතයක් සනාථ කිරීමට නිදර්ශන හෝ තනි දත්තයන් ඕනෑ තරම් සොයා ගැනීමට නිතරම හැකි වේ.) සියළුම යුද්ධකාරී රටවල සහ මුළු ලෝකයේම ආර්ථික ජීවිතයේ පදනම පිළිබඳ සියළු දත්තයන් සැලකිල්ලට ගත යුතුය.

1876 දී හා 1914 දී ලෝකය බෙදගෙන තිබුණු ආකාරයත් (හයවැනි පරිච්ඡේදයෙහි), 1890 දී හා 1913 දී ලෝකයේ දුම්රිය මාර්ග බෙදගෙන තිබුණු ආකාරයත් (හත්වැනි පරිච්ඡේදයෙහි), විස්තර කිරීමේදී මා උපුටා දැක්වූයේ ඉඳුරාම මෙම වර්ගයේ වූ ප්‍රතික්ෂේප කළ නො හැකි, සම්පිණ්ඩනය කොටගත්, දත්තයන්ය. දුම්රිය මාර්ග යනු ගල් අඟුරු, යකඩ හා වානේ යන මූලික ධනපති කර්මාන්තවල සමාකලනයකි. එය ලෝක වෙළඳමේ සහ ධනපති ප්‍රජාතන්ත්‍රවාදී ශිෂ්ටාචාරයේ සංවර්ධනයේ සමාකලනයක් හා ඉතාමත් සිත් කාවදින දර්ශකයක් ද වේ. දුම්රිය මාර්ග මහා පරිමාණ කර්මාන්ත සමග ද, ඒකාධිකාර, සම්මේල, කාටල ව්‍යාපාර, සංගත ව්‍යාපාර, බැංකු හා මූල්‍ය කතිපයාධිපතිත්වය සමග ද, කෙසේ සම්බන්ධ වී තිබේද යන්න මෙම පොතෙහි ඊට කලින් පරිච්ජේද වලින් පෙන්වා ඇත. දුම්රිය මාර්ග අසමාන ලෙස බෙදී ගොස් ඇති ආකාරය ද, ඒවායේ අසමාන සංවර්ධනය ද, ලෝක ව්‍යාප්ත පරිමාණයෙන් ගත් නවීන ඒකාධිකාරී ධනපති ක්‍රමයේ සම්පිණ්ඩනයක් බඳු ය. එවැනි ආර්ථික ක්‍රමයක් යටතේ, නිෂ්පාදන මාර්ගවල අයිතිය පෞද්ගලිකව පවතින තාක් කල්, අධිරාජ්‍යවාදී යුද්ධ ඇති වීම කිසිසේත් වැළැක්විය නොහැකි බව මෙම සම්පිණ්ඩනයෙන් ඔප්පු වේ.

දුම්රිය මාර්ග ගොඩනැගීම සරල ස්වාභාවික, ප්‍රජාතන්ත්‍රවාදී, සංස්කෘතික හා ශීලාචාරකාරී ව්‍යවසායයක් සේ පෙනෙන්නේ ය. ධනපති වහල් භාවය දීප්තිමත් වර්ණයෙන් අලංකාර කර ඉදිරිපත් කිරීම සඳහා කුලී ලබන ධනපති මහාචාර්යවරුන් ගේ අදහසේ හැටියට සහ සුළු ධනපති අමනයන් ගේ අදහසේ හැටියට, එය එසේ ය. නමුත් සත්‍ය කරුණ නම්, නිෂ්පාදන මාර්ගයන් පෞද්ගලිකව අයිති කර ගැනීමේ ක්‍රමයට මෙම ව්‍යව-

සායයන් පොදුවේ බැඳ තබන, දහසක් ධනපති ලනු නිසා, මෙම දුම්රිය මාර්ග සිය කෝටියක් (යටත් විජිත හා අර්ධ යටත් විජිතවල සිටින) ජනයා, එනම්, ලෝක ජනගහනයෙන් අර්ධයකට වැඩි පිරිසක් වෙසෙන ගැති රටවල ජනයා ද, එමෙන්ම, ''ශීලාචාර'' රටවල ප්‍රාග්ධනයේ වේතන-වහළුන්ද, පීඩාවට පත් කරන උපකරණයක් බවට පත් වී තිබීමයි.

ගොවීන් සහ කම්කරුවන් රැවටීම සඳහා, ධනපතියන් හා ඔවුන් ගේ පුවත් පත් විසින් යොදා ගනු ලබන, සුළු දේපල හිමියා ගේ ශ්‍රමය පදනම් කරගත් පෞද්ගලික දේපල, නිදහස් තරඟය, ප්‍රජාතන්ත්‍රවාදය යන උගුල් වදන් සියල්ලම, දුර අතීතයට එකතු වූ දේ ය. ධනපති ක්‍රමය සංවර්ධනය වී, එය, ''දියුණු'' රටවල් අතලොස්සක යටත් විජිත පීඩනයට සහ මූල්‍ය ගල ග්‍රහයට, ලෝක ජනගහනයෙන් අති බහුතරය හසු කරන ජගත් ක්‍රමයක් බවට පත් වී තිබේ. එමගින් ''කොල්ල කා ගත් වස්තුව'' සම්පූර්ණයෙන් ආයුධ සන්නද්ධව සිටින බලවත් ලෝක කොල්ල කරුවන් දෙතුන් දෙනා (ඇමෙරිකාව, මහා බ්‍රිතාන්‍යය, ජපානය) ඔවුනොවුන් අතර බෙදා ගනිති. ඔවුන් ගේ එම ''වස්තුව'' බෙදා ගැනීම සඳහා ඔවුන් කරන යුද්ධයට මුළු ලෝකයම ඇදා ගනු ලැබේ.



## III

රාජාණ්ඩුවාදී ජර්මනියේ බල කිරීම අනුව අත්සන් කරන ලද බ්‍රෙස්ට්-ලිතොව්ස්ක් ගිවිසුම[23] සහ ඊට පසුව, ඇමෙරිකා හා ප්‍රංශ ''ප්‍රජාතන්ත්‍රවාදී'' සමූහාණ්ඩුවල හා ''නිදහස්'' බ්‍රිතාන්‍යයේ බල කිරීම අනුව අත්සන් කරන ලද වඩාත් කෲර සහ තුච්ඡ වර්සයිලස් ගිවිසුම,[24] මිනිස් වර්ගයාට ඉතාමත් ප්‍රයෝජනවත් මෙහෙයක් ඉටු කළේය. තමන් සමාදනවාදීන් හා සමාජ-වාදීන් වන බව කියා ගන්නා නමුත්, ''විල්සන්වාදයට''[25] ගුණ වැනුම් ගී ගයමින්, අධිරාජ්‍යවාදය යටතේ ප්‍රතිසංස්කරණ සාර්ථක කළ හැකි යයි ඉඳුරාම කී, අධිරාජ්‍යවාදයේ කුලියට ලියන්නන් සහ සුළු ධනපති ප්‍රතිගා-මීන් යන දෙකොටසෙහි ම ස්වභාවය හෙළිදරව් කිරීමේ මෙහෙය එම ගිවිසුම් වලින් ඉටු විය.

කොල්ල කෑ වස්තුවෙන් වැඩි කොටස ලැබිය යුත්තේ කුමන නම් මූල්‍ය කොල්ලකරු කණ්ඩායමට ද යන්න තීරණය කිරීමට කරන ලද මෙම යුද්ධයෙන් මිය ගිය හා අංග විකලත්වයට පත් කෝටි ගණන් ජනයා සහ ඉහත සඳහන් ගිවිසුම් ද්වයද විසින්, ධනපති පංතියේ පෑගීමට, පීඩනයට හා රැවටිල්ලට හසුවී සිටින ලක්ෂ ගණන් හා කෝටි ගණන් ජනතාවට, පෙර නොවූ විරූ තරම් වේගයකින් කරුණු අවබෝධ කරනු ලැබේ. ඒ අනුව, යුද්ධය ගෙන ආ විශ්වීය විනාශය කෙරෙන්, ලෝක ව්‍යාප්ත විප්ලවීය අර්බුදයක් උද්ගත වන්නේය. එහි අවධි කොතරම් දීර්ඝ වුවත්, දුෂ්කර වුවත්, නිර්ධන පංති විප්ලවයක් ඇති වීමෙන් හා එහි ජයග්‍ර-හණයෙන් හැර, වෙනත් ආකාරයකින් එය කෙළවර විය නො හැක.

දෙවැනි ජාත්‍යන්තරයේ බාස්ල් ප්‍රකාශනයෙන්, 1912 දී සැපයුනේ, යුද්ධය පිළිබඳ පොදු තක්සේරුවක් නොව (විප්ලවීය යුද්ධයද ඇතුළත්ව, නොයෙක් වර්ගයේ යුද්ධ ඇත), 1914 දී ආරම්භ වූ හුදෙක් මෙම යුද්ධය ගැනම තක්සේරුවකි. දැන් මෙම ප්‍රකාශනය දෙවැනි ජාත්‍යන්තරයේ වීරයන් ගේ නින්දා සහගත බංකොලොත් භාවය හා ද්‍රෝහී භාවය සම්පූ-ර්ණයෙන්ම හෙළිදරව් කරන ස්මාරකයක් වැනිය.

මෙම මුද්‍රණයේ අතිරේකයක් ලෙසට, මා මෙම ප්‍රකාශනය යළි ඉදිරි-පත් කරන්නේ එහෙයිනි. ඇති වෙන්නට යන යුද්ධය සහ නිර්ධන පංති විප්ලවය අතර ඇති සම්බන්ධය ගැන නියත ලෙස, පැහැදිලි ලෙස හා ඒකාන්ත ලෙස කියන, මෙම ප්‍රකාශනයේ කොටස්, තමා සොරකම් කළ ස්ථානය මගහැර යන සොරෙකු මෙන්, දෙවැනි ජාත්‍යන්තරයේ වීරයන් විසින් මඟ හරිනු ලබන බව සටහන් කරගන්නා ලෙසට, මා නැවත නැව-තත් පාඨකයා උනන්දු කරන්නේ එහෙයිනි.

## IV

''කෞට්ස්කිවාදය'' විවේචනය කිරීම සඳහා මෙම පොතෙහි විශේෂ අවධානයක් යොමු කර ඇත. ලෝකයේ සියළුම රටවල ''ප්‍රමුඛතම න්‍යා-යාචාර්යවරුන්'' විසින්, දෙවැනි ජාත්‍යන්තරයේ නායකයන් (ඔස්ට්‍රි-යාවේ ඔටෝ බවර් සහ පිරිස, බ්‍රිතාන්‍යයේ රැම්සේ මැක්ඩොනල්ඩ් සහ වෙනත් අය, ප්‍රන්ශයේ ඇල්බට් තෝමස් ආදීන්) විසින් හා සමාජවාදීන්, ප්‍රතිසංස්කරණ වාදීන්, සමාදනවාදීන්, ධනපති ප්‍රජාතන්ත්‍රවාදීන් සහ දෙව-ගැතියන් හමුදුවක් විසින්, නියෝජනය කරනු ලබන ජාත්‍යන්තර දෘෂ්ටි-මය උපනතිය කෞට්ස්කිවාදයයි.

මෙම දෘෂ්ටිමය උපනතිය, එක් අතකින්, දෙවැනි ජාත්‍යන්තරය බිඳී විසිරී යාමේ සහ දිරාපත් වීමේ ද, අනිත් අතින්, සුළු ධනපති පංතියේ දෘෂ්ටියෙහි ද, අනිවාරණීය ප්‍රතිඵලය වන්නේය. සුළු ධනපති පංතියේ සමස්ත ජීවන ක්‍රමයම විසින් එය ධනපති පංතියේ හා ප්‍රජාතන්ත්‍රවාදී දුර්මතවල සිරකරුවකු බවට පත් කරනු ලැබේ.

කෞට්ස්කි හා ඔහු වැනි අය දරන අදහස්, එම ලෙඛකයාම අවුරුදු දශක ගණනක් තිස්සේ පතළ කළ, විශේෂයෙන්ම, (බර්න්ෂ්ටයින්, මිලරන්, හයින්ඩ්මාන්, ගොම්පර්ස් ආදීන් ගේ) සමාජවාදී අවස්ථාවාදයට විරුද්ධව ඔහු කළ සටනේ දී, ඊට ආනුෂංගික වශයෙන් පතළ කළ, මාක්ස්-

වාදයේ ඒ විප්ලවවාදී ප්‍රතිපත්ති ම සම්පූර්ණයෙන් අත්හැර දැමීමක් වන්නේය. එනිසා, ලෝකය මුළුල්ලේම සිටින කෞට්ස්කි අනුගාමිකයින් ප්‍රායෝගික දේශපාලනයේදී (දෙවැනි, නැතහොත් ජාතෝන්මාදවාදී ජාත්‍යන්තරය[26] මගින්) සීමාන්තික අවස්ථාවාදීන් සමග හා (සවාජවාදීන් සම්බන්ධ වී සිටින ධනපති සහාග ආණ්ඩු මගින්) ධනපති ආණ්ඩු සමග ද එක්සත් වී සිටින්නේ අහම්බෙන් නොවේ.

මුළු ලෝකයේම පොදුවේ ගත් කල වර්ධනය වෙමින් පවතින නිර්ධන පංති විප්ලවවාදී ව්‍යාපාරයට, විශේෂයෙන්ම කොමියුනිස්ට් ව්‍යාපාරයට, කෞට්ස්කිවාදයේ න්‍යායික වැරදි විශ්ලේෂණය කිරීම හා ඒ ගැන හෙළිදරව් කිරීම, පැහැර හැරිය හැකි කටයුත්තක් නොවේ. මාක්ස්වාදය සමග කිසිම සම්බන්ධයක් ඇතැයි නො කියන, එහෙත්, කෞට්ස්කි සහ පිරිස මෙන්ම, අධිරාජ්‍යවාදයේ ප්‍රතිවිරෝධයන් ගේ ගැඹුර සහ එයින් අනිවාරණීය ලෙසට උද්ගතවන විප්ලවීය අර්බුදය සඟවන, සමාදනවාදය සහ සාමාන්‍ය ''ප්‍රජාතන්ත්‍රවාදය'' තවමත් ලෝකය මුළුල්ලේම ඉතා පුළුල් ලෙස පැතිරී තිබෙන නිසා, එම කටයුත්ත ඉටු කිරීම තව තවත් අවශ්‍ය වේ. මෙම ප්‍රවණතාවයන්ට විරුද්ධව සටන් කිරීම නිර්ධන පංතියේ පක්ෂයේ ඒකාන්ත වගකීම ය. ධනපති පංතිය විසින් රවටනු ලැබූ සුළු දේපල හිමියන් සහ එක්තරා දුරකට සුළු ධනපති ජීවන තත්වයන් භුක්ති විඳින දශලක්ෂ ගණන් වැඩ කරන ජනයා ධනපති පංතිය වෙතින් තමන් ගේ පැත්තට දිනා ගැනීම එම පක්ෂයේ කටයුත්ත වේ.

## V

''ධනපති ක්‍රමයේ පරපෝෂිතවාදය හා දිරාපත්වීම'' යන අට වැනි පරිච්ඡේදය ගැන වචන කීපයක් කිව යුතුය. තමා සමාදනවාදියෙක් හා ප්‍රතිසංස්කරණවාදියෙක් බව අවංකව පිළිගත් ඉංග්‍රීසි ජාතික හොබ්සන් සමග සසඳන කල, හිටපු ''මාක්ස්වාදියෙකු'' වූ හා දැන් කෞට්ස්කිගේ සමීප සගයෙකු වන, එමෙන්ම ''ජර්මනියේ නිදහස් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ''[27] ධනපති ප්‍රතිසංස්කරණවාදී ප්‍රතිපත්තියේ ප්‍රමුඛ ප්‍රචාරකයෙකු වන, හිල්ෆර්දිං මෙම ප්‍රශ්නය සම්බන්ධයෙන් පියවරක් පස්සට තබා ඇත. ඒ බව දැනටමත් මෙම පොතෙහි පෙන්වා දී තිබේ. මුළු ජාත්‍යන්තර කම්කරු පංති ව්‍යාපාරයම භේද වී (දෙවැනි ජාත්‍යන්තරය සහ තුන්වැනි ජාත්‍යන්තරය) ඇති බව දැන් ඉතා පැහැදිලිය. එම උපනති දෙක අතර අවිගත් අරගලය හා සිවිල් යුද්ධය ඇවිලෙන බවද පැහැදිලිය. බෝල්ෂෙවික් වරුන්ට විරුද්ධව රුසියාවේදී මෙන්ෂෙවික්වරුන්[28] සහ සමාජවාදී-විප්ලවවාදීන් කොල්චාක්ට හා ඩෙනිකින්ට දෙන ආධාරයෙන්



ජර්මනියේ ස්පාටකස්වරුන්ට[29] විරුද්ධව ධනපති පංතිය සමග එකතු වී ෂෙයිඩමාන්ලා සහ නොස්කේලා කළ සටනෙන් ද, පින්ලන්තය, පෝලන්තය, හංගේරියාව යනාදී රටවල එවැනිම සිදුවීම්වලින් ද, ඒ බව පැහැදිලි වේ. මෙම ලෝක ඓතිහාසික ප්‍රපංචයේ ආර්ථික පදනම කුමක් ද?

එය නම් නියත වශයෙන්ම ධනපති ක්‍රමයේ සංවර්ධනයෙහි ඉහළම අවධියේ, එනම්, අධිරාජ්‍යවාදයේ ස්වභාව ලක්ෂණය වන, ධනපති ක්‍රමයේ පරපෝෂිතවාදය සහ දිරාපත් වීම ය. මෙම පොතෙන් පෙන්නුම් කෙරෙන පරිදි, දැන්, හුදෙක් ''කූපන් කැපීම''මගින් මුළු ලෝකයම කොල්ල කන, අතිශයින්ම ධනවත් හා බලවත් රටවල් අතලොස්සක් (ලෝකයේ ජනගහනයෙන් දහයෙන් පංගුවකට වඩා අඩු, ඉතාමත් ''වැඩි මට්ටමෙන්'' හා වාසි දෙමින් ගණන් බැලුවත් පහෙන් පංගුවකට වඩා අඩු සංඛ්‍යාවකි) ධනපති ක්‍රමය විසින් තෝරා වෙන් කරනු ලැබ තිබේ. යුද්ධයට පෙර පැවති මිළ ගණන් අනුව හා යුද්ධයට පෙර ලබාගත් ධනපති සංඛ්‍යා ලේඛන අනුව, ප්‍රාග්ධන අපනයනයෙන් ලැබෙන ලාභය වර්ෂයකට ප්‍රැන්ක් කෝටි අටසියත් දහත් අතර වේ. නමුත්, දැන් ඉන් ලැබෙන ලාභය, ඊට වඩා බෙහෙවින් විශාලය.

මෙසේ ලබාගන්නා දැවැන්ත සුපිරිලාභ නිසා (මෙම ලාභ ලබා ගන්නේ ධනපතියන් ''තමන්ගේම'' රටේ කම්කරුවන් මිරිකා ලබාගන්නා ලාභවලට අමතරව වන හෙයින්) එයින් කම්කරු නායකයින්ට හා ශ්‍රමකරු රදළ පෙළැන්තියේ ඉහළ ස්ථරයට අල්ලස් දීමට හැකි බව පැහැදිලි ය. තවද, ''දියුණු'' රටවල ධනපතියන්, දැන් ඇත්ත වශයෙන් ම කරන්නේ ද එයයි. ඔවුහු එකිනෙකට වෙනස් දහසක් මාර්ග අනුව, ඍජු ලෙස හා වක්‍ර ලෙසත්, විවෘත හා ආවෘත ලෙසත් ඔවුනට අල්ලස් දෙති.

ඔවුන් ගේ ජීවන රටාවෙන් ද, ඔවුන් ගේ ඉපයීම් ප්‍රමාණයේ විශාලත්වයෙන් හා ඔවුන් ගේ මුළු අවබෝධයෙන් ද අමන ස්වභාවයක් දරන මෙම ධනපති බවට පරිවර්තනය වූ කම්කරු ස්ථරය, නැතහොත්, ශ්‍රමකරු රදළ පෙළැන්තිය, දෙවැනි ජාත්‍යන්තරයේ ප්‍රධාන මුක්කුව වෙති. එසේම, අපගේ කාලයේදී ඔවුහු ධනපති පංතියේ ප්‍රධාන සමාජ (යුද්ධමය නොවේ) මුක්කුව වෙති. එසේ කියන්නේ, ඔවුන් කම්කරු පංතිය තුළ සිටින ධනපතියන් ගේ ඒජන්තවරු, ධනපති පංතියේ ශ්‍රමකරු ලයිතන්ලා (labour lieutenants of the capitalist class) සහ ප්‍රතිසංස්කරණවාදයේ හා ජාතෝන්මාදවාදයේ නියම ප්‍රවාහකයන් වන හෙයිනි. නිර්ධන පංතිය හා ධනපති පංතිය අතර කෙරෙන සිවිල් යුද්ධයේදී ඔවුන් අනිවාරණීය ලෙසට හා සංඛ්‍යාවෙන් සුළු පටු නොවන ලෙසට, ධනපති පංතියේ පැත්ත ගනු ඇත; ඔවුන් ''කොමියුනාඩ්වරුන්ට'' විරුද්ධව ''වර්සයිල්ස් නුවරුන්''[30] පැත්ත ගනු ඇත.

මෙම ප්‍රපංචයෙහි ආර්ථික මූලයයන් වටහා නොගතහොත් හා එහි දේශපාලන හා සමාජ වැදගත්කම නිසි ලෙස අගය නොකළ හොත්, කොමියුනිස්ට් ව්‍යාපාරයේ හා ළඟ එන සමාජ විප්ලවයේ ප්‍රායෝගික ප්‍රශ්න විසඳීම කරා යොමු වුනු එකද පියවරක්වත් ගත හැකි නො වනු ඇත.

අධිරාජ්‍යවාදය යනු නිර්ධන පංතියේ සමාජ විප්ලවයේ පූර්වාසන්නය යි. මෙහි සත්‍යය 1917 න් පසු ලෝක ව්‍යාප්ත පරිමාණයෙන් සනාථ වී තිබේ.

1920 ජූලි 6

<u>එන්. ලෙනින්</u>

පසුගිය අවුරුදු පහළොව විස්ස ඇතුළත කාලයේ දී, විශේෂයෙන්ම (1898) ස්පාඤ්ඤ-ඇමෙරිකන් යුද්ධයෙන් පසුව සහ (1899—1902) ඉංග්‍රීසි-බුවර් යුද්ධයෙන් පසුව භූගෝලාර්ධයන් දෙකෙහිම ආර්ථික මෙන්ම දේශපාලන සාහිත්‍යයෙහි මෙම වර්තමාන යුගය විස්තර කිරීම සඳහා ''අධිරාජ්‍යවාදය'' යන වචනය වඩ වඩාත් නිරන්තර ලෙස යෙදුනේය. ඉංග්‍රීසි ජාතික ආර්ථික විද්‍යාඥයෙකු වන ජේ. ඒ. හොබ්සන් විසින් ලියන ලද ''අධිරාජ්‍යවාදය'' නැමති පොතක් 1902 දී ලන්ඩනයේ හා නිව්යෝක් හි පළ විය. හිටපු මාක්ස්වාදියෙකු වූ කාල් කෞට්ස්කි ගේ වර්තමාන දෘෂ්ටිය සමග සාරාර්ථ වශයෙන් එක සමාන වන, ධනපති සමාජ-ප්‍රතිසංස්කරණවාදී සහ සමාදානවාදී දෘෂ්ටියක් ඇති මෙම කතු වරයා, අධිරාජ්‍යවාදයේ ප්‍රධාන විශේෂ ආර්ථික හා දේශපාලන අංග ලක්ෂණ ගැන ඉතා හොඳ සහ සම්පූර්ණ විස්තරයක් ඉදිරිපත් කරයි. රුඩොල්ෆ් හිල්ෆර්දිං නැමති ඕස්ත්‍රියානු මාක්ස්වාදියා ගේ, ''මූල්‍ය ප්‍රාග්ධනය'' නම් පොත (රුසියානු පරිවර්තනය, මොස්කව්, 1912) 1910 දී පළ විය. කතුවරයා මුදල් පිළිබඳ න්‍යාය වරද්ද ගන්නා නමුත්, ඔහු මාක්ස්වාදය අවස්ථාවාදය සමග ගැලපීමට යම්කිසි නැඹුරුවීමක් දක්වන නමුත්, මෙම කෘතිය, එහි උප මාතෘකාවෙහි සඳහන් ''ධනපති සංවර්ධනයේ අළුත්ම අවධිය'' ගැන ඉතා අගනා න්‍යායික විශ්ලේෂණයක් සම්පාදනය කරයි. පසුගිය වසර කීපය තුළ අධිරාජ්‍යවාදය ගැන කියවුනු දේ, විශේෂයෙන්ම, සඟරා සහ පුවත්පත් ලිපි මහා රාශියකින් ද, එසේම නිදර්ශනයක් වශයෙන්, 1912 සරත් සමයේ දී පැවැත්වුනු හෙම්නිට්ස්[31] සහ බාසල් සම්මේලනවල යෝජනා වලින් ද, ඒ ගැන කියා ඇති දේ, ඇත්ත වශයෙන්ම ඉහත සඳහන් ලේඛකයන් දෙදෙනා විසින් විස්තර කර දක්වන ලද, වඩාත් නිවැරදි

ලෙසට කියතොත්, සම්පිණ්ඩනය කර දක්වන ලද, අදහස්වලට වඩා ඔබ්බට ගොස් නැති තරම් ය...

අධිරාජ්‍යවාදයේ ප්‍රධාන ආර්ථික අංගලක්ෂණ අතර පවතින ඒකාබද්ධතාවය හා සම්බන්ධකම් ගැන සංක්ෂේපයෙන් හා හැකි තරම් සරල ලෙස, ඉදිරියේ දී පෙන්වා දීමට බලාපොරොත්තු වෙමි. ප්‍රශ්නයේ ආර්ථික නොවන අංගයන් ගැන විමසීම කොතරම් සුදුසු වුවත්, ඒවා ගැන කරුණු සඳහන් කිරීමට මට නොහැකි වනු ඇත. සමහර විට පාඨකයාගේ උනන්දුවට හේතු නොවිය හැකි පොත් පත් ගැන සඳහන් කිරීම හා වෙනත් වහන් මෙම පොත අවසානයේ දක්වා ඇත.[32]

## නිෂ්පාදනය සංකේන්ද්‍රණය වීම සහ ඒකාධිකාර

කර්මාන්තයේ දැවැන්ත සංවර්ධනය සහ නිෂ්පාදනය තව තවත් විශාල ව්‍යවසායයන් තුළ විශ්මයාකාර තරම් සීඝ්‍රතාවයකින් සංකේන්ද්‍රණය වීම, ධනපති ක්‍රමයට ආවේණික ඉතාමත් ස්වභාව නිරූපී අංග ලක්ෂණ වලින් එකකි. මෙම ක්‍රියාදමය පිළිබඳ ඉතාමත් සම්පූර්ණ හා ඉතාමත් නිවැරදි සංඛ්‍යා ලේඛණ නවීන නිෂ්පාදන සංගණන මගින් සැපයේ.

නිදසුනක් වශයෙන්, ජර්මනියේ සෑම කාර්මික ව්‍යවසායයන් 1000 කින් ම, ලොකු, නැතහොත්, කම්කරුවන් 50 ට වැඩි ගණනක් සේවයෙහි යොදන ව්‍යවසායයන් සංඛ්‍යාව 1882 දී තුනක් ද, 1895 දී හයක් ද, 1907 දී නවයක් ද විය. එසේම, සේවයෙහි යොදන ලද සෑම කම්කරුවන් 100 දෙනෙකුගෙන්ම, පිළිවෙලින් 22, 30 හා 37 ක් මෙම කණ්ඩායමේ ව්‍යවසායයන්හි විය. නමුත් විශාල ව්‍යවසායයන්හි ශ්‍රමයේ නිෂ්පාදකත්වය බෙහෙවින් වැඩි නිසා නිෂ්පාදනයේ සංකේන්ද්‍රණය ශ්‍රම කරුවන්ගේ සංකේන්ද්‍රණයට වඩා ප්‍රකර්ෂවත්ය. වාෂ්ප ඇන්ජින් සහ විදුලි මෝටර් පිළිබඳ සංඛ්‍යා අනුව එය පැහැදිලි වේ. ජර්මනියෙහි ''කර්මාන්ත'' යනුවෙන් හැඳින්වෙන දෙය, එහි පුළුල් අර්ථයෙන්, එනම්, වාණිජය, ප්‍රවාහණය ආදිය ද ඇතුළත්ව ගන්නෙමු නම්,අපට ලැබෙන චිත්‍රය පහත සඳහන් පරිදි ය. 32, 65, 623 ක් වන ව්‍යවසායයන් මුළු ගණනින්, 30, 588 ක් එනම් සියයට 0.9 ක් මහා පරිමාණ කර්මාන්ත වේ. 1,44,00,000 ක කම්කරුවන් මුළු සංඛ්‍යාවෙන්, 57,00,000 ක්, එනම්, සියයට 39.4 ක් මෙම ව්‍යවසායයන් හී සේවයෙහි යොද ඇත. 88,00,000 ක් වන මුළු වාෂ්ප අශ්ව බල ප්‍රමාණයෙන් 66,00,000 ක්, නැතහොත්, සියයට 75.3 ක් ද, මුළු විදුලිබලය කිලෝවොට් 15,00,000 ක ප්‍රමාණයකින්, 12,00,000 ක්, නැතහොත්, සියයට 77.2 ක් ද, මෙම ව්‍යවසායයන් විසින් ප්‍රයෝජනයට ගනු ලැබේ.



මුළු ව්‍යවසායයන් සංඛ්‍යාවෙන් සියයට එකකටත් වඩා අඩු කොටසක්, වාෂ්ප බල හා විදුලි බල මුළු ප්‍රමාණයෙන් හතරෙන් තුන් පංගුවකට වඩා උපයෝගි කර ගනිති! මුළු සංඛ්‍යාවෙන් සියයට 91 ක් වන විසිනව ලක්ෂ හැත්තෑ දහසක් කුඩා (කම්කරුවන් පස් දෙනෙක් දක්වා සේවයෙහි යොදන) ව්‍යවසායයන් උපයෝගි කරගන්නේ වාෂ්ප බල හා විදුලි බල මුළු ප්‍රමාණයෙන් සියයට 7 ක් පමණකි! හැම අතින්ම බලවත් වන්නේ දශ දහස් ගණන් වන විශාල ව්‍යවසායයන් ය. දශ ලක්ෂ ගණන් කුඩා ව්‍යවසායයන් ගණනකට නො ගැනේ.

කම්කරුවන් දහසක් හෝ ඊට වැඩි සංඛ්‍යාවක් සේවයෙහි යොදන ආයතන 586 ක් 1907 දී ජර්මනියේ තිබිණ. කර්මාන්තවල වැඩ කළ මුළු කම්කරු සංඛ්‍යාවෙන් දහයෙන් කොටසක් පමණ (13,80,000) ඒවා තුළ සේවය කළ අතර, එම ආයතන, මුළු වාෂ්ප හා විදුලි බල ප්‍රමාණයෙන් තුනෙන් එකක් පමණ (සියයට 32 ක්) පාරිභෝජනය කරති.* විශාලතම ව්‍යවසායයන් අතලොස්ස සතුව ඇති මෙම උසස්තම මූල්‍ය ප්‍රාග්ධනය හා බැංකු විසින්, වචනයේ සම්පූර්ණ පදගත අර්ථයෙන්ම, වඩාත් බලවත් අධිපතිත්වයක් බවට පත් කරනු ලබන බව, එනම්, දශ ලක්ෂ සංඛ්‍යාත කුඩා හා මධ්‍යම ප්‍රමාණ''දේපල හිමියන්'', සමහර ලොකු ''දේපල හිමියන්'' පවා කෝටිපති මූල්‍ය සම්පාදකයන් සිය ගණනකට, ඇත්ත වශයෙන්ම, සම්පූර්ණයෙන්ම, යටත් වී සිටින බව අපට දක්ක හැකිය.

නවීන ධනපති ක්‍රමයේ තවත් දියුණු රටක, එනම්, ඇමෙරිකා එක්සත් ජනපදයේ, නිෂ්පාදනය සංකේන්ද්‍රණය වීමේ සංවර්ධනය ඊටත් වැඩිය. මෙහි සංඛ්‍යා ලේඛන කර්මාන්ත තෝරා වෙන් කරන්නේ, වචනයේ පටු අර්ථයෙනි. ඒ අනුව ව්‍යවසායයන් වර්ග කර තිබෙන්නේ ඒවායේ වාර්ෂික නිමැවුමේ වටිනාකම අනුවය. 1904 දී, ඩොලර් දශ ලක්ෂයක හා ඊට වැඩි වටිනාකමක් ඇති නිමැවුමක් සහිත මහා පරිමාණ ව්‍යවසායයන් සංඛ්‍යාව 1,900 ක් විය. (එය 2,16,180 ක මුළු සංඛ්‍යාවකින් සියයට 0.9 කි). ඒවායේ සේවයෙහි යොදන ලද කම්කරු සංඛ්‍යාව 14,00,000 කි. (එය 55,00,000 ක මුළු සංඛ්‍යාවෙන් සියයට 25.6 කි). ඒ අතර ඒවායේ නිමැවුමෙහි වටිනාකම ඩොලර් 560 කෝටියක් විය. (ඩොලර් 1480 කෝටියක මුළු නිමැවුමෙන් සියයට 38 කි). පස් වසරකට පසු, 1909 දී, මීට අනුරූප සංඛ්‍යා මෙසේය: ව්‍යවසායයන් ගණන 3060 කි. (2,68,491 කින් සියයට 1.1 කි). සේවයෙහි යෙදූ කම්කරුවන් 20,00,000 කි. (66,00,000 කින් සියයට 30,5 කි).

---

* Annalen des deutschen Reichs, 1911, Zahn (ජර්මන් රාජ්‍ය වාර්ෂිකයෙන් ගත් සංඛ්‍යා සම්පිංඩනයකි. — සංසකාරක).

නිමැවුමෙහි වටිනාකම ඩොලර් 900 කෝටියකි. (ඩොලර් 2070 කෝටියකින් සියයට 43.8 කි).*

රටේ ව්‍යවසායයන් සියල්ලෙහිම මුළු නිෂ්පාදනයෙන් හරි අඩකටම ආසන්න ප්‍රමානයක් නිම කරනු ලැබුවේ ව්‍යවසායයන් ගෙන් සියයෙන් එකක කොටසක් විසිනි! මෙම යෝධ ව්‍යවසායයන් 3000 හි ග්‍රහණයට කර්මාන්ත අංශ 258 ක් හසුව ඇත. යෝධ ව්‍යවසායයන් විස්සක්, විසිපහක් වැනි සංඛ්‍යාවකට පහසුවෙන්ම එකඟතාවයකට පැමිණිය හැකි නිසා, සංකේන්ද්‍රණයේ සංවර්ධනය එහි එක් අවධියකදී එක එල්ලේම මෙන් මාර්ගය සකස් කරන්නේ, ඒකාධිකාරය වෙතට බවද, අනිත් අතට, තරඟයට බාධකය, එනම් ඒකාධිකාරය වෙතට නැඹුරුවීම උද්ගත වන්නේ ව්‍යවසායයන් අතිශයින් විශාල වීම නිසා බවද, මෙයින් වටහා ගත හැක. මෙසේ තරඟය ඒකාධිකාරය බවට පරිවර්තනය වීම, නවීන ධනපති ආර්ථිකයේ ඉතාමත් වැදගත් ප්‍රපංචය නොවේ නම්, එහි ඉතාමත් වැදගත් ප්‍රපංච අතුරෙන් එකකි. එනිසා, අපි ඒ ගැන වඩාත් විස්තර සහිතව සලකා බැලිය යුත්තෙමු. ඊට පෙර වැරදි වැටහීමකට හේතු විය හැකි කරුණක් පැහැදිලි කළ යුත්තෙමු.

ඇමෙරිකානු සංඛ්‍යා ලේඛන වල සඳහන් පරිදි කර්මාන්ත අංශ 250 ක යෝධ ව්‍යවසායයන් 3000 ක් ක්‍රියාත්මක වන බව කියන විට, එක් එක් අංශයක ක්‍රියාත්මක වන්නේ විශාලම පරිමාණයේ ව්‍යවසායයන් දුසිමක් පමණ ගණනකැයි අදහස් වන්නට පිළිවන.

නමුත් එය එසේ නොවේ. විශාල පරිමාණ ව්‍යවසායයන් සෑම කර්මාන්ත අංශයකම ඇත්තේ නොවේ. තවද, ඊට අමතරව, ධනපති ක්‍රමයේ සංවර්ධනයේ ඉහළම අවධියේදී එහි ඉතාමත් වැදගත් අංග ලක්ෂණයක් වන්නේ, ඊනියා නිෂ්පාදනයේ සංයෝජනය යි. එයින් අදහස් කෙරෙන්නේ, අමු ද්‍රව්‍ය සකස්කිරීමේ (නිදසුන් වශයෙන් යපස් උණු කොට අමු යකඩ තැනීම, අමු යකඩ වානේ බවට පරිවර්තනය කිරීම, නැවත, සමහර විට වානේ භාණ්ඩ නිමැවුම) අනුක්‍රමික අවස්ථා නියෝජනය කරන හෝ එකිනෙකට සහායක වන (නිදසුන් ලෙසට, ඉවත ලන ද්‍රව්‍ය උපයෝජනය හෝ අතුරු නිෂ්පාදිතයන් ප්‍රයෝජනයට ගැනීම, ඇසුරුම් ද්‍රව්‍ය නිෂ්පාදන ආදිය) හෝ විවිධ කර්මාන්ත අංශ එකම ව්‍යවසායයක් තුළ කණ්ඩායම් ගත කිරීමය.

හිල්fපර්දිං මෙසේ ලියයි: ''සංයෝජනය වෙළෙඳමෙහි උච්චාවචනයන් තුනී කරයි. එනිසා සංයෝජනය වූ ව්‍යවසායයන්ට වඩාත් ස්ථාවර ලාභ

* Statistical Abtsract of the United States 1912, p. 202 (එක්සත් ජනපදයේ සංඛ්‍යා ලේඛණ සටහන 1912, පිටුව 202. — සංස්කාරක).



අනුපාතියක් ලැබීම එයින් සහතික කෙරේ. දෙවැනිව සංයෝජනය නිසා වෙළඳාම තුරන් කිරීම හා සමාන ප්‍රතිඵලයක් ඇති වේ. තුන්වැනිව, තාක්ෂණික වැඩි දියුණු කිරීම් ක්‍රියාත්මක කිරීමේ හැකියාව එයින් ඇති වේ. එහි ප්‍රතිඵලයක් වශයෙන්, ''පිරිසිදු'' (සංයෝජනය නොවූ) ව්‍යවසායයන් ලබනවාට වඩා අමතර හා ඊට වැඩි සුපිරි ලාභ ලැබීමේ හැකියාව උද්ගත වේ. හතරවැනිව ''පිරසිදු'' ව්‍යවසායයන්ට සාපේක්ෂ සේ සංයෝජනය වූ ව්‍යවසායයන් ගේ තත්වය එයින් ශක්තිමත් වේ. බරපතල පරිහානි කාලවලදී, නිමවූ භාණ්ඩවල මිළ පහත වැටෙන තරම් වේගයෙන් අමුද්‍රව්‍යවල මිළ පහත නොවැටෙන කල, ඇතිවන තරඟකාරී අරගලයේදී ඒවායේ තත්වය එසේ ශක්තිමත් වේ''.*

ජර්මන් යකඩ කර්මාන්තයේ ''මිශ්‍ර'' ව්‍යවසායයන් එනම් සංයෝජනය වූ ව්‍යවසායයන් ගැන විශේෂ පොතක් ලියා ඇති ජර්මන් ධනපති ආර්ථික විද්‍යාඥයෙකු වන හෙයිමාන් මෙසේ කියයි: ''පිරිසිදු ව්‍යවසායයන් විනාශවී යන්නේ ය. ඒවා අමු ද්‍රව්‍යවල ඉහළ මිළත්, නිමි භාණ්ඩවල අඩු මිලත් අතර මිරිකී යන්නේ ය.'' ඒ අනුව අපට පෙනෙන චිත්‍රය මෙයයි.

''එක් අතකින්, වාර්ෂිකව ගල් අඟුරු ටොන් දශ ලක්ෂ ගණන් නිපදවන විශාල ගල් අඟුරු සමාගම්, ඒවායේ ගල් අඟුරු සම්මේලය තුළ බලවත් සේ සංවිධානය වී තිබේ. අනිත් අතට, ගල් අඟුරු ආකර සමග සමීප ලෙස සම්බන්ධ වී තිබෙන විශා ලවානේ කර්මාන්ත ශාලා, ඒවායේම වානේ සම්මේලය සහිතව සිටී. මෙම යෝධ ව්‍යවසායයෝ වාර්ෂිකව වානේ ටොන් 4,00,000 ක් නිපදවති; සමාගම් සතු ලැගුම් ගෙවල නවත්වා ගෙන සිටින 10,000 ක් කම්කරුවන් සේවයෙහි යොදවන එම සමාගම්, දැවැන්ත ප්‍රමාණයෙන් යපස් සහ ගල් අඟුරු නිපදවති. සමහරවිට එම සමාගම් සතු, ඒවායේම දුම්රිය මාර්ග සහ සේවාද, වරායයන් ද, ඇත. මෙම සමාගම්, ජර්මන් යකඩ සහ වානේ කර්මාන්තයේ නියම නියෝජිතයෝ වෙති. එතෙකින් නො නවතින සංකේන්ද්‍රණය තවත් දුරට යන්නේය. තනි තනිව පවතින ව්‍යවසායයන් ද එන්න එන්නම විශාල වේ. එක කර්මාන්තයක් තුළ හෝ, විවිධ කර්මාන්ත ගණනාවක් තුළ හෝ, යෝධ ව්‍යවසායයන් සෑදෙන සේ ඒකාබද්ධ වන ව්‍යවසායයන් සංඛ්‍යාව, එන්න එන්නම වැඩි වන අතර, දුසිම් භාගයක් පමණ මහා බර්ලින් බැංකු, එම ඒකාබද්ධ ව්‍යාපාරවලට ආධාර දෙති, ඒවා මෙහෙයවති. ජර්මන් ආකර කර්මාන්තය සම්බන්ධයෙන් වූ කල, කර්මාන්ත සංකේන්ද්‍රණය පිළිබඳව මාක්ස් උගැන්වූ කරුණුවල සත්‍යතාවය නිශ්චිත වශයෙන්ම ඔප්පු වී තිබේ. මෙය අදාළ වී තබෙන්නේ තීරු බදු හා ප්‍රවාහණ ගාස්තු

* ''මූල්‍ය ප්‍රාග්ධනය'', රුසියානු මුද්‍රණය, පිටු 286—287.

මගින් ආරක්ෂිත කර්මාන්තයක් ඇති රටකට බව සත්‍යය. ජර්මන් ආකර කර්මාන්තය අසන්තක කිරීමට සුදුසු තත්වයට පැමිණ තිබේ''.*

දුර්ලභ ස්වභාවයේ අවංක ධනපති ආර්ථික විද්‍යාඥයෙකුට බැස ගැනීමට සිදු වූ නිගමනය එබඳු ය. ඔහු ජර්මනිය විශේෂ ප්‍රවර්ගයක ලා සැලකීමට යොමු වන බවක් පෙනේ. ඔහු එසේ කරන්නේ එම රටෙහි කර්මාන්ත තීරු බදුවලින් ආරක්ෂා කර තිබෙන හෙයිනි. නමුත් එම කාරණය නිසා සිදුවන්නේ සංකේන්ද්‍රණයේ ද, ඒකාධිකාරී නිෂ්පාදකයින් ගේ හවුල් සමාගම්, කාටෙල, සම්මේල ආදිය ඇතිවීමේ ද, වේගය වැඩි වීම පමණකි. නිදහස් වෙළඳම ඇති බ්‍රිතාන්‍යයෙහි සිදුවන සංකේන්ද්‍රණය ද තරමක් ප්‍රමාදව හා සමහර විට වෙනත් ආකාරයකින්, ඒකාධිකාරය ඇති වීම කරා ගමන් කරන්නක් බව සටහන් කර ගැනීම ඉතා වැදගත් ය. බ්‍රිතාන්‍යයේ ආර්ථික සංවර්ධනය පිළිබඳ දත්තයන් පදනම් කරගනිමින්, මහාචාර්ය හර්මන් ලෙවි ලියූ ''ඒකාධිකාර, කාටෙල සහ සංගත ව්‍යාපාර'' නම් කෘතියෙහි ඔහු මෙසේ සඳහන් කර ඇත:

''මහා බ්‍රිතාන්‍යයේ ඒකාධිකාරී ප්‍රවණතාවයක් දරා සිටින්නේ ව්‍යවසායයෙහි විශාලත්වය හා එහි උසස් තාක්ෂණික මට්ටමය. මෙයට එක් හේතුවක් නම්, සංකේන්ද්‍රණය මගින් එක් එක් ව්‍යවසායයන් සඳහා විශාල වශයෙන් ප්‍රාග්ධනය ආයෝජනය කර තිබීමය. ඒ හේතුකොට ගෙන නව ව්‍යවසායයන් සඳහා ප්‍රාග්ධන ඉල්ලුම වැඩි වීමෙන් ඒවා ආරම්භ කිරීම වඩාත් දුෂ්කර වේ. එපමණක් නොව, (එසේම, මෙය වඩාත් වැදගත් කරුණ බවද පෙනේ), සංකේන්ද්‍රණය මගින් සකස් වී ඇති යෝධ ව්‍යාපාර සමග සමාන වේගයෙන් පියවර තබා යාමට අපේක්ෂා කරන සෑම නව ව්‍යවසායයක් ම, මෙහිදී අති දැවැන්ත අතිරික්ත භාණ්ඩ ප්‍රමාණයක් නිපදවනු ඇති හෙයින්, එම භාණ්ඩ ලාභ සහිතව විකිණීමේ හැකියාව ඒවාට ලැබෙනු ඇත්තේ ද, ඉල්ලුමෙහි අති දැවැන්ත වර්ධනයක් ඇති වුවහොත් පමණක්. නො එසේ නම්, එම අතිරික්තයෙන් සිදුවනු ඇත්තේ, නව ව්‍යවසායට මෙන්ම, ඒකාධිකාරී සංයෝජිත ව්‍යාපාරවලටද, අලාභ සහිත වන ලෙසට මිළ පහත හෙළීම පමණකි''. කාටෙල ව්‍යාපාර පිහිටුවීම සඳහා ආරක්ෂක තීරු බදු මගින් ආධාර සැපයෙන රටවලට වඩා, බ්‍රිතාන්‍යය වෙනස් වන අතර, එහි ඒකාධිකාරී නිෂ්පාදකයන් ගේ හවුල් සමාගම්, කාටෙල හා සංගත

* Hans Gideon Heymann. "Die gemischten Werke im deutschen Großeisengewerbe". Stuttgart, 1904 (SS. 256, 278-279) (හාන්ස් ජිදියොන් හෙයිමාන්. ''ජර්මන් මහා පරිමාන දුම්රිය කර්මාන්තයේ මිශ්‍ර ව්‍යවසායයන්''. ෂ්ටුට්ගාර්ට්, 1904 (පිටු 256, 278-279). — සංස්කාරක)



ව්‍යාපාර ඇති වන්නේ, තරඟකාරී ප්‍රධාන ව්‍යවසායයන් ගේ සංඛ්‍යාව ''දුසිම් දෙකක් පමණ'' ගණනක් දක්වා අඩුවූ පසුය. ''මුළු කර්මාන්ත ක්ෂේත්‍රයෙහිම මහා පරිමාණ කාර්මික ඒකාධිකාර ඇති වීම කෙරෙහි සංකේන්ද්‍රණය පාන බලය මෙහි දී සක්සුදක් සේ පැහැදිලි වේ''.*

මීට අර්ධ ශතවර්ෂයකට පෙර, මාක්ස්''ප්‍රාග්ධනය''කෘතිය ලියමින් සිටි කාලයේ දී, ආර්ථික විද්‍යාඥයන් අතිබහුතරයට නිදහස් තරඟය පෙනී ගියේ ''ස්වාභාවික නීතියක්'' ලෙසට ය. නිදහස් තරඟය සංකේන්ද්‍රණයක් උද්ගත කරන බවත්, අනතුරුව එම සංකේන්ද්‍රණය විසින් කිසියම් සංවර්ධන අවධියකදී ඒකාධිකාරයට මාර්ගය සලස්වනු ලබන බවත්, ධනපති ක්‍රමය පිළිබඳ න්‍යායික හා ඓතිහාසික විශ්ලේෂණයක් මගින් ඔප්පු කළ මාක්ස් ගේ කෘතීන්, නිහැඬියා කුමන්ත්‍රණයකින් මරා දැමීමට නිල විද්‍යාව උත්සාහ කළේය. අද ඒකාධිකාරය ප්‍රත්‍යක්ෂ සත්‍යයක් වී තිබේ. කඳු ගණන් පොත් ලියන ආර්ථික විද්‍යාඥයෝ, ඒකාධිකාරයේ විවිධ ලක්ෂණ එහි විස්තර කරමින් ''මාක්ස්වාදය නිෂ්ප්‍රභා කෙළෙමු'' යි එක හඬින් ප්‍රකාශ කරති. නමුත් ඉංග්‍රිසි ප්‍රස්ථාව පිරුළකින් කියවෙන පරිදි සත්‍ය කරුණු ඉතා දැඩි ය. අප කැමති වුනත් නැතත්, ඒවා සැලකිල්ලට ගත යුතු වේ. ධනපති රටවල් අතර ඇති වෙනස් කම් වලින්, එනම්, ආරක්ෂණය හෝ නිදහස් වෙළඳාම හෝ සම්බන්ධකරණයේ දී ඇති වෙනස් කම් වලින් උද්ගත වන්නේ, ඒකාධිකාරවල ආකෘතියෙහි හෝ ඒකාධිකාර මතුවන අවස්ථාව හෝ පිළිබඳ සුළු අමුතුකම් පමණක් බවත්, නිෂ්පාදනයේ සංකේන්ද්‍රණයෙහි ප්‍රතිඵලයක් වශයෙන් ඒකාධිකාර උද්ගතවීම ධනපති ක්‍රමයේ සංවර්ධනයේ වර්තමාන අවධියෙහි පොදු හා මූලික නියාමයක් බවත්, සත්‍ය කරුණු වලින් පෙන්නුම් කෙරේ.

යුරෝපය හා සම්බන්ධ වූ කල, පැරණි ධනපති ක්‍රමය අභිබවා නව ධනපති ක්‍රමය නිශ්චිත වශයෙන්ම ඉස්මතු වූ කාලය තරමක් දුරට නියත වශයෙන් නිගමනය කළ හැකිය. එය සිදු වූයේ විසි වැනි ශත වර්ෂයේ ආරම්භයේ දී ය. ''ඒකාධිකාර පිහිටුවීමේ'' ඉතිහාසය ගැන සැකසුනු නවතම පොතක මෙසේ සඳහන්ව ඇත:

''ධනපති ඒකාධිකාරය පිළිබඳ හුදකලා නිදර්ශනයන් 1860 ට ප්‍රථම කාලපරිච්ඡේදයෙන් ගෙන හැර පෑ හැක. අද මෙතරම් පොදුවේ දක්නට ලැබෙන ආකෘති වල කලල ස්වරූපය එම ඒකාධිකාර තුළ පෙනෙන්නට තිබුණි. නමුත් මේ සියල්ලම, නිසැකවම, කාටෙලවල ඉතිහාසය නියෝජ

* Hermann Levy. "Monopole, Kartelle und Trusts". Jena, 1909, SS. 286, 290, 298 (හෙර්මන් ලෙවි. ''ඒකාධිකාර, කාටෙල හා සංගත ව්‍යාපාර''. යැනා, 1909, පිටු 286, 290, 298. — සංස්කාරක).

නය කරයි. නවීන ඒකාධිකාරයේ නියම ආරම්භයට අදාළ මුල්ම කාලය හැට ගණන්ය. ඒකාධිකාරයේ සංවර්ධනයෙහි ප්‍රථම වැදගත් කාල පරිච්ඡේදය හැත්තෑ ගණන්වල ජාත්‍යන්තර කාර්මික අවපාතය සමග ආරම්භ වී අනූ ගණන්වල ආරම්භය දක්වා පැවතුනි''. ''යුරෝපා පරිමාණයකින් අපි මෙම ප්‍රශ්නය ගැන විමර්ශනය කරන්නෙමු නම්, හැට ගණන්වලදී හා හැත්තෑ ගණන්වලදී නිදහස් තරඟය එහි උච්චස්ථානයට පත් වූ බව අපට පෙනෙනු ඇත. බ්‍රිතාන්‍යය ඈගේ පැරණි වර්ගයේ ධනපති සංවිධානය ගොඩනගා සම්පූර්ණ කළේ ඒ සමයේ දී ය. ජර්මනියේ මෙම සංවිධානය හස්ත කාර්මික හා ගෘහ කාර්මික කර්මාන්තය සමග දරුණු අරගලයකට එළඹුණු අතර එය තමන්ටම විශේෂවූ පැවැත්මේ ආකෘතිය නිර්මාණය කිරීමට පටන් ගත්තේය''.

''1873 වර්ෂයේ බිඳ වැටීමත්, වඩාත් නිවැරදිව කියතොත්, ඒ අනුව ඇතිවූ අවපාතයත් සමග විප්ලවය ආරම්භ විය. අසූ ගණන්වල මුල් කාලයේ ඇති වූ, හඳුනාගත නො හැකි තරමට නොවැදගත් කඩවීම් හා 1889 පමණ කාලයේදී ඇතිවූ මන්දයුෂ්ක, එහෙත්, අසාමාන්‍ය තරම් වේගවත් උත්පාතය ද සහිත වූ මෙම අවපාතය අවුරුදු විසි දෙකක යුරෝපීය ආර්ථික ඉතිහාසයේ ලක්ෂණයක් විය''. ''1889—1890 කාලයේ වාසිදයක ව්‍යාපාරික තත්වයන්ගෙන් ප්‍රයෝජන ගැනීම සඳහා කාටල ක්‍රමය පුළුල් ලෙස යොදගන්නා ලදී. කාටල නොතිබුණි නම් මිළ ඉහළ යාමට ඉඩ තිබුණට වැඩියෙන්, මිළ තව තවත් වේගවත් ලෙස තව තවත් ඉහළ නැංවීමේ අනුවණ ප්‍රතිපත්තියක් අනුගමනය කරන ලද හෙයින්, මෙම කාටල සියල්ලම පාහේ බලවත් ලෙස පහර වැදී ඒවා සුණු විසුණු වී අපකීර්තිමත් ලෙස විනාශ විය. ඉන් පසුව පස් වසරක් යනතෙක් අසාර්ථක වෙළඳාම හා අඩු මිළ බල පැවැත්තේ ය. නමුත්, කර්මාන්තය තුළ යළිත් නව ජීවයක් ඇති විය. අවපාතය සාමාන්‍යයෙන් සිදුවිය යුතු දෙයක් සේ තවදුරටත් නොසිතා, එය තවත් උත්පාතයකට පෙර ඇතිවන විවේකයකට නො වැඩි දෙයක් සේ සලකන ලදී. •

''කාටල ව්‍යාපාරය එහි දෙවැනි යුගයට පා තැබීය. කාටල තාවකාලික ප්‍රපංචයක් වනු වෙනුවට, එය ආර්ථික ජීවිතයේ අඩිතාලම් වලින් එකක් බවට පත් විය. ඒවා කර්මාන්ත ක්ෂේත්‍ර එකක්, එකක් පාසා ජයගනිමින් සිටිති. මූලික වශයෙන් අමුද්‍රව්‍ය කර්මාන්තයේ එය සිදුවන්නේ ය. අනූ ගණන් ආරම්භය වන විට කාටල ක්‍රමය, කාටල් ශිල්පයක් සකස් කරගෙන තිබුණු අතර, එහි වැඩි දියුණුවක් සිදු වී නොමැති තරම් ය. එම කාටල ශිල්පය නියෝජනය වූයේ එකල පැවති කෝක් සම්මේලයේ සංවිධානයෙනි. පසුව ගල් අඟුරු සම්මේලය පිහිටුවන ලද්දේ එම ආදර්ශය අනුව ය. දහනවවැනි ශතවර්ෂයාවසානයේ ඇති වූ මහා උත්පාතයත්, යටත් පිරිසෙයින් ආකර හා යකඩ කර්මාන්තයේ වූව 1900—1903 කාලයේ ඇති වූ අර්බුදයත්, ප්‍රථම වතාවට, සම්පූර්ණයෙන්ම කාටලවල සෙවණ යටතේ ඇති වූවක් විය. එසේම, ඒ කාලයේ දී, එය කිසියම් නවතාවයක් සේ පෙනුණු අතර, දැන් සාමාන්‍ය දෙයක් ලෙසටම, ආර්ථික ජීවිතයේ විශාල ක්ෂේත්‍රයන් නිදහස් තරඟයේ පොර පිටියෙන් ඉවත් කර තිබෙන බව සාමාන්‍ය මහ ජනයා විසින් පිළිගනු ලැබේ''.*

ඒ අනුව බලන කල, ඒකාධිකාරවල ඉතිහාසයේ ප්‍රධාන අවධි මෙසේය: 1) 1860—1870, නිදහස් තරඟයේ සංවර්ධනයෙහි ඉහළම අවධිය, එහි උච්ච අවස්ථාව, ඒකාධිකාරය යම්තමින් හඳුනාගත හැකි තරම් අපැහැදිලි කලල අවස්ථාවෙහි විය. 2) 1873 අර්බුදයෙන් පසුව කාටල සංවර්ධනයේ දීර්ඝ කාල පරිච්ඡේදයකි. නමුත්, ඒවා තවමත් විශේෂතාවයක් පමණකි. තවමත් ඒවා කල්පවත්නා ස්වභාවයට පත්ව නැත; ඒවා තවමත් තාවකාලික ප්‍රපංචයකි.3) දහනවවැනි ශතවර්ෂාවසානයේ උත්පාතය සහ 1900—1903 අර්බුදය. කාටල සමස්ත ආර්ථික ජීවිතයේම එක් අඩිතාලමක් බවට පත් වේ. ධනපති ක්‍රමය අධිරාජ්‍යවාදය බවට පරිවර්තනය වී ඇත.

විකුණුම් කොන්දේසි ගැන ද, ගෙවීම් කරන දින වකවානු යනාදිය ගැන ද, කාටල එකඟත්වයකට එළඹෙති. ඔවුහු ඔවුනොවුන් අතර වෙළඳ පොලවල් බෙද ගනිති. ඔවුහු නිෂ්පාදනය කරන භාණ්ඩ ප්‍රමාණය නියම කර ගනිති. ඔවුහු මිළද නියම කරති. ඔවුහු විවිධ ව්‍යවසායයන් අතර ලාභ බෙද හැරීම යනාදිය කරති.

ජර්මනියේ කාටල සංඛ්‍යාව 1896 දී 250 ක් වූ බවද, 1905 දී 385 ක් වූ බවද, ඒවාට සහභාගි වූ සමාගම් සංඛ්‍යාව 12,000 ක් බවද ගණන් බලා ඇත.** නමුත් මෙම සංඛ්‍යාවලින් පිළිබිඹු වන්නේ අවතක්සේරු කිරීම්

---

* Th. Vogelstein. "Die finanzielle Organisation der kapitalistischen Industrie und die Monopolbildungen" in "Grundriß der Sozialökonomik". VI Abt., Tübingen, 1914 (ටී. ෆ්පොගෙල්ෂ්ටයින්. ''ධනමාදී කර්මාන්තයේ මූල්‍ය සංවිධානය සහ ඒකාධිකාරවල ආරම්භය'' ''සමාජ ආර්ථිකයේ පදනම'' යන පොතේ. VI වැනි කොටස, ටියුබින්ගෙන්, 1914. — සංස්කාරක). එම කතුවරයාගේම: "Organisationsformen der Eisenindustrie und Textilindustrie in England und Amerika". Bd.1,Lpz.,1910(''බ්‍රිතාන්‍යයේ හා ඇමෙරිකාවේ පේශකර්මාන්තය හා දුම්රිය කොටස් නිපදවීම සංවිධානය කිරීමේ ක්‍රම''. වෙළුම I, ලයිප්සිග්, 1910. — සංස්කාරක).

** Dr. Riesser. "Die deutschen Großbanken und ihre Konzentration im Zusammenbange mit der Entwicklung der Gesamtwirtschaft in Deutschland". 4. Aufl., 1912, S. 149.—R. R. Liefmann. "Kartelle und Trusts und die Weiterbildung der volkswirtschaftlichen Organisation". 2. Aufl., 1910, S. 25 (ආචාර්ය රිසර්. ''ජර්මනියේ ආර්ථිකය පොදු

බව සමාන්‍ය පිළිගැනීමය. අප ඉහත උපුටා දක්වූ ජර්මන් කර්මාන්තයේ 1907 සංඛ්‍යා ලේඛන අනුව, මෙම ඉතා විශාල ව්‍යවසායයන් 12,000 වුවද සමහර විට රටේ පරිභෝජනය කෙරෙන වාෂ්ප හා විදුලි බල ශක්තියෙන් අඩකට වැඩිය ප්‍රයෝජනයට ගන්නා බව පෙනේ. ඇමෙරිකා එක්සත් ජනපදයේ සංගත ව්‍යාපාර සංඛ්‍යාව 1905 දී 185 ක් වූ බවද, 1907 දී 250 ක් වූ බවද ගණන් බලා ඇත. ඇමෙරිකානු සංඛ්‍යා ලේඛන අනුව, කර්මාන්ත වර්ග කිරීම කර ඇත්තේ තනි පුද්ගලයනට හිමි, පුද්ගලික සමාගම් හිමි හා සමායතන හිමි යනුවෙනි. රටෙහි වූ මුළු කාර්මික ව්‍යවසායයන් ගණ-නින් 1904 දී සියයට 23.6 ක් ද, 1909 දී 25.9 ක් එනම් හතරෙන් පංගුවකට වැඩි කොටසක් ද, සමායතන හිමි ව්‍යවසායය විය. මේවායේ සේවයෙහි යොදවා සිටි වේතන සේවකයන් සංඛ්‍යාව, රටේ සිටි එම මුළු සංඛ්‍යාවෙන් 1904 දී සියයට 70.6 ක් ද, 1909 දී 75.6 ක්, එනම් හතරෙන් තුනට වැඩි කොටසක් ද විය. ඒවායේ නිෂ්පාදනය මෙම දෙවර්ෂයේදී, පිළිවෙළින් ඩොලර් 1090,00,00,000 ක් හා 1630,00,00,000 ක්, එනම් රටේ මුළු නිෂ්පාදනයෙන්, සියයට 73.7 ක් හා සියයට 79.0 ක් විය.

කාටල් සහ සංගත ව්‍යාපාර, සමහර විට, කිසියම් කර්මාන්ත අංශයක මුළු නිෂ්පාදනයෙන් දහයෙන් හත් පංගුවක් හෝ අට පංගුවක් තමන් අතෙහි සංකේන්ද්‍රණය කර ගනිති. රයින්-වෙස්ට්පේලියන් ගල් අඟුරු සම්මේ-ලය, 1893 දී, එහි ආරම්භයේදී එම ප්‍රදේශයේ මුළු ගල් අඟුරු නිෂ්පාදන-යෙන් සියයට 86.7 ක් තම අතෙහි සංකේන්ද්‍රණය කරගත් අතර 1910 වන විට ඉන් සියයට 95.4 ක් සංකේන්ද්‍රණය කරගෙන සිටියේය.* මෙසේ නිර්මාණය කරන ලද ඒකාධිකාරය අති විශාල ලාභ ලැබීම සහතික කරන අතර, දැවැන්ත පරිමාණයේ තාක්ෂණික නිෂ්පාදන ඒකක පිහිටුවීමට මඟ පෙන්වයි. ඇමෙරිකා එක්සත් ජනපදයේ සුප්‍රසිද්ධ ස්ටැන්ඩර්ඩ් ඔයිල් සමාගම (Standard Oil Company) 1900 දී පිහිටුවන ලදී: එහි අනුදත් ප්‍රාග්ධනය ඩොලර් 15,00,00,000 කි. එහි සාමාන්‍ය ව්‍යාපාර වස්තු නිකුතුව ඩොලර් 10,00,00,000 ක් ද, වරණ ව්‍යාපාර වස්තු නිකුතුව ඩොලර්

---

වර්ධනය හා සම්බන්ධව ගත් කළ ජර්මනියේ විශාල බැංකු හා ඒවාහි සංකේන්ද්‍රණය''. හතරවැනි මුද්‍රණය, 1912, පිටුව 149. — අර්. ලීෆ්මන්. ''කාටල හා සංගත සහ ජනතා ආර්ථිකයේ සංවිධානවල වැඩි දුර වර්ධනය''. දෙවැනි මුද්‍රණය, 1910, පිටුව 25. — සංස්කාරක).

* Dr. Fritz Kestner. "Der Organisationszwang. Eine Untersuchung über die Kämpfe zwischen Kartellen und Außenseitern". Berlin, 1912, S. 11 (ආචාර්ය ෆ්‍රිත්ස් කෙස්ත්නර්. ''සංවිධානය සඳහා අවශ්‍යතා-වය. කාටල හා පිටස්තරයන් අතර අරගලය පිළිබඳ පරීක්ෂණය''. බර්-ලින්. — සංස්කාරක).



10,60,00,000 ක් ද විය. 1900 පටන් 1907 වරණ කොටස් සඳහා පහත සඳහන් ලාභාංශ ගෙවන ලදී: ඒ ඒ වර්ෂයට සියයට 48, 48, 45, 44, 36, 40, 40, 40, නැතහොත් එම වර්ෂ සඳහා ගෙවන ලද මුළු මුදල ඩොලර් 36,70,00,000 කි. 1882 පටන් 1907 දක්වා ලබන ලද ඩොලර් 88,90,00,000 ක ශුද්ධ ලාභයෙන් ඩොලර් 60,60,00,000 ක් ලාභාංශ වශයෙන් බෙදා දෙන ලද අතර, ඉතිරිය සංචිත ප්‍රාග්ධනය ලෙසට වෙන් කරන ලදී''.* එක්සත් ජනපද වානේ සමායතනය, (United States Steel Corporation) 1907 දී, එහි විවිධ කර්මාන්තායතනවල 2,10,180 කට නොඅඩු පිරිසක් සේවයෙහි යෙදීය. ජර්මන් ආකර කර්මාන්තයේ විශාල තම ව්‍යවසාය වූ ගෙල්සෙන්කිර්හෙන් සමාජයෙහි (Gelsenkirchener Bergwerksgesellschaft) 1908 දී කම්කරුවන් ගෙන් සහ කාර්යාල සේවකයන්ගෙන් සමන්විත 46,048 ක සේවක පිරිසක් සිටියහ.** 1902 දීම එක්සත් ජනපද වානේ සමායතනය වානේ ටොන් 90,00,000 ක් නිපදවූයේ ය.*** එහි නිෂ්පාදනය ඇමෙරිකා එක්සත් ජනපදයේ මුළු වානේ නිෂ්පා-දනයෙන් 1901 වර්ෂයේ දී සියයට 66.3 ක් ද, 1908 වර්ෂයේදී සියයට 56.1 ක් ද විය. **** යපස් නිෂ්පාදනය පිළිවෙළිනි සියයට 43.9 ක් හා 46.3 ක් විය.

සංගත ව්‍යාපාර ගැන ඇමෙරිකානු ආණ්ඩු කොමිසමේ වාර්තාව මෙසේ සඳහන් කරයි: ''ඒවායේ තරඟ කරුවන්ට වඩා ඒවා උසස් වීමට හේතු වන්නේ ඒවායේ ව්‍යවසායයන්ගේ විශාලත්වය හා ඒවා සතු විශිෂ්ඨ උපකරණ ය. දුම්කොළ සංගතය එහි ආරම්භයේ පටන් ම, කායික ශ්‍රමය වෙනුවට හැම විටම යාන්ත්‍රික වැඩ ආදේශ කිරීම සඳහා සියළු ප්‍රයත්නයන් දරා ඇත. මෙම අරමුණ ඇතිව, විශාල වශයෙන් මුදල් වැය කරමින්, එය දුම්කොළ නිෂ්පාදනය හා යම් ලෙසකින් හෝ සම්බන්ධ සියළුම ස්වාධි-කාර මිළට ගත්තේය. මෙම ස්වාධිකාරයන් බොහොමයක් ම ප්‍රයෝජන රහිත බව ප්‍රථමයෙන් පෙනී ගිය හෙයින්, සංගතයේ සේවයෙහි නියුක්ත ඉංජිනේරු වරුන් ලවා ඒවා නිසි ලෙස සකස් කර ගැනීමට සිදුවිය. 1906

---

* R. Liefmann. "Beteiligungs- und Finanzierungsgesellschaften. Eine Studie über den modernen Kapitalismus und das Effektenwesen". 1. Aufl., Jena, 1909, S.212 (අර්. ලීෆ්මන්.''හිමිකම් හා මුදල් ආයෝජන සංගමය. නව ධනවාදය හා සුරැකුම් පත්වල සංධාරය පරික්ෂාවට භාජනය කිරීම''. පළමුවැනි මුද්‍රණය, යැනා. — සංස්කාරක).

** එම පොතෙහිම, පිටුව 218.

*** Dr. S. Tschierschky. "Kartell und Trust". Göttingen, 1903, S. 13 (ආචාර්ය චිර්ෂ්කි. ''කාටල හා සංගත'', ගොතින්ගැන්. — සංස්කාරක).

**** Th. Vogelstein. "Organisationsformen", S. 275.

අවසානයේදී හුදෙක් ස්වාධිකාර හිමිකම් මිළට ගැනීම සඳහා පමණක් ම උප සමාගම් දෙකක් පිහිටුවන ලදී. එම අරමුණ ම ඇතිව, සංගතය තමන්ගේම වාත්තු කම්හල්, යන්ත්‍ර කම්හල් හා අළුත්වැඩියා කම්හල් ඉදිකර ගත්තේය. මෙම ආයතනයන්ගෙන් එකක්, බෲක්ලින් හි ඇති අතර, එහි සාමාන්‍යයෙන් කම්කරුවෝ 300 ක් දෙනා සේවය කරති. සිගරට්, සුරුට්ටු, නහයට උරන දුම් කුඩු, ඇසිරීමට ගන්නා ටින් පත්‍ර, පෙට්ටි, ආදිය ගැන නව සොයා ගැනීම් සම්බන්ධයෙන් මෙහිදී අත්හද බැලීම් කටයුතු කරනු ලැබේ. එමෙන්ම, මෙහි නව සොයා ගැනීම් අංග සම්පූර්ණ කිරීම ද කරනු ලැබේ.* වෙනත් සංගත ව්‍යාපාරද developping engineers (සංවර්ධන ඉංජිනේරු) යනුවෙන් හැඳින්වෙන පිරිසක් සේවයෙහි යොදති. ඔවුන්ගේ කාර්යය වී තිබෙන්නේ නව නිෂ්පාදන ක්‍රම නිර්මාණය කිරීම සහ තාක්ෂණික වැඩි දියුණු කිරීම් ගැන පරීක්ෂාවන් පැවැත්වීම ය. තාක්ෂණික කාර්යක්ෂමතාවය වැඩි කරන, නැතහොත්, නිෂ්පාදනය වියදම් අඩු කරන සියළු සොයා ගැනීම් සඳහා එක්සත් ජනපද වානේ සමායතනය එහි කම්කරුවන්ට හා ඉන්ජිනේරුවන්ට විශාල පාරිතෝෂික දීමනා ගෙවන්නේය.**

ජර්මන් මහා පරිමාණ කර්මාන්තයෙහි ද තාක්ෂණික වැඩි දියුණුවට ධෛර්ය දීම, ඒ අයුරින්ම සංවිධානය කර ඇත. මෙම දශක කීපය තුළ දවැන්ත ලෙස සංවර්ධනය වී තිබෙන රසායනික කර්මාන්තය මේ පිළිබඳ නිදර්ශනයකි. 1908 වන විට නිෂ්පාදන සංකේන්ද්‍රණයේ ක්‍රියාදාමයෙහි ප්‍රතිඵලයක් වශයෙන්, ප්‍රධාන ''කණ්ඩායම්'' දෙකක් උද්ගතව තිබිණි. එම කණ්ඩායම්, ඒවාටම විශේෂවූ ආකාරයකින් ඒකාධිකාරී ස්වභාවයක් දැරිය. ප්‍රථමයෙන්, මෙම කණ්ඩායම්, එකකට මාර්ක් දෙකෝටියේ සිට දෙකෝටි දශ ලක්ෂය දක්වා වූ ප්‍රාග්ධනයක් හිමි ලොකු පැක්ටරි ජෝඩු දෙකක ''ද්විත්ව සන්ධානයන්'' විය. එක් අතකින් හොෂ්ස්ට්හි පිහිටි පැරණි මයිස්තර් පැක්ටරිය සහ මයින් නදී බඩ ෆ්‍රැන්ක්පර්ට්හි පිහිටි කසෙල්ලා කර්මාන්ත ශාලාද, අනිත් අතට, ලුඩ්විග්ස්හාෆේපෙන්හි ඇනිලයින් හා සෝඩා පැක්ටරිය සහ එල්බ්‍රර් පෙල්ඩ්හි පැරණි බායර් පැක්ටරියද

* Report of the Commissioner of Corporations on the Tobacco Industry. Washington, 1909, p. 266 (දුම්කොළ කර්මාන්තය ඒකාබද්ධ කිරීම පිළිබඳ කොමිසමේ නියෝජිතයා ගේ වාර්තාව. වොෂිංටන්.—සංස්කාරක) — උපුටා ගැනීම "Dr. Paul Tafel. "Die nordamerikanischen Trusts und ihre Wirkungen auf den Fortschritt der Technik". Stuttgart, 1913, S. 48 (ආචාර්ය පෝල් තපෙල්. ''උතුරු ඇමෙරිකානු සංගත හා තාක්ෂණයේ වර්ධනය සඳහා ඒවාහී බලපෑම''. ෂ්ටුට්ගාර්ට්. —සංස්කාරක) අනුවය.

** Dr. P. Tafel, Ibid., S. 48-59 (එම කෘතිය, පිටු 48–49. — සංස්කාරක).


1

Империализм, как высшая стадия капитализма.
(Популярный очерк).

За последние 15-20 лет, особенно после испано-американской (1898) и англо-бурской (1899-1902) войны, экономическая, а также политическая литература старого и нового света все чаще и чаще останавливается на понятии «империализм» для характеристики переживаемой нами эпохи. В 1902 году в Лондоне и Нью-Йорке вышло сочинение английского экономиста Дж. А. Гобсона: «Империализм». Автор, стоящий на точке зрения буржуазного социал-реформизма и пацифизма — однородной, в сущности, с теперешней позицией бывшего марксиста К. Каутского, — дал очень хорошее и обстоятельное описание основных экономических и политических особенностей империализма. В 1910 году в Вене вышло в свет сочинение австрийского марксиста Рудольфа Гильфердинга: «Финансовый капитал» (рус.

මෙසේ සන්ධානගත වූ පැක්ටරි විය. අනතුරුව ඉන් එක කණ්ඩායමක් 1905 දී ද, අනික 1908 දී ද තවත් එක විශාල පැක්ටරියක් බැගින් ගිවිසුමට ඇතුලත් කරගත්තේය. මෙහි ප්‍රතිඵලය වූයේ සෑම එකකම ප්‍රාග්ධනය මාර්ක් කෝටි 4 සිට 5 දක්වා වූ ''ත්‍රිත්ව සන්ධාන'' දෙකක් නිර්මාණය වීමය. එසේම, මෙම සන්ධාන දෙක, මිළ ආදිය පිළිබඳව ''සමථයක්'' ඇතිකර ගැනීමට දැනටමත් එකිනෙකට''සමීප වීමට'' පටන් ගෙන ඇත.*

තරඟය ඒකාධිකාරය බවට පරිවර්තනය වේ. එහි ප්‍රතිඵලය නිෂ්පාදනය සමාජමය කිරීමේ දැවැන්ත ප්‍රගතියකි. විශේෂයෙන්ම, තාක්ෂණික සොයාගැනීම් හා වැඩි දියුණු කිරීම් පිළිබඳ ක්‍රියාදමය සමාජමය වන්නේය.

එකිනෙකා හා සමග සම්බන්ධයක් නොමැති සේ විසිර සිටි හා තමන් නොදත් වෙළඳ පොළක් සඳහා භාණ්ඩ නිෂ්පාදන කළ, නිෂ්පාදකයන් අතර පැවති පැරණි නිදහස් තරඟයට හාත්පසින් ම වෙනස් දෙයක් මෙහි ඇත. රටක අමුද්‍රව්‍ය සම්පාදන මාර්ග (නිදසුනක් ලෙසට යපස් නිධි) සියල්ලම ගැන බොහෝ දුරට නිවැරදි තක්සේරුවක් කිරීමට හැකිවන තත්වයට සංකේන්ද්‍රණය දියුණු වී ඇත. ඒ අනුව පසුව අපට පෙනෙනු ඇති ලෙසට රටවල් ගණනාවක හා මුළු ලෝකයෙහිම පවා අමුද්‍රව්‍ය සම්පාදන මාර්ග ගැන තක්සේරු කළහැකි තත්වයක් මතුවී තිබේ. මෙවැනි තක්සේරු කිරීම සිදුවනවා පමණක් නොව, යෝධ ඒකාධිකාරී හවුල් ව්‍යාපාර විසින් මෙම සම්පාදන මාර්ග අල්ලාගැනීමද සිදුවෙමින් පවතී. වෙළෙඳ පොළවල ධාරිතාව ගැනද දළ ඇස්තමේන්තු සකස් කරන හවුල් ව්‍යාපාර, ඔවුනොවුන් අතර එකඟත්වයක් ඇති කර ගනිමින්, ඒවාද බෙදා ගනිති. පුහුණු ශ්‍රමය ඒකාධිකාරී ලෙස අත්පත් කරගනු ලැබේ. හොඳම ඉන්ජිනේරුවරු සේවයෙහි යොදවාගනු ලැබේ. ප්‍රවාහණ මාර්ග, එනම්, ඇමෙරිකාවේ දුම්රිය මාර්ග ද, යුරෝපයේ සහ ඇමෙරිකාවේ නැව් සමාගම් ද, අල්ලා ගනු ලැබේ. ස්වකීය අධිරාජ්‍යවාදී අවධියෙහි වන ධනපති ක්‍රමය, එක එල්ලේම නිෂ්පාදනයේ ඉතාමත් අංග සම්පූර්ණ සමාජමයකරණය වෙතට යන මග පෙන්වයි. එමගින්, ධනපතියන් ඔවුන් ගේ කැමැත්තට හා විඥනයට විරුද්ධව යයි කිව හැකි ආකාරයෙන් කිසියම් නව සමාජ ක්‍රමයක් වෙත ඇදගෙන යනු ලැබේ. එය සම්පූර්ණ නිදහස් තරඟයේ සිට සම්පූර්ණ සමාජමයකරණය දක්වා යොමු වූ පරිවර්තනීය සමාජ ක්‍රමයකි.

නිෂ්පාදනය සමාජමය වන්නේ ය. නමුත් හිමි කරගැනීම පුද්ගලිකව කෙරෙන්නේ ය. සමාජමය නිෂ්පාදන මාර්ග අතලොස්සක් දෙනා ගේ

---

* Riesser, කලින් සඳහන් කෘතිය, පිටු 547 පටන්. ජර්මනියේ රසායනික කර්මාන්තයේ සංයෝජනයක් ඇති කරන නව යෝධ සංගත ව්‍යාපාරයක් පිහිටුවීම ගැන (1916 ජූනි) පුවත් පත් වාර්තා කරයි.

පෞද්ගලික දේපල වී පවතී. නාමික වශයෙන් පිළිගනු ලබන නිදහස් තරඟයේ පොදු රාමු කට්ටුව පවතින අතර, අතලොස්සක් වන ඒකාධිකාරීන් ගේ විය ගසෙහි බර සිය ගුණයකින් වැඩි වී සෙසු ජනගහනයේ කර පිට වැටෙන්නේ ය — එය වඩාත් පීඩාදයක හා වඩාත් නො ඉවසිය හැකි වන්නේය.

ජර්මානු ආර්ථික විද්‍යාඥයෙකු වූ කෙස්ට්නර් විශේෂයෙන්ම ''කාටල හා පිටස්තරයන් අතර අරගලය'' සම්බන්ධයෙන් විශේෂ පොතක් ලීවේය. මෙහි පිටස්තරයන් යනුවෙන් හඳුන්වා ඇත්තේ කාටලවලට අයත් නොවූ ධනපතියන් ය. ඔහු ඔහුගේ කෘතිය නම් කළේ ''අනිවාර්ය සංවිධානය'' යනුවෙනි. නමුත් සැබැවින්ම ධනපති ක්‍රමය එහි නියම ස්වරූපයෙන් ඉදිරිපත් කිරීමට නම්, ඒකාධිකාරී හවුල් සමාගම්වලට අනිවාර්ය ලෙස යටත්වීමට එයට සිදුවීම ගැන ඔහු ලිය යුතුව තිබිණි. නූතන කාලයේ දී ''සංවිධානය'' සඳහා, ඒකාධිකාරී හවුල් ව්‍යාපාර විසින් කරනු ලබන, අළුත්ම, ශිෂ්ට සම්පන්න අරගලයේ දී ඒවා අනුගමනය කරන අරගල ක්‍රම ලැයිස්තුව දෙස බැලීම පමණක් වුවද උපදේශාත්මක විය හැකිය: 1) අමුද්‍රව්‍ය සැපයුම නවතාලීම (''කාටලයට අනුබද්ධතාවය රැකීමට බල කරන ඉතාමත් වැදගත් ඉතාමත් වැදගත් ක්‍රම අතුරෙන් එකකි''); 2) ''සන්ධානය'' උපයෝගී කරගනිමින් ශ්‍රම සැපයුම නැවැත්වීම (එනම්, ධනපතියන් හා වෘත්තීය සමිති අතර එකඟතාවයක් ඇති කර ගැනීම — ඒ අනුව වෘත්තීය සමිති ස්වකීය සමාජිකයනට අවසර දෙන්නේ කාටලගත කර්මාන්තවල වැඩ කිරීමට පමණකි); 3) බඩු යැවීම නැවැත්වීම; 4) වෙළඳ මාර්ග අහුරා දැමීම; 5) ගැනුම් කරුවන් සමග ගිවිසුම් ඇති කරගැනීම. ඒ අනුව කාටල සමග පමණක් වෙළඳාම් කිරීමට ගැනුම් කරුවෝ එකඟ වෙති; 6) ක්‍රමානුකූල ලෙස මිළ පහත හෙළීම (''පිටස්තරයන්'', එනම්, ඒකාධිකාරීන්ට යටත් වීම ප්‍රතික්ෂේප කරන අය විනාශ කිරීමට, මෙය කරනු ලැබේ. එක්තරා කාල සීමාවක් තුළ, භාණ්ඩ, ඒවායේ පිරිවැය මිළට වඩා අඩු මිළකට විකිනීම සඳහා දශ ලක්ෂ ගනණින් මුදල් වැය කරනු ලැබේ. නිදසුන් ලෙසට පැට්රෝල් මිල මාර්ක් 40 සිට 22 දක්වා, එනම් අඩකින්ම පමණ අඩු කළ අවස්ථාවේ විය!); 7) ණය පහසුකම් නොදීම; 8) වර්ජනය කිරීම.

දැන් තවදුරටත්, කුඩා හා විශාල ව්‍යවසායයන් ද, තාක්ෂණික වශයෙන් දියුණු සහ නොදියුණු ව්‍යවසායයන් ද අතර කෙරෙන තරඟය අප ඉදිරියේ නොමැත. අපට දක්නට ලැබෙන්නේ, ඒකාධිකාරීන්ට, ඔවුන් ගේ වියගසට, ඔවුන් ගේ අණසකට යටත් නොවන්නන් ගේ බෙල්ල ඒකාධිකාරීන් විසින් මිරිකා දමනු ලැබීම ය. මෙම ක්‍රියාදමය ධනපති ආර්ථික විද්‍යාඥයා ගේ සිතෙහි පිළිබිඹු වන්නේ මෙසේය:



කෙස්ට්නර් ලියයි: ''හුදු ආර්ථිකමය ක්ෂේත්‍රයෙහි වුවද, වචනයේ පැරණි අර්ථයට අනුකූල කටයුතු වල සිට සංවිධානාත්මක සමපේක්ෂණ කටයුතු දක්වා කිසියම් වෙනස්වීමක් සිදුවෙමින් පවතී. දැන් වැඩිම සාර්ථකත්වය ලැබිය හැක්කේ, ස්වකීය තාක්ෂණික සහ වාණිජමය පළපුරුද්ද පිහිට කොට ගෙන, ගැනුම් කරුවාගේ අවශ්‍යතාවයන් අන් කාහටත් වඩා හොඳින් තක්සේරු කළ හැකිව සිටින හා සැඟවී තිබෙන ඉල්ලුමක් සොයාගෙන, එය ''පුබුදු'' කිරීමක් යයි කිව හැකි ලෙසට කටයුතු කිරීමෙහි සමත් වන වෙළෙන්දට නොවේ. දැන් එම සාර්ථකත්වය ලැබිය හැකිවන්නේ, තනි ව්‍යවසායයන් හා බැංකු අතර යම් යම් සම්බන්ධකම් ඇති වීම පිළිබඳ සංවිධානාත්මක සංවර්ධනය හා හැකියාවන් ගැන කල්තබා තක්සේරු කිරීමට හෝ ඒ ගැන හැඟීමක්වත් ඇති කර ගැනීමට දන්නා විශාරද (?!) සමපේක්ෂකයන්ට ය...''.

සාමාන්‍ය මිනිස් භාෂාවට පරිවර්තනය කළ පසු මෙහි අදහස වන්නේ, වෙළඳ භාණ්ඩ නිෂ්පාදනය තවමත් ''රජකරන'' හා ආර්ථික ජීවිතයේ පදනම වශයෙන් තවදුරටත් සලකනු ලබන නමුත්, ඇත්ත වශයෙන්ම එහි බලය බිඳී ඇති බවද, ලාභවලින් වැඩි කොටස මූල්‍ය ප්‍රයෝගයෙහි ''විශාරදයන්ට'' ලැබෙන බවද වේ. මෙම ප්‍රයෝගවල හා වංචාවල පදනම වී ඇත්තේ සමාජමය වූ නිෂ්පාදනය යි. එහෙත්, මෙම සමාජමයකරණය ඉටු කළ, මිනිස් වර්ගයාගේ අති විශාල ප්‍රගතියෙහි ඵල ප්‍රයෝජන ලැබෙන්නේ... සමපේක්ෂකයන්ට ය. ''මෙම කරුණු පදනම් කොට'' ගනිමින්, ධනේශ්වර අධිරාජ්‍යවාදයේ සුළු ධනපති විවේචකයන්, ''නිදහස්'', ''සාමකාමී'' සහ ''අවංක'' තරඟය වෙත ආපසු යාම ගැන සිහින මවන්නේ කෙසේ ද යනු අපට පසුව පෙනී යනු ඇත.

කෙස්ට්නර් මෙසේ ද කියයි: ''කාටල පිහිටුවීමේ ප්‍රතිඵලයක් වශයෙන් නොකඩවා මිළ වැඩිවීම මෙතෙක් දක්නට ලැබුණේ, ඉතාමත් වැදගත් නිෂ්පාදන මාධ්‍යයන් සම්බන්ධයෙන් විශේෂයෙන්ම, ගල් අඟුරු, යකඩ හා පොටෑසියම් හා සම්බන්ධයෙන් පමණකි. නමුත් තනා නිම කළ භාණ්ඩ සම්බන්ධයෙන් එම ලක්ෂණය කිසි විටෙකත් දක්නට නොලැබිණි. එසේම මිළ වැඩි කිරීමෙන් වැඩි වන ලාභ ද නිෂ්පාදන මාධ්‍යයන් නිපදවන කර්මාන්තවලට සීමා වී තිබේ. අමුද්‍රව්‍ය පිරියත් කිරීමේ කර්මාන්ත (අර්ධ වශයෙන් නිමි භාණ්ඩ තැනීමේ කර්මාන්ත නොවේ.) කාටල පිහිටුවීමේ මාර්ගයෙන් ලාභ ස්වරූපයේ වූ ද, නිමි භාණ්ඩ කර්මාන්තයට හානිදයක ආකාරයේ වූ ද, වාසි අත්පත් කරගන්නවා පමණක් නොව, ඒවා එම පසු කී කර්මාන්ත අබිබවා ඒවාට අධිපති තත්වයක්ද දිනා ගෙන තිබේ. එම තත්වය නිදහස් තරඟය යටතේ පැවතියේ නොවේ''.*

* කෙස්ට්නර්. කලින් සඳහන් කෘතිය, පිටු 254.

ධනපති ආර්ථික විද්‍යාඥයින් එතරම් අකමැත්තෙන් හා කලාතුරකින් පිළිගන්නා වූත්, කෞට්ස්කි ගේ නායකත්වයෙන් යුත් වර්තමාන අවස්ථාවාදීන් එතරම් උත්සුක්ත ලෙස මග හරින හා ඉවත ලීමට උත්සාහ කරන්නාවූත්, කාරණයෙහි සාරාර්ථය මා අවධාරණය කර ඇති වචනවලින් හෙළිදරව් වේ. ආධිපත්‍යය හා ඊට සම්බන්ධ හිංසනය — ‘‘ධනපති සංවර්ධනයේ නවතම අදියරට’’ විශේෂවූ සම්බන්ධකම් ඒ ආකාරය. සර්වබලධාරී ආර්ථික ඒකාධිකාරයන් පිහිටුවීමෙන් ඇතිවිය යුතුවූ හා ඇතිවී තිබෙන අනිවාරණීය ප්‍රතිඵලය මෙයයි.

කාටල විසින් යොදා ගනු ලබන ක්‍රම ගැන තවත් එක නිදසුනක් දෙන්නෙමි. අමුද්‍රව්‍ය සම්පාදන මාර්ග සියල්ලම හෝ ඉන් ප්‍රධාන කොටස අල්ලා ගත හැකි අවස්ථාවල කාටල උද්ගත වීම හා ඒකාධිකාර පිහිටුවීම විශේෂයෙන්ම පහසු ය. එහෙත් අමුද්‍රව්‍ය සම්පාදන මාර්ග අත්පත් කරගැනීමට නොහැකි ස්වභාවයේ කර්මාන්තවල ඒකාධිකාර උද්ගත නොවන්නේ යයි සිතීම වරදකි. නිදර්ශනයක් වශයෙන් සිමෙන්ති කර්මාන්තයට අවශ්‍ය අමුද්‍රව්‍ය සෑම තැනම ඇත. එසේ වුවත්, ජර්මනියේ මෙම කර්මාන්තය ඉතාමත් ශක්තිමත් ලෙස කාටලගත වී තිබේ. සිමෙන්ති නිෂ්පාදකයන් ප්‍රාදේශීය සම්මේල පිහිටුවා ගෙන ඇත. ඒ දක්ෂිණ ජර්මන්, රයින්-වෙස්ට්පේලියන් යනාදී වශයෙනි. නියම කර ඇත්තේ ඒකාධිකාරී මිළ ගණන්ය. සිමෙන්ති වැගනයක පිරිවැය මිළ මාර්ක් 180 ක් නමුත් ඒ සඳහා නියම කර ඇති මිළ ගණන මාර්ක් 230 සිට 280 දක්වා වේ! එම ව්‍යවසායයන් සියයට 12 සිට 16 දක්වා වූ ලාභාංශ ගෙවති. තවද, නූතන සමපේක්ෂණයේ ‘‘විශාරදයින්’’ ඔවුන් ලබාගන්නා ලාභාංශවලට අමතරව විශාල ලාභ ලබා ගන්නේ කෙසේද යන්න දන්නා බව මෙහිලා අමතක නොකළ යුතුය. එවැනි ලාභදායක කර්මාන්තයක තරඟය ඇතිවීම වැළැක්වීම සඳහා ඒකාධිකාරීන් නොයෙක් කූටෝපායයන් පවා ක්‍රියාත්මක කරති. ඔවුහු තම කර්මාන්තයේ අයහපත් තත්වය ගැන බොරු කට කතා පතුරුවා හරිති. පහත සඳහන් වැනි නිර්නාමික අවවාද පුවත්පත්වල පල කරනු ලැබේ: ‘‘ධනපතියෙනි, ඔබේ මුදල් සිමෙන්ති කර්මාන්තයෙහි ආයෝජනය නොකරන්න!’’ අවසාන වශයෙන් ඔවුහු ‘‘පිටස්තරයන් ගේ (සම්මේලවලින් බාහිර අයගේ) ව්‍යාපාර මිලදී ගෙන ඒ සඳහා මාර්ක් 60,000 ක, 80,000 ක හා 1,50,000 ක වුවද වන්දි ගෙවති.* තරඟ කරුවන් මිළට ගැනීමට ‘‘සුළු’’ පමණින් මුදල් ගෙවීමේ පටන්, ඔවුනට විරුද්ධව ඩයිනමයිට් යොදා ගැනීමේ ඇමෙරිකානු ක්‍රමය දක්වා වූ සියළුම මාධ්‍ය

* “Zement” von L. Eschwege. “Die Bank”[33] 1909, 1, S. 115 පටන් (‘‘සිමෙන්ති’’, එල්. එෂ්වෙගේ. ‘‘බැංකුව’’. — සංස්කාරක).



යොදා ගනිමින් ඒකාධිකාරය ස්වකීය මාර්ගය සකසා ගනියි. එසේ යොදා ගන්නා මාර්ගයෙහි හොඳ නරක ගැන එය සැලකිල්ලක් දක්වන්නේ නැත.

කාටල නිසා අර්බුද අහෝසි වන්නේය යන ප්‍රකාශය ධනපති ආර්ථික විද්‍යාඥයින් පතුරුවන මිථ්‍යා ප්‍රබන්ධයකි. ඔවුනට උවමනා කරන්නේ කුමණ විධියෙන් හෝ ධනපති ක්‍රමය යහපතක් සේ පෙන්වීමට ය. ඊට ප්‍රතිකූල වශයෙන්, කර්මාන්තයේ යම් යම් අංශවල ඇති කරන ලද ඒකාධිකාරය සමස්ත ධනපති නිෂ්පාදනයේ ම ආවේණික ගුණාංගයක් වූ අරාජිකත්වය වැඩි කරයි, උත්සන්න කරයි. පොදු වශයෙන් ධනපති ක්‍රමයේ ස්වභාව ලක්ෂණයක් වූ කෘෂිකර්ම සහ කර්මාන්ත යන දෙ අංශයේ සංවර්ධනයෙහි අසමානතාවය වැඩි වෙයි. ‘‘විශාල ජර්මන් බැංකු කර්මාන්තය සමග පවත්වන සම්බන්ධකම්’’ ගැන ඉතා අගනා කෘතියක කර්තෘ වන යෙයිඩල්ස් පිළිගන්නා ලෙසට, ඉතාමත් උසස් මට්ටමින් කාටලගත වූ ඊනියා බැර කර්මාන්තයේ, විශේෂයෙන්ම ගල්අඟුරු හා යකඩ කර්මාන්තයේ වරප්‍රසාද හිමි තත්වය නිසා, අනිකුත් කර්මාන්ත අංශවල ‘‘අසම්බන්ධිත ස්වභාවය තව තවත් වැඩි වීමට හේතු වේ.*

ධනවාදයේ නිර්ලජ්ජ ආවඩන්නෙකු වූ ලිෆ්මාන් මෙසේ ලියුවේය: ‘‘ආර්ථික ක්‍රමයක් වඩාත් සංවර්ධිත වූ තරමට, එය වඩ වඩාත් අවදානම් ව්‍යවසායයන් ද, නැතහොත්, වෙනත් රටවල, එනම්, සංවර්ධනය වීමට දීර්ඝ කාලයක් අවශ්‍යවන ව්‍යවසායයන් ද, එසේත් නැතහොත් අවසාන වශයෙන් ප්‍රාදේශීය වැදගත් කමක් පමණක් ඇති ව්‍යවසායයන් ද සඳහා යෙදෙන්නේ ය.** අවසාන වශයෙන්, වැඩි වූ අවදානම සම්බන්ධ කරනු ලබන්නේ, පිටාර ගලා යන වැනි, විදේශයට ගලා යන වැනි, ආදී වශයෙන් පෙනෙන, ප්‍රාග්ධනයේ යෝධ වැඩි වීමක් සමගය. ඒ අතරම, තාක්ෂණික ප්‍රගතියේ ඉතාමත් සීඝ්‍ර වර්ධන වේගය නිසා, ජාතික ආර්ථිකයේ විවිධ ක්ෂේත්‍ර අතර අසමානතා මූලිකාංගයන් වැඩිවීමත්, අරාජිකත්වය හා අර්බුදත් උද්ගත වේ. ලිෆ්මාන්ට මෙයද පිළිගැනීමට සිදු වේ: ‘‘නුදුරු අනාගතයේදී, මිනිස් වර්ගයාට තවත් වැදගත් තාක්ෂණික විප්ලවයන් දක්නට ලැබෙනු ඇති බවත්, එම විප්ලවද ආර්ථික ක්‍රමයේ සංවිධානය කෙරෙහි බලපානු ඇති බවත්, බොහෝ දුරට විශ්වාස කළ හැකිය...’’

* Jeidels. “Das Verhältnis der deutschen Großbanken zur Industrie mit besonderer Berücksichtigung der Eisenindustrie”. Leipzig, 1905, S. 271 (යෙයිඩල්ස්. ‘‘කර්මාන්තය කෙරෙහි, විශේෂයෙන්ම වානේ කර්මාන්තය කෙරෙහි ජර්මන් මහා බැංකු දක්වන ආකල්පය’’. ලෙයිප්සිග්. — සංස්කාරක).

** Liefmann. “Beteiligungs- und Finanzierungsgesellschaften”, S. 434.

විදුලි බලය හා ගුවන් ගමන් නිදසුන් වෙති... ''මූලික ආර්ථික වෙනස් වීම් ඇතිවන එවැනි කාලවලදී, සාමාන්‍ය වශයෙන්ම, සමපේක්ෂණය මහා පරිමාණයෙන් පැතිරී යයි...''*

සෑම වර්ගයකම අර්බුද ඇති වේ. වඩාත්ම නිරන්තර ලෙස ඇතිවන්නේ ආර්ථික අර්බුද වන නමුත්, අර්බුද ඊටම සීමා නොවේ. සෑම වර්ගයකම මෙම අර්බුද නිසා, අනිත් අතට සංකේන්ද්‍රණය වෙතට, ඒකාධිකාරය වෙතට, නැඹුරු වූ ප්‍රවණතාවය ඉතාමත් සැලකිය යුතු ප්‍රමාණයෙන් වැඩි වේ. ඒ හා සම්බන්ධයෙන් වූ කල, අප දැනටමත් දැක ඇති පරිදි නූතන ඒකාධිකාරයේ සන්ධිස්ථානයක් සලකුණු කළ 1900 අර්බුදය ගැන යෙයිඩල්ස් ඉදිරිපත් කරන පහත සඳහන් අදහස් ඉතාමත් උපදේශාත්මක ය:

''1900 අර්බුදය සමයේ දී යෝධ කර්මාන්ත ශාලා සමග එකට පැවතුනු, අද යල්පැනගිය ලෙසට සැලකෙනු ඇති ක්‍රමයට සංවිධානය වූ කර්මාන්ත ශාලා රැසක් ද දක්නා ලදී. ඒවා කාර්මික උත්පාතනයේ උච්ඡ අවස්ථාවෙහි දී ඇති කරන ලද ''පිරිසිදු'' (සංයෝජිත නොවූ) කර්මාන්ත ශාලා විය. මිල ගණන් පහත වැටීම හා ඉල්ලුම අඩු වී යාම නිසා, මෙම කර්මාන්ත ශාලා ඉතා දුෂ්කර තත්වයකට පත්විය. එම තත්වය යෝධ ව්‍යවසායයන් කෙරෙහි එක්කෝ කොහෙත්ම බල නොපෑවේය, නැතහොත්, බලපෑවේ ඉතා කෙටි කාලයක් සඳහා පමණකි. 1900 මෙම අර්බුදයේ ප්‍රතිඵලයක් වශයෙන්, 1873 අර්බුදයෙන් ඇති වූවාට වැඩි, අති විශාල සංකේන්ද්‍රණයක්, කර්මාන්තයෙහි ඇති විය. මෙයින් පසු කී අර්බුදය නිසා ද, වඩාත් හොඳ උපකරණවලින් සමන්විත ව්‍යවසායයන් පිළිබඳ එක්තරා තේරීමක් ක්‍රියාත්මක වූ නමුත්, එම අර්බුදයෙන් සාර්ථක ලෙස ගොඩ ආ සමාගම් ඒකාධිකාර තත්වයට පත් වීමක් එයින් සිදු නොවීය. එසේ වීමට හේතු වූයේ එවකට බලපැවති අඩු තාක්ෂණික සංවර්ධන මට්ටමය. නවීන යකඩ සහ වානේ කර්මාන්තයෙහිත්, විදුලි බල කර්මාන්තයෙහිත්, ඇති යෝධ ව්‍යවසායයන් ගේ ඉතාමත් සංකීර්ණ ශිල්ප ක්‍රමය දුර ගාමී සංවිධානය සහ ප්‍රාග්ධන පරිමාණය නිසා එම අති විශාල ව්‍යවසායයන් තුළ ඉතාමත් ඉහළ මට්ටමකට ද, ඉන්ජිනේරු කර්මාන්තයේ, ලෝක විද්‍යා කර්මාන්තයේ සමහර අංශවල, ප්‍රවාහණයෙහි, යනාදියෙහි, ව්‍යවසායයන් තළ ඊට අඩු මට්ටමකටද එවැනි කල් පවත්නා ඒකාධිකාරී ස්වභාවයක් ඇත''.**

ඒකාධිකාරය—''ධනේශ්වර සංවර්ධනයේ නවතම අදියරෙහි'' ඉහළම

* Liefmann. "Beteiligungs- und Finanzierungsgesellschaften", SS. 465-466.

** යෙයිඩල්ස්. කලින් සඳහන් කෘතිය, පිටු 108.



තත්වය එයයි. නමුත් බැංකු විසින් ඉටු කරනු ලබන කාර්ය කොටස ගැන අපි සලකිල්ලට නොගන්නෙමු නම්, නවීන ඒකාධිකාරවල නියම බලය හා වැදගත්කම ගැන අපට හරිහැටි වටහා ගත හැට නොවේ.

## II. බැංකු සහ ඒවායේ අළුත් කාර්ය කොටස

බැංකුවල ප්‍රධාන සහ මූලික කාර්ය වන්නේ, ගෙවීම් කිරීමේදී අතරමැදියන් සේ සේවය කිරීමය.එසේ කිරීමේදී ඒවා අක්‍රීය මුදල් සක්‍රීය මුදල් බවට පරිවර්තනය කරයි. — ලාභ උපදවන ප්‍රාග්ධනය බවට පරිවර්තනය කරයි. සියළු ආකාර මුදල් ආදායම් එකතු කරන බැංකු, එම මුදල් ධනපති පංතියේ පරිහරණය සඳහා සපයයි.

බැංකු කටයුතු සංවර්ධනය වී එම කටයුතු ආයතන සුළු ගණනක් තුළ සංකේන්ද්‍රණය වීමත් සමග, බැංකු, නිහතමානී අතරමැදියන්ගේ තත්වයේ සිට, සියළුම ධනපතියන්ගේ සහ කුඩා ව්‍යාපාරිකයන්ගේ මුදල් ප්‍රාග්ධනය සම්පූර්ණයෙන්ම පාහේ ද, ඕනෑම එක් රටක හෝ රටවල් ගණනාවක නිෂ්පාදන මාර්ගවලින් හා අමුද්‍රව්‍ය සම්පාදන මාර්ගවලින් වැඩි කොටසද, පාලනය කරන බලවත් ඒකාධිකාරයන් ලෙසට වර්ධනය වේ. මෙසේ නිහතමානී අතරමැදියන් විශාල සංඛ්‍යාවක්, අතලොස්සක් ඒකාධිකාරීන් බවට පරිවර්තනය වීම ධනපති ක්‍රමය ධනපති අධිරාජ්‍ය බවට පරිවර්තනය වීමේ ක්‍රියාදාම අතුරෙන් එකකි. එම නිසා, අපි ප්‍රථමයෙන්ම, බැංකු කටයුතු සංකේන්ද්‍රණය ගැන පිරික්සා බැලිය යුත්තෙමු.

1907—1908 දී, මාර්ක් දශ ලක්ෂයකට වැඩි ප්‍රාග්ධනය සහිත ජර්මන් බද්ධ ව්‍යාපාර වස්තු බැංකුවල ඒකාබද්ධ තැන්පතු ප්‍රමාණය මාර්ක් කෝටි 700 ක් විය. 1912—1913 වන විටම මෙම තැන්පතු මාර්ක් 980 කෝටිය දක්වා ඉහළ ගොස් තිබුණි. ඒ අනුව පස් අවුරුද්දක් තුළ සියයට 40 ක වැඩි වීමක් සිදුවිය. එසේම, වැඩි වූ තැන්පතු මාර්ක් 280 කෝටියෙන්, 275 කෝටියක්ම බෙදී ගොස් තිබුණේ මාර්ක් එක්කෝටියට වැඩි ප්‍රාග්ධනය සහිත බැංකු 57 ක් අතරය. ලොකු හා කුඩා බැංකු අතර තැන්පතු බෙදී ගිය ආකාරය මෙසේය (පිටුව 56 බලන්න).*

ලොකු බැංකු විසින් කුඩා බැංකු මිරිකා දමනු ලැබේ.එයින් 9 ක් පමණක් වෙත මුළු තැන්පතු ප්‍රමාණයෙන් හරි අඩක් පමණ සංකේන්ද්‍රණය වී තිබේ. තවද, අපි වැදගත් විස්තර කරුණු බොහොමයක් ද සැලකිල්ලට

* Alfred Lansburgh. "Fünf Jahre deutsches Bankwesen", "Die Bank", 1913, No. 8, S. 728 (ඇල්ෆ්‍රඩ් ලාන්ස්බර්ග්.''ජර්මන් බැංකුවල අවුරුදු පහක සේවය'', ''බැංකුව. ''— සංස්කාරක).

මුළු තැන්පතුවලින් ප්‍රතිශතය

| | විශාල බර්ලින් බැංකු 9 යක | මාර්ක් කෝටිය-කට වැඩි ප්‍රාග්ධනයක් බැගින් ඇති වෙනත් බැංකු 48 ක | මාර්ක් 10 ලක්ෂයක සිට 1 කෝටිය දක්වා ප්‍රාග්ධනය ඇති බැංකු 115 ක | මාර්ක් දශලක්ෂයට අඩු ප්‍රාග්ධනය ඇති කුඩා බැංකුවල |
|---|---|---|---|---|
| 1907—1908 | 47 | 32.5 | 16.5 | 4 |
| 1912—1913 | 49 | 36 | 12 | 3 |

නො ගත්තෙමු. නිදර්ශනයක් වශයෙන් කුඩා බැංකු විශාල සංඛ්‍යාවක් නියම වශයෙන්ම මහ බැංකුවල ශාඛා බවට පත්වීම ආදිය ගැන සැලකිල්ලට නොගත්තෙමු. මේ ගැන මම පසුව සඳහන් කරන්නෙමි.

1913 අවසානයේ දී මාර්ක් කෝටි 1000 ක් පමණ වූ මුළු බැංකු තැන්පතු ප්‍රමාණයෙන් මාර්ක් කෝටි 510 ක් විශාල බර්ලින් බැංකු නවයක තැන්පත් වී තිබුණු බව ෂුල්ත්සේ-ගෙවර්නිත්ස් ඇස්තමේන්තු කළේය. තැන්පතු පමණක් නොව, මුළු බැංකු ප්‍රාග්ධනයද සැලකිල්ලට ගනිමින් මෙම ගත්කරු මෙසේ ලීවේය. ''1909 අගදී විශාල බර්ලින් බැංකු නවය, ඒවාට අනුබද්ධ බැංකුද සමග, මාර්ක් 1130 කෝටියක්, එනම්, මුළු ජර්මන් බැංකු ප්‍රාග්ධනයෙන් සියයට 83 ක් පමණ පාලනය කළේය. ''ජර්මන් බැංකුව'' ("Deutsche Bank"), එයට අනුබද්ධ බැංකුද සමග මාර්ක් 300 කෝටියක් පමණ පාලනය කරන අතර, එය ප්රුසියානු රාජ්‍ය දුම්රිය පරිපාලනය හා සමාන තත්වයක් ගන්නේය. එසේම, එය පැරණි ලෝකයේ වූ විශාලතම හා වඩාත්ම විමධ්‍යගත ප්‍රාග්ධන සමුච්ඡයද නියෝජනය කරන්නේය''.*

මා ''අනුබද්ධ'' බැංකු ගැන කරන සඳහන අවධාරණය කර තිබෙන්නේ, එය නවීන ධනපති සංකේන්ද්‍රණයේ වැදගත් විශේෂත්වය පෙන්වන අංග ලක්ෂණ වලින් එකක් වන හෙයිනි. විශාල ව්‍යවසායයෝ විශේෂයෙන්ම බැංකු, කුඩා ඒවා සම්පූර්ණයෙන්ම ගිලගන්නවා පමණක් නොව,

* Schulze-Gaevernitz. "Die deutsche Kreditbank" in "Grundriß der Sozialökonomik". Tübingen, 1915, S. 12, 137 (ෂුල්ත්සෙ-ගෙවර්නිට්ස්. ''සමාජමය ආර්ථිකයේදී'' ''ජර්මන් ණය දෙන බැංකුව''. ටියුබින්ගෙන්. — සංස්කාරක).



ඒවා ''ඈඳාගැනීම'' ද කරති; ඒවා යටත් කරගනිති; ඒවායේ ප්‍රාග්ධනයෙහි ''පාලන බලතල'' අත් කර ගැනීමෙන්, කොටස් මිළට ගැනීමෙන් හෝ කොටස් හුවමාරු කර ගැනීමෙන්, ණය පහසුකම් දීමේ ක්‍රමයක් මගින් යනාදියෙන් ඒවා ''තමන්ගේම'' ''කණ්ඩායමට'' නැතහොත් (පාරිභාෂිත වචනය යොදතොත්) ''ව්‍යාපාරයට'' බඳවා ගනිති. නූතන ''පරිපාලන හා මූල්‍ය සමාගම්''* ගැන විස්තර කරමින්, මහාචාර්ය ලීෆ්මාන් පිටු 500 ක පමණ විශාල ''කෘතියක්'' ලියා ඇත. අවාසනාවකට මෙන් ඔහු එහි ඇතුලත් කරන, බොහෝ දුරට අපිළිවෙළින් ඉදිරිපත් කෙරුනු කරුණු වලට සැක පහළ කරවන ''න්‍යායික'' අදහස්ද එකතු කරයි. සංකේන්ද්‍රණය හා සම්බන්ධයෙන්, මෙම ''පරිපාලන'' ක්‍රමය ගෙන දෙන ප්‍රතිඵල මොනවාද යනු, තෙමේම බැංකු කරුවෙකු වූ රිසර් විසින්, ලොකු ජර්මන් බැංකු ගැන ලියන ලද පොතෙන්, ඉතා හොඳින් ගෙන හැර දක්වා තිබේ. නමුත් ඔහු ගෙන හැර දක්වන දත්තයන් ගැන විමසීමට පෙර, ''පරිපාලන'' ක්‍රමයේ ප්‍රත්‍යක්ෂ උදාහරණයක් උපුටා දක්වන්නෙමු.

''ජර්මන් බැංකු'' ''සමූහය'', බැංකු සමූහයන් අතුරෙන් විශාලතම එකය. නොඑසේ නම්, එය විශාලතම බැංකු සමූහයන් ගෙන් එකකි. මෙම බැංකු සමූහයේ සියළුම බැංකු එකට සම්බන්ධ කරන නූල් හඳුනා ගැනීම පිණිස, පළමු, දෙවැනි හා තුන්වැනි මට්ටමේ ''පරිපාලන'' හිමිකම් අතර වෙනස, එසේ නැතහොත්, ඊටම සමාන වන (''ජර්මන් බැංකුව'' කෙරෙහි අවශේෂ බැංකුවල) යටත් භාවයේ පළමු, දෙවැනි හා තුන්වැනි මට්ටම් අතර වෙනස පැහැදිලි කළ යුතු වේ. ඒ සම්බන්ධයෙන් අපට ලැබෙන චිත්‍රය පහත සඳහන් පරිදිය.** (පිටුව 58 බලන්න)

සමහර අවස්ථාවල ''ජර්මන් බැංකුවට'' ''පළමු මට්ටමෙන්'' යටත් වන බැංකු අටට විදේශ බැංකු තුනක්ද අයත්ය. ඒවා එකක් ඕස්ට්‍රියානු (වියානා ''බැංකු සංගමය'' — "Bankverein"), දෙකක් රුසියානු (සයිබීරියානු වාණිජ බැංකු සහ විදේශ වෙළෙඳම් සඳහා රුසියානු බැංකුව) බැංකු වෙත්. මුළු වශයෙන් ගත් කල, ''ජර්මන් බැංකු'' සමූහයට සෘජු සහ අනියම් ලෙසද සම්පූර්ණ හා අර්ධ වශයෙන්ද, බැංකු 87 ක් අයත් වේ. එහි මුළු ප්‍රාග්ධනය, එනම් එම බැංකුවේ සහ එය පාලනය කරන

* R. Liefmann. "Beteiligungs- und Finanzierungsgesellschaften. Eine Studie über den modernen Kapitalismus und das Effektenwesen". 1. Aufl., Jena, 1909, S. 212.

** Alfred Lansburgh. "Das Beteiligungssystem im deutschen Bankwesen" in "Die Bank", 1910, 1, S. 500 (අල්ෆ්‍රඩ් ලාන්ස්බර්ග්. ''ජර්මන් බැංකු ව්‍යාපාරය තුළ හිමිකම් ක්‍රමය'', ''බැංකුව''. — සංස්කාරක).

| | | පළමු මට්ටමේ යටත් බව | දෙවැනි මට්ටමේ යටත් බව | තුන්වැනි මට්ටමේ යටත් බව |
|---|---|---|---|---|
| "ජර්මන් බැංකුවේ" පාලන හිමිකම් | නිත්‍ය | වෙනත් බැංකු 17 තුළ | 17 න් 9 කට වෙනත් බැංකු 34 ක පාලන හිමි කම් ඇත | 9 න් 4 කට වෙනත් බැංකු 7 ක පාලන හිමි කම් ඇත |
| | අවිනිශ්චිත කාල සීමාවකට | වෙනත් බැංකු 5 ක් තුළ | — | — |
| | සමහර අවස්ථාවල | වෙනත් බැංකු 8 ක් තුළ | 8 න් 5 කට තවත් බැංකු 14 ක පාලන හිමි කම් ඇත | 5 න් 2 කට වෙනත් බැංකු 2 ක පාලන හිමි කම් ඇත |
| | මුළු ගණන් | වෙනත් බැංකු 30 ක; | එම බැංකු 30 න් 14 කට වෙනත් බැංකු 48 ක පාලන හිමි කම් ඇත; | එම බැංකු 14 න් 6 කට වෙනත් බැංකු 9 ක පාලන හිමි කම් ඇත |

බැංකුවල ප්‍රාග්ධනය මාර්ක් කෝටි 200 ත්, 300 ත් අතර ගණනකැයි තක්සේරු කර තිබේ.

එවැනි බැංකු සමූහයක මුල් තැන ගෙන සිටින හා රාජ්‍ය ණය දීම වැනි අතිශයින්ම විශාල හා ලාභදායක මූල්‍ය කටයුතු කරගෙන යාම සඳහා, තමන්ට වඩා ස්වල්ප වශයෙන් පමණක් කුඩා වූ වෙනත් බැංකු අඩ දුසිමක් පමණ සමග ගිවිසුම්වලට එළඹෙන බැංකුවක්, මේ වන විට "අතර මැදියාගේ" කාර්ය කොටස ඉක්මවා වර්ධනය වී, ඒකාධිකාරීන් අතලොස්සකගේ හවුලක් වී තිබෙන බව පැහැදිලිය.

විසිවැනි ශතවර්ශයාරම්භයේදී, ජර්මනියේ බැංකු කටයුතු සංකේන්-



ද්‍රණය කොතරම් සීඝ්‍ර ලෙස සිදුවීද යනු, අප රීසර්ගෙන් උපුටාගෙන, පහත සාරාංශ කොට දක්වන දත්තයන්ගෙන් පෙනේ:

විශාල බර්ලින් බැංකු හය

| වර්ෂය | ජර්මනියේ ශාඛා | තැන්පතු බැංකු හා විනිමය කාර්යාල | ජර්මන් බද්ධ ව්‍යාපාර වස්තු බැංකුවල ස්ථාවර පාලන හිමිකම් සහිත | මුළු ආයතන ගණන |
|---|---|---|---|---|
| 1895 | 16 | 14 | 1 | 42 |
| 1900 | 21 | 40 | 8 | 80 |
| 1911 | 104 | 216 | 63 | 450 |



මුළු රට පුරාම විහිදී පවතිමින්, සියළු ප්‍රාග්ධනය සහ සියළු ආදයම් සංකේන්ද්‍රණය කරන හා විසිරී තිබෙන දහස් ගණන් ආර්ථික ව්‍යවසායයන් එකම ජාතික ධනපති ආර්ථිකයකට හා ඉන් අනතුරුව ලෝක ධනපති ආර්ථිකයකට සංකේන්ද්‍රණය කරන, සමීප ලෙස බැඳුනු මාර්ග ජාලකයක ව්‍යාප්තිය අපට දක්නට ලැබේ. නූතන ධනපති ආර්ථික විද්‍යාව ඉදිරියට ගෙන යන්නෙක් වන ෂුල්ත්සෙ-ගේවර්නිත්ස් ඉහත උපුටා දක්වන ලද කොටසෙහි "විමධ්‍යගත" යනුවෙන් සඳහන් කර ඇති කරුණෙහි නියම අර්ථය වන්නේ, ඉහතදී සාපේක්ෂ වශයෙන් "ස්වාධීන" වූ, නැතහොත් වඩාත් නිවැරැදිව කියතොත්, ප්‍රාදේශීය ආර්ථික ඒකක එන්න එන්නම වැඩිවන සංඛ්‍යාවක්, එකම මධ්‍යස්ථානයකට යටත් කිරීමය. යථාර්ථ වශයෙන් එය මධ්‍යගතකරණය වේ — ඒකාධිකාරී යෝධයන්ගේ කාර්ය කොටස, වැදගත්කම හා බලය වැඩි කිරීමක් වේ.

වඩාත් පැරණි ධනපති රටවල, මෙම "බැංකු කටයුතු ජාලය" වඩාත් සමීප ලෙස එකට බැඳී ඇත. 1910 දී මහා බ්‍රිතාන්‍යයේ හා අයර්ලන්තයේ තිබුණු බැංකු ශාඛා මුළු ගණන 7151 ක් විය. ලොකු බැංකු හතරකට, එකකට ශාඛා (447 පටන් 689 දක්වා) 400 කට වැඩි සංඛ්‍යාවක් බැගින් තිබිණි. තවත් හතරකට ශාඛා 200 කට වැඩි සංඛ්‍යාවක් බැගින්ද, එකොළහකට ශාඛා 100 කට වැඩි සංඛ්‍යාවක් බැගින්ද තිබිණි.

ප්‍රංශයේ ඉතා විශාල බැංකු තුනක්, "Crédit Lyonnais", "Comptoir

National" සහ "Société Générale"* ඒවායේ කටයුතු සහ ශාඛා ජාලය පහත දැක්වෙන පරිදි ව්‍යාප්ත කළහ:**

| | ශාඛා සහ කාර්යාල සංඛ්‍යාව | | | ප්‍රාග්ධනය (ප්‍රෑන්ක් 10,00,000 ගණනින්) | |
|---|---|---|---|---|---|
| | ප්‍රදේශවල | පැරීසි-යෙහි | එකතුව | ස්වකීය ප්‍රාග්ධනය | ප්‍රාග්ධනය ලෙසට යෙදූ තැන්පතු |
| 1870 . . . | 47 | 17 | 64 | 200 | 427 |
| 1890 . . . | 192 | 66 | 258 | 265 | 1245 |
| 1909 . . | 1033 | 196 | 1229 | 887 | 4363 |

විශාල නවීන බැංකුවක "සම්බන්ධකම්" ගෙන හැර දැක්වීම පිණිස, රීසර්, ජර්මනියේ සහ ලෝකයේ විශාලතම බැංකුවලින් එකක් වන "වට්ටම් සංගමය" ("Disconto-Gesellschaft") (1914 දී එහි ප්‍රාග්ධනය මාර්ක් කෝටි 30 ක් විය) යැවූ හා ලැබූ ලියුම් ගණන් දක්වන පහත සඳහන් සංඛ්‍යා ඉදිරිපත් කරයි:

| | ලැබුණු ලියුම් | යැවූ ලියුම් |
|---|---|---|
| 1852 . . . . . . . . . . | 6,135 | 6,292 |
| 1870 . . . . . . . . . . | 85,800 | 87,513 |
| 1900 . . . . . . . . . . | 533,102 | 626,043 |

"ක්‍රෙඩිට් ලියොනේ" නැමති විශාල ප්‍රංශ බැංකුවේ ගිණුම් සංඛ්‍යාව 1875 දී 28,535 වූ අතර 1912 වන විට එය 6,33,539 දක්වා වැඩි විය.***

* "ක්‍රෙඩිට් ලියොනෙ" "කොම්ප්තුවා නසිඔනාල්" "සොසියෙතෙ ජෙනෙරාල්" — සංස්කාරක

** Eugen Kaufmann. "Das französische Bankwesen". Tübingen, 1911, S. 356 und 362 (යෙව්ජින් කෞෆ්ජ්මන්. "ප්‍රංශ බැංකු ව්‍යාපාරය" ටියුබින්ගෙන්. — සංස්කාරක).

*** Jean Lescure. "L'épargne en France". Paris, 1914, පිටු 52 (ජාන් ලෙස්කියුර්. "ප්‍රංශයේ ඉතිරි කිරීම". පැරිස්. — සංස්කාරක).



ප්‍රාග්ධන සංකේන්ද්‍රණයත්, බැංකු පිරිවැටුමත් නිසා බැංකුවල වැදගත්කම මූලික වශයෙන් වෙනස් වන්නේ කෙසේද යන්න, සමහර විට දීර්ඝ විමර්ශනයන්ට වඩා හොඳින් මෙම සරල සංඛ්‍යාවලින් මනා සේ පැහැදිලි වේ. විසිර සිටින ධනපතියන් ඒකීය සාමූහික ධනපතියෙකු බවට පරිවර්තනය කරනු ලැබේ. ධනපතියන් ස්වල්ප දෙනෙකුගේ ජංගම ගිණුම් පවත්වා ගැනීමෙන් බැංකුව කරන්නේ හුදෙක්ම ශිල්පීයමය හා තනිකරම සහායක කටයුත්තකි. එසේ වුවත්, මෙම කටයුතු යෝධ පරිමාණයෙන් වැඩීයන විට, මුළු ධනපති සමාජයේම වාණිජ සහ කාර්මික කටයුතු සියල්ලම ඒකාධිකාරීන් අතලොස්සක් විසින් තමන්ගේ කැමැත්තට යටත් කරනු ලබන බව අපට පෙනේ. ඔවුනට එසේ කළ හැකි වන්නේ, ඔවුන්ගේ බැංකු සම්බන්ධකම්, ජංගම ගිණුම් හා වෙනත් මූල්‍ය කටයුතු මාර්ගයෙන්, ප්‍රථමයෙන්, විවිධ ධනපතියන් ගේ මුදල් තත්වය ඉතාමත් නිවැරදි ලෙස දැන ගැනීමටත්, ඊළඟට එම ධනපතියන් පාලනය කිරීමත්, ණය සීමා කිරීම, ණය පහසු කිරීම නැතහොත් වලක්වාලීම තුළින් ඔවුනට බලපෑමටත්, අවසාන වශයෙන් එම ධනපතියන් ගේ ඉරණම මුළුමනින්ම තීරණය කිරීම, ආදායම තීරණය කිරීම, ප්‍රාග්ධනය අහිමි කිරීම නැතහොත් එය සීඝ්‍ර ලෙස හා අති විශාල පරිමාණයෙන් වැඩි කර ගැනීමට ඉඩදීම, යනාදිය කිරීමටත්, ඔවුනට (ඒකාධිකාරීන්ට) හැකියාව ලැබෙන හෙයිනි.

ජර්මනියේ වට්ටම් සංගමයේ මාර්ක් 30 කෝටියක ප්‍රාග්ධනය ගැන දැන් අපි සඳහන් කෙළෙමු. මෙම වට්ටම් සංගමයේ ප්‍රාග්ධනය මෙසේ වැඩි වීම, ජර්මන් බැංකු දෙකක් අතර එනම් ජර්මන් බැංකුව හා "වට්ටම් සංගමය" අතර මූලිකත්වය සඳහා කෙරුණු අරගලයෙන් පැන නැඟුනු සිදුවීමකි. 1870 දී, මින් ප්‍රථම බැංකුව, නවක තත්වයේ පැවති අතර, එහි ප්‍රාග්ධනය මාර්ක් 1 කෝටි 50 ලක්ෂයක් විය. එකල දෙවැනිව සඳහන් බැංකුවට, මාර්ක් කෝටි 3 ක ප්‍රාග්ධනයක් තිබිණ. 1908 වර්ෂයේදී ප්‍රථමයෙන් සඳහන් බැංකුවට මාර්ක් කෝටි 20 ක ප්‍රාග්ධනයක්ද දෙවැනි බැංකුවට මාර්ක් කෝටි 17 ක ප්‍රාග්ධනයක් ද තිබිණි. 1914 වර්ෂය වන විට ප්‍රථම බැංකුව එහි ප්‍රාග්ධනය මාර්ක් කෝටි 25 දක්වා වැඩි කරගත් අතර, දෙවැනි බැංකු තවත් ප්‍රථම පෙළේ ලොකු බැංකුවක් වූ "ෂාෆ්ජහවුසෙන් සංගම් බැංකුව සමග සංයෝජනය වීමෙන් එහි ප්‍රාග්ධනය මාර්ක් කෝටි 30 දක්වා වැඩි කරගත්තේය. නමුත් එසේ වූවත් මූලිකත්වය සඳහා මෙම අරගලය ඉදිරියට ගියේ බැංකු දෙක අතර, වඩ වඩාත් නිරන්තර ලෙස, තව තවත් කල්පවත්නා ස්වභාවයේ වූ "ගිවිසුම්" ඇති කරගැනීමත් සමග අතිනත් ගනිමිනි. ඉතාමත් මධ්‍යස්ථ සහ සුපරීක්ෂාකාරී ධනපති ප්‍රතිසංස්කරණවාදයේ සීමාවන් ස්වල්ප වශයෙන් හෝ නො ඉක්මවන දෘෂ්ටි

කෝණයකින් ආර්ථික ප්‍රශ්න ගැන සලකා බලන බැංකු විශේෂඥයන්ට, මෙම සිදුවීම නිසා පිළිනොගෙන බැරි වූ නිගමනයන් පහත සඳහන් ය.

වට්ටම් සංගමයේ ප්‍රාග්ධනය මාර්ක් 30 කෝටිය දක්වා වැඩිවීම සම්බන්ධයෙන් විස්තර කථනයක යෙදෙන ''බැංකුව'' නැමති ජර්මන් සඟරාව මෙසේ ලිවීය: ''අනෙකුත් බැංකුද එම මාර්ගයෙහිම ගමන් කරනු ඇත. ඒ අනුව, අද ආර්ථික වශයෙන් ජර්මනිය පාලනය කරන පුද්ගලයන් 300 ක් දෙනා, කල්යාමේ දී, ක්‍රම ක්‍රමයෙන් පණහක්, විසි පහක් හෝ ඊටත් කුඩා සංඛ්‍යාවක් දක්වා අඩු වනු ඇත. සංකේන්ද්‍රණය කරා යොමු වූ මෙම නවතම නැඹුරුව, බැංකු කටයුතුවලට පමණක් සීමා වී පවතිනු ඇතැයි අපේක්ෂා කළ නො හැකිය. තනි බැංකු අතර පවතින සමීප සම්බන්ධකම් නිසා, මෙම බැංකු අනුග්‍රහ දක්වන කාර්මික සම්මේල අතර එක්සත් වීමකට ස්වභාවික වශයෙන්ම මග පෑදෙන්නේය... කිසියම් කදිම උදෑසනක, අප අවදිවන විට, අප නෙත් හමුවේ දකින්නට සංගත ව්‍යාපාර හැර වෙනත් යමක් නොතිබීමෙනුත්, පුද්ගලික ඒකාධිකාර වෙනුවට රජයේ ඒකාධිකාර ආදේශ කිරීමේ අවශ්‍යතාවයට අප මුහුණ පා සිටින බව පෙනී යාමෙනුත් අප මවිතයට පත්වනු ඇත. එසේ වුවද, ව්‍යාපාර වස්තු ජාවාරම් මාර්ගයෙන් සුළු වශයෙන් වේගවත් වූ පරිද්දෙන්, සිදුවීම්වලට ඒවා කැමති මගක් ගැනීමට ඉඩ තැබීම හැර, වෙනත් දෙයක් සම්බන්ධයෙන් අපට දෙස් පවරා ගැනීමේ අවශ්‍යතාවයක් නැත්තේය''.*

මෙය ධනපති පුවත්පත් කලාවේ බෙලහීනත්වය පිළිබඳ නිදසුනකි. එය ධනපති විද්‍යාවට වඩා වෙනස් වන්නේ එම විද්‍යාව වඩාත් වංක හා කාරණයෙහි සාරාර්ථය සැඟවීමට උත්සාහ කරන නිසා, නැතහොත් ගස්වලින් කැලය සැඟවීමට උත්සාහ කරන නිසාත් පමණකි. සංකේන්ද්‍රණයේ ප්‍රතිඵල දැක මවිත වීම, ධනපති ජර්මනියේ ආණ්ඩුවට නැතහොත් ධනපති ''සමාජයට'' (''අපටම'') ''දෝෂාරෝපනය කිරීම'', ජර්මන් ''කාටල'' විශේෂඥ චිර්ෂ්කි ඇමෙරිකානු සංගත ව්‍යාපාරවලට බිය වන මෙන් හා, ''සංගත ව්‍යාපාර මෙන් කාටල පමණ ඉක්මවා තාක්ෂණික හා ආර්ථික ප්‍රගතිය වේගවත් නොකරනු ඇතැයි යන කරුණු හේතුවක් කොට ගනිමින් ජර්මන් කාටලවලට ''වැඩි කැමැත්තක් දක්වන'' මෙන්, ව්‍යාපාර වස්තු හා කොටස් කටයුතු ආරම්භ කිරීම නිසා සංකේන්ද්‍රණය ''වේගවත්'' වෙතැයි බියවීම, යන මේ සියල්ල බෙලහීනත්වයේ ලකුණක් නොවේද?

එහෙත් සත්‍ය කරුණු සත්‍යමය. ජර්මනියේ සංගත ව්‍යාපාර නැත්තේය. එහි ඇත්තේ කාටල ''පමණකි''. නමුත් ජර්මනිය ආණ්ඩු කරන්නේ ප්‍රාග්ධන අධිපතියන් තුන්සියයට නොවැඩි පිරිසකි. එම සංඛ්‍යාවද එන්න එන්නම අඩුවෙමින් පවතී. සියළුම ධනපති රටවල කොතරම් විවිධාකාර බැංකු නීති තිබුණත්, මොන තත්වයක් යටතේ වුවත්, එම රටවල් සියල්ලෙහිම ප්‍රාග්ධන සංකේන්ද්‍රණයේ හා ඒකාධිකාරයන් හැඩ ගැසීමේ ක්‍රියාදාමය බැංකු විසින් බෙහෙවින් උත්සන්න කරනු ලැබේ, වේගවත් කරනු ලැබේ.

''පොදු වශයෙන් පොත් තැබීමේ හා නිෂ්පාදන මාර්ගයන් බෙදා හැරීමේ සමාජමය පරිමාණයේ ආකෘතියක් ඇත්තෙන්ම'' බැංකු ක්‍රමය සතුව ඇති බවත්, ''නමුත් එය හුදෙක්ම ආකෘතියක්'' බවත් මාක්ස් අර්ධශතවර්ෂයකට පෙර ''ප්‍රාග්ධනය'' කෘතියෙහි ලීවේය. (රුසියානු පරිවර්තනය, වෙළුම III කොටස II, පිටු 144[34] බැංකු ප්‍රාග්ධනයේ වර්ධනයත්, විශාලතම බැංකුවල ශාඛා සහ කාර්යාල ගණන වැඩි වීමත්, ඒවායේ ගිණුම් සංඛ්‍යාව වැඩිවීමත්, ආදිය පිළිබඳව, අප ඉහත උපුටා දක්වා ඇති සංඛ්‍යාවලින්, සමස්ත ධනපති පංතියේම මෙම ''විශ්වීය පොත් තැබීම'' පෙන්වන පැහැදිලි පින්තූරයක් ඉදිරිපත් වේ. තවද, එයින් පිළිබිඹු වන්නේ ධනපතියන් සම්බන්ධයෙන් පොත් තැබීම පමණක්ම නොවේ. තාවකාලික වශයෙන් වුවද, බැංකු විසින් එකතු කරනු ලබන නොයෙක් ආකාරයේ මුදල් ආදායම්, එනම්, සුළු ව්‍යාපාරිකයන්ගේද, කාර්යාලීය ලිපිකරුවන්ගේද, කම්කරු පංතියේ ඉතා කුඩා සංඛ්‍යාවක් වූ එහි ඉහළ ස්ථරයේද, ආදායම් එයට ඇතුලත් වේ. ප්‍රංශයේ විශාලතම බැංකු අතුරෙන් තුන සිට හය දක්වා ගණනක් වූ ද, ජර්මනියේ හයක් හෝ අටක් වූ ද කෝටි ගණන් මුදල් පාලනය කරන නවීන බැංකු වලින් වැඩී සකස්වන දෙය, එහි ආකෘතිය අනුව බලන කල, ''නිෂ්පාදන මාර්ග විශ්වීය වශයෙන් බෙදාහැරීම'' වේ. නමුත් හරය වශයෙන් ගත් කල නිෂ්පාදන මාර්ග බෙදාහැරීම කිසිසේත්'' විශ්වීය නොවන අතර, එය පුද්ගලික වේ. එය සිදුවන්නේ ලොකු ප්‍රාග්ධන අධිකාරීන්ගේ අවශ්‍යතාවයන්ට අනුකූල ලෙසය, මූලික වශයෙන්ම, පොදු ජනතාව නැති බැරි කමින් පීඩිතව සිටින්නාවූද, කෘෂිකර්මය කර්මාන්තයට වඩා බොහෝ සේ පසුබා සිටින අතර කර්මාන්තයම තුළ වන ''බැර කර්මාන්ත'' අන් සියළු කර්මාන්තවලින් කප්පම් ගරා ගන්නා වූ ද, තත්වයන් යටතේ කටයුතු කරන අති දැවැන්ත ඒකාධිකාරී ප්‍රාග්ධනයෙහි උවමනාවන්ට අනුකූලවය.

ධනපති ආර්ථිකය සමාජමය කිරීමේදී ඉතිරි කිරීමේ බැංකු සහ තැපැල් කාර්යාල, බැංකු සමග තරඟ වැදීමට පටන් ගනිති. ඒවා වඩාත් ''විමධ්‍යගත'' වී ඇත. ඒවායේ බලපෑම වැඩි ප්‍රදේශ ගණනකට, වඩාත් දුර බැහැර පෙදෙස්වලට, වඩාත් පුළුල් ජනතා කොටස් තුළට, විහිදෙන්නේය.

* A. Lansburgh. ("Die Bank mit den 300 Millionen" in "Die Bank", 1914, 1, S. 426 (ඒ. ලාන්ස්බර්ග්. ''කෝටි 30 ක් සමග බැංකුව'', ''බැංකුව''. — සංස්කාරක).

බැංකු හා ඉතිරි කිරීම් බැංකුවල තැන්පතු සංසන්දනීය ලෙස වර්ධනය වූ ආකාරය පිළිබඳව, ඇමෙරිකානු කොමිසමක් විසින් එකුතු කරන ලද දත්තයන් මෙසේය:*

තැන්පතු (මාර්ක් 100,00,00,000 ගණනින්)

| | බ්‍රිතාන්‍යය | | ප්‍රංශය | | ජර්මනිය | | |
|---|---|---|---|---|---|---|---|
| | බැංකු | ඉතිරි කිරීමේ බැංකු | බැංකු | ඉතිරි කිරීමේ බැංකු | බැංකු | ණය සමිති | ඉතිරි කිරීමේ බැංකු |
| 1880 | 8.4 | 1.6 | ? | 0.9 | 0.5 | 0.4 | 2.6 |
| 1888 | 12.4 | 2.0 | 1.5 | 2.1 | 1.1 | 0.4 | 4.5 |
| 1908 | 23.2 | 4.2 | 3.7 | 4.2 | 7.1 | 2.2 | 13.9 |



ඉතිරි කිරීමේ බැංකුවල තැන්පතු සඳහා, එම බැංකු සියයට 4 සිට $4\frac{1}{2}$ දක්වා වූ පොළී ගෙවන නිසා, ස්වකීය ප්‍රාග්ධනය සඳහා ''ලාභ දයක'' ආයෝජන මාර්ග සෙවීමට ඒවාට සිදු වේ. වට්ටම් වෙළෙඳමෙහි, උගස් ගැනීම් කටයුතුවල යනාදියෙහි යෙදීමට ඒවාට සිදු වේ. බැංකු සහ ඉතිරි කිරීමේ බැංකු අතර සීමා රේඛාවන් ''එන්න එන්නම මැකී යන්නේ ය''. නිදසුනක් ලෙසට වට්ටම් කොට බිල්පත් ගැනීම වැනි ''පිරිසිදු'' බැංකු ව්‍යාපාර කටයුතුවල යෙදීම ඉතිරි කිරීමේ බැංකුවලට ''තහනම්'' කරන ලෙසට බෝහුම් සහ එර්ෆර්ට් වාණිජ්‍ය මණ්ඩල කරන ඉල්ලීම දක්විය හැකිය. තැපැල් කාර්යාලයේ ''බැංකු කටයුතු'' සීමා කරන ලෙස ඔවුහු ඉල්ලති.**බලාපොරොත්තු නොවන පැත්තකින් රාජ්‍ය ඒකාධිකාරය තමන් මතට කඩා පතිනු ඇතැයි බැංකු අධිපතීන් බිය වන සේ පෙනේ. එසේ වුවද, මෙම බිය, එකම කාර්යාලයක අංශ දෙකක කළමණාකරුවන් අතර කෙරෙන තරඟය ප්‍රකාශයට පත් කිරීමක් යයි කිව හැකි දෙයක් මිස අන් යමක් නොවේ. එසේ කියන්නේ, ඉතිරි කිරීමේ බැංකුවලට භාර දෙන කෝටි ගණන් මුදල් අවසාන විග්‍රහයේදී නියතවශයෙන් මෙම බැංකු ප්‍රාග්ධනය විසින්ම පාලනය කෙරෙන අතර, අනිත් අතට, ධනපති සමාජයේ රාජ්‍ය ඒකාධිකාරය යනු, හුදෙක්ම, කිසියම් කර්මාන්ත අංශයක බංකොලොත් ලැබීමට ආසන්නව සිටින කෝටිපතියන් ගේ ආදයම වැඩි කර සහතික කිරීමේ මාර්ගයක් පමණක් වන හෙයිනි.

නිදහස් තරඟය ප්‍රමුඛත්වය දරූ පැරණි වර්ගයේ ධනපති ක්‍රමයේ සිට ඒකාධිකාරය රජ කරන නව ධනපති ක්‍රමයට මාරුවීම, වෙනත් කරුණු වලින් මෙන්ම ව්‍යාපාර පොළෙහි වැදගත්කම හීන වී යාමෙන් ද පෙනේ. ''බැංකුව'' සඟරාව මෙසේ ලියයි: ''නව නිකුතු බහුතරය ස්වකීය සේවා අපේක්ෂකයින් හමුවේ තැබීමට සමත් කමක් බැංකුවලට නොතිබුණු ඒ ඉහත කාලයේදී නැතිවම බැරි සංසරණ මාධ්‍යය වශයෙන්, ව්‍යාපාර පොළට තිබුණු තත්වය නැතිව ගොස් දැන් බොහෝ කල්ය''.*

''සෑම බැංකුවක්ම ව්‍යාපාර පොළකි'' බැංකුවක් විශාල වූ තරමට හා බැංකු කටයුතු සංකේන්ද්‍රණය වඩාත් සාර්ථක වූ තරමට, මෙම විස්තර පාඨයේ නිරවද්‍යතාවය වඩාත් තද ගැන්වේ''.** ''ඉහතදී හැත්තෑගණන්වලදී, ව්‍යාපාර පොළ නව යෞවන භාවයේ ප්‍රීති ප්‍රමෝදයෙන් මත්ව'' (මෙය 1873 ව්‍යාපාර පොළ බිඳ වැටීම[35] හා ව්‍යාපාරික සමාගම් පිහිටුවීම සම්බන්ධ ගෘන්ඩර් අපකීර්තිමත් සිදුවීම්[36] ගැන සියුම් ලෙස සඳහන් කිරීමකි.) ''ජර්මනියේ කාර්මිකකරණයේ යුගය ආරම්භ කළ අතර, දැන් බැංකුවලට හා කර්මාන්තයට ''තනිවම කර ගැනීම පුළුවන''. ව්‍යාපාර පොළට ඉහළින්, අපගේ බැංකු පාන්නා වූ ආධිපත්‍යය... අන් කිසිවක් නොව පූර්ණවශයෙන් සංවිධානය වූ ජර්මන් කාර්මික රාජ්‍යය ගැන කියන ප්‍රකාශණයකි. ස්වයංක්‍රීය ආර්ථික නියාමයන්ගේ ක්‍රියා කාරිත්ව ක්ෂේත්‍රය එසේ සීමා කෙරේ නම්, එසේම, බැංකුවලින් කෙරෙන විඥත මෙහෙයුම පිළිබඳ රජ දහන සැලකිය යුතු ලෙසින් විශාල කෙරේ නම්, නායක හිස් ගෙඩි කීපයෙහි ජාතික ආර්ථික වගකීම අතිශයින්ම වැඩි වීම අප්‍රමාදව සිදුවේ'' යයි ජර්මන් මහාචාර්ය ෂුල්ත්සේ-ගෙවර්නිත්ස් ලියයි.** ජර්මන් අධිරාජ්‍යවාදයට ආවඩන්නෙකු වන මොහු, සියළු රටවල්ම අධිරාජ්‍යවාදීන් විසින්, විශේෂඥයෙක් ලෙස සලකනු ලැබේ. ආර්ථික ජීවිතය කෙරෙහි බැංකු

* "Die Bank" 1910, 2, S. 1200 හී උපුටා දක්වන ලද National Monetary Commission යන කොමිසමෙහි දත්තයන් (ජාතික මුදල් කොමිසම ''බැංකුව'' සඟරාව. — සංස්කාරක).

** "Die Bank" 1913, S. 811, 1022; 1914, S. 713 හි උපුටා දක්වන ලද National Monetary Commission යන කොමිසමෙහි දත්තයන්.

* "Die Bank", 1914, 1, S. 316.

** Dr. Oscar Stillich. "Geld- und Bankwesen". Berlin, 1907, S. 169 (ආචාර්ය ඔස්කාර් ෂ්තිලිහ්. ''මුදල් හා බැංකු ව්‍යාපාරය''. බර්ලින්. — සංස්කාරක).

*** Schulze-Gaevernitz. "Die deutsche Kreditbank" in "Grundriß der Sozialökonomik". Tübingen, 1915, S. 101.

එසින් ක්‍රියාත්මක කරනු ලබන ''විඥත මෙහෙයුම'' යනු, ''සම්පූර්ණයෙන්ම සංවිධානය වූ'' ඒකාධිකාරීන් අතලොස්සක් විසින්, මහජනයා සූරා කෑම වන්නේය යන ''නො වැදගත් කාරණයට'' උඩින් පැන යාමට ඔහු උත්සාහ කරයි. ධනපති මහාචාර්යවරයෙකුගේ කර්තව්‍යය වන්නේ, සම්පූර්ණ යන්ත්‍රයම ගැන හෙළිදරව් කිරීම හෝ බැංකු ඒකාධිකාරීන් ගේ කූට ප්‍රයෝග සියල්ලම හෙළිදරව් කිරීම හෝ නොව, ඒවා සිත් ගන්නා ලෙසින් ඉදිරිපත් කිරීමය.

ඊටත් වඩා පිළිගත් ආර්ථික විද්‍යාඥයෙකු හා බැංකු විශේෂඥයෙකු වූ රිසර්, ප්‍රතික්ෂේප කළ නොහැකි කරුණු සම්බන්ධයෙන් හේතු දැක්වීම පිණිස, අර්ථ විරහිත වාක්‍ය කොටස් යොදා ගනිමින් මෙසේ කියයි: ''මුළු මහත් ජාතික ආර්ථිකයටත්, විශේෂයෙන්ම සුරැකුම් පත් සංසරණයටත් ඒකාන්ත වශයෙන්ම අවශ්‍ය වූ අංගලක්ෂණයක් දැන් ස්ථිර වශයෙන්ම ව්‍යාපාර පොළෙන් ඉවත් වෙමින් පවතී. එම අංගලක්ෂණය නම්, එය කරා ගලා එන ආර්ථික සංචලනයන් පිළිබඳ ඉතාමත් නිවැරදි මිනුම් දණ්ඩ වීම පමණක් නොව, එම සංචලනයන් ස්වයංක්‍රීය ලෙස හසුරුවන්නාද වීමය''. *

වෙනත් වචන වලින් කියතොත්, පැරණි ධනපති ක්‍රමය, එහි නැතිවම බැරි හසුරුවන්නා වන ව්‍යාපාර පොළ ද සමග වූ නිදහස් තරඟයේ ධනපති ක්‍රමය, අතීතයට ඉකුත් වෙමින් පවතී. එහි තැන ගැනීමට අළුත් ධනපති ක්‍රමයක් පැමිණ ඇත. එහි කිසියම් තාවකාලික ස්වභාවයක අංගලක්ෂණ පැහැදිලිවම දක්නට ලැබේ. නිදහස් තරඟයේ හා ඒකාධිකාරයේ සම්මිශ්‍රණයක් වීම එහි දක්නට ලැබෙන ඒ ස්වභාවයයි.නිතැතින්ම මෙම ප්‍රශ්නය පැන නගී: නව ධනපති ක්‍රමය ''සංවර්ධනය වීමෙන් ඇතිවන්නේ'' කුමක් ද? නමුත් ධනපති උගත්තු මෙම ප්‍රශ්නය මතු කිරීමට බිය වෙති.

තිස් වසරකට පෙර, එකිනෙකාට විරුද්ධව නිදහස් ලෙස තරඟ කළ ව්‍යාපාරිකයෝ, ඔවුන්ගේ ව්‍යාපාරය හා සම්බන්ධ කම්කරුවන්ගේ කායික ශ්‍රමය හැර අන් සියළු කටයුතු වලින් දහයෙන් නව කොටසක්ම තමන්ම කළහ.එහෙත් දැන්, ''මොළය වෙහෙසෙන වැඩ''දහයෙන් නව පංගුවක්ම කරනු ලබන්නේ සේවකයන් විසිනි. බැංකු කටයුතු මෙම පරිණාමයේ මුල් තැන ගන්නේය''** ෂුල්ත්සෙ ගේවර්නිත්සේ ගේ මෙම පිළිගැනීම නිසා, අප හමුවේ නැවතත් මෙම ප්‍රශ්නය මතුවේ: නව ධනපති ක්‍රමය, අධිරාජ්‍යවාදී අවධියේ ධනපති ක්‍රමය සංවර්ධනය වීමෙන් ඇතිවන්නේ කුමක්ද?

සංකේන්ද්‍රණ ක්‍රියාදමය පිහිට කොට ගෙන මුළු ධනපති අර්ථ ක්‍රමයේම මුල් තැන ගෙන සිටින බැංකු කීපය අතර, ඒකාධිකාරී ගිවිසුම් කරා යොමු වූ, බැංකු සංගතයක් කරා යොමු වූ, වඩ වඩාත් ප්‍රකට වෙමින් පවතින ප්‍රවණතාවයක් දක්නට ලැබේ.එය ස්වභාවිකය. ඇමෙරිකාවේ බැංකු නවයක් නොව, ඉතා විශාල බැංකු දෙකක්, එනම් රොක්ෆෙලර් හා මෝගන් යන කෝටිපතියන්ගේ බැංකු දෙක, මාර්ක් කෝටි 1,100 ක ප්‍රාග්ධනයක් පාලනය කරයි.* මා ඉහත සඳහන් කළ පරිදි, ජර්මනියේ ''ෂාෆ්ජහවුසෙන්හර් සංගම් බැංකුව'' ''වට්ටම් සංගමය'' විසින් ගිල ගැනීම සම්බන්ධයෙන් ව්‍යාපාර පොළෙහි අයිතිවාසිකම් වෙනුවෙන් පෙනී සිටින පත්‍රයක් වන ''ෆ්‍රෑන්ක්පර්ට් පත්‍රය'' පහත සඳහන් පරිදි විස්තර කළේය:[37]

බැංකු සංකේන්ද්‍රණ ක්‍රියාවලිය නිසා ණය ප්‍රදානය කරන ආයතන ඇතුලත් කවය පටු වන්නේය. එනිසා විශාල කර්මාන්ත බැංකු සමූහයන් ස්වල්පයකට ගැතිවීම වැඩිවන්නේය. කර්මාන්තය හා මූල්‍ය ලෝකය අතර පවතින සමීප සම්බන්ධය නිසා, බැංකු ප්‍රාග්ධනය ලබාගැනීමේ අවශ්‍යතාවය ඇති කාර්මික සමාගම්වල ක්‍රියාකාරිත්ව නිදහස සීමා වේ. මෙම හේතුව නිසා, වර්ධනය වන බැංකු සංගත ගැන්වීම, ඒකාබද්ධ වීම හෝ සංගත බවට පරිවර්තනය වීම දෙස ලොකු කර්මාන්ත බලා සිටින්නේ දෙගිඩියාවෙනි. තරඟය සීමා කිරීමේ අරමුණ ඇතිව, විශාල තනි බැංකු ව්‍යාපාර අතර යම් යම් ගිවිසුම් ඇති කර ගැනීමේ ආරම්භයන් අපි ඇත්ත වශයෙන්ම යළි යළිත් දැක ඇත්තෙමු.**

බැංකු කටයුතුවල සංවර්ධනයේ කෙළවර ඇත්තේ ඒකාධිකාරය බව නැවත නැවතත් පෙනී යන්නේය.

බැංකු හා කර්මාන්ත අතර වන සමීප සම්බන්ධය ගැන කියතොත්, බැංකුව ඉටු කරන කාර්ය කොටස වඩාත් බලවත් ලෙස දැනෙන්නේ, මෙම ක්ෂේත්‍රයෙහි බව සඳහන් කළ යුතුය. බැංකුවක් කිසියම් සමාගමක බිල්පතක් වට්ටම් කරන විට ඒ සඳහා ජංගම ගිණුමක් ආරම්භ කරන විට, ඒ ආදී කටයුතු වෙන වෙනම ගත් විට එයින් එම සමාගමේ ස්වාධීනත්වයට අඩුවක් නොවේ. එසේ කිරීමේදී බැංකුව ඉටු කරන කාර්ය කොටස නිහතමානී අතරමැදියාගේ කාර්ය මිස අනෙකක් නොවේ. නමුත්, එවැනි කටයුතු වැඩි වත්ම, එම කටයුතු පිළිගත් ව්‍යවහාරය බවට පත් වෙත්ම, බැංකුව

* රීසර්, කලින් සඳහන් කෘතිය, 4 වැනි සංස්කරණය, පිටු 629.

** Schulze-Gaevernitz. "Die deutsche Kreditbank" in Grundriß der Sozialökonomik". Tübingen, 1915, S. 151.

* "Die Bank", 1912, 1, S. 435.

** ෂුල්ත්සෙ-ගෙවර්නිත්ස්, "Grdr, d. S.-Oek". කෘතියේ 155 පිටුවෙහි උපුටා දක්වා ඇත.

තමන්ම අතට අති විශාල ප්‍රාග්ධන ප්‍රමාණයන් එකතු කර ගනිත්ම, කිසියම් සමාගමක ජංගම ගිණුම පවත්වා ගැනීමේදී සිදුවන ලෙසටම, බැංකුවේ සේවා අපේක්ෂකයාගේ ආර්ථික තත්වය ගැන වඩාත් අංග සම්පූර්ණ හා විස්තර සහිත තොරතුරු දැනගත හැකි තත්වයට බැංකුව පත් වෙත්ම, ඇතිවන ප්‍රතිඵලය, කාර්මික ධනපතියා බැංකුවට වඩාත් අංග සම්පූර්ණ ලෙස ගැති වූ තත්වයට පත්වීම වන්නේය.

ඒ අතරම, බැංකු සහ විශාලතම කාර්මික සහ වාණිජ ව්‍යවසායයන් අතර පුද්ගල ස්වභාවයේ සම්බන්ධයක්, අන්‍යෝන්‍ය සංයෝජනය වීමක්, ඇති වන්නේය. කාර්මික සහ වාණිජ ව්‍යවසායවල කොටස් ගැනීමෙන්ද පරිපාලන මණ්ඩල වලට (නැතහොත් අධ්‍යක්ෂ මණ්ඩලවලට) බැංකු අධ්‍යක්ෂ වරුන් පත් කිරීමෙන්ද, එහි ප්‍රතිලෝම ක්‍රියාමාර්ගයෙන්ද, එය ක්‍රියාත්මක වේ. ජර්මන් ආර්ථික විද්‍යාඥ යෙයිඩල්ස්, මේ ආකාරයෙන් සිදුවන ප්‍රාග්ධන සහ ව්‍යවසාය සංකේන්ද්‍රණය සම්බන්ධයෙන් ඉතාමත් විස්තර සහිත දත්තයන් සකස් කළේය. බර්ලින් බැංකු හයක්, ඒවායේ අධ්‍යක්ෂ වරුන් මගින් කාර්මික සමාගම් 344 ක් තුළ නියෝජනය විය. ඊට අමතරව, ස්වකීය මාණ්ඩලික සාමාජිකයින් මගින් තවත් සමාගම් 407 ක් තුළ ඒවා නියෝජනය විය. මේ අනුව, මෙම බැංකු, සමාගම් 751 ක් වූ මුළු සංඛ්‍යාවක් තුළ නියෝජනය විය. මෙයින් සමාගම් 289 කම එක් එක් පරිපාලන මණ්ඩලයෙහි එම බැංකු නියෝජිතයින් දෙදෙනකු බැගින් විය. එසේ නැතහොත් බැංකු නියෝජිතයෙක් සභාපති ධූරය දැරුවේය. මෙම කාර්මික හා වාණිජ සමාගම් කර්මාන්තයේ ඉතාමත් විවිධ අංශවල තිබෙන බව අපට දක්නට ලැබේ. රක්ෂණය, ප්‍රවාහණය, ආපනශාලා, නෘත්‍ය ශාලා කලා කර්මාන්ත යනාදී වශයෙනි. අනිත් අතට මෙම බැංකු හයෙහි පරිපාලන මණ්ඩලවල (1910 දී), ලොකුම කර්මාන්ත කරුවන් පණස් එක් දෙනෙක් විය. බලසම්පන්න "Hapag" (Hamburg—Amerika) ආදියෙහි අධ්‍යක්ෂවර ක්‍රුප් ද ඒ අතර විය. 1895 සිට 1910 දක්වා වූ කාලය තුළ මෙම බැංකු වලින් හැම එකක්ම කාර්මික සමාගම් සිය ගණනක (281 පටන් 419 දක්වා වූ ගණනක) කොටස් සහ පිළිනපත් නිකුතුවට සහභාගි විය.*

බැංකු හා කර්මාන්තය අතර ''පුද්ගල සම්බන්ධය'', ඒ දෙකම හා ආණ්ඩුවත් අතර ඇති කරන ''පුද්ගල සම්බන්ධයෙන්'' තවත් ශක්තිමත් කරනු ලැබේ. යෙයිඩල්ස් මෙසේ ලියයි: ''පදවිධාරීන්වද, බලධාරීන් සමග සම්බන්ධකම් පැවැත්වීමට බොහෝ සෙයින් උපකාර (!!) විය හැකි හිටපු ආණ්ඩුවේ නිලධාරීන්වද, පරිපාලන මණ්ඩලවල තනතුරු කැමැත්තෙන්

---

* යෙයිඩල්ස්, කලින් සඳහන් කෘතිය. රීසර්, කලින් සඳහන් කෘතිය.



පිරිනමනු ලැබේ''... ''සාමාන්‍ය වශයෙන් ලොකු බැංකුවක පරිපාලන මණ්ඩලයෙහි පාර්ලිමේන්තු මන්ත්‍රීවරයෙක් හෝ බර්ලින් නාගරික මන්ත්‍රී-වරයෙකු ඇත''.

එනිසා ලොකු ධනපති ඒකාධිකාර වශයෙන් හැඳින් විය හැකි ආයතන ගොඩනැගීම, සියළුම ස්වාභාවික'' සහ ''අස්වාභාවික'' මාර්ග ඔස්සේ සීඝ්‍රතම වේගයෙන් කරගෙන යනු ලැබේ. නවීන ධනපති සමාජය මතුයෙහි රජකරන දෙතුන් සියයක් වූ මූල්‍ය රජවරුන් අතර එක්තරා ආකාර ශ්‍රම විභජනයක් ක්‍රමානුකූල ලෙස ක්‍රියාත්මක කරනු ලැබේ:

''යම් යම් ලොකු කර්මාන්ත කරුවන්ගේ කාර්ය ක්ෂේත්‍රය'' (බැංකු අධ්‍යක්ෂ මණ්ඩල ආදියට සම්බන්ධ වීම නිසා) පුළුල් වීමත් සමග, නිශ්චිත කාර්මික කලාප සඳහා ප්‍රාදේශීය බැංකු කළමණාකරුවන් පත්වීමත් සමග, ලොකු බැංකුවල අධ්‍යක්ෂවරුන් අතර විශේෂඥතා වර්ධනයේ දියුණුවක් ඇති වන්නේ ය. සාමාන්‍ය වශයෙන් කියතොත්, විශේෂඥතා වර්ධනය ක්‍රියාත්මක කළ හැක්කේ බැංකු කටයුතු මහා පරිමාණයෙන් කරගෙන යන විට පමණකි. එමෙන්ම, විශේෂයෙන්ම කර්මාන්තය සමග එයට පැතිරි ගිය ස්වභාවයේ සම්බන්ධකම් තිබෙන විට පමණකි. මෙම ශ්‍රම විභජනය ක්‍රියාමාර්ග දෙකක් ඔස්සේ ඉදිරියට යන්නේ ය: එක් අතකින් සමස්තයක් වශයෙන් කර්මාන්තය හා සමග සම්බන්ධකම් එක් අධ්‍යක්ෂවරයෙකුගේ විශේෂ කාර්යය වශයෙන් ඔහුට පවරනු ලැබේ. අනිත් අතට, එක් එක් අධ්‍යක්ෂවරයා වෙන් වෙන් වූ ව්‍යවසායයන් කීපයක, නැතහොත්, එකම කර්මාන්ත අංශයක වන හෝ සමාන අවශ්‍යතා ඇති හෝ ව්‍යවසාය සමූහයක, පරිපාලනය භාර ගනියි''... (තනි පුද්ගල ව්‍යව-සායයන් සංවිධාන වූ ආකාරයෙන් පරිපාලනය කිරීමේ අවධියට ධනපති ක්‍රමය දැනටමත් එළඹ ඇත)... අයෙක් ජර්මන් කර්මාන්තය ගැන, සමහර-විට බටහිර ජර්මන් කර්මාන්තය (ජර්මනියේ කර්මාන්ත අතින් වඩාත්ම දියුණු කොටස බටහිර ජර්මනිය වේ) පමණක් ගැන, විශේෂඥතා වර්ධනය කරයි. තවත් අය, විශේෂ රාජ්‍යයන් හා විදේශීය කර්මාන්ත සමග සම්බන්-ධකම් ගැන, කම්කරුවන්ගේ හා වෙනත් අයගේ චරිත හා සම්බන්ධ තොරතුරු ගැන, ව්‍යාපාර පොළ සම්බන්ධ ප්‍රශ්න ආදිය ගැන, විශේෂඥතා වර්ධනය කරයි. ඊට අමතරව සෑම බැංකු අධ්‍යක්ෂවරයෙකුටම, බොහෝ විට එක් විශේෂ ප්‍රදේශයක් හෝ එක් විශේෂ කර්මාන්ත අංශයක් හෝ භාර දෙනු ලැබේ. එක් අයෙක් ප්‍රධාන වශයෙන් විදුලි බල සමාගම්වල පරිපාලන මණ්ඩලවල වැඩ කරයි.තවත් අයෙක් රසායනික, බීම පෙරන හෝ බීට් සීනි සාදන කර්මාන්ත ශාලා ගැන ද, වෙනත් තුන්වැනි අයෙක් තනි කාර්මික ව්‍යවසායයන් ගැන ද කටයුතු කරන අතරම රක්ෂණ සමා-ගම්වල පරිපාලන මණ්ඩලවලද වැඩ කරන්නේය... කොටින් කියතොත්,

බැංකු කටයුතුවල පරිමාණය හා විවිධත්වය වර්ධනය වීමත් සමගම, ඒවායේ අධ්‍යක්ෂවරුන් පිරිසිදු බැංකු කටයුතු කෙරෙන් තරමක් දුරට ඉහළ ඔසවා ඔවුන් වඩාත් හොඳ විශේෂඥයන් කිරීමේ ද, ඔවුන් කර්මාන්තයේ පොදු ප්‍රශ්න හා ඒ ඒ කර්මාන්ත අංශයේ විශේෂ ප්‍රශ්න ගැන වඩාත් හොඳ විචාරකයින් කිරීමේ ද, ඒ අනුව, බැංකුවේ බලපෑමට අදළ කාර්මික ක්ෂේත්‍රය තුළ කටයුතු කිරීම සඳහා වඩාත් කුසලතා පූර්ණ තත්වයට පත් කිරීමේ ද, අරමුණ ඇතිව (හා ප්‍රතිඵලයක් වශයෙන්) ඒවායේ අධ්‍යක්ෂවරුන් අතර කෙරෙන ශ්‍රම විභජනය වැඩි වන බව නිසැකය. කර්මාන්තකරුවන්ද, හිටපු නිලධාරීන්, විශේෂයෙන්ම කලින් දුම්රිය සේවයේ, ආකර කර්මාන්ත යේ ආදියෙහි සිටි නිලධාරීන් ද වැනි, කාර්මික විශේෂඥයින් වන අය, ස්වකීය පරිපාලන මණ්ඩලවලට තොරා පත්කර ගැනීමෙන්, බැංකු විසින් තවදුරටත් මෙම ක්‍රමය ශක්තිමත් කරනු ලැබේ''.*

ආකෘතිය වශයෙන් මඳක් වෙනස් වූ මෙම ක්‍රමය ම ප්‍රංශ බැංකු කටයුතු කෙරෙහිද අපට දක්නට ලැබේ. නිදර්ශනයක් වශයෙන්, විශාලම ප්‍රංශ බැංකු තුනෙන් එකක් වන ක්‍රෙඩිට් ලියොනෙ බැංකුව, ඉන්ජිනේරුවරු, සංඛ්‍යා විද්‍යාඥයින්, ආර්ථික විද්‍යාඥයින්, නීතිඥයින් ආදීන් පණහකට වැඩි සංඛ්‍යාවක් ස්ථිර සේවයෙහි යොදවමින් මූල්‍ය පර්යේෂණ සේවාවක් (service des études financiéres) සංවිධානය කර ඇත. මේ සඳහා වාර්ෂිකව කරන වියදම ප්‍රෑන්ක් හය ලක්ෂයක සිට හත් ලක්ෂයක් දක්වා වේ. මෙම සේවය, තව දුරටත් දෙපාර්තුමේන්තු අටකට බෙදු තිබේ. ඉන් එකක් ආර්ථික ආයතන ගැන තොරතුරු සහ සංඛ්‍යා ලේඛන එකතු කිරීමෙහි විශේෂඥ කාර්යයන්හි නිරත වෙයි, තවත් එකක් පොදු සංඛ්‍යා ලේඛන අධ්‍යයනය කරයි. තුන්වැනි දෙපාර්තුමේන්තුවක් දුම්රිය සේවා සහ වෙළඳ නැව් සමාගම් ගැන ද, හතර වැන්නක් පිළිණ පත් කටයුතු ගැන ද, පස් වැන්නක් මුදල් වාර්තා ගැන ද, යනාදී වශයෙන් අධ්‍යයනය කරයි.**

මෙහි ප්‍රතිඵලය, එක් අතකින්, බැංකු හා කාර්මික ප්‍රාග්ධනය දිගින් දිගටම වඩ වඩාත් සංයෝග වීමය; නැතහොත් එන්. අයි. බුහාරින් කියන ලෙස එකට හා වීමය. අනිත් අතින් බැංකු සැබැවින්ම ''විශ්වීය ස්වභාවයක්'' ඇති ආයතන වන සේ වර්ධනය වීමය. මෙම විෂය අන් සියළු දෙනාටම වඩා හොඳින් අධ්‍යයනය කළ යෙයිඩල්ස්, මෙම ප්‍රශ්නය ගැන කියන දේ එලෙසින්ම උපුටා දැක්වීම අවශ්‍ය බව මට පෙනේ:

* යෙයිඩල්ස්, කලින් සඳහන් කෘතිය, පිටු 156-157.

** ප්‍රංශ බැංකු ගැන Eug. Kaufmann ගේ ලිපියක්, "Die Bank", 1909, 2, පිටු 851 පටන්.



''කාර්මික සම්බන්ධතාවයන් එකතු සමස්තය ගැන කරන විමර්ශනයකින්, කර්මාන්තය වෙනුවෙන් කටයුතු කරන මූල්‍ය ආයතනයන් ගේ විශ්වීය ස්වභාවය හෙළදරව් වන්නේය. අනෙකුත් වර්ගයේ බැංකුවලට වෙනස්ව යමින්ද, බැංකු ඒවායේ පදනමෙන් ඉවතට තල්ලු වී යාම වැලැක්වීම පිණිස ඒවා එක වර්ගයක ව්‍යාපාර හෝ එක අංශයක කර්මාන්ත හෝ ගැන විශේෂඥතා වර්ධනය කළ යුතු යයි බල කරමින් සමහර විට පොත් පත් මගින් ප්‍රකාශවන ඉල්ලීමට පටහැනිව යමින්ද, විශාල බැංකු කාර්මික ප්‍රදේශ හා කර්මාන්ත අංශ අනුව කාර්මික ව්‍යවසායයන් සමග පවත්වන සම්බන්ධකම් හැකි තරම් විවිධාකාර කිරීමට උත්සාහ දරති. එසේම, තනි පුද්ගල ව්‍යවසායයන්ගේ ඓතිහාසික සංවර්ධනයේ ප්‍රතිඵලයක් වශයෙන් කාර්මික ප්‍රදේශ හා කර්මාන්ත අංශ අතර ඇතිවී තිබෙන ප්‍රාග්ධන ව්‍යාප්තියේ අසමානතාවය දුරු කිරීමට ද ඒවා උත්සාහ දරති''. ''පොදු වශයෙන් කර්මාන්තය සමග සම්බන්ධකම් ඇති කිරීම එක් ප්‍රවණතාවයකි. එම සම්බන්ධකම් කල් පවත්නා හා සමීප තත්වයට පත්කිරීම තවත් ප්‍රවණතාවයකි. ලොකු බැංකු හයෙහි මෙම ප්‍රවණතාවයන් දෙකම ක්‍රියාත්මක වේ. ඒවා සම්පූර්ණ වශයෙන්ම ක්‍රියාත්මක නොවූවත්, සැලකිය යුතු තරමින් හා සමාන මට්ටමක් දක්වා ක්‍රියාත්මක වේ''.

බැංකු ත්‍රස්තවාදය ගැන කාර්මික හා වාණිජ අංශ බොහෝ විට පැමිණිලි කරති. පහත දැක්වෙන නිදසුනෙන් අපට පෙනෙන ලෙසට ලොකු බැංකු ''අණ කරන'' හෙයින්, එවැනි පැමිණිලි අසන්නට ලැබීම පුදුමයක් නොවේ. ඊනියා බර්ලින් ''ඩී'' බැංකු වලින් එකක් (ලොකුම බැංකු හතරෙහි නම් ආරම්භ වන්නේ ''ඩී'' අක්ෂරයෙනි) 1901 නොවැම්බර් 19 දින ජර්මන් මධ්‍යම වයඹ දිග සිමෙන්ති සම්මේලයට පහත සඳහන් පරිදි ලියා යැවීය: ''මෙම මස 18 දින ඔබ කිසියම් පුවත් පතක පළ කළ දැන්වීමක් අනුව අපට දැන ගන්නට ලැබෙන පරිදි, මෙම මස 30 දින පැවැත්වීමට නියමිත ඔබේ සම්මේලයේ මහ සභා රැස්වීමේ දී, අපට පිළිගත නොහැකි වන ස්වභාවයේ වෙනස්කම් ඔබ ගේ ව්‍යවසාය තුළ ඇති කරීම පිණිස තීරණය කරීමට ඉඩ තිබෙන බව, අපට සැලකිල්ලට ගැනීමට සිදුවී තිබේ. මේ දක්වා ඔබට දෙන ලද ණය පහසුකම් මෙම හේතු නිසා නැවැත්වීමට අපට සිදු වී තිබෙන බව දැන්වීමට ඉතාමත් කණගාටු වෙමු... නමුත්, ඉහත සඳහන් මහ සභා රැස්වීම, අපට පිළිගත නොහැකි පියවරයන් ගැනීමට තීරණය නොකරන්නේ නම්, එසේම අනාගතය සම්බන්ධයෙන් ඒ ගැන සුදුසු සහතිකයන් අපට ලැබෙන්නේ නම්, අළුත් ණයක් දීම ගැන ඔබ සමග සාකච්ඡා කිරීමට අපි ඉතාමත් කැමැත්තෙමු''.*

* Dr. Oscar Stillich. "Geld- und Bankwesen". Berlin, 1907,පිටු 147

ඇත්ත වශයෙන් ම, මෙය නම් ලොකු ප්‍රාග්ධනය තමන්ට පීඩා කරන්නේ යයි කියමින් කුඩා ප්‍රාග්ධනය කරන පැරණි පැමිණිල්ලය. නමුත් මෙම අවස්ථාවේ ''කුඩා'' ප්‍රාග්ධනයේ ප්‍රවර්ගයට වැටුනේ මුළු මහත් සම්මේලයකි! කුඩා සහ ලොකු ප්‍රාග්ධනය අතර සිදුවන පැරණි අරගලය, සංවර්ධනයේ නව සහ අපිරිමිත තරම් උසස් අවධියක දී නැවතත් ආරම්භ වී තිබේ. ලොකු බැංකුවල කෝටි ගණන් වටිනා ව්‍යවසායයන්, අතීතයේ පැවති මාධ්‍යයන් අතිශයින් අභිභවා යන, නව මාධ්‍යයන් යොදා ගනිමින් තාක්ෂණික ප්‍රගතිය වේගවත් කිරීමෙහි සමත් වන බව වටහා ගත හැකි කරුණකි. නිදර්ශනයක් වශයෙන් බැංකු විශේෂ තාක්ෂණික පර්යේෂණ සමිති පිහිටුවති. නමුත්, ඒවායේ වැඩ කටයුතුවලින් අනුග්‍රහ ලබන්නේ ''මිත්‍ර'' ව්‍යවසායයන් පමණකි. ''විදුලි රිය මාර්ග පර්යේෂණ සමාගම'', ''විද්‍යාත්මක හා තාක්ෂණික පර්යේෂණ පිළිබඳ මධ්‍යම බියුරෝව'', ආදිය මෙම ප්‍රවර්ගයට අයත්ය.

ජාතික ආර්ථිකයේ නව තත්වයන් නිර්මාණය වෙමින් පවතින බව, බැංකු අධ්‍යක්ෂවරුන්ටම වුවද නොපෙනී යා නොහැකිය. නමුත් මෙම ප්‍රපංචයන් හමුවේ ඔවුන් අසරනය.

යෙයිඩල්ස් මෙසේ ලියයි: ''කර්මාන්තයේ පොදු සංවර්ධනයේ දී ඊට ලොකු බැංකුවල මැදිහත්වීම අවශ්‍යතාවයක් හා වැඩි වැඩියෙන් වැදගත් වන දෙයක් යයි සලකන පුද්ගලයන් අතට බලය ක්‍රම ක්‍රමයෙන් මාරුවන බව, මෑතදී ලොකු බැංකුවල අධ්‍යක්ෂ ධූර දරන හා පරිපාලන මණ්ඩලවල අසුන් ගෙන සිටින අය වෙනස් වූ ආකාරය නිරීක්ෂණය කළ ඕනෑම කෙනෙකුට නො පෙනී යා නො හැක. මෙම නව පුද්ගලයන් හා පැරණි බැංකු අධ්‍යක්ෂවරුන් අතර ව්‍යාපාරයක් පිළිබඳ මෙම ප්‍රශ්නය මුල් කොට ගෙන හා බොහෝ විට පෞද්ගලික ස්වභාවයේ ද අසමථයන් වර්ධනය වෙමින් පවතී. ප්‍රශ්නය වී තිබෙන්නේ, ණය දෙන ආයතන වශයෙන් කටයුතු කරන බැංකු, මෙසේ කර්මාන්තයට මැදිහත් වීමෙන් ඒවාට හානියක් වේද, නැද්ද, එසේ නැතහොත්, ණය දෙන අතර මැදියන් වශයෙන් බැංකුවලට හිමි කාර්ය භාරය සමග කිසිම සම්භන්ධයක් නැති හා වෙළඳ උච්චාවචනයන් පිළිබඳ අන්ධ බලවේගයන් ගේ තර්ජනය වෙන කවරදාකටවත් වැඩියෙන් බැංකු වෙත එල්ල කෙරෙන, ක්ෂේත්‍රයක් කරා ඒවා යොමු කරන ක්‍රියාකාරිත්ව කලාපයක නිරත වීම අත් දුටු ප්‍රතිපත්ති හා සහතික වූ ලාභය අත් හැර දැමීමක් වේද යන්නය. වඩාත් වෘධ බැංකු අධ්‍යක්ෂවරුන්ගේ මතය මෙයයි. ඒ අතර කර්මාන්තයට ක්‍රියාත්මක ලෙස මැදිහත් වීම අවශ්‍යතාවයක් යයි ද, එම අවශ්‍යතාවය යනු විශාල නවීන කර්මාන්ත හා සමග එක් වරම ලොකු බැංකු කටයුතු උද්ගත කළ අවශ්‍යතාවය හා සමාන එකකැයිද තරුණ පුද්ගලයෝ සලකති. මෙම දෙපාර්-



ශවය එකඟ වන්නේ එක කරුණක් ගැන පමණකි. එය නම්, ලොකු බැංකුවල අළුත් කටයුතු හා සම්බන්ධ ස්ථිර ප්‍රතිපත්ති හෝ නියත අරමුණු හෝ කිසිවක් නොමැති බවයි''.*

පැරණි ධනපති ක්‍රමයේ කාලය දැන් ගෙවී ඇත. නව ධනපති ක්‍රමය යම් කිසිවක් දෙසට යොමු වූ පරිවර්තනයක් නියෝජනය කරයි. ඒකාධිකාරය හා නිදහස් තරඟය එකට ''ගැලපීම'' සඳහා ''ස්ථිර ප්‍රතිපත්ති හා නියත අරමුණක්'' සෙවීම නම්, සාර්ථක නොවන ව්‍යායාමයකි. ''සංවිධානය කළ'' ධනපති ක්‍රමයට ආවඩන ෂුල්ත්සෙ ගෙවර්නිත්ස්, ලීෆ්මාන් හා එවැනි ''න්‍යායවාදීන්'' එහි සුන්දරත්වය ගැන ගායනා කරන නිල වර්ණනාවලට හාත්පසින්ම වෙනස් රාවයක් ප්‍රායෝගික පුද්ගලයන්ගේ පිළිගැනීමෙන් වාදනය වේ.[38]

ලොකු බැංකුවල ''අළුත් කටයුතු'' අවසාන වශයෙන් ස්ථාපිත වූයේ නියත වශයෙන්ම කුමණ කාලයේදී ද? මෙම වැදගත් ප්‍රශ්නයට අපට යෙයිඩල්ස්ගෙන් බොහෝ දුරට නිවැරදි පිළිතුරක් ලැබේ:

''බැංකු හා කාර්මික ව්‍යවසායයන් අතර සම්බන්ධකම් හා ඒවායේ නව සන්ධාරයද, නව ආකෘති හා නව අවයව, එනම්, මධ්‍යගත සහ විමධ්‍යගත පදනම් දෙකෙන්ම සංවිධානය වූ විශාල බැංකුද, අනූගණන් වලට පෙර කාලයේ ස්වභාව නිරූපී ආර්ථික ප්‍රපංචයක් නොවීය. එක අර්ථයකින් පමණක් මෙම දිනය 1897 දක්වා ඉදිරියට ගෙන ඒම සුදුසුය. වැදගත් ''සංයෝජනයන්'' සිදු වූයේත්, බැංකුවල කාර්මික ප්‍රතිපත්තියට සරිලන සේ නව විමධ්‍යගත සංවිධානය ප්‍රථම වරට ක්‍රියාත්මක කරන ලද්දේත් එම වර්ෂයේ දී ය. සමහර විට මෙම ආරම්භක දිනය තවත් පසු දිනයක් සේ ද ගත හැකිය. එසේ කිව හැක්කේ, කර්මාන්තයේ සහ බැංකු කටයුතුවල සංකේන්ද්‍රණ ක්‍රියාදමය දැවැන්ත ලෙස වේගවත් කළේ ද, කර්මාන්තය හා සමග සම්බන්ධකම, ප්‍රථම වතාවට, ලොකු බැංකුවල සැබෑ ඒකාධිකාරය බවට පරිවර්තනය කළේ ද, එසේම මෙම සම්බන්ධය වඩාත් සමීප හා ක්‍රියාශීලී එකක් කළේ ද, 1900 වර්ෂයේ අර්බුදය වූ හෙයිනි''.**

ඒ අනුව බලන කල, විසිවැනි ශත වර්ෂයේ ආරම්භය පැරණි ධනපති ක්‍රමයේ සිට අළුත් ධනපති ක්‍රමය වෙතට, එනම්, පොදු ප්‍රාග්ධනයේ ආධිපත්‍යයේ සිට මූල්‍ය ප්‍රාග්ධනයේ ආධිපත්‍යය වෙතට හැරීම සලකුණු කරන සන්ධිස්ථානය වන්නේය.

---

* යෙයිඩල්ස්, කලින් සඳහන් කෘතිය, පිටු 183–184.
** යෙයිඩල්ස්, කලින් සඳහන් කෘතිය, පිටු 181.

## III. මූල්‍ය ප්‍රාග්ධනය සහ මූල්‍ය කතිපයාධිපත්‍යය

''කර්මාන්තයේ යෙදෙන ප්‍රාග්ධනයෙන් නොකඩවා වැඩි වන අනුපාතයක් දක්වෙන කොටසක්, එම ප්‍රාග්ධනය උපයෝගි කරගන්නා කර්මාන්තකරුවන්හට හිමි නොවන තත්වයක් ඇතිවේ'' යයි හිල්පර්දිං ලියයි. ඔවුනට එය ලබා ගත හැක්කේ බැංකුවෙන් පමණකි. ඔවුන් හා සම්බන්ධයෙන් වූ කල බැංකු ප්‍රාග්ධන හිමියන් නියෝජනය කරන්නේය. අනිත් අතට, ස්වකීය අරමුදල් වලින් එන්න එන්නම වැඩි කොටසක් කර්මාන්තය තුළ ගිල්වීමට බැංකුවට සිදු වේ. එනිසා එන්න එන්නම, වැඩි වැඩියෙන් බැංකුකරු කාර්මික ධනපතියෙක් බවට පරිවර්තනය වන්නේය. මෙම බැංකු ප්‍රාග්ධනය, එනම්, මුදල් ස්වභාවයෙන් පවතින, ඒ අනුව ඇත්ත වශයෙන්ම කාර්මික ප්‍රාග්ධනය බවට පරිවර්තනය වන, ප්‍රාග්ධනය හැඳින්වීමට, මම මූල්‍ය ප්‍රාග්ධනය යන්න යොදමි. ''මූල්‍ය ප්‍රාග්ධනය යනු, බැංකු විසින් පාලනය කෙරෙන හා කර්මාන්තකරුවන් විසින් උපයෝගි කරගනු ලබන ප්‍රාග්ධනයයි''.*

මෙම නිර්වචනය, ඉතාමත් වැදගත් කරුණක් ගැන නිහඬ හෙයින් එය අසම්පූර්ණය. එම කරුණ නම්, ඒකාධිකාරය ඇතිවීමට හේතුවන තරම් දුරට නිෂ්පාදනය හා ප්‍රාග්ධනය සංකේන්ද්‍රණය වී ඇති බවත්, එයින් දැනටමත් ඒකාධිකාරය ඇති වී තිබෙන බවත් ය. නමුත් හිල්පර්දිං ඔහුගේ කෘතිය මුළුල්ලේම, විශේෂයෙන්ම, මෙම නිර්වචනය ඇතුලත් පරිච්ඡේදයට ඉහත පරිච්ඡේද දෙකෙහි ධනපති ඒකාධිකාර ඉටුකරන කාර්ය කොටස ගැන අවධාරණය කරන්නේ ය.

නිෂ්පාදනය සංකේන්ද්‍රණ විය; එයින් ඒකාධිකාර උද්ගත විය; බැංකු හා කර්මාන්තය සංයෝජනය විය. නැතහොත්, එකට හා විය. මූල්‍ය ප්‍රාග්ධනයේ නැඟීමේ ඉතිහාසය එසේ විය. එමෙන්ම එම සංකල්පයේ සන්ධාරයද එපරිදිය.

වෙළඳ භාණ්ඩ නිෂ්පාදනයේ සහ පෞද්ගලික දේපල පිළිබඳ සාමාන්‍ය කොන්දේසි යටතේ කෙරෙන ධනපති ඒකාධිකාරවල ''ව්‍යාපාරික කටයුතුවලින්'' අනිවාර්ණිය වශයෙන්ම මූල්‍ය කතිපයාධිපතිත්වයක ආධිපත්‍යය ඇතිවීමට හේතු වන්නේ කෙසේද යන්න, දැන් විස්තර කළ යුතුව තිබේ. රීසර්, ෂුල්ත්සේ ගේවර්නිත්ස්, ලිෆ්මාන් හා වෙනත් අය වැනි ජර්මන් ධනපති උගතුන් සියළු දෙනාම අධිරාජ්‍යවාදයේ සහ මූල්‍ය ප්‍රාග්ධනයේ ගුණ ගයන්නන් වන බව සටහන් කරගත යුතුය. එම ගණයට වැටෙන්නේ ජර්මන් ධනපති උගතුන් පමණක් ද නොවේ. කතිපයාධිපතිත්වය සකස් වීමේ ''ක්‍රියා පිළිවෙළ'', එය අනුගමනය කරන ක්‍රම, එහි ''සාධාරණ හා අසාධාරණ'' ආදයම්වල විශාලත්වය, පාර්ලිමේන්තුව සමග ඇති සම්බන්ධකම්, යනාදිය, ගැන හෙළිදරව් කරනවා වෙනුවට, ඔවුහු ඒවා වසං කරති, නැතහොත්, ඒවා අමතක කරති. පම්පෝරිකාර හා හිස් වදන් දෙසමින්ද, බැංකු අධ්‍යක්ෂවරුන් ගේ වගකීමේ හැඟීම් වෙත ආයාචනා කරමින්ද, ප්රුසියානු නිලධාරීන් ගේ ''රාජකාරිය පිළිබඳ හැඟීම'' වර්ණනා කරමින් ද, ඒකාධිකාර ''පරිපාලනය'' හා ''විධිමත් කිරීම'' සඳහා ඉදිරිපත් කරන ඉතාමත් විකට පාර්ලිමේන්තු පණත්වල නොවැදගත් විස්තර කරුණු ගැන බරපතල අධ්‍යයනයන් කරමින් ද, නිදර්ශනයක් ලෙසට මහාචාර්ය ලීෆ්මාන් නිර්මාණය කළ පහත සඳහන් ''විශාරද'' නිර්වචනය වැනි න්‍යායයන් සමග සූක්ෂම ලෙස ක්‍රීඩා කරමින්ද, ඔවුහු මෙම ''බොහෝ වාද විවාද වූ ප්‍රශ්න'' මඟ හරිති. මහාචාර්ය ලීෆ්මාන් ගේ එම නිර් වචනය මෙසේය: ''... වාණිජ්‍යය යනු භාණ්ඩ එකතු කිරීම, ගබඩා කිරීම හා සැපයීම අරමුණු කොට ගත් වෘත්තියෙකි''* (තද අවධාරණය මහාචාර්යවරයාගේය)... මෙයින් කියන දෙය අනුව, හුවමාරුව ගැන කිසිත් නොදත් ආදිකල්පික මිනිසාගේ කාලයේ වාණිජය පැවති බවත්, එය සමාජවාදය යටතේද පවතිනු ඇති බවත් අදහස් කෙරේ!

නමුත්, මූල්‍ය කතිපයාධිපත්‍යයේ භයංකර පාලනය පිළිබඳ භයංකර කරුණු කොතරම් පැහැදිලි ලෙස පෙනේද යත්, මෙම කතිපයාධිපත්‍යය පිළිබඳව ඇමෙරිකාව ප්‍රංශය හා ජර්මනිය යන රටවල වෙනම පොත් පත් කොට්ඨාශයක් බිහි වී ඇත. ඒවා ධනපති දෘෂ්ටි කෝනයෙන් ලියවී ඇතත්, එයින් මෙම කතිපයාධිපත්‍යය ගැන තරමක් සත්‍යවූ පින්තූරයක් හා විවේචනයක් ඉදිරිපත් වේ. ස්වභාවික වශයෙන්ම එය සුළු ධනපති විවේචනයක් වන බව සැබවි.

ඉහත දැනටමත් සංක්ෂේප වශයෙන් සඳහන් කර ඇති ''පාලන හිමිකම් ක්‍රමය'' විශේෂයෙන්ම වැදගත් වන්නේය.මෙම කාරණයට අවධානය යොමු කරවූ ප්‍රථමයා ලෙස සමහර විට ගිණිය හැකි හෙයිමාන් නැමති ජර්මන් ආර්ථික විද්‍යාඥයා, එහි සාරාර්ථය මෙසේ විස්තර කරයි:

''ව්‍යාපාරයේ ප්‍රධානියා, ප්‍රධාන සමාගම (වචනයේ නියම අර්ථයෙන් ''මව් සමාගම'') පාලනය කරන්නේය. එම සමාගමද උප සමාගම් (''දුහිතෘ සමාගම්'') පාලනය කරයි. ඒ අතර එම උප සමාගම්ද, වෙනත් උප සමාගම් (''මුණුබුරු සමාගම්'') පාලනය කරන්නේය. ඒ ආදී වශයෙනි. මේ ආකාරයෙන් සංසන්දනීය වශයෙන් කුඩා ප්‍රමාණයේ ප්‍රාග්ධනයක් පිහිට කොට

---

* ආර්. හිල්පර්දිං. ''මූල්‍ය ප්‍රාග්ධනය'', මොස්කව්, 1912 (රුසියානු බසින්) — පිටු 338—339

* R. Liefmann, කලින් සඳහන් කෘතිය, පිටු 476

ගෙන, නිෂ්පාදනයේ අති විශාල ක්ෂේත්‍රයක් කෙරෙහි ආධිපත්‍යය පැතිරවීමට පුළුවන. සමාගමක් පාලනය කිරීමට එහි ප්‍රාග්ධනයෙන් සියයට පණහක් හිමි කරගැනීම නිතරම ප්‍රමාණවත් වේ නම්, දෙවැනි මට්ටමේ උප සමාගම්වල අසූ ලක්ෂයක ප්‍රාග්ධන හිමිකම් පාලනය කිරීමට, ව්‍යාපාරයක ප්‍රධානියෙකුට අවශ්‍ය වන්නේ ඇත්තෙන්ම දශ ලක්ෂයක මුදලක් පමණකි. තවද, මෙම ''අන්තර් බද්ධ කරණය'' දිගටම ගෙන යන්නේ නම්, දශ ලක්ෂයක මුදලක් උපයෝගි කරගෙන, එක් කෝටි හැට ලක්ෂයක්, තුන්කෝටි විසි ලක්ෂයක් පාලනය කළ හැකිය. ඒ ආදී වශයෙනි''.*

විසිරී සිටින කුඩා කොටස් හිමියන් කිසියම් සංඛ්‍යාවකට මහ සභා රැස්වීම්වලට සහභාගි වීම ආදිය දුෂ්කර වන නිසා, සමාගමක කටයුතු මෙහෙයවීම සඳහා,එහි කොටස්වලින් සියයට 40 ක හිමිකම් ලබා ගැනීම ප්‍රමාණවත් බව, යථාර්ථ වශයෙන් ව්‍යවහාරයෙන් පෙනී ගොස් තිබේ.** කොටස් හිමිකම ''ප්‍රජාතන්ත්‍රවාදී කිරීමෙන්'', ''ප්‍රාග්ධනයේ ප්‍රජාතන්ත්‍රවාදී වීමක්'' කුඩා පරිමාණ නිෂ්පාදනයේ කාර්ය කොටස ශක්තිමත් වීමක්, ආදිය, ඇතිවෙතැයි ධනපති විතණ්ඩවාදීන් සහ අවස්ථාවාදී ඊනියා ''සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී විශේෂඥයන් අපේක්ෂා කරන නමුත් (නැතහොත් අපේක්ෂා කරන බව කියන නමුත්), එය, ඇත්ත වශයෙන්ම, මූල්‍ය කතිපයාධිපත්‍යයේ බලය වැඩි කිරීමේ එක් ක්‍රමයකි. වඩාත් දියුණු, නැතහොත්, පැරණි සහ ''අත්දැකීම් ඇති'' ධනපති රටවල, සුළු වටිනාකමකින් යුත් කොටස් නිකුත් කිරීමට නීතියෙන් ඉඩ දෙන්නේ මේ නිසා බව මෙහි ලා සඳහන් කළ යුතුය. ජර්මනියේ නීතිය අනුව මාර්ක් දහසකට වඩා අඩු වටිනාකමෙන් යුතු කොටස් නිකුත් කිරීමට අවසර නැත. එනිසා, පවුම් එකේ (-මාර්ක් 20, රූබල් 10 ක් පමණ) කොටස් නිකුත් කිරීමට අවසර ඇති බ්‍රිතාන්‍යය දෙස ජර්මන් මූල්‍ය අධිපතීහු ඊර්ෂ්‍යා සහගත නෙත් යොමති.බ්‍රිතාන්‍ය අධිරාජ්‍යවාදයේ පදනම වන්නේ පවුම් එකේ කොටස්ය''යි*** ජර්මනියේ ලොකුම කර්මාන්ත කරුවෙක් හා ''මූල්‍ය රජෙක්'' වූ සීමන්ස් 1900 ජූනි 7 දින එහි රීයිහ්ස්ටාග් පාර්ලිමේන්තුවේදී කීවේය. රුසියානු මාක්ස්වාදයේ ආරම්භකයෙකු[39] ලෙස සැලකෙන හා අධිරාජ්‍යවාදය කිසියම් ජාතියක නරක පුරුද්දකැයි... සලකන කිසියම් අපකීර්තිමත් ජර්මන් ලේඛයෙකුට වඩා මෙම වෙළෙන්දට අධිරාජ්‍යවාදය ගැන වඩාත් ගැඹුරු හා ''මාක්ස්වාදී'' අවබෝධයක් ඇත.

---

* Hans Gideon Heymann. "Die gemischten Werke im deutschen Großeisengewerbe". Stuttgart, 1904, S. 268-269.

**Liefmann. "Beteiligungsges. etc.", S. 258 ප්‍රථම සංස්කරණය

*** Schulze-Gaevernitz in "Grundriß der Sozialökonomik". V, 2, S. 100.



''හිමිකම් ක්‍රමයෙන්'' සිදුවන්නේ ඒකාධිකාරීන් ගේ බලය දැවැන්ත ලෙස වැඩි වීම පමණක් නොවේ. එය නිසා ඔවුනට දඬුවමට හසු නොවී, මහජනයා රැවටීම පිණිස නොයෙක් ආකාරයේ සැක කටයුතු හා නින්දිත කපටිකම් යොදා ගැනීමට හැකියාව ලැබේ. ඔවුනට එම හැකියාව ලැබෙන්නේ, ''ස්වාධීන'' යයි කියනු ලබන ''දුහිතෘ සමාගමේ'' කටයුතු සම්බන්ධයෙන් මව් සමාගමේ'' අධ්‍යක්ෂවරු නීත්‍යානුකූලව වගකීමට බැඳී නොමැති වන අතර එම අධ්‍යක්ෂවරුන්ට ''දුහිතෘ සමාගම මගින් ඕනෑම ''හපන් කමක්'' කළ හැකි බැවිනි. ''බැංකුව'' නැමති ජර්මන් සඟරාවෙහි 1914 මැයි කලාපයෙන් ගත් නිදර්ශනයක් මෙන්න:

''අවුරුදු ගණනකට පෙර කාස්සල් හී ''දුනු වානේ සමාගම'' ජර්මනියේ ඉතාමත් ලාභ සහිත ව්‍යවසායයක් ලෙස සලකන ලදී. අයහපත් කළමණාකරනය නිසා එහි ලාභාංශ සියයට 15 පටන් බින්දුව දක්වා පහත වැටුනි. මෙම සමාගමේ පාලක මණ්ඩලය, එහි කොටස් හිමියන් නොවිමසාම, එහි දුහිතෘ සමාගමක් වූ, සහ මාර්ක් ලක්ෂ ගණනක පමණක් වූ නාමමාත්‍ර ප්‍රාග්ධනයක් හිමිව තිබුණු හාස්සියා සමාගමට මාර්ක් හැට ලක්ෂයක් ණයට දී තිබුණු බව පෙනී ගියේය. ''මව් සමාගමේ'' ප්‍රාග්ධනය මෙන් තුන් ගුණයක් පමණ වූ මෙම ණය මුදල ගැන එහි ශේෂ පත්‍රයෙහි කිසි විටෙක හෝ සඳහන් නොකරන ලදී. මෙම අත් හැරීම සම්පූර්ණයෙන්ම නීති සහගත නිසාද, එයින් සමාගම් නීතියෙහිම කිසිම නියමයක් උල්ලංගනය නොකෙරුනු නිසාද, පුරා අවුරුදු දෙකක්ම තිස්සේ එය සඟවා තැබීමට පුළුවන් විය. වගකිව යුතු ප්‍රධානියා වශයෙන් අසත්‍ය ශේෂ පත්‍රයට අත්සන් තැබූ, පරිපාලක මණ්ඩලයේ සභාපති තැන, දැනුදු කාස්සල් වාණිජ මණ්ඩලයේ සභාපති ධුරය උසුලයි. හාස්සියා සමාගමට දුන් ණය ගැන කොටස් හිමියන්ට දැනගන්නට ලැබුණේ බොහෝ කලකට පසුවය. එනම් එය වැරැද්දක් බව පෙනීයාමෙන් පසුව''... (ලේඛකයා වැරැද්දක් යන වචනය උපුටා දැක්වීමේ ලකුණු තුළ යෙදිය යුතුව තිබුණි)... ''හා කරුණු දත් අය දුනු වානේ සමාගමේ කොටස්වලින් නිදහස් වෙමින් සිටි නිසා එහි කොටස් මිළ සියයට සියයකින්ම පමණ පහත වැටුනු පසුවය...

''මෙය, බද්ධ ව්‍යාපාර වස්තු සමාගම්වල ඉතා සුලබ දෙයක් වන ශේෂ පත්‍ර විජ්ජාව පිළිබඳ හොඳ නිදර්ශනයකි.තනි පුද්ගල ව්‍යාපාරිකයන්ට වඩා ඉතාමත් සැහැල්ලු සිතින් යුතුව අධ්‍යක්ෂ මණ්ඩල අවදානම් ගනුදෙනුවල යෙදීමට කැමැත්තක් දක්වන්නේ මන්ද යන්න මෙයින් පැහැදිලි වන්නේය. ශේෂ පත්‍ර සකස් කිරීමේ නවීන ක්‍රම නිසා, සැක සහිත ගනුදෙනු සාමාන්‍ය කොටස් හිමියාගෙන් සඟවා තැබීමට පමණක් නොව අසාර්ථක සමපේක්ෂණය ගැන වැඩියෙන්ම වග කිව යුත්තන්ගේ කොටස් කල් යල් ඇතිව විකුනා දැමීම මගින්, ඔවුන්ට එහි ප්‍රතිඵලවලින් ගැලවී යාමට

ද ඉඩ ලැබේ. ඒ අතර තනි පුද්ගල ව්‍යාපාරිකයා කරන සියළු දේම සම්බන්ධයෙන් ඔහුට තමන්ගේ හම ඔට්ටු තැබීමට සිදුවේ...

මතු පිට පෙනෙන ලියවිල්ල ප්‍රථමයෙන්ම මකා, ඉන් පසු, එහි යට ඇති, ලේඛනයේ නියම අරුත දෙන ලියවිල්ල සොයා ගත යුතුවූ මධ්‍යකාලීන යුගයේ, පුනර්ලිඛිත පැලිම්ප්සෙස්ට් ලියවිලි කෙරෙහි අප ගේ සිත් යොමු වීමට, බද්ධ ව්‍යාපාර වස්තු සමාගම් බොහොමයකම ශේෂ පත්‍ර හේතුවේ. (පැලිම්ප්සෙස්ට් යනු මුල් ලියවිල්ල මකා තවත් ලියවිල්ලක් ඇතුලත් කිරීමෙන් සකස් කළ සමෙහි කළ ලියවිලිය).

''ශේෂ පත්‍ර තේරුම් ගත නොහැකි තත්වයක් ඇති කිරීමේ ඉතාමත් සරල ක්‍රමය හා ඒ නිසා වඩාත්ම බහුල ලෙස අනුගමනය කරනු ලබන ක්‍රමය, ''දුහිතෘ සමාගම්'' පිහිටුවීම මගින් එකම ව්‍යාපාරයක් කොටස් කීපයකට බෙදීම හෝ එසේ නැතහොත් ''දුහිතෘ සමාගම්'' ඈඳා ගැනීමය. නොයෙක් නීති සහගත සහ නීති විරෝධි අරමුණු ඉටු කර ගැනීම සඳහා මෙම ක්‍රමය පහසු බව ඉතා පැහැදිලිය. එනිසා එය ප්‍රයෝජනයට නොගන්නා ලොකු සමාගම් ඇතොත්, එය ඉතාමත් අසාමාන්‍ය දෙයකි''.*

මෙම ක්‍රමය ඉතා පුළුල් ලෙස උපයෝගි කරගන්නාවූ විශාල ඒකාධිකාරී සමාගමක් පිළිබඳ නිදර්ශනයක් ලෙසට, කර්තෘවරයා, සුප්‍රසිද්ධ ජෙනරල් ඉලෙක්ට්‍රික් සමාගම (A. E. G. සමාගම — පසුව මට එය ගැන නැවතත් සඳහන් කිරීමට සිදුවේ) ගෙන හැර දක්වයි. 1912 දී මෙම සමාගම, 175 සිට 200 දක්වා වූ වෙනත් සමාගම් ගණනක කොටස් හිමි කරගෙන තිබුණ බවත් එහි ආධිපත්‍යයට ඒවා යටත් කරගෙන තිබුණ බවත්, ඒමගින් මාර්ක් කෝටි 150 ක් පමණවූ මුළු ප්‍රාග්ධනයක් පාලනය කළ බවත් ගණන් බලා ඇත.***

හොඳ අපේක්ෂා ඇති, එනම්, ධනපති ක්‍රමය ආරක්ෂා කිරීමේ හා අලංකාර කිරීමේ හොඳ අපේක්ෂා ඇති, මහාචාර්යවරුන් හා නිලධාරීන් මහජනතාවට කරන අනුශාසනාවල විෂය මාතෘකා වන, පාලන රෙගුලාසි, ශේෂ පත්‍ර පළ කිරීම, නියමිත ආකෘතියක් අනුව ශේෂ පත්‍ර සකස් කිරීම, ආණ්ඩුව පිළිගත් විගණකවරුන් මගින් විගණනය කිරීම, ආදියෙන් කිසිම වැඩක් සිදු නොවේ. එයට හේතුව පෞද්ගලික දේපල ශුද්ධ වස්තුවක් වීමය; කොටස් මිළට ගැනීම, විකිණීම, හුවමාරු කිරීම, උගස් තැබීම යනාදිය කිසිවෙකුට තහනම් කළ නොහැකි වීමය.

* L. Eschwege. "Tochtergesellschaften", "Die Bank", 1914, 1, S. 545 (එල්. එෂ්වෙගෙ. ''දුහිතෘ සමාගම්'', ''බැංකුව''. — සංස්කාරක).

** Kurt Heining. "Der Weg des Elektrotrusts", "Neue Zeit", 1912,30.Jahrg.,2, S.484 (කුර්ත් ගෙයිනින්ග්. ''විදුලිබල සංගතයේ මාර්ගය'', ''නූතන කාලය'', 1912, 30 මුද්‍රණය කළ අවුරුද්ද. — සංස්කාරක).



''හිමිකම් ක්‍රමය'' ලොකු රුසියානු බැංකු තුළ කොතරම් දුරට සංවර්ධනය වී තිබේද යනු ඊ. අගාද්, ඔහුගේ ''ලොකු බැංකු සහ ලෝක වෙළඳ පොළ'' නැමති පොතෙහි දක්වා ඇති සංඛ්‍යාවලින් නිශ්චය කළ හැකිය.* රුසියානු චීන බැංකුවේ නිලධාරියෙක් ලෙසට පහළොස් අවුරුද්දක් කටයුතු කළ ඔහු 1914 මැයි මස එම පොත පළ කළ අතර එයට දී ඇති නම සම්පූර්ණයෙන්ම නිවැරදි නොවේ. කතුවරයා ලොකු රුසියානු බැංකු ප්‍රධාන කණ්ඩායම් දෙකකට බෙදයි. ඒ මෙසේය. (අ) ''හිමිකම් ක්‍රමය'' යටතට පත් බැංකු සහ (ආ) ''ස්වාධීන'' බැංකු.මෙහිදී ''ස්වාධීන'' යන්න අන්තනෝමතික ලෙස යොදගෙන ඇත්තේ විදේශ බැංකුවලින් ස්වාධීන යන අදහස දීමටය. කතුවරයා ප්‍රථම කණ්ඩායම අනු කණ්ඩායම් තුනකට බෙදයි. ඒ මෙසේය: 1) ජර්මන් පාලන හිමිකම්; 2) බ්‍රිතාන්‍ය පාලන හිමිකම් සහ 3) ප්‍රංශ පාලන හිමිකම්. ඔහු මෙම වර්ග කිරීම කර ඇත්තේ, සඳහන් විශේෂ රටෙහි විදේශ බැංකුවල ''පාලන හිමිකම්'' හා ආධිපත්‍යය ගැන සැලකිල්ල දක්වමිනි. කතුවරයා බැංකුවල ප්‍රග්ධනයද ''ඵලදායක ලෙස'' (කාර්මික හා වාණිජ ව්‍යාපාරවල) ආයෝජනය කළ ප්‍රාග්ධනය සහ ''සමපේක්ෂණය සඳහා'' (ව්‍යාපාර පොළ හා මූල්‍ය කටයුතු සම්බන්ධයෙන්) ආයෝජනය කළ ප්‍රාග්ධනය යනුවෙන් කොටස් කරයි. ඔහු එසේ කරන්නේ දෙවැනි ආකාරයේ ආයෝජනයෙන් ප්‍රථම ආකාරයේ ආයෝජනය වෙන් කිරීමත්, ඒ අනුව දෙවැනි ආකාරයේ ආයෝජනය අහෝසි කිරීමත් කළ හැකිය යනු, සුළු ධනපති දෘෂ්ටි කෝණයෙන් පිළිගනිමිනි.

ඔහු ඉදිරිපත් කරන සංඛ්‍යා මෙසේය (පිටුව 80 බලන්න:

මෙම සංඛ්‍යා අනුව, ලොකු බැංකුවල කාරක ප්‍රාග්ධනය රූබල් කෝටි 400 ක් පමණ වන අතර, ඉන් හතරෙන් තුනකට වැඩි කොටසක්, එනම් රූබල් කෝටි 300 කට වැඩියෙන් අයත්වූයේ, හුදෙක් විදේශ බැංකුවල, ප්‍රධාන වශයෙන්ම පැරිස් බැංකුවල (සුප්‍රසිද්ධ ත්‍රිත්වය: ''පැරිස් සංගමය'', පැරිස් හා නෙදර්ලන්ත හා සොසයිටි ජෙනරාල්) හා බර්ලින් බැංකුවල (විශේෂයෙන්ම ජර්මන් බැංකුව සහ ''වට්ටම් සංගමය'') ''දුහිතෘ සමාගම්'' වූ බැංකුවලටය. විශාල රුසියානු බැංකු දෙකක් වන, රුසියානු බැංකුව

* E. Agahd. "Großbanken und Weltmarkt. Die wirtschaftliche und politische Bedeutung der Großbanken im Weltmarkt unter Berücksichtigung ihres Einflusses auf Rußlands Volkswirtschaft und die deutsch-russischen Beziehungen". Berlin, 1914 (ඊ. අගාද්. ''ලොකු බැංකු හා ලෝක වෙළඳ පොළ. රුසියාවේ ජාතික ආර්ථිකය හා ජර්මන්-රුසියානු සම්බන්ධතාවය මත මහා බැංකුවල හා සමස්ත වෙළඳ පොළේ බලපෑමේ ප්‍රතිෂ්ඨාව අනුව ඒවායේ ආර්ථික හා දේශපාලන වැදගත්කම''. බර්ලින්. — සංස්කාරක).

බැංකු වත්කම් (1913 ඔක්තෝබර් — නොවැම්බර් වාර්තා අනුව) රූබල් 10,00,000 ගණනින්

| රුසියන් බැංකු කණ්ඩායම් | ආයෝජනය කළ ප්‍රග්ධනය | | |
|---|---|---|---|
| | ඵලදායි ලෙස | සමපේක්ෂණය ලෙස | මුළු ගණන |
| අ (1) බැංකු හතරකි: සයිබීරියානු වාණිජ බැංකුව, රුසියානු බැංකුව, ජාත්‍යන්තර බැංකුව සහ වට්ටම් බැංකුව | 413.7 | 659.1 | 1,272.8 |
| අ (2) බැංකු දෙකකි: වාණිජ සහ කාර්මික බැංකුව සහ රුසියානු බ්‍රිතාන්‍ය බැංකුව | 239.3 | 168.1 | 408.4 |
| අ (3) බැංකු පහකි: රුසියානු-ආසියාතික බැංකුව, සාන්ත පීටර්ස්බර්ග් පෞද්ගලික බැංකුව, අසොව්-ඩොන් බැංකුව, යුනියන්-මොස්කව් බැංකුව, රුසියානු-ප්‍රංශ වාණිජ බැංකුව | 711.8 | 661.2 | 1,373.0 |
| (බැංකු 11 කි) එකතුව . (අ) = | 1,364.8 | 1,689.4 | 3,054.2 |
| (ආ) බැංකු අටකි: මොස්කව් වෙළෙන්දන්ගේ බැංකුව, වොල්ගා-කාමාස්ක් බැංකුව, ජුන්කර් සහ සමාගම, සාන්ත පීටර්ස්බර්ග් වාණිජ (කලින් වෝවෙල්බර්ග්) බැංකුව, මොස්කව් (කලින් රියබුෂන්ස්කි) බැංකුව, මොස්කව් වට්ටම් බැංකුව, මොස්කව් වාණිජ බැංකුව, මොස්කව් පෞද්ගලික බැංකුව | 504.2 | 391.1 | 895.3 |
| (බැංකු 19 කි) එකතුව . . . . . . . | 1,869.0 | 2,080.5 | 3,949.5 |



(විදේශ වෙළෙඳාම සඳහා රුසියානු බැංකුව) සහ ජාත්‍යන්තර බැංකුව (සාන්ත පීටර්ස්බර්ග් ජාත්‍යන්තර වාණිජ බැංකුව) ''හතරෙන් තුනක් ජර්මන් ප්‍රාග්ධනය යොද ගනිමින්'' 1906 හා 1912 අතර කාලයේදී ඒවායේ ප්‍රාග්ධනය රූබල් 4 කෝටි 40 ලක්ෂයේ සිට 9 කෝටි 80 ලක්ෂය දක්වාද, ඒවායේ සංචිතයන් රූබල් 1 කෝටි 50 ලක්ෂයේ සිට 3 කෝටි 90 ලක්ෂය දක්වාද වැඩි කර ගත්තේය. මින් ප්‍රථම බැංකුව බර්ලින් ''ජර්මන් බැංකුවේ'' ''ව්‍යාපාරයට'' අයත් වන අතර දෙවැන්න බර්ලින් ''වට්ටම් සංගමයට'' අයත්ය. කොටස්වලින් බහුතරයක් බර්ලින් බැංකුවලට අයත්ව තිබීම ගැනත්, ඒ අනුව, රුසියානු කොටස් හිමියන් බල රහිතව සිටීම ගැනත්, කරුණාශීලී අගාද් තදින් උරණව සිටී. ස්වාභාවික වශයෙන්ම ප්‍රාග්ධනය අපනයනය කරන රට යොදය ඉවත් කර ගනී. නිදර්ශනයක් වශයෙන්, සයිබීරියානු වාණිජ බැංකුවේ කොටස් බර්ලින් පොළට ඉදිරිපත් කිරීමට පෙර ඒවා අවුරුද්දක්ම තම මල්ලේ ලා ගෙන සිටි බර්ලින් ''ජර්මන් බැංකුව'', ඉන් පසුව ඒවා 100 ට 193 ක් වන මිල ප්‍රමාණයකට, එනම් සාමාන්‍ය වටිනාකම මෙන් දෙගුණයක් වන මිළකට විකුණා, රූබල් හැට ලක්ෂයක පමණ ලාභයක් ''උපයා ගත්තේය''. හිල්පර්දිං මෙම ලාභය හඳුන්වන්නේ ''ප්‍රවර්ධකයාගේ ලාභය'' යනුවෙනි.

ප්‍රධාන සාන්ත පීටර්ස්බර්ග් බැංකුවල සම්පූර්ණ ''ධාරිතාව'' රූබල් 823 කෝටි 50 ලක්ෂයක්, එනම් රූබල් කෝටි 800 ට බොහෝ වැඩි ගණනක් යයි කතුවරයා නිගමනය කරයි. එසේම ''පාලන හිමිකම්'' නැතහොත්, එම බැංකු කෙරෙහි බලපැවැත්වූ විදේශ බැංකුවල ආධිපත්‍යයේ තරම ඔහු මෙසේ තක්සේරු කළේය: ප්‍රංශ බැංකු සියයට 55 කි. බ්‍රිතාන්‍ය බැංකු සියයට 10 කි ජර්මන් බැංකු සියයට 35 කි. රූබල් 823 කෝටි 50 ලක්ෂයක් වූ කාරක ප්‍රාග්ධනයෙන්, රූබල් 368 කෝටි 70 ලක්ෂයක් හෝ සියයට 40 කට වැඩි ප්‍රමාණයක් ප්‍රොඩුගල් සහ ප්‍රොඩමට් සම්මේලවල හා ඛණිජ තෙල්, ලෝහවිද්‍යා හා සිමෙන්ති කර්මාන්ත සම්මෙලවල කොටසට අයත් වන බව කතුවරයා ගණන් බලා තිබේ. මේ අනුව බලන කල ධනපති ඒකාධිකාරයන් පිහිටුවීම නිසා, බැංකු හා කාර්මික ප්‍රාග්ධන සංයෝජනයද රුසියාව තුළ දැවැන්ත පියවරයන් තබා ඉදිරියට ගොස් ඇත.

ස්වල්ප දෙනෙක් අත සංකේන්ද්‍රණය වූ සහ ඒකාධිකාරයක් හා සමානව ක්‍රියාත්මක වන මූල්‍ය ප්‍රාග්ධනය, සමාගම් ආරම්භ කිරීමත්, ව්‍යාපාර වස්තු නිකුතුවත්, රාජ්‍ය ණයත්, යනාදිය මගින් අතිමහත් හා නොකඩවාම වැඩිවන ලාභ ගරා ගනිමින්, මූල්‍ය කතිපයාධිපත්‍යයේ ආධිපත්‍යය ශක්තිමත් කරන්නේය. එසේම ඒකාධිකාරීන්ට යහසාධනය පිණිස මුළු සමාජයෙන්ම කප්පම් අය කරන්නේය. හිල්පර්දිං උපුටා දක්වන, ඇමෙරිකානු ''ව්‍යාපාර'' ක්‍රම පිළිබඳ නිදර්ශන රැසක් අතුරෙන් එකක් මෙසේය: ඩොලර් 65,00,000

ක මුළු ප්‍රාග්ධනයක් ඇති කුඩා සමාගම් පහළොවක් ඒකාබද්ධ කරමින් හාවෙමෙයර් 1887 දී සීනි සංගතයක් පිහිටෙව්වේය. ඇමෙරිකානුන් කියන ලෙසට, සුදුසු පමණ ''වතුර දැමීමෙන්'' සංගතයේ ප්‍රාග්ධනය ඩොලර් කෝටි 5 ක් බව ප්‍රකාශ කරන ලදී. හැකි තරම් යපස් බිම් මිලයට ගැනීම මගින් එක්සත් ජනපද වානේ සමායතනය ඒකාධිකාරී ලාභ බලාපොරොත්තුවන පරිද්දෙන්ම, මෙම ''අති-ධනනය'' කිරීමේදී ද ඒකාධිකාරී ලාභ අපේක්ෂා කරන ලදී. ඇත්ත වශයෙන්ම සීනි සම්මේලය ඒකාධිකාරී මිළ ගණන් නියම කොට, ඉතා ඉහළ ලාභ ලබා ගත්තේය. එම මිළ කොතරම් වී ද යත්, හත් ගුණයක් ''වතුර එකතු කළ'' ප්‍රාග්ධනය සඳහා සියයට දහයක ලාභාංශ ගෙවීමට, නැතහොත්, සම්මේලය පිහිටුවන විට ඇත්ත වශයෙන් ආයෝජනය කරන ලද ප්‍රාග්ධනයෙන් සියයට 70 ක් පමණ ලාභාංශ ගෙවීමට, එයට හැකි විය. අවුරුදු විසි දෙකක් ඇතුලත එය එහි ප්‍රාග්ධනය දස ගුණයකට වැඩියෙන් ඉහළ ගොස් තිබුණි.

ප්‍රංශයේ ''මූල්‍ය කතිපයාධිපත්‍යයේ'' (''ප්‍රංශයේ මූල්‍ය කතිපයාධිපත්‍යයට විරුද්ධව'' — මෙය ලිසිස් ලියූ සුප්‍රසිද්ධ ග්‍රන්ථයේ නම විය. එහි 5 වැනි මුද්‍රණය 1908 දී පළ විය) ආධිපත්‍යය ද, මෙයට වඩා ස්වල්ප වශයෙන් පමණක් වෙනස්වූ ස්වරූපයක් ගත්තේය. ඉතාමත් බලවත් බැංකු හතර, පිළිණපත් නිකුතුව සම්බන්ධයෙන් දරන්නේ, සාපේක්ෂ නොව ''පරම ඒකාධිකාරයකි''. යථාර්ථ වශයෙන් මෙය ''ලොකු බැංකුවල සංගතයකි''. එසේම ඒකාධිකාරය විසින් පිළිනපත් නිකුතුවෙන් ඒකාධිකාරී ලාභ ලැබීම සහතික කෙරේ. සාමාන්‍යයෙන් ණය ගන්නා රටකට ලැබෙන්නේ, ණය මුදලෙන් සියයට අනූවකට නොවැඩි මුදලකි. ඉතිරි සියයට 10 බැංකුවලට හා වෙනත් අතරමැදියන්ට දීමට සිදු වේ. ප්‍රෑන්ක් කෝටි 40 ක් වූ රුසියානු — චීන ණයෙන් බැංකු ලබාගත් ලාභය සියයට 8 ක් විය. ප්‍රෑන්ක් කෝටි 80 ක් වූ (1904) රුසියානු ණයෙන් ලබාගත් එම ලාභය සියයට 10 ක් විය. ප්‍රෑන්ක් 6,25,00,000 ක් වූ මොරොක්කෝ (1904) ණයෙන් එම ලාභය සියයට 18.75 ක් විය. කුඩා පොළීකාර ප්‍රාග්ධනයකින් ස්වකීය සංවර්ධනය ආරම්භ කළ ධනපති ක්‍රමය, එහි සංවර්ධනය යෝධ පොළීකාර ප්‍රාග්ධනයෙන් අවසන් කරයි. ''ප්‍රංශුවෝ යුරෝපයේ පොළීකාරයින් වෙති'' යි ලිසිස් කියයි. ධනපති ක්‍රමයේ මෙම පරිවර්තනය නිසා, ආර්ථික ජීවිතයේ සියළුම කොන්දේසි බරපතල ලෙස වෙනස් වන්නේ ය. වැඩි නොවන ජනගහනයක් හා නිශ්චලන කර්මාන්තයක්, වාණිජයක් සහ නැව් සේවයක්ද තිබියදීම ''රටට'' පොළීකාර කමෙන් ධනවත් විය හැක. ''අසූ ලක්ෂයක ප්‍රාග්ධනයක් නියෝජනය කරන පුද්ගලයන් පණස් දෙනෙකුට, බැංකු හතරක තැන්පත් ප්‍රෑන්ක් කෝටි 200 ක් පාලනය කළ හැක''. අපට දන් සුපුරුදු ''හිමිකම් ක්‍රමයෙන්'' ද ඇතිවන්නේ එම ප්‍රතිඵලයමය. නිදර්ශනයක් වශයෙන් ඉතාමත් විශාල බැංකු අතුරෙන් එකක් වන ''පොදු සංගමය'' (Société Générale), එහි ''දුහිතෘ සමාගමක්''වන''ඊජිප්තු සීනි පිරිපහදු කම්හල්''වෙනුවෙන් පිළිණපත් 64,00 ක් නිකුත් කරයි. පිළිණපත් සියයට 150 මිළට නිකුත් කෙරෙන අතර බැංකුවට ප්‍රෑන්ක් එකකට සෙන්ටයිම් 50 ක් ලාභ ලැබේ. නව සමාගමේ ලාභාංශ මිථ්‍යාවක් බව පෙනී ගිය අතර ''මහ ජනයාට'' ප්‍රෑන්ක් කෝටි 90 සිට 100 දක්වා වූ අලාභයක් සිදුවිය. ''පොදු සංගමයේ'' අධ්‍යක්ෂවරයෙක් සීනි පිරිපහදු කම්හල් සමාගමේ අධ්‍යක්ෂ මණ්ඩලයේ සාමාජිකයෙක් විය''. ''ප්‍රංශ සමූහාණ්ඩුව නම් මූල්‍ය රාජාණ්ඩුවකැ'' යි යන නිගමනයට කතුවරයා එළඹීම පුදුමයට කරුණක් නොවේ. එය මූල්‍ය කතිපයාධිපත්‍යයේ සම්පූර්ණ ආධිපත්‍යය ය; එම කතිපයාධිපත්‍යය පුවත් පත් හා ආණ්ඩුව කෙරෙහි ස්වකීය ආධිපත්‍යය පතුරුවයි''.*

මූල්‍ය ප්‍රාග්ධනයේ කාර්යයන් අතුරෙන් ඉතාමත් වැදගත් එකක් වන පිළිනපත් නිකුතුවෙන් ලබන අසාමාන්‍ය තරම් අධික ලාභ, මූල්‍ය කතිපයාධිපත්‍ය ඇති කිරීම හා තහවුරු කිරීම සම්බන්ධයෙන් ඉතා වැදගත් කාර්ය කොටසක් ඉටු කරයි. ''විදේශ ණය දීමෙන් ලබන ලාභ වලට යම්තමින් හෝ සමාන වන ලාභයක් ගෙන එන මෙම වර්ගයේ ව්‍යාපාර එකක් හෝ රට තුළ නැතැ'' යි ''බැංකුව'' සඟරාව කියයි.**

''සුරැකුම් පත් නිකුත් කිරීම හා සමාන ලාභයන ගෙක් දෙන වෙනත් කිසිම බැංකු කටයුත්තක් නොමැත!'' ''ජර්මන් ආර්ථික සංග්‍රහය'' කියන පරිදි කාර්මික ව්‍යාපාර වස්තු නිකුතුවෙන් ලබන ලද වාර්ෂික සාමාන්‍ය ලාභය මෙසේය:

| | |
|---|---|
| 1895 — 38.6% | 1898 — 67.7% |
| 1896 — 36.1% | 1899 — 66.9% |
| 1897 — 66.7% | 1900 — 55.2% |

''1891 පටන් 1900 දක්වා වූ දස වසර තුළ ජර්මන් කාර්මික ව්‍යාපාර වස්තු නිකුතුවෙන් මාර්ක් කෝටි සියයකට අධික මුදලක් ''උපයා ගන්නා'' ලදී''.***

* Lysis. "Contre l'oligarchie financière en France". 5 éd., Paris, 1908, pp. 11, 12, 26, 39, 40, 48 (ලිසිස්. ''ප්‍රංශයේ මූල්‍ය කතිපයාධිපත්‍යයට විරුද්ධව''. පස්වැනි මුද්‍රණය, පැරිස්, 1908, පිටු 11, 12, 26, 39, 40, 48. — සංස්කාරක).

** "Die Bank", 1913, අංක 7, පිටු 630.

*** Stillich, කලින් සඳහන් කෘතිය, පිටු 143, එසේම W. Sombart.

කාර්මික උත්පාතය ඇති කාල සීමාවලදී මූල්‍ය ප්‍රාග්ධනයේ ලාභ අති විශාලය. නමුත් අවපාතය පවතින කාලවලදී කුඩා සහ දුර්වල ව්‍යාපාර අභාවයට යන අතර, ඒවා සුළු මුදලකට මිළට ගන්නා ලොකු බැංකු ඒවායේ ''පාලන හිමිකම්'' ලබා ගනිති, එසේ නැතහොත්, ඒවා ''ප්‍රතිසංස්කරණ'' හා ''ප්‍රතිසංවිධානය'' කිරීම සඳහා වූ ලාභදායක යෝජනා ක්‍රම වලට සහභාගි වෙති. අලාභ සහිතව ගෙන යනු ලබන ව්‍යාපාර ''ප්‍රතිසංස්කරණය'' කිරීමේදී, ''කොටස් ප්‍රාග්ධනය අඩුකර ලියන අතර, කුඩා වූ ප්‍රාග්ධනයක් මත ලාභ බෙදා හරිනු ලැබේ; ලාභ ගණන් බැලීම දිගටම මෙම කුඩා පදනම අනුව කරනු ලැබේ. එසේ නැතහොත්, ආදායම බින්දුව දක්වාම පහත වැටී තිබේ නම්, අළුත් ප්‍රාග්ධනය සම්බන්ධ කර ගනු ලැබෙන අතර, එය පැරණි හා අඩු ආදායම් දෙන ප්‍රාග්ධනය සමග එක්ව ප්‍රමාණවත් ආදායමක් ගෙන එනු ඇත''. හිල්පර්දිං තවදුරටත් මෙසේ කියයි: ''බැංකුවලට මේ සියළු ප්‍රතිසංස්කරණ හා ප්‍රතිසංවිධාන කිරීම්වල දෙඅර්ථයක් ඇත. පළමුවැන්න ලාභදායක ගනුදෙනු වශයෙනි; දෙවැන්න අමාරුවට පත් සමාගම්වල පාලනය අල්ලා ගැනීමේ අවස්ථා වශයෙනි''.*

එක් නිදසුනක් මෙසේය: ඩෝර්ට්මුන්ඩ් හි ''යුනියන්'' ආකර සමාගම 1872 දී පිහිටුවන ලදී. ප්‍රාග්ධන කොටස් නිකුතුව මාර්ක් 4 කෝටියක් පමණ විය. එම සමාගම ප්‍රථම වර්ෂය සඳහා සියයට 12 ක ලාභාංශ ගෙවූ පසු එහි කොටස්වල වෙළඳ පොළේ මිළ සියයට 170 දක්වා ඉහළ ගියේය. මූල්‍ය ප්‍රාග්ධනය යොදය ඉවත් කර ගනිමින් මාර්ක් 2 කෝටි 80 ලක්ෂයක් තරම් මුදලක් උපයා ගත්තේය. මෙම සමාගමේ ප්‍රධාන අනුග්‍රාහකයා වූයේ, එතරම් සාර්ථක ලෙස මාර්ක් 30 කෝටියක ප්‍රාග්ධනයක් ලබාගත් විශාල ජර්මන් ''වට්ටම් සංගමය'' ය. පසුව ''යුනියන්'' සමාගමේ ලාභාංශ බින්දුව දක්වා පහත වැටුනේය. ප්‍රාග්ධනය අඩුකර ලිවීමට එකඟවීමට කොටස් හිමියන්ට සිදුවිය. එහි අර්ථය සියල්ල අහිමි වීම වැලැක්වීමට ටිකක් අහිමි කර ගැනීමය. අවුරුදු තිහක කාලයක් තුළදී විවිධ ''ප්‍රතිසංස්කරණයන්'' මාලාවක් මගින් ''යුනියන්'' සමාගමේ පොත්වලින් මාර්ක් 7 කෝටි 30 ලක්ෂයකට වැඩි මුදලක් කපා හරින ලදී.දැනට සමාගමේ මුල් කොටස්කරුවන් සතුව ඇත්තේ ඔවුන්ගේ කොටස්වල නාමමාත්‍ර වටිනා කමෙන්

"Die deutsche Volkswirtschaft im 19. Jahrhundert". 2. Aufl., 1909. S. 526, Anlage 8 (වී. සොම්බර්ත් ''දහනවවැනි ශතවර්ෂයේ ජර්මන් ජාතික ආර්ථිකය''. දෙවැනි මුද්‍රණය, 1909, පිටු 526, අතිරේක 8. — සංස්කාරක).

* ''මූල්‍ය ප්‍රාග්ධනය'', පිටු 172.



සියයට 5 ක් පමණකි''.* නමුත් සැම ''ගනුදෙනුවකින්ම'' බැංකු ''යමක් උපයා ගත්තේය''.

සීඝ්‍ර ලෙස වර්ධනය වන නගරාසන්නයේ ඇති ඉඩම් සම්බන්ධ සමපේක්ෂණය, මූල්‍ය ප්‍රාග්ධනයට විශේෂයෙන් ලාභ ගෙන දෙන කටයුත්තකි. ඉඩම් මිළ ඉහළ යාමත්, ඒවා කැබලි ලෙසට ලාභ සහිතව විකිණීමේ හැකියාවත් යනාදිය, ප්‍රධාන වශයෙන් නගර මාධ්‍යය සමග ගමනා ගමනය සඳහා ඇති මාධ්‍යයන් මත රඳා පවතින හෙයින් මෙහිදී බැංකු ඒකාධිකාරය, ඉඩම් බදු කුලී ඒකාධිකාරයත්, ගමනා ගමන මාධ්‍ය ඒකාධිකාරයත් සමග සංයෝජනය වෙයි. තවද, මෙම ගමනා ගමන මාධ්‍යයන්ද ඇත්තේ, හිමිකම් ක්‍රමයෙන් හා මණ්ඩලවල ආසන බෙදා හැරීම මගින් එම බැංකුව සමග සම්බන්ධ වූ විශාල සමාගම් අතෙහිය. මෙහි ප්‍රතිඵලයක් වශයෙන් අපට දක්නට ලැබෙන්නේ, නිශ්චල දේපල ව්‍යාපාර, උගස් යනාදිය ගැන විශේෂ අධ්‍යයනයක් කළ ජර්මන් ලේඛකයෙකු හා ''බැංකුව'' සඟරාවට ලිපි සපයන්නෙකු වූ එල්. එෂ්වෙගේ ''මඩ වගුර'' යනුවෙන් හඳුන්වන දෙයයි. නගරාසන්න ඉඩම් සම්බන්ධයෙන් වියරු සමපේක්ෂණයක් ඇති වේ. බර්ලිනයේ ''බොස්වාවු සහ ක්නාවුර්'' සමාගම වැනි ගොඩනැගිලි ව්‍යවසායයන් බිඳ වැටේ — එම සමාගම ''ස්ථිර සහ ශක්තිමත්'' ''ජර්මන් බැංකුවේ'' (Deutsche Bank) ආධාරය ඇතිව මාර්ක් 10 කෝටියක් පමණ සතු කර ගත් අතර, එම බැංකුව, හිමිකම් ක්‍රමය මගින්, එනම් රහසින් හා පිටුතලයෙහි සිටිමින් කටයුතු කළ අතර, මාර්ක් 1 කෝටි 20 ලක්ෂයක පාඩුවක් ''පමණක්'' විඳ ගනිමින් එයින් ඉවත් විය. අනතුරුව, ව්‍යාජ ගොඩනැගිලි සමාගම්වලින්ද, ඉඩම් කට්ටි සහතික නිකුත් කිරීම, ගොඩනැගිලි බලපත් නිකුත් කිරීම ආදිය පිළිබඳ පාලනය ලබා ගැනීම සඳහා ''අවංක'' බර්ලින් පොලීසිය හා පාලනය සමග කළ වංචනික ගනුදෙනුවලින් ද, කිසිම යහපතක් නොලද, කුඩා දේපල හිමියන් හා කම්කරුවන් විනාශයට පත් වේ.**

යුරෝපීය මහාචාර්යවරුන් හා යහපත් චේතනා ඇති ධනපතියන් කුහක ලෙස අප්‍රසාදයට ලක් කරන ''ඇමෙරිකානු ආචාර ධර්ම'', මූල්‍ය ප්‍රාග්ධනයේ සමයේදී ඕනෑම රටක සෑම විශාල නගරයකම පාහේ පිළිගත් ආචාර ධර්ම බවට පත්ව ඇත.

''ප්‍රවාහණ සංගතයක්'' ඇති කිරීම ගැන, එනම් නාගරික විදුලි රිය සේවා සමාගම, ට්‍රෑම් සේවා සමාගම හා බස් රථ සමාගම යන බර්ලින්

* Stillich, කලින් සඳහන් කෘතිය, පිටු 138 සහ Liefmann, පිටු 51.

** "Die Bank", 1913, S. 952, L. Eschwege. "Der Sumpf" (''මඩ වගුර''. — සංස්කාරක); එහිම 1912, 1, පිටු 223 පටන්.

ප්‍රවාහණ ව්‍යාපාර තුන අතර ''අයිතිවාසිකම් සමාජයක්'' ඇති කිරීම ගැන 1914 වර්ෂය ආරම්භයේ බර්ලිනයේ කථාවක් පැතිර තිබිණ. ඒ සම්බන්ධයෙන් ''බැංකුව'' සඟරාව මෙසේ ලීවේය: ''බස්රථ සමාගමෙහි කොටස්වලින් බහුතරය අනිත් ප්‍රවාහණ සමාගම් දෙක විසින් අත් කරගන්නා ලද බව ප්‍රකට වූ තැන් පටන් මෙම සැලැස්ම ක්‍රියාත්මක කිරීමේ අදහසක් තිබුණ බව අපි දන්නෙමු. ... ප්‍රවාහණ සේවාවන් එක්සත් කිරීමෙන් පිරිමැස්මක් ඇති කර ගත හැකි බවත්, ඉන් කොටසක් කල් යාමේදී මහජන යහසාදනයට යෙදෙනු ඇති බවත් කියන, මෙම අරමුණ ඉටු කිරීමට කටයුතු කරන, පුද්ගලයන්ගේ වදන් අපට සම්පූර්ණයෙන්ම විශ්වාස කළ හැකිය. නමුත්, ප්‍රවාහණ සංගතය පිටුපස බැංකු සිටින නිසාද, බැංකුවල ඒකාධිකාරයක් බවට පත්කරගෙන තිබෙන ගමනාගමන මාධ්‍යයන් ඒවාට අවශ්‍ය නම් ඒවායේ නිශ්චල දේපල ව්‍යාපාරයේ අවශ්‍යතාවයන්ට යටත් කළ හැකි නිසාද, මෙම ප්‍රශ්නය සංකීර්ණ වන්නේය. එවැනි අනුමානයක සාධාරණත්වය ඒත්තු යාම පිණිස අප කළ යුත්තේ, විදුලි සමාගම පිහිටුවීමට අනුබල දුන් විශාල බැංකුව, එම සමාගම ආරම්භ කිරීමට යොමුවන විටම එය නිශ්චල දේපල ව්‍යාපාරපට සම්බන්ධ වී තිබුණු බව සිහියට නැංවීම පමණකි. එයින් අදහස් වන්නේ ප්‍රවාහණ ව්‍යාපාරයේ අවශ්‍ය තාවයන්, නිශ්චල දේපලවල අවශ්‍යතාවයන් සමග අන්තර්බද්ධව තිබුණු බවය. සැලකිල්ලට ගත යුතු කාරණය නම් මෙම විදුලි රිය සේවයේ නැගෙනහිර මාර්ගය දැමීමට නියමිතව තිබුණේ මෙම බැංකුව විසින් විකුණන ලද ඉඩම් හරහා වීමත්, එම ඉඩම් ඔස්සේ විදුලි රිය මාර්ගය දැමීමට යන බව ස්ථිර වූ පසු එම ඉඩම් විකිණීමෙන් බැංකුවටත්, ගනුදෙනුවලට සම්බන්ධ වූ හවුල් කරුවන් ගණනාවකටත් දැවැන්ත ලාභයක් ලැබුණු බවත් ය''.*

ඒකාධිකාරයක් ඇති කරන ලද පසු එය සිය කෝටි ගණන් ධනය පාලනය කරයි. ආණ්ඩු ක්‍රමයේ ස්වරූපය හා වෙනත් ''විස්තර කරුණු'' ගැන නොතකා එය අනිවාරණීය වශයෙන්ම ජන ජීවිතයේ සෑම අංශයක්ම විනිවිද යයි. ජරුසියන් නිලධාරි පැලැන්තියේ අවංකභාවය ගැන කරන සුවච ප්‍රසංශාවන්ද, ප්‍රංශ පැනමා අපචාරය[40] ගැන හා ඇමෙරිකාවේ දේශපාලන දූෂණය ගැන ඉඟි කිරීම්ද, කෙනෙකුට ජර්මන් ආර්ථික සාහිත්‍යයෙන් නිතර පාහේ දැකිය හැකි වේ. නමුත් සැලකිල්ලට ගත යුතු කාරණය නම්, ජර්මන් බැංකු කටයුතු වෙනුවෙන් වෙන් වුනු ධනපති පොත්වලට පවා පිරිසිදු බැංකු කටයුතු පිළිබඳ ක්ෂේත්‍රයෙන් ඔබ්බට බොහෝ දුර

* "Verkehrstrust", "Die Bank", 1914, 1, S. 89 (''ප්‍රවාහණ සංගතය'', ''බැංකුව''. — සංස්කාරක).



යාමට සිදු වූ බවය. නිදර්ශනයක් වශයෙන්, රජයේ නිලධාරීන් බැංකුවල රැකියා බාරගැනීම වඩ වඩාත් නිරන්තර ලෙස යොමුවීම හා සම්බන්ධයෙන් ''බැංකුවල ආකර්ශණීය ස්වභාවය'' ගැන එම සාහිත්‍යයෙහි මෙසේ කියා ඇත. ''බෙරෙන්ෂ්ත්‍රාස්සේ වීදියෙහි (ජර්මන් බැංකුවේ ප්‍රධාන කාර්යාලය පිහිටා ඇති බර්ලින් වීදිය) සැප පහසු රැකියාවක් පිළිබඳ අපේක්ෂාව ඇතුළු සිතෙහි තබා ගෙන සිටින රාජ්‍ය නිලධාරියාගෙ අවංක භාවය ගැන කිව හැක්කේ කුමක්ද?''* ''බැංකුව'' සඟරුවේ ප්‍රකාශක ඇල්ෆ්‍රඩ් ලාන්ස්බර්ග් ''බයිසන්තියන්වාද්‍යේ ආර්ථික වැදගත් කම'' ගැන 1909 දී ලිපියක් ලීවේය. වෙනත් කරුණු අතර, II වැනි විල්හෙල්ම් ගේ පලස්තීන චාරිකාව ගැනද, ''එහි නියත ප්‍රතිඵලය වූත් අප ''වට කරනු ලැබීමට''** (වට කරනු ලැබීම යනුවෙන් අදහස් කෙරෙන්නේ ජර්මනිය තනි කොට ඇය ජර්මන් විරෝධී අධිරාජ්‍යවාදී රාජ්‍ය සන්ධානයකින් වට කිරීමට VII වැනි එඩ්වඩ් අනුගමනය කළ ප්‍රතිපත්තිය ය.) ''අපගේ දේශපාලන මෝඩකම් සියල්ලෙහිම එකතු සමස්තයටත් වඩා හේතු සාධක වූත්, ''ජර්මන් උද්යෝගයේ'' ඒ මරු කැන්දන 'ශ්‍රෙෂ්ඨ නිමැවුම' වූත් බැග්ඩැඩ් දුම්රිය මාර්ගය තැනීම'' ගැන ද ඔහු සඳහන් කළේය. මෙම සඟරාවටම ලිපි සපයන්නෙකු වූ හා මා ඉහත සඳහන් කර ඇති, එෂ්වෙගේ ''කුවේර තන්ත්‍රය හා නිලධාරි පෙළැන්තිය'' යනුවෙන් 1911 දී ලිපියක් ලියුවේය. එමගින් ඔහු ෆේපල්කර් නැමති ජර්මන් නිලධාරියෙක් ගැන හෙළිදරව් කළේය. කාටල කාරක සභාවේ උත්සුක්ත කාරක සභිකයෙක් වූ මෙම පුද්ගලයා, ලොකුම කාටලය වූ වානේ සංගතයෙහි විශාල ආදායමක් ලැබෙන තනතුරකට පත් වීමක් ලබා ගත් බව ටික කලකට පසුව හෙළිදරව් විනැයි එම ලිපියේ සඳහන්ය. මෙවැනි අවස්ථා දක්නට ලැබෙන්නේ කිසිසේත් කලාතුරකින් නොවේ. එනිසා, ''ජර්මන් ව්‍යවස්ථාවෙන් සහතික කෙරෙන ආර්ථික නිදහස, ආර්ථික ජීවිතයේ අංශ බොහොමයකදීම, අර්ථ විරහිත වදනක් වී ඇති'' බවත්, කුවේර තන්ත්‍රයේ පාලනය පවතින තත්වයන් යටතේ ''අප නොනිදහස් ජනතාවක් බවට පරිවර්තනය කරනු ලැබීමෙන් අප බේරා ගැනීමට පුළුල්තම දේශපාලන නිදහස වුවද සමත් නොවන''*** බවත්, මෙම ධනපති කතුවරයාට නොපිළිගෙන බැරි විය.

* "Der Zug zur Bank", "Die Bank", 1909, 1, S. 79 (''බැංකු වෙත ආකර්ෂණය වීම'', ''බැංකුව''. — සංස්කාරක).

** "Der Zug zur Bank", "Die Bank", 1909, 1, පිටු 301.

*** "Der Zug zur Bank", "Die Bank", 1911, 2, පිටු 825; 1913, 2, පිටු 962.

රුසියාව හා සම්බන්ධයෙන් මා සඳහන් කරන්නේ එක නිදර්ශනයක් පමණකි. මහා භාණ්ඩාගාරයේ ණය දෙපාර්තමේන්තුවේ අධ්‍යක්ෂ තැන්පත් දවීදෙව්, කිසියම් බැංකුවක කොන්ත්‍රාත්තුව අනුව අවුරුදු කීපයකදී රූබල් දශ ලක්ෂයක මුළු වැටුපක් ලැබෙන රැකියාවක් භාර ගැනීම සඳහා ඔහුගේ තනතුරෙන් ඉල්ලා අස්වූ බව අවුරුදු කීපයකට පෙර සියළුම පුවත් පත්වල පළ විය. ණය දෙපාර්තමේන්තුව යනු, ''රටේ සියළුම ණය දෙන ආයතනවල කටයුතු සම්බන්ධීකරණය'' පිළිබඳ කාර්ය භාර ආයතනයකි. සාන්ත පීටර්ස්බර්ග් හා මොස්කව් බැංකු වලට රූබල් 80 කෝටිය සිට 100 කෝටිය දක්වා වූ පිහිටාධාර ප්‍රදානය එම ආයතනය විසින් කරනු ලැබේ.*

ප්‍රාග්ධනය හිමිකම ප්‍රාග්ධනය නිෂ්පාදනයට යෙදීමෙන් වෙන් කර තැබීමත්, මුදල් ප්‍රාග්ධනය කාර්මික හෝ නිෂ්පාදන ප්‍රාග්ධනයෙන් වෙන් කර තැබීමත්, මුදල් ප්‍රාග්ධන ආදායමෙන්ම පමණක් ජීවත්වන බදුකරු ව්‍යවසායිකයාගෙන් සහ ප්‍රාග්ධන කළමණාකරණය සමග සම්බන්ධව සිටින සියළු දෙනාගෙන්ම වෙන් කර තැබීමත්,ධනපති ක්‍රමයේ සාමාන්‍ය ස්වභාව නිරූපී ලක්ෂණයකි. මෙම වෙන් කිරීම දැවැන්ත පරිමාණයකට සංවර්ධනය වූ අධිරාජ්‍යවාදය, නැතහොත්, මූල්‍ය ප්‍රාග්ධනයේ ආධිපත්‍යය, යනු ධනපති ක්‍රමයේ අහළම අවධිය ය. මූල්‍ය ප්‍රාග්ධනය අනෙකුත් ප්‍රාග්ධන ආකෘතිවලට වඩා උසස් වීම යනු, බදු කරුගේ සහ මූල්‍ය කතිපයාධිපත්‍යයේ ආධිපත්‍යයයි. එයින් අදහස් වන්නේ, මූල්‍ය වශයෙන් ''බල ගතු'' රාජ්‍ය ස්වල්පයක් අන් සියල්ලටම වඩා ඉහළින් පෙනී සිටින බවයි. මෙම ක්‍රියාදාමය කොතෙක් දුරට බලපවත්වන්නේද යනු විමෝචන, නැතහොත්, විවිධ වර්ගයේ සුරැකුම්පත් නිකුතු පිළිබඳ සංඛ්‍යා ලේඛණ අනුව වටහා ගත හැකිය.

ජාත්‍යන්තර සංඛ්‍යා ලේඛණ ආයතනයේ බුලටිනයේ ඒ නේයිමාර්ක්** ලෝකය මුළුල්ලේම සුරැකුම් පත් නිකුතු පිළිබඳව ඉතාමත් විස්තරපූර්ණ, සම්පූර්ණ සහ සංසන්දනාත්මක සංඛ්‍යා ලේඛන පළ කළේය. ආර්ථික සාහිත්‍යයෙහි එම සංඛ්‍යා ලේඛන නොයෙක් විට කොටස් වශයෙන් උපුටා දක්වා තිබේ. දශක හතරක් සඳහා මුළු ගණන් පහත සඳහන් පරිදිය:

* E. Agahd, පිටු 202.

** Bulletin de l'institut international de statistique, t. XIX, livr. 11. La Haye, 1912 (ජාත්‍යන්තර සංඛ්‍ය ලේඛණ ආයතනයේ බුලටිනය. වෙළුම 19, දෙවෙනි සංග්‍රහය. ගාග. — සංස්කාරක). — කුඩා රාජ්‍යයන් හා සම්බන්ධයෙන් දෙවෙනි තීරයේ දත්තයන් තක්සේරු කර තිබෙන්නේ 1902 ගණනට සියයට 20 ක් එකතු කිරීමෙනි.



දශක අනුව ප්‍රැන්ක් මුදලින් නිකුත් කළ මුළු ගණන
(100,00,00,000 ගණනින්)

| | |
|---|---|
| 1871—1880 | 76.1 |
| 1881—1890 | 64.5 |
| 1891—1900 | 100,4 |
| 1901—1910 | 197.8 |

ප්‍රංශ ප්රුසියානු යුද්ධයත්, යුද්ධයෙන් පසුව ජර්මනියේ ඇති වූ සමාගම් පිහිටුවීමේ උත්පාතයත් නිසා 1870 දී ලෝකය සඳහා නිකුතුවල එකතුව බොහෝ සේ ඉහළ ගියේය. සමස්තයක් වශයෙන් ගත් කල, දහ නවවැනි ශතවර්ෂයේ අන්තිම දශක තුන තුළදී නිකුතුව වැඩි වීම සංසන්දනීය වශයෙන් බලන කල ඉතා සීඝ්‍ර නොවීය. සියයට සියයක් පමණවූ දැවැන්ත වැඩි වීමක් දකින්නට ලැබෙන්නේ විසිවැනි ශත වර්ෂයේ මුල් දස වර්ෂය තුළදී ය. එනිසා, අප ඉහත සඳහන් කර ඇති ඒකාධිකාරවල (කාටල, සම්මේල, සංගත) වර්ධනයෙහි පමණක් නොව, මූල්‍ය ප්‍රාග්ධනයේ සංවර්ධනයෙහි ද, සන්ධිස්ථානය සලකුණු කෙරෙන්නේ විසිවැනි ශත වර්ශයේ ආරම්භයෙනි.

1910 දී ලෝකයේ වලංගුව පැවති නිකුත් සුරැකුම්පත් එකතුව ප්‍රැන්ක් කෝටි 81,500 ක් යයි නේයිමාර්ක් ගණන් බලා තිබේ. දෙවරක් ගණනය වී ඇතැයි සිතිය හැකි ගණන් මෙයින් රින කර, ඔහු මුළු ගණන ප්‍රැන්ක් කෝටි 57,500—60,000 දක්වා අඩු කරයි. එම ගණන විවිධ රටවල් අතර පහත සඳහන් පරිදි බෙදී ගොස් ඇත (කෝටි 60,000 ගනිමු):

1910 දී වලංගුව තිබූ සුරැකුම් පත්
(ප්‍රැන්ක් 100,00,00,000 ගණනින්)

| | | | | |
|---|---|---|---|---|
| මහා බ්‍රිතාන්‍ය | 142 | 479 | ඕලන්දය | 12.5 |
| එක්සත් ජනපදය | 132 | | බෙල්ජියම | 7.5 |
| ප්‍රංශය | 110 | | ස්පාඤ්ඤය | 7.5 |
| ජර්මනිය | 95 | | ස්විට්සර්ලන්තය | 6.25 |
| රුසියාව | 31 | | ඩෙන්මාර්කය | 3.75 |
| ඕස්ත්‍රියා — හංගේරියාව | 24 | | ස්වීඩනය, නෝර්වේ සහ රුමේනියාව ආදිය | 2,5 |
| ඉතාලිය | 14 | | | |
| ජපානය | 12 | | එකතුව | 600 |

දළ වශයෙන් ප්‍රැන්ක් කෝටි 10.000 සිට 15,000 දක්වා වටිනාකම් ඇති සුරැකුම් පත් ඇතිව සිටින ධනපති රටවල් අතුරෙන් පොහොසත්ම රටවල් හතර, ඉතා පැහැදිලි ලෙස මතුවී තිබෙන බව මෙම සංඛ්‍යා අනුව අපට එක් වරම පෙනේ. මෙම රටවල් හතර අතුරෙන් දෙකක්, එනම් බ්‍රිතාන්‍යය සහ ප්‍රංශය, පැරණිම ධනපති රටවල්ය. එමෙන්ම, අපට පැහැදිලි වනු ඇති ලෙසට, යටත් විජිත වැඩියෙන්ම අයත්ව ඇත්තේ ඒ දෙරටට ය. අනිත් දෙරට වන එක්සත් ජනපදය සහ ජර්මනිය සංවර්ධන වේගයේ සීඝ්‍රතාවය හා කර්මාන්තයේ ධනපති ඒකාධිකාරයන්ගේ ව්‍යාප්ති ප්‍රමාණය අතින් මුල් තැන ගන්නා ධනපති රටවල් දෙකය. මෙම රටවල් හතර එකතුවූ කල ප්‍රැන්ක් කෝටි 47,9000 ක්, එනම් ලෝකයේ මූල්‍ය ප්‍රාග්ධනයෙන් සියයට 80 ක් පමණ ඒවාට හිමිව ඇත. එක් හෝ තවත් මාර්ගයකින්, මුළු හම ඉත්තිරි ලෝකය සම්පූර්ණයෙන්ම පාහේ, මෙම ජාත්‍යන්තර බැංකුකාර රටවලට, ලෝක මූල්‍ය ප්‍රාග්ධනයේ මෙම ''බල කණු'' හතරට, ණය කරුවන් හෝ කප්පම් ගෙවන්නන් වන්නේය.

මූල්‍ය ප්‍රාග්ධනයට ගැතිවීම හා එහි සම්බන්ධකම් පිළිබඳ ජාත්‍යන්තර ජාලකය නිර්මාණය කිරීමේදී ප්‍රාග්ධන අපනයනයෙන් ඉටුවන කාර්ය කොටස ගැන පිරික්සා බැලීම විශේෂයෙන් වැදගත් වන්නේය.

## IV. ප්‍රාග්ධන අපනයනය

නිදහස් තරඟයේ අසහාය ස්වාමිකත්වය සහිතව පැවති පැරණි ධනපති ක්‍රමය භාණ්ඩ අපනයනයෙන් උපලක්ෂිතය. ඒකාධිකාරයන්ගේ පාලනය බලපවත්වන ධනපති ක්‍රමයේ නවතම අවධිය ප්‍රාග්ධන අපනයනයෙන් උපලක්ෂිතය.

ධනපති ක්‍රමය යනු, ඉහළම අවධියට පත් වෙළෙඳ භාණ්ඩ නිෂ්පාදනය ය. එය යටතේ ශ්‍රම ශක්තියත් වෙළෙඳ භාණ්ඩයක් වන්නේය. අභ්‍යන්තර හුවමාරුව වර්ධනය වීම හා විශේෂයෙන්ම, ජාත්‍යන්තර හුවමාරුව වර්ධනය වීම, ධනපති ක්‍රමයේ ස්වභාව නිරූපී ලක්ෂණයකි. ධනපති ක්‍රමය යටතේ තනි ව්‍යවසායයන්, තනි කර්මාන්ත අංශ හා තනි රටවල් අසමාන ලෙස හා කඩින් කඩ සංවර්ධනය වීම නොවැළැක්විය හැකිය. අන් සෑම රටකටම වඩා ප්‍රථමයෙන් එංගලන්තය ධනපති රටක් වූයේය. නිදහස් වෙළඳම ක්‍රියාත්මක කළ එය, දහනවවැනි ශතවර්ෂයේ මැද භාගය වන විට තමන් ''ලෝකයේ කර්මාන්ත ශාලාව'' බවටත් සියළුම රටවලට නිමවූ භාණ්ඩ සපයන්නා බවටත්, එම රටවල් හුවමාරු වශයෙන් එයට අමුද්‍රව්‍ය සම්පාදනය කළ යුතු බවටත් අයිතිවාසිකම් කීවේය. නමුත් දහ නවවැනි ශතවර්ෂයේ අන්තිම කාර්තුවේදී ම, මෙම ඒකාධිකාරය අඩාලව ගොස් තිබුණි. එසේ වූයේ ''ආරක්ෂක'' තීරු බදුවලින් රැකවරණ සලසා ගත් වෙනත් රටවල්, ස්වාධීන ධනපති රාජ්‍යය ලෙසට සංවර්ධනය වූ හෙයිනි. විසිවැනි ශතවර්ෂයට පිවිසෙන තැනදී, නව වර්ගයේ ඒකාධිකාරයක් ඇතිවනු අපට දක්නට ලැබේ. ප්‍රථමයෙන්ම ධනපති ක්‍රමයෙන් සංවර්ධනයට පත් සියළුම රටවල, ඒකාධිකාරී හවුල් ඇතිවනු දක්නා ලදී; දෙවැනිව, දැවැන්ත පරිමාණයෙන් ප්‍රාග්ධන සංකේන්ද්‍රණය වූ තත්වයට පත් ඉතා ධනවත් රටවල් කීපයක ඒකාධිකාරී තත්වය දක්නා ලදී. දියුණු රටවල අති විශාල ''ප්‍රාග්ධන අතිරික්තයක්'' උද්ගත වී තිබේ.

අද සෑම තන්හීම කර්මාන්තයට වඩා බෙහෙවින් පසුබා තිබෙන කෘෂිකර්මය සංවර්ධනය කිරීමට ධනපති ක්‍රමයට හැකි නම්, විශ්මයානුකූල තාක්ෂණික ප්‍රගතියක් ඇතත්, තවමත් අර්ධ හාමතයෙන් හා දුප්පත්කමෙන් පීඩිතව සිටින පොදු ජනතාවන්ගේ ජීවන තත්වයන් උසස් කිරීමට එයට හැකි නම්, අතිරික්ත ප්‍රාග්ධනයක් තිබීමේ ප්‍රශ්නයක් ඇති විය නොහැකි බව, නොකීවද පැහැදිලි වන්නේය. ධනපති ක්‍රමයේ සුළු ධනේශ්වර විවේචකයෝ බොහෝ විට මෙම ''තර්කය'' ඉදිරිපත් කරති. නමුත්, ධනපති ක්‍රමය මෙම කාර්යයන් ඉටු කළේ නම්, එවිට එය ධනපති ක්‍රමය නොවන්නේය. මක්නිසාද යත්, අසමාන සංවර්ධනයත්, පොදු ජනතාව අර්ධ හාමත් තත්වයෙන් සිටීමත්, යන දෙකම මෙම නිෂ්පාදන ක්‍රමය සඳහා අවශ්‍ය මූලික හා අනිවාරණීය කොන්දේසි වන අතර, එයින් එම ක්‍රමයේ මුල් පදනම සකස් වන හෙයිනි. ධනපති ක්‍රමය, ධනපති ක්‍රමය වශයෙන් පවතින තාක් කල්, අතිරික්ත ප්‍රාග්ධනය යොදනු ලබන්නේ කිසියම් රටක ජනතාවගේ ජීවන තත්වය උසස් කිරීම සඳහා නොවේ. එයින් ධනපතියන්ගේ ලාභ අඩුවීමක් අදහස් වන හෙයින්, එසේ නොකරනු ලැබේ. එය යොදනු ඇත්තේ, ප්‍රාග්ධනය, විදේශ නොදියුණු රටවලට අපනයනය කිරීමෙන් ලාභ වැඩි කිරීමේ අරමුණු ඉටු කර ගනු සඳහාය. මෙම නොදියුණු රටවල ප්‍රාග්ධනය දුර්ලභ නිසාද, ඉඩම් මිල සංසන්දනීය වශයෙන් අඩු නිසාද, වේතන අඩු නිසාද, අමු ද්‍රව්‍ය මිළ අඩු නිසාද, සාමාන්‍ය වශයෙන් එහි ලාභ අධිකය. නොදියුණු රටවල් ගණනාවක්ම ලෝක ධනපති සම්භාෂණයට ඇද ගෙන තිබීමද, මෙම රටවල ප්‍රධාන දුම්රිය මාර්ග ඉදිකර නැතහොත් ඉදිවෙමින් තිබීමද, කාර්මික සංවර්ධනය සඳහා අවශ්‍ය මූලික කොන්දේසි ඉටුකර තිබීමද, යනාදී කරුණු නිසා, ප්‍රාග්ධන අපනයනයට ඉඩ සැලසී තිබේ. ප්‍රාග්ධන අපනයනය සඳහා අවශ්‍යතාවය පැන නගින්නේ, රටවල් කීපයක ධනපති ක්‍රමය ''පමණට වඩා පැසී'' තිබෙන හා (කෘෂිකර්මයේ නොදියුණු තත්වය හා පොදු ජනතාවගේ දුප්පත් කම නිසා) ලාභදායක ක්ෂේත්‍රයක් සොයා ගත නොහැකි නිසාය.

ප්‍රධාන රටවල් තුන විදේශයෙහි ආයෝජනය කොට තිබෙන ප්‍රාග්ධන ප්‍රමාණයන් දක්වන දළ සංඛ්‍යා මෙසේය:*

විදේශයෙහි ආයෝජිත ප්‍රාග්ධනය

(ප්‍රැන්ක් 100,00,00,000 ගණනින්)

| වර්ෂය | මහාබ්‍රිතාන්‍ය | ප්‍රංශය | ජර්මනිය |
|---|---|---|---|
| 1862 | 3.6 | — | — |
| 1872 | 15.0 | 10 (1869) | — |
| 1882 | 22.0 | 15 (1880) | ? |
| 1893 | 42.0 | 20 (1890) | ? |
| 1902 | 62.0 | 27–37 | 12.5 |
| 1914 | 75–100.0 | 60 | 44.0 |

* Hobson. "Imperialism". London, 1902, පිටු 58; Riesser, කලින් සඳහන් කෘතිය, පිටු 395 හා 404; P. Arndt in "Weltwirtschaftliches Archiv", Bd. 7, 1916, S. 35 (පී. අර්න්ද්ත් ''ලෝක ව්‍යාපාර පොළේ ලේඛණ'' වෙළුම 7, 1916, පිටුව 35. — සංස්කාරක); Neymarck, "Bulletin"; හිල්පර්දිං. ''මූල්‍ය ප්‍රාග්ධනය'', පිටු 492; Lloyd George, පාර්ලිමේන්තුවට 1915 මැයි 4 දින කළ කථාව, 1915 මැයි 5 දින "Daily Telegraph" පත්‍රයේ වාර්තාව; B. Harms. "Rrobleme der Weltwirtschaft". Jena, 1912, S. 235 පටන් (බී. හර්ම්ස්. ''ලෝක ආර්ථිකය පිළිබඳ ප්‍රශ්න''. යියෙනා, 1912, පිටුව 235 හා වෙනත් පිටු. — සංස්කාරක); Dr. Siegmund Schilder. "Entwicklungstendenzen der Weltwirtschaft". Berlin, 1912, Band 1, S. 150 (ආචාර්ය සිග්මන්ඩ් ෂිල්දර්. ''ලෝක ආර්ථිකය වර්ධනය වීමේ ප්‍රවනතාවය''.බර්ලින්, 1912, වෙළුම 1, පිටුව 150. — සංස්කාරක); George Paish. "Great Britain's Capital Investments etc". in "Journal of the Royal Statistical Society", Vol.LXXIV. 1910—1911, පිටු 167 පටන් (ජෝජ් පැයිෂ්. ''මහා බ්‍රිතාන්‍යයේ ප්‍රාග්ධනය ආයෝජනය ආදිය'' පිළිබඳ ''රාජකීය සංඛ්‍යා ලේඛණ සංගමයේ සඟරාවෙන්'' කලාපය 74. — සංස්කාරක); Georges Diouritch. "L'Expansion des banques allemandes à l'étranger, ses rapports avec le développement économique de l'Allemagne". Paris, 1909, p. 84 (ජෝර්ජ් දිවුරිච්. ''ජර්මන් බැංකු විදේශ රටවල පැතිර යෑම, ජර්මනියේ ආර්ථික සංවර්ධනය සමග එහි සම්බන්ධය''. පැරිස්, 1909, පිටුව 84. — සංස්කාරක).



ප්‍රාග්ධන අපනයනය දවැන්ත පරිමාණයක් ගත්තේ, විසිවැනි ශතවර්ෂය ආරම්භයේදී බව මෙම සටහනෙන් පෙනේ. යුද්ධයට පෙර ප්‍රධාන රටවල් තුන විදේශයෙහි ආයෝජනය කළ ප්‍රාග්ධනය ප්‍රැන්ක් කෝටි 17,500 ක් හා 20,000 අතර ගණනක් විය. සියයට 5 ක තරම අඩු පොළී ප්‍රමාණයක් අනුව මෙම මුදලෙන් ලැබෙන වාර්ෂික ආදායම ප්‍රැන්ක් කෝටි 800 ක් සිට 1000 ක් දක්වා ගණනක් විය යුතුය. මෙය, ධනවත් රටවල් අතලොස්සක ගේ පරපෝෂිතවාදය උදෙසා ලෝකයේ රටවල් හා ජාතීන් බහුතරය පීඩාවට පත් කිරීම සහ සූරා කෑම සඳහා ශක්තිමත් පදනමකි.

විදේශයෙහි ආයෝජනය කර තිබෙන ප්‍රාග්ධනය විවිධ රටවල් අතර බෙදී ගොස් තිබෙන්නේ කෙසේද? එය ආයෝජනය කර තිබෙන්නේ කොහේද? මෙම ප්‍රශ්නවලට දිය හැක්කේ ආසන්න වශයෙන් පමණක් නිවැරදි පිළිතුරකි. නමුත් නවීන අධිරාජ්‍යවාදයේ යම් යම් පොදු බැඳීම් හා සම්බන්ධකම් ගැන හෙළදරව් කිරීමට එය ප්‍රමාණවත්ය.

ලෝකයේ විවිධ කොටස් අතර (1910 පමණ) විදේශීය ප්‍රාග්ධනය බෙදී ගොස් තිබුණු ආකාරය (දළ වශයෙන්)

(මාර්ක් 100,00,00,000 ගණනින්)

| | මහා බ්‍රිතාන්‍යය | ප්‍රංශය | ජර්මනිය | එකතුව |
|---|---|---|---|---|
| යුරෝපය | 4 | 23 | 18 | 45 |
| ඇමෙරිකාව | 37 | 4 | 10 | 51 |
| ආසියාව අප්‍රිකාව සහ ඔස්ට්‍රේලියාව | 29 | 8 | 7 | 44 |
| එකතුව | 70 | 35 | 35 | 140 |

බ්‍රිතාන්‍ය ප්‍රාග්ධනයේ ප්‍රධාන ආයෝජනය ක්ෂේත්‍ර වී තිබෙන්නේ, බ්‍රිතාන්‍ය යටත් විජිතයන්ය. ආසියාව හා අනෙකුත් ප්‍රදේශ ගැන නොකීවද, ඇමෙරිකාවේ වුවද (නිදර්ශනයක් වශයෙන් කැනඩාව) එම විජිත ඉතා විශාලය. මෙම රට හා සම්බන්ධයෙන් වූ කල මහත් සේ කෙරෙන ප්‍රාග්ධන අපනයනය අති විශාල යටත් විජිත සමග සම්බන්ධවී ඇත. අධිරාජ්‍යවාදය සඳහා එම යටත් විජිතවල වැදගත් කම ගැන මම පසුව

සඳහන් කරන්නෙමි. ප්‍රංශය හා සම්බන්ධ වූ කල ඇත්තේ වෙනස් තත්වයකි. ප්‍රංශයෙන් අපනයනය කෙරෙන ප්‍රාග්ධනය ආයෝජනය කර ඇත්තේ ප්‍රධාන වශයෙන් යුරෝපයේය. මූලික වශයෙන්ම (යටත් පිරිසෙයින් ප්‍රෑන්ක් කෝටි එක් දහසක්වත්) රුසියාවේය. මෙය ප්‍රධාන වශයෙන් ණය ප්‍රාග්ධනය, එනම්, ආණ්ඩුවට දෙන ලද ණය මුදල් වන අතර, කාර්මික ව්‍යාපාරවල ආයෝජිත ප්‍රාග්ධනය නොවන්නේය. බ්‍රිතාන්‍ය යටත් විජිත අධිරාජ්‍යවාදය මෙන් නොව, ප්‍රංශ අධිරාජ්‍යවාදය, පොළීකාර අධිරාජ්‍යවාදය ලෙසට හැඳින්විය හැකිය. ජර්මනිය සම්බන්ධයෙන් අපට දක්නට ලැබෙන්නේ, තවත්, තුන්වැනි වර්ගයකි. එහි යටත් විජිත විශාල නොවේ. විදේශයෙහි ආයෝජිත ජර්මන් ප්‍රාග්ධනය, යුරෝපයත් ඇමෙරිකාවත් අතර බොහෝ දුරට සමානව බෙදී ගොස් තිබේ.

ප්‍රාග්ධන අපනයනය, එම අපනයනය කරනු ලබන රටවල ධනපති සංවර්ධනය කෙරෙහි බලපාන්නේය. එයින් එරටවල ධනපති සංවර්ධනය බෙහෙවින් වේගවත් කෙරෙන්නේය. එනිසා, ප්‍රාග්ධන අපනයනය නිසා ප්‍රාග්ධන — අපනයනකරු රටවල සංවර්ධනය එක්තරා දුරකට ප්‍රමාද කිරීමේ නැඹුරුවක් ඇති විය හැකි නමුත්, එම අපනයනය කළ හැක්කේ, ලෝකය මුළුල්ලේම ධනපති සංවර්ධනය තව දුරටත් ව්‍යාප්ත කිරීමෙන් හා ගැඹුරු කිරීමෙන් පමණකි.

ප්‍රාග්ධන අපනයනකරු රටවල් නිතරම පාහේ යම් යම් ''වාසි'' ලබා ගැනීමට සමත් වේ. එම වාසිවල ස්වරූපයෙන් මූල්‍ය ප්‍රාග්ධනයේ හා ඒකාධිකාරයේ යුගයෙහි විශේෂත්වය හෙළිදරව් වන්නේය. නිදසුනක් වශයෙන් ''බැංකුව'' නැමති බර්ලින් සඟරාවේ 1913 ඔක්තෝබර් කලාපයේ පහත සඳහන් කොටස පළ විය:

''ඇරිස්ටොෆාන් ගේ පෑනෙන් නිමවුනැයි කීමට තරම් සුදුසු වන, සිනා රස මුසු නාටකයක් මෑතක පටන් ජාත්‍යන්තර ප්‍රාග්ධන වෙළඳ පොළෙහි රඟ දක්වනු ලැබේ. ස්පාඤ්ඤයේ සිට බෝල්කන් රාජ්‍ය දක්වාද, රුසියාවේ සිට ආජන්ටිනාව දක්වාද, බ්‍රසීලයේ සිට චීනය දක්වාද වූ, විශාල ගණනක් විදේශීය රටවල්, විවෘත ලෙස හා රහසින් ණය ඉල්ලා මහා මුදල් වෙළෙඳ පොළ වෙත එති. සමහර විට එම ණය ඉල්ලීම් නිතර නිතර ඉදිරිපත් කෙරේ. මුදල් වෙළඳ පොළවල් දැන් වැඩිපුර ප්‍රභාමත් නොවන අතර, දේශපාලන තත්වයද උසස් බලාපොරොත්තු ඇති කරවන සුළු නොවේ. නමුත්, එකද වෙළඳ පොළක්වත් ණයක් දීම ප්‍රතික්ෂේප නොකරයි. එයට හේතුවන්නේ, තමන්ට කලින් තම අසල් වැසියා එම ණය මුදල දී, එමගින් කිසියම් අන්‍යෝන්‍ය වාසියක් ලබා ගනු ඇතැයි යන බිය ය. මෙම ජාත්‍යන්තර ගනු දෙනු වලදී ණය දෙන්නා නිතරම පාහේ අතිරේක වාසියක් ලබා ගන්නේය. ඔහු වාණිජ ගිවිසුමක වාසිදයක



වගන්තියක් ඇතුලත් කරවා ගැනීමට, ගල් අඟුරු ලබා ගන්නා ස්ථානයක්, වරායක් තැනීමේ කොන්ත්‍රාත්තුවක්, ලෙකු අනුග්‍රහයක් හෝ තුවක්කු සඳහා ඇනවුමක් ලබා ගැනීමට සමත් වන්නේය''.*

මූල්‍ය ප්‍රාග්ධනය ඒකාධිකාර යුගයක් ඇති කර තිබේ. ඒකාධිකාර සෑම තැනකදීම ඒකාධිකාරී ප්‍රතිපත්ති ක්‍රියාත්මක කිරීම පටන් ගනියි. ඒ අනුව, විවෘත වෙළඳ පොළේ තරඟය වෙනුවට, ලාභදායක ගනු දෙනු සඳහා ''සම්බන්ධකම්'' උපයෝගි කර ගැනීම ආදේශ වන්නේය. පනවනු ලබන ඉතාමත් සුලබ කොන්දේසිය වන්නේ, ණය දෙන රටෙන් බඩු ගැනීමට, යුද්ධෝපකරණ හා නැව් ආදිය සඳහා එරටෙන් ඇණවුම් කිරීමට, දෙන ලද ණයෙන් කොටසක් වැය කළ යුතු බවය. පසු ගිය දශක දෙක තුළදී (1890—1910), ප්‍රංශය නිතර නිතර මෙම ක්‍රමය අනුගමනය කළේය. මේ අනුව ප්‍රාග්ධන අපනයනය, වෙළඳ භාණ්ඩ අපනයනයට ධෛර්ය දීමක් වන්නේය. මේ හා සම්බන්ධයෙන් විශේෂයෙන් ලොකු සමාගම් අතර කෙරෙන ගනු දෙනු ෂිල්දර්** ''මෘදු ලෙසින්'' කියන පරිදි ''දූෂණයට ආසන්න වන්නේය''. ජර්මනියේ ක්‍රැප්, ප්‍රංශයේ ශ්නෙයිදර් සහ බ්‍රිතාන්‍යයේ ආම්ස්ට්‍රෝං යන සමාගම්, බලගතු බැංකු හා ආණ්ඩු සමග සම්බන්ධකම් ඇති හා ණයක් දීමට කටයුතු කරන විට ''නොසලකා'' හැරිය නොහැකි, සමාගම් පිළිබඳ නිදර්ශන වෙති.

ප්‍රංශය රුසියාවට ණය දෙන විට, 1917 දක්වා බලපවත්වන යම් යම් අනුග්‍රහයන් පිළිබඳ කොන්දේසි 1905 සැප්තැම්බර් 16 දින වාණිජ ගිවිසුමට ඇතුලත් කිරීමෙන් එය රුසියාව ''මිරිකා'' ගත්තේය. ජපානය සමග 1911 අගෝස්තු 19 දින වාණිජ ගිවිසුම අත්සන් කිරීමේදීද, එය එසේම කළේය. හත්මසක විරාමයක් සහිතව, 1906 පටන් 1911 දක්වා ඔස්ත්‍රියාව සහ සර්බියාව අතර පැවති තීරු බදු යුද්ධය ඇති වීමට අර්ධ වශයෙන් හේතු වූයේ සර්බියාවට යුද්ධ ද්‍රව්‍ය විකිණීමට ඔස්ත්‍රියාව හා ප්‍රංශය අතර කෙරුනු තරඟයයි. 1908 පටන් 1911 දක්වා ප්‍රංශ සමාගම් ප්‍රෑන්ක් 4 කෝටි 50 ලක්ෂයක යුද්ධ ද්‍රව්‍ය සර්බියාවට සැපයූ බව පෝල් දෙෂනෙල් මන්ත්‍රී මණ්ඩලයේදී ප්‍රකාශ කළේය.

සැන් පාවුලෝහී (බ්‍රසීලයේ) ඔස්ත්‍රො-හංගේරියානු කොන්සල්වරයා ගේ වාර්තාවක මෙසේ සඳහන්ය; ''බ්‍රසීලියානු දුම්රිය මාර්ග ප්‍රධාන වශයෙන් තනාගෙන යනු ලබන්නේ ප්‍රංශ, බෙල්ජියන්, බ්‍රිතාන්‍ය හා ජර්මන් ප්‍රාග්ධනය විසිනි. මෙම දුම්රිය මාර්ග තැනීම හා සම්බන්ධ මූල්‍ය කටයුතුවලදී, අවශ්‍ය දුම්රිය මාර්ග භාණ්ඩ සඳහා ඇණවුම් නියම කරන්නේ එයට සම්බන්ධ වී සිටින රටවල්ය''.

* "Die Bank", 1913, 2, පිටු 1024–1025.

** Schilder, කලින් සඳහන් කෘතිය, පිටු 346, 350, 371.

මූල්‍ය ප්‍රාග්ධනය ලෝකයේ සියළුම රටවල් වසා, එහි දැළ එළා ඇතැයි යනු, කෙනෙකුට වචනයේ පදගත අර්ථයෙන් කිව හැකිය. යටත් විජිතවල පිහිටුවා ඇති බැංකු හා ඒවායේ ශාඛා මේ සම්බන්ධයෙන් වැදගත් කාර්ය කොටසක් ඉටු කරති. මේ අතින් ස්වකීය තත්වය තහවුරු කර ගැනීමේදී විශේෂ ''සාර්ථකත්වය'' ලබා සිටින ''පැරණි'' යටත් විජිත රටවල් දෙස ජර්මන් අධිරාජ්‍යවාදීන් බලන්නේ ඊර්ෂ්‍යා සහගතවය. 1904 දී ශාඛා 2279 ක් සහිත යටත් විජිත බැංකු 50 ක් මහා බ්‍රිතාන්‍යයට තිබිණ. (1910 දී ශාඛා 5449 ක් සහිත බැංකු 72 ක් තිබිණ.) ශාඛා 136 ක් සහිත බැංකු 20 ක් ප්‍රංශයට තිබිණ. ශාඛා 68 ක් සහිත බැංකු 16 ක් ඕලන්දය සතු විය. ඒ අතර ජර්මනියට තිබුණේ ශාඛා 70 ක් සහිත බැංකු 13 ක් පමණකි.* අනිත් අතට ඇමෙරිකානු ධනපතියෝ ඉංග්‍රීසීන් හා ජර්මානුන් ගැන ඊර්ෂ්‍යා වෙති. ''දකුණු ඇමෙරිකාවේ ජර්මන් බැංකු පහක ශාඛා හතළිහක්ද, බ්‍රිතාන්‍ය බැංකු පහක ශාඛා හැත්තෑවක්ද, ඇතැයි ඔවුහු ''පැමිණිළි ස්වරූපයෙන් කීහ''. ...බ්‍රිතාන්‍ය සහ ජර්මනිය එක්ව, පසුගිය අවුරුදු විසිපහ තුළ ඩොලර් කෝටි 400 ක් පමණ ආර්ජන්ටිනාවේ, බ්‍රසීලයෙහි සහ උරුගුවේහි ආයෝජනය කර ඇති අතර, එහි ප්‍රතිඵලයක් වශයෙන් ඒවා මෙම රටවල් තුනෙහි මුළු වෙළෙඳමෙන් සියයට 46 ක් භුක්ති විඳිති''.**

ප්‍රාග්ධනය අපනයනය කරන රටවල් තම තමන් අතර ලෝකය බෙදාගෙන ඇතැයි, උපමා අර්ථයෙන් කිව හැකිය. නමුත්, ප්‍රාග්ධනය, ලෝකය ඇත්ත වශයෙන්ම බෙදා ගැනීම සඳහා මග සකස් කළේය.

## V. ධනපති හවුල් ව්‍යාපාර අතර ලෝකය බෙදා ගැනීම

ඒකාධිකාරී ධනපති හවුල් ව්‍යාපාර, කාටල, සම්මේල සහ සංගත ව්‍යාපාර ප්‍රථමයෙන් දේශීය වෙළඳ පොළ තමන් අතර බෙදා ගෙන ඊළඟට තමන්ගේ රටෙහි කර්මාන්තය සම්පූර්ණයෙන්ම පාහේ හිමි කර ගත්හ.

* Riesser, කලින් සඳහන් කෘතිය, 4 වැනි මුද්‍රණය, Diouritch, පිටු 283.

** The Annals of the American Academy of Political and Social Science, vol. LIX, May 1915, p. 301 (දේශපාලන සහ සමාජ විද්‍යා පිළිබඳ ඇමෙරිකානු විද්‍යායතනයේ ඉතිහාසය, වෙළුම LIX 1915 මැයි, පිටු 301. — සංස්කාරක). "Statist" නැමති මුදල් පිළිබඳ සඟරාවෙහි සඳහන් පරිදි බ්‍රිතාන්‍යය, ජර්මනිය, ප්‍රංශය, බෙල්ජියම හා ඕලන්දය අපනයනය කර තිබෙන ප්‍රාග්ධනය ඩොලර් කෝටි 4000 ක්, නැතහොත් ප්‍රැන්ක් කෝටි 20,000 ක් බව සුප්‍රසිද්ධ සංඛ්‍යා විද්‍යාඥ Paish (පැයිෂ්) ගණන් බලා ඇතැයි,අපට එම වෙළුමෙහිම, පිටු 331 හි කියවන්නට ලැබේ.



නමුත්, ධනපති ක්‍රමය යටතේ දේශීය වෙළඳ පොළ අනිවාර්යය වශයෙන්ම විදේශ වෙළඳ පොළ සමග එකට වෙළී ඇත. ධනපති ක්‍රමය ලෝක වෙළඳ පොළක් ඇති කළේ මීට බොහෝ ඉහතදීය. ප්‍රාග්ධන අපනයනය වැඩි වීමත් සමග, එසේම, විශාල ඒකාධිකාරී හවුල් ව්‍යාපාරවල විදේශ සහ යටත් විජිත සම්බන්ධකම් සියළු ආකාරයෙන් වැඩි වීමත් සමග, මෙම හවුල් ව්‍යාපාර අතර ජාත්‍යන්තර එකඟත්වයක් දෙසට හා ජාත්‍යන්තර කාටල පිහිටුවීම දෙසට යොමුවූ ''ස්වාභාවික'' නැඹුරුවකින් යුතුව සිදුවීම් ඇතිවිය.

මෙය ප්‍රාග්ධනයේ හා නිෂ්පාදනයේ ලෝක සංකේන්ද්‍රණය පිළිබඳ නව අවධියකි. එය ඉහත අවධිවලට වඩා අපරිමාණ තරමින් උසස්ය. මෙම උත්තර ඒකාධිකාරය සංවර්ධනය වන්නේ කෙසේදැයි බලමු.

විදුලි බල කර්මාන්තය නවීනතම තාක්ෂණික ජයග්‍රහණයන් ඉහළින් නිරූපනය කරන්නකි. එසේම එම කර්මාන්තය දහනවවැනි ශතවර්ෂය අවසානයේ හා විසිවැනි ශතවර්ෂය ආරම්භයේ ධනපති ක්‍රමයේ ස්වභාවයද ඉතා ඉහළින් නිරූපනය කරන්නකි. මෙම කර්මාන්තය වඩාත්ම සංවර්ධනය වී ඇත්තේ නව ධනපති රටවල මූලිකයන් දෙදෙනා වන ඇමෙරිකා එක්සත් ජනපදයෙහි සහ ජර්මනියෙහිය. ජර්මනියේ එම කර්මාන්තයේ සංකේන්ද්‍රණය සඳහා, 1900 අර්බුදයෙන් විශේෂයෙන්ම බලවත් දිරිගැන්වීමක් ලැබිණ. අර්බුදය ඇතිවන විට කර්මාන්තය සමග සෑහෙන තරම් සාර්ථක ලෙස සංයෝජනය වී තිබුණ බැංකු, අර්බුද කාලයේදී කුඩා සමාගම්වල විනාශය හා ඒවා ලොකු සමාගම් විසින් ගිලගනු ලැබීම බෙහෙවින් වේගවත් හා උත්සන්න කළේය. යෙයිඩල්ස් මෙසේ ලීවේය: ''ප්‍රාග්ධනය අවශ්‍යතාවය ඉතාමත් වැඩියෙන්ම දැනුනු සමාගම්වලට අත් උදව්වක් දීම විශේෂයෙන්ම ප්‍රතික්ෂේප කළ බැංකු, ඒවා සමග ප්‍රමාණවත් තරම් සමීප ලෙස සම්බන්ධ වී නොතිබුණු සමාගම්වල, ප්‍රථමයෙන් වියරු උත්පාතයක්ද, ඊළඟට දරුණු බිඳ වැටීමක්ද, ඇති කළේය''.*

එහි ප්‍රතිඵලයක් වශයෙන්, 1900 න් පසුව, ජර්මනිය තුළ සංකේන්ද්‍රණය යෝධ පියවර තබමින් ප්‍රගතියට පත් විය. 1900 වන තෙක් විදුලි බල කර්මාන්තයේ ''කණ්ඩායම් හතක් හෝ අටක් පැවත ඇත. ඉන් හැම එකක්ම සමාගම් කීපයකින් (සමාගම් 28 ක මුළු සංඛ්‍යාවක් තිබිණ) සමන්-

* යෙයිඩල්ස්, කලින් සඳහන් කළ කෘතිය, පිටුව 232.

විත වූ අතර, ඒ හැම එකකටම බැංකු 2 සිට 11 දක්වා වූ ගණනක රැලකු ලැබුනේය. පහත දක්වෙන සටහනෙන් එම ක්‍රියාදමය පෙන්නුම් කෙරේ:




මේ ආකාරයෙන් වර්ධනය වූ A. E. G. (සාමාන්‍ය විදුලි බල සංගමය) සමාගම් 175 සිට 200 දක්වූ සංඛ්‍යාවත් (''හිමිකම්'' ක්‍රමය මගින්) හා දළ වශයෙන් මාර්ක් කෝටි 150 ක් වූ මුළු ප්‍රාග්ධනයක් පාලනය කරයි. විදේශයේ ඍජු නියෝජිත ආයතන පමණක් තිස්හතරක් එයට අයත්ව ඇති අතර, ඉන් දෙළහක්, රටවල් දහයකට වැඩි සංඛ්‍යාවක පිහිටි බද්ධ ව්‍යාපාර වස්තු සමාගම්ය. 1904 තරම් ඈත කාලයක ජර්මන් විදුලි බල කර්මාන්තය විදේශයෙහි ආයෝජනය කර තිබුණු ප්‍රාග්ධනය මාර්ක් 23 කෝටි 30 කෝටියක් යයි ගණන් බලා තිබුණි. මෙම මුදලෙන් මාර්ක් 6 කෝටි 20 ලක්ෂයක් රුසියාවේ ආයෝජනය කර තිබිණි. ''සාමාන්‍ය විදුලි බල සමාගම'' දැවැන්ත ''සංයෝජිත ව්‍යාපාරයක්'' බව කීම අවශ්‍ය නොවේ. එයට අයත් නිෂ්පාදන සමාගම් පමණක් දහසයකට නො අඩු ගණනක් ඇත. එය කේබල් කම්බි හා ඉන්සියුලේටර්වල පටන් මෝටර් වාහන සහ ගගන යාත්‍රා දක්වා ඉතාමත් විවිධාකාර භාණ්ඩ නිපදවන්නේය.

නමුත් යුරෝපයේ සංකේන්ද්‍රණය, ඇමෙරිකාවේ සංකේන්ද්‍රණ ක්‍රියාදමයේද අනුබද්ධ කොටසක් විය. එම ක්‍රියාදමය සංවර්ධනය වූයේ පහත සඳහන් පරිදිය:



| | ''සාමාන්‍ය විදුලි බල සමාගම'' (General Electric Company) | |
|---|---|---|
| එක්සත් ජනපදය: | තොම්ප්සන් හූස්ටන් සමාගම යුරෝපයේ සමාගමක් පිහිටුවයි. | එඩිසන් සමාගම, යුරෝපයේ ''ප්‍රංශ එඩිසන් සමාගම'' පිහිටුවයි. එය එහි ස්වාධිකාර හිමිකම් ජර්මන් සමාගමට පවරයි. |
| ජර්මනිය | ''යූනියන් විදුලි බල සමාගම'' | සාමාන්‍ය විදුලි බල සමාගම (A.E.G.) |
| | සාමාන්‍ය විදුලි බල සමාගම (A.E.G.) | |

මේ අනුව විදුලිබල ''මහා බලවතුන්'' ද්වයක් ඇතිවිය: ''ඒවායින් සම්පූර්ණ වශයෙන්ම ස්වාධීන වූ වෙනත් විදුලි බල සමාගම් ලෝකයේ නැතැ'' යි හෙයිනිග් ඔහුගේ ''විදුලි බල සංගතයේ මාවත'' යන ලිපියෙහි ලීවේය. ''සංගත'' දෙකෙහි පිරි වැටුම සහ විශාලත්වය පිළිබඳව බොහෝ දුරට අසම්පූර්ණ හෝ අදහසක් පහත සඳහන් සංඛ්‍යාවලින් ලබා ගත හැකිය:

| | පිරිවැටුම (මාර්ක් 10,00,000 ගණනින්) | සේවකයන් සංඛ්‍යාව | ශුද්ධ ලාභය (මාර්ක් 10,00,000 ගණනින්) |
|---|---|---|---|
| ඇමෙරිකාව: ''සාමාන්‍ය විදුලි බල සමාගම'' (G.E.C.) | | | |
| 1907 | 252 | 28,000 | 35.4 |
| 1910 | 298 | 32,000 | 45.6 |
| ජර්මනිය: සාමාන්‍ය විදුලි බල (A.E.G.) | | | |
| 1907 | 216 | 30,700 | 14.5 |
| 1911 | 362 | 60,800 | 21.7 |

එපමණක් නොවේ. 1907 දී ජර්මන් හා ඇමෙරිකන් සංගතයන් ගිවිසුමක් ඇති කරගත් අතර එමගින් ඒ දෙක විසින් ලෝකය බෙදා ගන්නා ලදී. එයින් ඔවුන් අතර තරඟය කෙළවර විය. ඇමෙරිකානු සාමාන්‍ය විදුලි බල සමාගමට (G. E. C.) එක්සත් ජනපදය හා කැනඩාව "ලැබුණි". ජර්මන් සාමාන්‍ය විදුලි බල සමාගමට (A. E. G.) ජර්මනිය, ඔස්ත්‍රියාව, රුසියාව, ඕලන්දය, ඩෙන්මාර්කය, ස්විට්සර්ලන්තය, තුර්කිය හා බෝල්කන් රාජ්‍යයන් "ලැබුණි". දුහිතෘ සමාගම් මගින් කර්මාන්තයේ නව අංශවලටත්, විධිමත් ලෙස වෙන්කර නොමැති "අළුත්" රටවල් තුළටත්, කාවැදීම ගැන, ස්වාභාවික වශයෙන්ම රහසිගත විශේෂ ගිවිසුම් ඇතිකරගන්නා ලදී. නව සොයා ගැනීම් සහ අත්හදා බැලීම් සංගත දෙක අතර හුවමාරු කර ගැනීමට එකඟ වෙන ලදී.*

මෙම සංගතයට විරුද්ධව, එනම්, කෝටි සිය ගණනක ප්‍රාග්ධනයක් පාලනය කරන, ලෝකයේ සෑම පෙදෙසකම "ශාඛා" නියෝජිත ආයතන, නියෝජිතවරුන්, සම්බන්ධකම් ආදිය ඇති, තනි ලෝක ව්‍යාප්ත සංගතයක් වූ මෙයට විරුද්ධව තරඟ කිරීමේ දුෂ්කරතාවය බැලූ බැල්මට පැහැදිලි වේ. බලවත් සංගත දෙකක් අතර මෙසේ මෙසේ ලෝකය බෙදා ගෙන තිබුණත්, අසමාන සංවර්ධනයේ, යුද්ධයේ, බංකොලොත්භාවයේ ආදියෙහි ප්‍රතිඵලයක් වශයෙන්, බලවේගයන්ගේ පෙළ ගැස්ම වෙනස් වුවහොත්, නැවත බෙදා ගැනීමකට ඇති ඉඩ කඩ එයින් නැතිව යන්නේ නැත.

එවැනි නැවත බෙදා ගැනීමක්, නැතහොත් නැවත බෙදා ගැනීමක් සඳහා කරන අරගලයක් පිළිබඳව ඛනිජ තෙල් කර්මාන්තයෙන් සැපයෙන්නේ උපදේශාත්මක නිදර්ශනයකි.

යෙයිඩල්ස් 1905 දී මෙසේ ලිවේය. "ලෝක ඛනිජ තෙල් වෙළඳ පොළ අද වුවද තවමත්, විශාල මූල්‍ය කණ්ඩායම් දෙකක් අතර, එනම්, රොකෆෙලර්ගේ ඇමෙරිකන් "තෙල් සංගතය" (Standard Oil Co.) සහ බාකුහි රුසියානු තෙල් බිම් පාලනය කරන රොත්ස්චයිල්ඩ් හා නෝබෙල් යන කණ්ඩායම් අතර බෙදී පවතී. මෙම කණ්ඩායම් දෙක එකිනෙකට සමීප ලෙස සම්බන්ධ වී ඇත. නමුත් අවුරුදු ගණනාවක් තිස්සේ ඔවුන්ගේ ඒකාධිකාරයට සතුරන් පස් දෙනෙකුගේ තර්ජනය එල්ල වී තිබේ".** (1) ඇමෙරිකානු තෙල් බිම්වල තෙල් සිඳී යාම; (2) බාකුහි මන්තාෂෙව්ගේ සමාගමෙන් එල්ලවන තරඟය; (3) ඔස්ත්‍රියානු තෙල් බිම්; (4) රුමේනියානු තෙල් බිම්; (5) විදේශයෙහි තෙල් බිම්, විශේෂ-

---

* Riesser, කලින් සඳහන් කෘතිය; Diouritch, කලින් සඳහන් කෘතිය, පිටු 239; Kurt Heinig, කලින් සඳහන් කෘතිය.

** යෙයිඩල්ස්, කලින් සඳහන් කෘතිය, පිටු 192—193 .



යෙන්ම ලන්දේසි යටත් විජිතවල (බ්‍රිතාන්‍ය ප්‍රාග්ධනයද සමග සම්බන්ධ ඉතාමත් ධනවත් සමාගම් — සැමුවෙල් සහ ෂෙල් යන සමාගම්) තෙල් බිම්. මෙයින් අන්තිමට සඳහන කණ්ඩායම් තුන "ජර්මන් බැංකුවේ" මූලිකත්වයෙන් යුත් ලොකු ජර්මන් බැංකු සමග සම්බන්ධය. නිදසුනක් වශයෙන් පය තබා ගැනීමට තමන්ගේම තැනක් ඇති කර ගැනීම පිණිස, මෙම බැංකු ස්වාධීන ලෙස හා ක්‍රමානුකූල ලෙස රුමේනියාවේ තෙල් කර්මාන්තය සංවර්ධනය කළහ. 1907 දී රුමේනියන් තෙල් කර්මාන්තයේ ආයෝජිත ප්‍රාග්ධනය ප්‍රෑන්ක් 18 කෝටි 50 ලක්ෂයක් බව ගණන් බලන ලද අතර, ඉන් 7 කෝටි 40 ලක්ෂයක් ජර්මන් ප්‍රාග්ධනය විය.*

ආර්ථික සාහිත්‍යයෙහි ඇත්ත වශයෙන්ම හැඳින් වෙන පරිදි "ලෝකය බෙදා ගැනීම" සඳහා අරගලයක් ආරම්භ විය. එක් අතකින් සියල්ලම තම ග්‍රහණයට හසු කර ගැනීමට රොක්ෆෙලර් "තෙල් සංගතයට" අවශ්‍ය විය. ඕලන්දය තුළම "දුහිතෘ සමාගමක්" පිහිටුවා ගත් එය, එහි ප්‍රධාන සතුරා වන ලන්දේසි -ඉංග්‍රීසි ෂෙල් සංගතයට පහර ගැසීම පිණිස ලන්දේසි ඉන්දියා කොදෙව්වල තෙල් බිම් මිළයට ගත්තේය. අනිත් අතට රුමේනියාව "තමන්ටම තබා ගැනීමටත්", රොක්ෆෙලර්ට විරුද්ධව ඇය රුසියාව සමග එක්සත් කිරීමටත් "ජර්මන් බැංකුව" සහ ජර්මනියේ වෙනත් බැංකු අරමුණු කළහ. ඒවාට වඩා අතිශයින් වැඩි ප්‍රාග්ධනයකුත්, විශිෂ්ට ප්‍රවාහණ සහ බෙදහැරීම් ක්‍රමයකුත් රොක්ෆෙලර්ට තිබිණ. අරගලය කෙළවර විය යුතු වූ සේම, 1907 දී "ජර්මන් බැංකුවේ" අන්ත පරාජයෙන් කෙළවර විය. එයට අනුගමනය කළ හැකිව තිබුණේ විකල්පයන් දෙකකින් එකක් පමණකි. එක්කෝ තෙල් කර්මාන්තයේ එයට තිබුණු හිමි කම් ඇවර කර දමා දශලක්ෂ ගණනින් පාඩු විඳීම, නැතහොත් යටත්වීම, හැර එයට කළ හැකි වෙනත් දෙයක් නොවීය. එයින් යටත් වීම තෝරා ගත් එය "තෙල්සංගතය" සමග ඉතාමත් අවාසිදයක ගිවිසුමක් අත්සන් කළේය. "ඇමෙරිකානු හිමිකම්වලට හානියක් විය හැකි කිසිම දෙයක් කිරීමට උත්සාහ නොකරන" බවට එයින් "ජර්මන් බැංකුව" එකඟ විය. නමුත් ජර්මනිය රාජ්‍ය තෙල් ඒකාධිකාරයක් ඇති කළහොත් ගිවිසුම අවලංගු වන බව කොන්දේසියක් එහි ඇතුළත් කරන ලදී.

එතැන් පටන් "තෙල් පිළිබඳ සිනා නාඩගම" ආරම්භ විය. ජර්මන් මූල්‍ය රජෙක් හා "ජර්මන් බැංකුවේ" අධ්‍යක්ෂ වරයෙක් වූ ග්විනර් ඔහුගේ පුද්ගලික ලේකම් ෂ්ටාවුස් මගින් රාජ්‍ය තෙල් ඒකාධිකාරයක් සඳහා ව්‍යාපාරයක් දියත් කළේය. දැවැන්ත ජර්මානු බැංකුවේ යෝධ යන්ත්‍රය සහ පෘථුල "සම්බන්ධකම්" සියල්ලම ක්‍රියාත්මක කරන ලදී. ඇමෙරි-

---

* Diouritch, පිටු 245—246

කානු සංගතයේ ''විය ගසට'' විරුද්ධ ''දේශප්‍රේමී'' කෝපය පුවත්පත් වලින් උතුරා හැලෙන්නට විය. ඒ අතර, තෙල් ඒකාධිකාරයක් පිහිටුවීම පිණිස පණතක් ඉදිරිපත් කරන ලෙස ආණ්ඩුවට කියා සිටින යෝජනාවක් 1911 මාර්තු 15 දින රයිෂ්ස්ටාග් පාර්ලිමේන්තුවේ දී ඒකමතිකවම මෙන් සම්මත විය. ආණ්ඩුව මෙම ජනප්‍රිය අදහසෙහි එල්බගත් අතර, ස්වකීය ඇමෙරිකානු ප්‍රතිරූපකයා රවටා, රාජ්‍ය ඒකාධිකාරයක් මගින් ව්‍යාපාරය දියුණු කරගැනීමට බලාපොරොත්තුවූ ''ජර්මන් බැංකුවේ'' සෙල්ලම සාර්ථක වූ සේ පෙනෙන්නට තිබුණි. ඒ වන විටත්, දැවැන්ත ලාභ පිළිබඳව, රුසියානු සීනි පිරිපහදු කර්මාන්ත කරුවන්ගේ ලාභ වලට නොදෙවැනි ලාභ ලැබීම පිළිබඳව, මනෝ චිත්‍ර ජර්මන් තෙල් අධිපතීන් ගේ සිත්වල මැවෙන්නට පටන් ගති... නමුත්, ප්‍රථමයෙන්ම, ලාභ බෙදා ගැනීම සම්බන්ධයෙන් ලොකු ජර්මන් බැංකු ඔවුනොවුන් අතර දබර කරගත්හ. 'වට්ටම් සංගමය'' ''ජර්මන් බැංකුවේ'' කපටි අරමුණු හෙළිදරව් කළේය. දෙවැනිව, වෙනත් සැපයුම් මාර්ග වලින් ජර්මනියට තෙල් ලබා ගැනීම ඉතාමත් සැක සහිත වූ නිසා, (රුමේනියාවේ නිෂ්පාදනය ස්වල්ප විය) රොක්ෆෙලර් සමග අරගලයක් කිරීමට සිදුවීම ගැන ආණ්ඩුව බිය ගත්තේය. තුන්වැනිව හරියටම මෙම වකවානුවේදීම, ජර්මනිය යුද්ධය සඳහා සූදනම් කිරීමට මාර්ක් කෝටි 100 ක් වෙන් කරන ලදී. යෝජනා කරන ලද තෙල් ඒකාධිකාරය ගැන කටයුතු කිරීම කල් තබන ලදී. මේ වතාවේදී රොක්ෆෙලර් ''තෙල් සංගතය'' අරගලයේ ජය ලබාගෙන ඉස්මතු විය.

තෙල් සංගතයට විරුද්ධව ජර්මනියට සටන් කළ හැකි වන්නේ විදුලි බල ඒකාධිකාරයක් පිහිටුවා ජල බලශක්තිය අඩු වියදම් විදුලි බලය බවට පරිවර්තනය කිරීමෙන් පමණකැයි, ''බැංකුව'' නැමති බර්ලින් සඟරාව මේ සම්බන්ධයෙන් ලිවේය. එම ලේඛකයා මෙසේද සඳහන් කළේය: ''නමුත් විදුලි බල ඒකාධිකාරය ඇති වන්නේ එය නිෂ්පාදකයින්ට අවශ්‍ය වූ විටය. නැතහොත්, විදුලි බල කර්මාන්තයේ ඊළඟ මහා බිඳ වැටීම ආසන්න වූ විට හා දැන් සෑම තන්හිම විශාල වියදම් දරමින් පෞද්ගලික විදුලි බල ව්‍යාපාර විසින් ඉදි කරනු ලබන යෝධ සහ වැඩි වියදම් සහිත වූත්, එමෙන්ම, නගරවලින්, රාජ්‍යවලින් ආදියෙන් දැනටමත් යම් යම් වරප්‍රසාද ලබා ගනිමින් සිටින්නා වූත් විදුලි බලාගාර ලාභදයක ලෙස පවත්වාගෙන යාමට නොහැකි වූ විටය. එවිට ජල බල ශක්තිය උපයෝගී කර ගැනීමට සිදුවනු ඇත. නමුත් එය රජයේ වියදමින් අඩු වැය විදුලි බලය බවට පරිවර්තනය කළහැකි නොවේ. පුද්ගලික බැර කර්මාන්තය බරපතල වන්දි ගෙවීමේ කොන්දේසි සහිතව කොන්ත්‍රාත් ගණනාවක් අත්සන් කර තිබෙන නිසා, එය ''රජයෙන් පාලනය කෙරෙන පුද්ගලික ඒකාධිකාරයකට'' භාර දිය යුතුවේ... නයිට්රේට් ඒකාධිකාරය සම්බන්ධයෙන් සිදුවූයේ එයයි. තෙල් ඒකාධිකාරය හා සම්බන්ධයෙන් සිදුවන්නේද, විදුලි බල ඒකාධිකාරය සම්බන්ධයෙන් සිදුවනු ඇත්තේද එයයි. ජර්මන් ඒකාධිකාර පාරිභෝගිකයාට සැලසීමේ අරමුණ ඇතිව කටයුතු කළේ හෝ එම ප්‍රතිඵලය කිසි කලෙකත් උදා කළේ හෝ නැත. එපමණක් නොව ඔවුන් ප්‍රවර්ධකයා ගේ ලාභ වලින් කොටසක් රජයට දීමට පවා අරමුණු කළේ හෝ දුන්නේ හෝ නැත. ඔවුන් සේවය කර තිබෙන්නේ, බංකොලොත්භාවයේ වල කටට ළං වී සිටින පෞද්ගලික කර්මාන්ත රජයේ වියදමින් ප්‍රකෘතිමත් කිරීමට කටයුතු සලස්වනු පිණිස පමණකි. මනහර ප්‍රතිපත්තියකින් තමන් අන්ධවීමට ඉඩ තබන රාජ්‍ය සමාජවාදීන් අවසාන වශයෙන් මෙය අවබෝධ කරගත යුතු කාලය එළඹ තිබේ''.*

ජර්මන් ධනපති ආර්ථික විද්‍යාඥයින්ට එවැනි අගනා පිළිගැනීම් නොකර බැරි විය. මූල්‍ය ප්‍රාග්ධනයේ යුගයේදී පෞද්ගලික හා රාජ්‍ය ඒකාධිකාර එකට වෙළී තිබෙන ආකාරය අපට මෙහිදී ඉතා පැහැදිලිව පෙනේ; ලෝකය බෙදා ගැනීම සඳහා මහා ඒකාධිකාරීන් අතර කෙරෙන අධිරාජ්‍යවාදී අරගලයේදී, ඒ දෙකම හුදෙක් වෙනස් පුරුක් පමණක් බව අපට පැහැදිලිව පෙනේ.

වෙළඳ නෞකා සේවයේ සංකේන්ද්‍රණයෙහි දැවැන්ත සංවර්ධනය ද කෙළවර වූයේ ලෝකය බෙදා ගැනීමෙනි. මෙහිදී ජර්මනිය තුළ බලගතු සමාගම් දෙකක් ඉදිරියට විත් ඇත. ඒ දෙක හැම්බර්ග්-ඇමෙරිකා සහ නොද්දෙවුට්ඩර් ලොයිඩ් වෙති. මේ එක එකට මාර්ක් 20 කෝටියක (ව්‍යාපාර වස්තු හා පිළිණපත් වලින්) ප්‍රාග්ධනයක් සහ මාර්ක් දහ අට කෝටි පනස් ලක්ෂයේ සිට දහ අට කෝටි අනූ ලක්ෂයක් දක්වා වටිනා නැව් සංඛ්‍යාවක් ද ඇත. අනිත් අතට, මෝර්ගන් සංගතය යනුවෙන් ප්‍රසිද්ධ ''ජාත්‍යන්තර වෙළඳ නැව් සමාගම'' 1903 ජනවාරි 1 දින ඇමෙරිකාවේ දී පිහිටුවන ලදී. එය ඇමෙරිකානු සහ බ්‍රිතාන්‍ය දුම්නැව් සමාගම් නමයක් එක්සත් කොටගත් අතර, එයට ඩොලර් 12 කෝටියක (මාර්ක් 48 කෝටියක) ප්‍රාග්ධනයක් තිබිණ. 1903 තරම් කල් ඇතිවම, ජර්මන් දැවැන්තයෝ සහ මෙම ඇමෙරිකන්-බ්‍රිතාන්‍ය සංගතය ලෝකය බෙදා ගැනීමටත්, ඒ අනුව ලාභ බෙදා ගැනීමටත් ගිවිසුමක් ඇති කර ගත්හ. එංගලන්ත-ඇමෙරිකා නැව් මාර්ගවල තරඟ නොකිරීමට ජර්මන් සමාගම් එකඟ විය. ඒ ඒ සමාගමට ''වෙන් කර දෙන'' වරායයන් නියත වශයෙන් නියම කරන ලදී. ඒකාබද්ධ පාලන කාරක සභාවක් ආදිය ද පිහිටුවන ලදී. මෙම ගිවිසුම විසි අවුරුද්දකට වලංගුවන සේ ඇති කරගන්නා ලද අතර, යුද්ධයක් ඇති

---

* "Die Bank", 1912, 2, 629, 1036, 1913, 1, 388.

වුවහොත් එය අවලංගුවන බව කියන නැණවත් ප්‍රතිපාදනය ද එයට ඇතුලත් විය.*

ජාත්‍යන්තර රේල් කම්බි කාටලය පිහිටුවීම පිළිබඳ කථාව ද ඉතාමත් උපදේශාත්මකය. එවැනි කාටලයක් පිහිටුවීමට බ්‍රිතාන්‍ය, බෙල්ජියන් සහ ජර්මන් රේල් කම්බි නිෂ්පාදකයන් ප්‍රථම ප්‍රයත්නය දැරුවේ 1884 මුල් භාගයේදී දරුණු කාර්මික අවපාතයක් පවතින අවස්ථාවකය. සම්බන්ධ රටවල දේශීය වෙළඳ පොළෙහි එකිනෙකා සමග තරඟ නොකිරීමට එකඟවූ නිෂ්පාදකයෝ පහත සඳහන් සලාක අනුව ලෝකය බෙදා ගත්හ: මහා බ්‍රිතාන්‍යය සියයට 66 යි; ජර්මනිය සියයට 27 යි; බෙල්ජියම සියයට 7 යි. ඉන්දියාව සම්පූර්ණයෙන්ම මහා බ්‍රිතාන්‍ය සඳහා ඉතිරි කරන ලදී. කාටලයට සම්බන්ධ නොවී සිටි බ්‍රිතාන්‍ය සමාගමට විරුද්ධව ඒකාබද්ධ යුද්ධයක් කරන ලදී. එම යුද්ධය සඳහා වියදම ලබා ගත්තේ සියළුම විකුණුම් වලින් ප්‍රතිශතයක් අය කිරීමෙනි. නමුත් 1886 දී, බ්‍රිතාන්‍ය සමාගම් දෙක කාටලයෙන් ඉවත් වීම නිසා, එම වර්ෂයේදී එය බිඳ වැටුනි. ඉන් පසු උත්පාත කාලවලදී එකඟත්වයක් ඇති කර ගැනීමට නොහැකි වීම වැදගත් ස්වභාව ලක්ෂණයක් විය.

1904 ආරම්භයේ දී ජර්මන් වානේ සම්මේලය පිහිටුවන ලදී. 1904 නොවැම්බරයේදී පහත සඳහන් සලාක නියම කර ගනිමින් රේල් කම්බි කාටලය නැවත පිහිටුවන ලදී. බ්‍රිතාන්‍යය සියයට 53.5 යි; ජර්මනිය සියයට 28.83 යි; බෙල්ජියම සියයට 17.67 යි. ප්‍රංශය ප්‍රමාද වී පැමිණි අතර, පිළිවෙළින් පළමු, දෙවැනි හා තුන්වැනි වර්ෂ සඳහා, සියයට සීමාව ඉක්මවා යමින් එනම් 104.8 ක් යනාදී වශයෙන් වූ මුළු ගණනෙන් සියයට 4.8 ක්, සියයට 5.8 ක් හා සියයට 6.4 එයට ලැබුණේය. 1905 දී එක්සත් ජනපද වානේ සමායතනයද කාටලයට ඇතුලත් විය. ඊට පසුව, ඔස්ත්‍රියාව හා ස්පාඤ්ඤයද ඊට සම්බන්ධ විය. 1910 දී ෆෝගල්ස්ටෙයින් මෙසේ ලිවේය: ''මෙම කාලයේ දී ලෝකය බෙදා ගැනීම සම්පූර්ණය. එසේම ලොකු පාරිභෝගිකයින් වන රාජ්‍ය දුම්රිය සේවාවල අවශ්‍යතාවයන් සැලකිල්ලට නොගෙන ලෝකය කැබලි කර ගෙන තිබෙන නිසා, එම දුම්රිය සේවාවලට දැන් ජුපිටර් දෙවියාගේ දෙව්ලොව කවියා මෙන් විසිය හැකිය''.**

1909 දී පිහිටුවන ලද ජාත්‍යන්තර සින්ක් සම්මේලය ගැන ද සඳහන් කරන්නෙමි. එය නිශ්චිත ආකාරයෙන් කම්හල් කණ්ඩායම් පහක් අතර නිෂ්පාදනය බෙදා හැරියේය. ඒවා ජර්මන්, බෙල්ජියන්, ප්‍රංශ, ස්පාඤ්ඤ

* රීසර්, කලින් සඳහන් කෘතිය, පිටු 125.
** Vogelstein. "Organisationsformen", පිටුව 100.



සහ බ්‍රිතාන්‍ය කම්හල් කණ්ඩායම් විය. එසේම ලීෆ්මාන් කියන ලෙසට, ''ජර්මනියේ පුපුරන ද්‍රව්‍ය නිෂ්පාදකයන් සියළු දෙනාගේම ඉතාමත් නවීන ස්වභාවයේ සන්ධානයක්, ප්‍රංශ හා ඇමෙරිකානු ඩයිනමයිට් නිෂ්පාදකයන් සමග සමග ඇති කරගත් ජාත්‍යන්තර ඩයිනමයිට් සංගතයද ඔවුනොවුන් අතර මුළු ලෝකය බෙදාගෙන ඇතැයි කිව හැක''.*

ලීෆ්මාන් ගණන් බැලූ ලෙසට 1897 දී ජර්මනිය ජාත්‍යන්තර කාටල හතළිහක් පමණවූ මුළු ගණනක කොටස් හිමි කරගෙන සිටි අතර, 1910 දී එම ගණන සියයක් පමණ විය.

ජාත්‍යන්තර කාටලවලින් ප්‍රකාශ වන්නේ ප්‍රාග්ධනයේ සිත්කාවදින ජාත්‍යන්තරවීමක් වන හෙයින්, ධනපති ක්‍රමය යටතේ ජාතීන් අතර සාමයේ බලාපොරොත්තු මතුවන්නේ යයි සමහර ධනපති ලේඛකයෝ ලියති. (කාල් කෞට්ස්කිද දැන් එම ලේඛකයන්ගේ ගණයට වැටේ. ඔහු, නිදර්ශනයක් වශයෙන් 1909 දී දැරූ මාක්ස්වාදී ප්‍රතිෂ්ඨාවන් සම්පූර්ණයෙන්ම අත් හැර දමා ඇත). න්‍යායික වශයෙන් මෙම මතය සම්පූර්ණයෙන්ම විකාරයකි. ව්‍යවහාරයේ දී එය විතණ්ඩවාදී වීමක් හා ඉතාමත් අශෝභන අවස්ථාවාදයට රැකවරණ දීමක්ය. ජාත්‍යන්තර කාටලවලින් පෙනෙන්නේ ධනපති ඒකාධිකාර මොන තරම් දුරට සංවර්ධනය වී තිබේද යන්න හා විවිධ ධනපති හවුල් ව්‍යාපාර අතර කෙරෙන අරගලයේ අරමුණ කුමක් ද යන්නත් ය. මෙහි අවසානයට සඳහන් කාරණය වඩාත්ම වැදගත්ය. ඇතිවෙමින් පවතින සිද්ධිවල ඓතිහාසික-ආර්ථික අර්ථය පෙනෙන්නේ එයින් පමණකි. එසේ වන්නේ, සංසන්දනීය නිශ්චිත හා තාවකාලික වූ හේතු සාධක නිසා අරගලයේ ආකෘති නිතර වෙනස් විය හැකි හා වෙනස් වන නමුත්, පංති පවතින තාක් කල් අරගලයේ හරය, එහි සන්ධාරය කිසිසේත් වෙනස් විය නොහැකි හෙයිනි. වර්තමාන ආර්ථික අරගලයේ හරය (ලෝකය බෙදා ගැනීම) වසං කිරීම හා වරක් අරගලයේ එක් ආකෘතියක් ද, තවත් වරෙක එහි වෙනත් ආකෘතියක් ද, අවධාරණය කිරීම, නිදසුනක් වශයෙන් ජර්මන් ධනපති පංතියේ අවශ්‍යතාවයන්ට අනුකූලය. කෞට්ස්කිද, එම වරදම කරන අතර, ඔහුගේ න්‍යායික තර්ක ඉදිරිපත් කිරීමෙන් ඔහු ගෙන ඇත්තේද, එම ජර්මන් ධනපති පංතියේ පැත්තය. (මේ ගැන පසුව සඳහන් කරමි). නමුත් මෙහිදී අප අදහස් කරන්නේ ජර්මන් ධනපති පංතිය ගැන පමණක් නොව, ලෝකය මුළුල්ලේම සිටින ධනපති පංතිය ගැනය. ධනපතියන් ලෝකය බෙදා ගන්නේ විශේෂ ද්වේෂයක් නිසා නොව, සංකේන්ද්‍රණයේ ඉහළ මට්ටම නිසා, ඔවුනට ලාභ ලබා ගැනීම පිණිස මෙම ක්‍රමය අනුගමනය කිරීමට අනිවාර්යයෙන්ම සිදුවන හෙයිනි.

* Liefmann. "Kartelle und Trusts", 2. A., S. 161.

ඔවුන් ලෝකය බෙදා ගන්නේ ''ප්‍රාග්ධන අනුපාතය අනුවය''; ''ශක්තියේ අනුපාතය අනුවය''. ඔවුන් එසේ කරන්නේ ධනපති ක්‍රමයේ වෙළඳ භාණ්ඩ නිෂ්පාදනය යටතේ, බෙදා ගැනීමේ වෙනත් කිසිම ක්‍රමයක් තිබිය නොහැකි හෙයිනි. නමුත් ආර්ථික හා දේශපාලන සංවර්ධයේ මට්ටම අනුව ශක්තිය වෙනස් වන්නේය. සිදුවන දේ කුමක්ද යන්න අවබෝධ කර ගනු පිණිස, ශක්තියේ වෙනස් වීම් අනුව නිරාකරණය වන්නේ කුමණ ප්‍රශ්නද යන්න දැන ගැනීම අවශ්‍යය. මෙම වෙනස් වීම් ''හුදෙක්ම'' ආර්ථිකද නැතහොත් ආර්ථික නොවන (නිදර්ශන වශයෙන් යුද්ධමය) ඒවාද යනු ද්විතීය ප්‍රශ්නයකි. ධනපති ක්‍රමයේ නවතම අවධිය පිළිබඳ මූලික අදහස් එයින් කිසිසේත් වෙනස් විය නොහැකිය. ධනපති හවුල් ව්‍යාපාර අතර තරඟයේ හා එකඟතාවයන් ගේ හරය පිළිබඳ ප්‍රශ්නය වෙනුවට, එම අරගලයේ හා එකඟතාවයන් ගේ (අද සාමකාමී, හෙට යුද්ධමය ස්වභාවයේ, නැවතත් ඊළඟ දිනයේද යුද්ධයම වන එහි) ආකෘතිය පිළිබඳ ප්‍රශ්නය ආදේශ කිරීම විතණ්ඩවාදියෙකු ගේ කාර්ය භාරය කරට ගැනීමකි.

ලෝකය ආර්ථික වශයෙන් බෙදා ගැනීම පදනම් කර ගෙන, ධනපති හවුල් ව්‍යාපාර අතර යම් යම් සම්බන්ධකම් වර්ධනය වන බව ධනපති ක්‍රමයේ නවතම යුගයෙන් පෙනී යන්නේය. ඒ අතර, ඊට සමාන්තරව හා ඊට සම්බන්ධ වූ ලෙසට, ලෝකය භෞමික වශයෙන් බෙදා ගැනීම, එනම්, යටත් විජිත සඳහා අරගලය නැතහොත් ''බලප්‍රදේශ සඳහා අරගලය'' පදනම් කරගෙන, දේශපාලන සන්ධානයන් අතර, රාජ්‍යයන් අතර යම් යම් සම්බන්ධකම් වර්ධනය වන්නේය.

## VI. ලෝකය මහ බලවතුන් අතර බෙදා ගැනීම

ඒ සූපාන් නැමති භූගෝල විද්‍යාඥයා ලියූ ''යුරෝපයේ යටත් විජිතවල ප්‍රදේශ විකාශ වීම'' යන ඔහුගේ පොතෙන්,* දහනව වැනි ශතවර්ෂය අවසාන වන විට එම ප්‍රදේශ ව්‍යාප්ත වී තිබුණ ආකාරය දක්වන පහත සඳහන් සංක්ෂිප්ත සම්පිණ්ඩනය ඉදිරිපත් කර ඇත(පිටුව 107 බලන්න):

''එනිසා, මෙම කාල පරිච්ඡේදයේ ස්වභාව නිරූපී අංග ලක්ෂණය වූයේ, අප්‍රිකාව සහ පොලිනීසියාව බෙදා ගැනීම'' යයි ඔහු නිගමනය කරයි. අත්පත් කර නොගත්, නැතහොත්, කිසිම රාජ්‍යයකට අයත් වී නැති ප්‍රදේශ

* A. Supan. "Die territoriale Entwicklung der europäischen Kolonien". 1906, S. 254 (ඒ. සූපාන්. ''යුරෝපයේ යටත් විජිතවල ප්‍රදේශ විකාශ වීම''. — සංස්කාරක).



යුරෝපා යටත් විජිත බලවතුන්ට අයත් භූමි ප්‍රදේශ, සියයට ප්‍රමාණය
(එක්සත් ජනපදය ඇතුලත්ව)

| | 1876 | 1900 | අඩුවීම හෝ වැඩි වීම |
|---|---|---|---|
| අප්‍රිකාව | 10.8 | 90.4 | +79.6 |
| පොලිනීසියාව | 56.8 | 98.9 | +42.1 |
| ඇසියාව | 51.5 | 56.6 | + 5.1 |
| ඕස්ට්‍රෙලියාව | 100.0 | 100.0 | — |
| ඇමෙරිකාව | 27.5 | 27.2 | — 0.3 |

ආසියාවේ හා අප්‍රිකාවේ නොමැති නිසා සූපාන් ගේ නිගමනය තවත් විකාශ කර බලා, සමාලෝචනයට බඳුන්වූ කාල පරිච්ඡේදයේ ස්වභාව නිරූපී අංග ලක්ෂණය වූයේ, ලෝකය අවසාන වශයෙන් බෙදා ගැනීම යයි කියමින් එය තවත් විස්තර කිරීම අවශ්‍යය. මෙහි අවසාන වශයෙන් බෙදා ගැනීම යනුවෙන් සඳහන් කරන්නේ නැවත බෙදීම නො කළ හැකිය යන අර්ථයෙන් නොවේ. ඊට ප්‍රතිකූල වශයෙන් නැවත නැවත බෙදා ගැනීම සිදු විය හැකිය. එය අනිවාර්ය ය. එනිසා අවසාන වශයෙන් බෙදා ගැනීම යනුවෙන් අදහස් කරන්නේ, ධනපති රටවල යටත් විජිත ප්‍රතිපත්තිය අනුව, අපගේ පෘථිවියෙහි අත්පත් කර නො ගෙන තිබූ ප්‍රදේශ අත්පත් කර ගැනීම සම්පූර්ණ වී තිබෙන බවයි. ප්‍රථම වරට ලෝකය සම්පූර්ණයෙන්ම බෙදා ගෙන තිබේ. එනිසා අනාගතයෙහි දී කළ හැකිව තිබෙන්නේ නැවත බෙදා ගැනීම පමණකි — එනම්, අයිතිකරුවෙක් නොමැති ප්‍රදේශ ''අයිතිකරුවෙකු'' අතට පත්වීම නොව, එක් ''අයිතිකරුවෙකුට'' හිමි ප්‍රදේශ වෙනත් අයිතිකරුවෙකු අතට පත්වීම පමණකි.

ඒ අනුව, අප ජීවත්වන්නේ, ලෝක යටත් විජිත ප්‍රතිපත්තියේ අමුතු ලක්ෂණ ඇති අවධියකය. එය ''ධනපති ක්‍රමයේ සංවර්ධනයේ නවතම අවධිය'' සමග නැතහොත්, මූල්‍ය ප්‍රාග්ධනය සමග, ඉතාමත් සමීප ලෙස සම්බන්ධ වූ අවධියකි. මෙම හේතුව නිසා, මෙම අවධිය එහි පූර්වගාමී අවධිවලින් වෙනස්වන්නේ කෙසේද යනුත්, වර්තමාන තත්වය කුමක්ද යනුත්, හැකිතරම් දුරට නිවැරදි ලෙස දැනගැනීම සඳහා, ප්‍රථමයෙන්ම, සත්‍ය කරුණු වඩාත් සවිස්තර ලෙස සලකා බැලීම අවශ්‍ය වේ. ප්‍රථමයෙන්ම, මෙහිදී, සත්‍ය කරුණු පිළිබඳ ප්‍රශ්න දෙකක් පැන නගින්නේය. යටත් විජිත ප්‍රතිපත්තියේ උත්සන්න වීමක් ද, යටත් විජිත සඳහා අරගලයේ මුවහත් වීමක් ද, දක්නට ලැබෙන්නේ හරියටම මූල්‍ය ප්‍රාග්ධනයේ අවධි-

යේමද? මේ හා සම්බන්ධයෙන් වූ කල මෙම වකවානුවේදී ලෝකය බෙදා ගෙන තිබෙන්නේ කෙසේද?

දහ නව වැනි ශත වර්ෂයේ විවිධ කාල පරිච්ඡේද වලදී මහා බ්‍රිතාන්‍යය, ප්‍රංශය සහ ජර්මනිය යන රටවලට අයත්ව තිබුණු යටත් විජිත පිළිබඳ දත්තයන් සම්පිණ්ඩනය කිරීමේ ප්‍රයත්නයක් දරූ ඇමෙරිකානු ලේඛක මොරිස් එහි ප්‍රතිඵල, ඔහුගේ යටත් විජිත ව්‍යාපාරයේ ඉතිහාසය* යන පොතෙහි දක්වා ඇත. එම ප්‍රතිඵලවල දළ සාරාංශය මෙසේය:

**හිමිකර ගත් යටත් විජිත**

| අවුරුද්ද | මහා බ්‍රිතාන්‍යය | | ප්‍රංශය | | ජර්මනිය | |
|---|---|---|---|---|---|---|
| | වර්ග ප්‍රමාණය වර්ග සැතු: (10,00,000) | ජනගහනය (10,00,000) | වර්ග ප්‍රමාණය සැතු. (10,00,000) | ජනගහනය (10,00,000) | වර්ග ප්‍රමාණය වර්ග සැතු: (10,00,000) | ජනගහනය (10,00,000) |
| 1815–1830 | ? | 126.4 | 0.02 | 0.5 | — | — |
| 1860 | 2.5 | 145.1 | 0.2 | 3.4 | — | — |
| 1880 | 7.7 | 267.9 | 0.7 | 7.5 | — | — |
| 1899 | 9.3 | 309.0 | 3.7 | 56.4 | 1.0 | 14.7 |

මහා බ්‍රිතාන්‍යයේ යටත් විජිත අත්පත් කර ගැනීම අති විශාල ලෙස ව්‍යාප්ත වී ගිය කාල පරිච්ඡේදය වූයේ, 1860 පටන් 1880 දක්වා කාලයයි. දහනව වැනි ශත වර්ෂයේ අවසාන විසි වසර තුළද, එම ව්‍යාප්තිය ඉමහත් විය. ප්‍රංශයේ සහ ජර්මනියේද යටත් විජිත අත්පත් කර ගැනීම විශාල ලෙස ව්‍යාප්ත වූයේ හරියටම මෙම විසි වසර තුළය. ඒකාධිකාර — පූර්ව ධනපති ක්‍රමයේ, එනම්, ප්‍රබල නිදහස් තරගය සහිත ධනපති ක්‍රමයේ සංවර්ධනය, 1860 ගණන් වල දී සහ 1870 ගණන් වල දී, එහි ඉහළ සීමාවට ළඟා වූ බව අපි ඉහත දී දුටිමු. යටත් විජිත අත්පත් කර ගැනීමේ දැවැන්ත ''උත්පාතය'' ආරම්භ වීමත්, ලෝකයේ භූමි භාගය බෙදා ගැනීම සඳහා

* Henry C. Morris. "The History of Colonization". New York, 1900, vol. 11, p, 88; vol. 1, p. 419; vol. 11, p. 304 (හෙන්රි සී. මොරිස්. ''යටත් විජිත ව්‍යාපාරයේ ඉතිහාසය''. නිව්යෝර්ක්, 1910, වෙළුම 11, පිටු 88; වෙළුම 1, පිටු 419; වෙළුම 11, පිටු 304. — සංස්කාරක).



වූ අරගලය ඉතාමත් තියුණු ලෙස මුවහත් වීමත් සිදුවූයේ හරියටම මෙම කාල පරිච්ඡේදයට පසුව බව, අපට දැන් පෙනේ. එනිසා, ධනපති ක්‍රමය ඒකාධිකාරී ධනපති ක්‍රමයේ අවධිය දක්වා, මූල්‍ය ප්‍රාග්ධනය දක්වා සංක්‍රමණය වීම, ලෝකය බෙදා ගැනීම සඳහා වූ අරගලය උත්සන්න වීමත් හා සමග සම්බන්ධ වූවක් බවට සැකයක් නැත.

අධිරාජ්‍යවාදය ගැන හොබ්සන් ලියූ පොතෙහි, 1884—1900 කාලය, ප්‍රධාන යුරෝපීය රාජ්‍යයන් ගේ ප්‍රබල ''ව්‍යාප්තියේ'' අවධිය වශයෙන් ඔහු සලකුණු කර ඇත. ඔහු ගණන් බලා ඇති ආකාරයට, මෙම වර්ෂවලදී, බ්‍රිතාන්‍යය, 5,70,00,000 ක් වැසියන් සහිත වර්ග සැතපුම් 37,00,000 ක ප්‍රදේශ අත්පත් කර ගත්තේය. එම කාලයේදී ප්‍රංශය, 3,65,00,000 ක් වැසියන් සහිත වර්ග සැතපුම් 36,00,000 ක ප්‍රදේශද, ජර්මනිය, 1,47,00,000 ක් වැසියන් සහිත වර්ග සැතපුම් 10,00,000 ක ප්‍රදේශද, බෙල්ජියම 3,00,00,000 ක් වැසියන් සහිත වර්ග සැතපුම් 9,00,000 ක ප්‍රදේශද, පෘතුගාලය 90,00,000 ක් වැසියන් සහිත වර්ග සැතපුම් 8,00,000 ක ප්‍රදේශද අත්පත් කර ගත්හ. දහනව වැනි ශතවර්ෂයාවසානයේ දී, විශේෂයෙන්ම 1880 ගණන් වලින් පසුව සියළුම ධනපති රාජ්‍යයන්, යටත් විජිත සඳහා ඇල්ලූ මහා පොරය, රාජ්‍යතන්ත්‍රීය සහ විදේශ ප්‍රතිපත්ති ඉතිහාසයේ ලියවුනු කවුරුත් දන්නා සුප්‍රකට කරුණකි.

නිදහස් තරගය, මහා බ්‍රිතාන්‍යය තුළ ඉහළින් වැජඹුණු සමය වූ, 1840 හා 1860 අතර කාලයේ ප්‍රධාන ධනපති දේශපාලනඥයෝ, යටත් විජිත ප්‍රතිපත්තියට විරුද්ධ වූහ. යටත් විජිත වල විමුක්තිය හා ඒවා සම්පූර්ණයෙන්ම බ්‍රිතාන්‍යයෙන් වෙන් වීම නො වැලැක්විය හැකි දෙයක් හා යහපතක් සේ ඔවුහු අදහස් කළහ. එම්. බියර් විසින් ලියන ලදුව, 1898 දී පළ වුනු ''නූතන බ්‍රිතාන්‍ය අධිරාජ්‍යවාදය''*යන ලිපියෙන් පෙනෙන පරිදි, සාමාන්‍යයෙන් අධිරාජ්‍යවාදයට පක්ෂපාත රාජ්‍ය පාලකයෙකු වූ ඩිස්රේලි, 1852 දී මෙසේ කියා ඇත. ''යටත් විජිත නම්, අපගේ බෙල්ලේ එල්ලා ගත් ඇඹරුම් ගල් ය''. එසේ වුවත්, දහනව වැනි ශතවර්ෂයාවසානයේ තත් කාලීන බ්‍රිතාන්‍ය වීරයන් බවට පත්ව සිටියේ, ප්‍රසිද්ධියේ ම අධිරාජ්‍යවාදයට පක්ෂවාදී වූ සහ අධිරාජ්‍යවාදී ප්‍රතිපත්තිය නිහීනතම ආකාරයෙන් ක්‍රියාවට නැංවූ සිසිල් රෝඩ්ස් සහ ජෝසප් චේම්බර්ලේන් ය!

මෙම බ්‍රිතාන්‍ය ධනපති දේශපාලන නායකයන් පවා නූතන අධිරාජ්‍යවාදයේ පිරිසිදු ආර්ථික මූලයන් සහ සමාජ-දේශපාලන මූලයන් අතර ඇති සම්බන්ධය දුටු බව නිරීක්ෂණය කිරීම වැදගත් නොවන්නේ නැත. අධිරාජ්‍යවාදය ''සත්‍ය, ඥානාන්විත සහ ආර්ථිකමය ප්‍රතිපත්තියක්''

* "Die Neue Zeit"[41], XVI, 1, 1898, S. 302.

වශයෙන් දේශනා කළ චෙම්බර්ලේන්, මහා බ්‍රිතාන්‍යයට ලෝක වෙළෙඳ පොලේදී මුහුණ දෙන්නට සිදු වී තිබුණු, ජර්මන්, ඇමෙරිකන් සහ බෙල්ජියන් තරඟය ගැන අවධාරණයෙන් පෙන්නුම් කළේය. කාටල්, සම්මේල සහ සංගත ව්‍යාපාර ආරම්භ කිරීමෙහි යෙදුනු ධනපතීහු, ගැලවිල්ල තිබෙන්නේ ඒකාධිකාරය තුළ යයි කීහ. ලෝකයේ, එතෙක්ම, බෙදා වෙන් කර ගෙන නොතිබුණු කොටස් අත්පත් කර ගැනීමට අනලස් වූ ධනපති පංතියේ දේශපාලන නායකයන් ද, ගැලවිල්ල තිබෙන්නේ ඒකාධිකාරය තුළ යයි දෝංකාර නැංවූහ. ඒ අතර, 1895 දී, සිසිල් රෝඩ්ස්, ඔහුගේ අධිරාජ්‍යවාදී අදහස් පහත සඳහන් පරිදි ප්‍රකාශ කළේ යයි, ඔහු ගේ කිට්ටු මිතුරෙකු වූ, පුවත්පත් කලා වේදී ස්ටෙඩ් අපට දන්වයි: ''ඊයේ ලන්ඩන් නගරයේ ඊස්ට් එන්ඩ් (කම්කරු පංතිකයන් පදිංචි) පෙදෙසේ සිටි මම, විරැකියා ගත වූවන් ගේ රැස්වීමක් දුටුවෙමි. මම ඒ උමතු කථා වලට සවන් දුනිමි. ඒවා හුදෙක්ම පාන්! පාන්! යනුවෙන් කරන හඬ නැගීමක් විය. මම ආපසු නිවසට යන ගමන් මෙම දර්ශනය ගැන මෙනෙහි කෙළෙමි. වෙන කවර දකටවත් වඩා හොඳින් එවිට මට අධිරාජ්‍යවාදයේ වටිනාකම අවබෝධ විය... මා අගේ කරන අදහස, සමාජ ප්‍රශ්නයට විසඳීමකි. එක්සත් රාජධානියේ 4,00,00,000 ක් වැසියන් සිවිල් යුද්ධයකින් මුදා ගැනීම සඳහා, යටත් විජිතවාදී රාජ්‍ය පාලකයන් වන අපි, අතිරික්ත ජනගහනය පදිංචි කරවීමටත්, පැක්ටරි හා ආකරවල නිෂ්පාදනය කරන භාණ්ඩ සඳහා අළුත් වෙළෙඳ පොළවල් සැපයීමටත්, අළුත් රටවල් අත්පත් කර ගත යුත්තෙමු. මා නිතරම කියා තිබෙන පරිදි අධිරාජ්‍යය යනු පාන් සහ බටර් පිළිබඳ පශ්නයකි. සිවිල් යුද්ධයක් ඇති වීම වැළැක්වීමට ඔබ අපේක්ෂා කෙරේ නම්, ඔබ අධිරාජ්‍යවාදීන් විය යුතුය''.*

කෝටිපතියෙක් මූල්‍ය රජෙක් හා ඉංග්‍රීසි-බුවර් යුද්ධයට ප්‍රධාන වශයෙන් වග කිව යුත්තා වූ සිසිල් රෝඩ්ස් එසේ කීවේ 1895 දී ය. ඔහු අධිරාජ්‍යවාදය ආරක්ෂා කළ ආකාරය ගොරහැඩි හා නිහීන වූ බව ඇත්තය. නමුත්, හරය වශයෙන් ගත් කල, මාස්ලව්, සියුදෙකුම්, පොත්‍රෙසව්, දවීද්, රුසියානු මාක්ස්වාදයේ සමාරම්භකයා සහ වෙනත් මහත්වරුන් ඉදිරිපත් කරන ''න්‍යායට'' වඩා එය වෙනස් නැත. සිසිල් රෝඩ්ස් එක්තරා දුරකට වඩාත් අවංක සමාජ — ජාත්‍යෝන්මාදවාදියෙක් විය...

ලෝකයේ ප්‍රදේශ බෙදගෙන තිබෙන ආකාරය ගැනත්, මේ හා සම්බන්ධයෙන්, පසු ගිය දශක වලදී ඇති වී තිබෙන වෙනස් කම් පිළිබඳවත්, හැකි තරම් දුරට නිවැරදි පින්තූරයක් ඉදිරිපත් කිරීම පිණිස, ලෝකයේ සියළුම යටත් විජිත බලවතුන් හිමි යටත් විජිත ගැන, සුපාන් ලියූ ඉහත

* "Die Neue Zeit", XVI, 1, 1898, S. 304.



සඳහන් කළ පොතෙහි දක්වා ඇති දත්තයන් උපයෝගී කර ගන්නෙමි. සුපාන් සඳහන් කර තිබෙන්නේ 1876 පටන් 1900 දක්වා වූ වර්ෂ ගැන ය. මම 1876 සහ 1914 යන වර්ෂ තෝරා ගන්නෙමි. 1876 වර්ෂය තෝරා ගැනීම ඉතාමත් යෝග්‍යය. මන්ද යත්, බටහිර යුරෝපීය ධනපති ක්‍රමයේ ඒකාධිකාර — පූර්ව අවධියේ සංවර්ධනය ප්‍රධාන වශයෙන් ඉඳුරාම සම්පූර්ණ වී තිබිණැයි කිව හැකි කාලය එය බැවිනි. සුපාන් දෙන ගණන් හිලව් වෙනුවට, හියුබ්නර් ගේ ''භූගෝල විද්‍යා සංඛ්‍යා ලේඛන චක්‍ර'' වල දක්වා ඇති වඩාත් අළුත් සංඛ්‍යා ලේඛන උපුටා දක්වමි. සුපාන් ඉදිරිපත් කරන්නේ යටත් විජිත වලට අදළ සංඛ්‍යා පමණකි. ලෝකය බෙදා ගැනීම පිළිබඳව වඩාත් අංග සම්පූර්ණ පින්තූරයක් ඉදිරිපත් කිරීම සඳහා, යටත් විජිත නොවන රටවල් සහ අර්ධ — යටත් විජිත රටවල් ගැනද ලුහුඬු දත්තයන් දක්වීම ප්‍රයෝජනවත් යයි මම අදහස් කෙළෙමි. පර්සියාව, චීනය හා තුර්කිය අර්ධ යටත් විජිත යන ප්‍රවර්ගයට ඇතුළත් කරන්නෙමි. මෙයින් ප්‍රථම රට දැනටමත් සම්පූර්ණයෙන්ම පාහේ යටත් විජිත තත්වයට පත්වී ඇති තරම් ය. දෙවැනි හා තුන් වැනි රටවල් ද එම තත්වයට පත් වෙමින් පවතී.

ඒ අනුව අපට ලැබෙන ප්‍රතිඵලය මෙසේය (පිටුව 112 බලන්න):

විසිවන ශත වර්ෂය ආරම්භ වන විට ලෝකය බෙදා වෙන් කර ගැනීම කොතරම් දුරට සම්පූර්ණ වී තිබුණේ ද යන්න අපට මෙම සංඛ්‍යා වලින් මනාව විද්‍යාමාන වේ. 1876 න් පසුව, යටත් විජිතයන් ගණන දැවැන්ත පරිමාණයකින් වැඩි විය. ලොකුම යටත් විජිත බලවතුන් හය දෙනා සතු යටත් විජිත වර්ග කිලෝ මීටර් 4,00,00,000 සිට 6,50,00,000 දක්වා වැඩි විය. මෙය 2,50,00,000 ක වැඩි වීමකි. එම විවර්ධනය අධිපති රටවල වර්ග ප්‍රමාණය (වර්ග කිලෝමීටර් 1,65,00,000) සියයට පනහකින් ඉක්ම වූවකි. 1876 දී බලවතුන් තිදෙනෙකුට යටත් විජිත නොතිබුණු අතර, හතරවැනි රටකට, එනම්, ප්‍රංශයට ද, කිවයුතු තරමක යටත් විජිත නොවීය. 1914 වන විට, මෙම රටවල් හතර, 10,00,00,000 ක පමණ ජනගහනයක් සහිත වර්ග කිලෝමීටර් 1,41,00,000 ක්, එනම්, මෙහිදී ද යුරෝපයේ වර්ග ප්‍රමාණය මෙන් එක හමාරක් පමණ වූ යටත් විජිත අත්පත් කර ගෙන තිබුණි. යටත් විජිත අත්පත් කරගැනීම සිදු වූයේ ඉතාමත් අසමාන වේගයකිනි. නිදර්ශනයක් වශයෙන්, වර්ග ප්‍රමාණය සහ ජනගහනය අතින්, එකිනෙකට බොහෝ දුරට වෙනස් නොවන ප්‍රංශය, ජර්මනිය හා ජපානය යන තුන් රට අපි සංසන්දනය කර බලන්නෙමු නම්, ඉන් ප්‍රථම රට, අනිත් දෙකම එක්ව අත් කර ගත් යටත් විජිත මෙන් තුන් ගුණයක් පමණ යටත් විජිත ප්‍රදේශ අත්පත් කරගෙන තිබෙන බව අපට පෙනේ. මූල්‍ය ප්‍රාග්ධනය අතින් වූවද, ප්‍රංශය, අප සලකා බලන කාලය

මහ බලවතුන් හිමි කරගෙන තිබෙන යටත් විජිත

(වර්ග කිලෝමීටර් 10,00,000 සහ ජනගහනය 10,00,000 ගණනින්)

| | යටත් විජිත | | | | අධිපති රටවල් | | එකතුව | |
|---|---|---|---|---|---|---|---|---|
| | 1876 | | 1914 | | 1914 | | 1914 | |
| | වර්ග ප්‍රමාණය | ජනගහනය | වර්ග ප්‍රමාණය | ජනගහනය | වර්ග ප්‍රමාණය | ජනගහනය | වර්ග ප්‍රමාණය | ජනගහනය |
| මහා බ්‍රිතාන්‍යය | 22.5 | 251.9 | 33.5 | 393.5 | 0.3 | 46.5 | 33.8 | 440.0 |
| රුසියාව | 17.0 | 15.9 | 17.4 | 33.2 | 5.4 | 136.2 | 22.8 | 169.4 |
| ප්‍රංශය | 0.9 | 6.0 | 10.6 | 55.5 | 0.5 | 39.6 | 11.1 | 95.1 |
| ජර්මනිය | — | — | 2.9 | 12.3 | 0.5 | 64.9 | 3.4 | 77.2 |
| එක්සත් ජනපදය | — | — | 0.3 | 9.7 | 9.4 | 97.0 | 9.7 | 106.7 |
| ජපානය | — | — | 0.3 | 19.2 | 0.4 | 53.0 | 0.7 | 72.2 |
| මහ බලවත් රටවල 6 සඳහා එකතුව | 40.4 | 273.8 | 65.0 | 523.4 | 16.5 | 437.2 | 81.5 | 960.6 |
| වෙනත් බලවතුන්ගේ (බෙල්ජියම හා ඕලන්දය ආදියේ) යටත් විජිත | | | | | | | 9.9 | 45.3 |
| අර්ධ යටත් විජිත රටවල් (පර්සියාව 'චීනය' තුර්කිය) | | | | | | | 14.5 | 361.2 |
| වෙනත් රටවල් | | | | | | | 28.0 | 289.9 |
| ලෝකය සඳහා එකතුව | | | | | | | 133.9 | 1657.0 |



මුලදී, එක්කොට ගත් ජර්මනිය සහ ජපානය යන දෙරටට වඩා, සමහර විට කීප ගුණයකින් ධනවත් වී යයි කිව හැක. හුදු ආර්ථික කොන්දේසි වලට අමතරව සහ ඒවා පදනම් කරගෙන, භූමිශාස්ත්‍රීය කොන්දේසිද, යටත් විජිත හිමිකම් පරිමාණය කෙරෙහි බල පාන්නේය. මහා පරිමාණ කර්මාන්ත, හුවමාරුව සහ මූල්‍ය ප්‍රාග්ධනය පාන, බලකාර ස්වභාවයේ ප්‍රතිඵලයක් වශයෙන්, පසු ගිය දශක වලදී, ලෝකයේ සම මට්ටම්කාරී ක්‍රියා දමය, විවිධ රටවල ආර්ථික හා ජීවන තත්වයන් සම මට්ටමකට ගෙන ඒමේ ක්‍රියාදමය කොතරම් බලගතු වුවත්, බරපතල වෙනස් කම් තවමත් පවතින්නේය. ඒ අනුව, ප්‍රථමයෙන්ම ඉහත සඳහන් සය රට අතුරෙන්, තරුණ රටවල (ඇමෙරිකාව, ජර්මනිය, ජපානය), ප්‍රගතිය අසමාන සේ වේගවත් වූ බව අපට පෙනේ. දෙවැනිව, පැරණි ධනේශ්වර සංවර්ධනයක් ඇති (ප්‍රංශය සහ මහා බ්‍රිතාන්‍යය) රටවල මෑත සංවර්ධනය, කලින් සඳහන් රටවලට වඩා බෙහෙවින් ප්‍රමාදී බවද, තුන් වැනිව, ආර්ථික වශයෙන් ඉතාමත් නොදියුණු රටක (රුසියාවේ) නූතන ධනපති අධිරාජ්‍ය වාදය, ධනපති — පූර්ව සම්බන්ධකම් ජාලයක තදින් පැටලී තිබෙන්නේ යයි කිව හැකි තත්වයක පවතින බවද, අපට පෙනේ.

මහ බලවතුන් හිමි යටත් විජිත හා සමගම, කුඩා රාජ්‍යවල යටත් විජිත ද අපි දක්වා ඇත්තෙමු. මීළඟට ඇති වීමට හැකි සහ ඇති වීමට ඉඩ තිබෙන යටත් විජිතයන් ''යළි බෙදු ගැනීමක'' ඉලක්කයන් මේවා වන්නට පිළිවන. මෙම කුඩා රාජ්‍යයන්ට, ඔවුන්ගේ යටත් විජිත තබා ගැනීමට ඉඩ ලැබී තිබෙන්නේ, මහ බලවතුන් ගේ ප්‍රතිවිරෝධී උවමනාවන්, ඝට්ටන, ආදිය නිසා, එම රටවල් පස මිතුරු තත්වයක පවතින තත් ප්‍රදේශ බෙදු ගැනීම සඳහා, ඒවා එක්සත් වීම වැලකී තිබෙන බැවිනි. ''අර්ධ යටත් විජිත'' රටවල් ගැන සලකා බලන කල, ඒවායින් සැපයෙන්නේ, ස්වභාව ධර්මයේ මෙන්ම සමාජයේද දක්නට ලැබෙන පරිවර්තනීය ආකාරයන් පිළිබඳ නිදර්ශනයකි. මූල්‍ය ප්‍රාග්ධනය යනු, සියළුම ආර්ථික සහ ජාත්‍යන්තර සම්බන්ධකම් කෙරෙහි ඉතා විශාල බලපෑමක් කරන, තීරණාත්මක බලවේගයකි. එය, සම්පූර්ණ දේශපාලන නිදහස භුක්ති විඳින රාජ්‍යයන් පවා තමන්ට නතුකර ගැනීමෙහි සමත්ය — ඇත්ත වශයෙන්ම නතුකර ගන්නේය. අපට මේ පිළිබඳ නිදර්ශන ඉක්මණින්ම දැකිය හැක. මූල්‍ය ප්‍රාග්ධනය ඉතාමත් ''පහසු'' යයි සලකන්නේත්, වැඩිම ලාභ ලබා ගැනීම සඳහා යොදු ගන්නේත්, නතුවන රටවල ජනතාව ගේ දේශපාලන නිදහස ඔවුනට අහිමි වන ස්වභාවයේ යටත් කිරීමේ ආකෘතියක්ම බව සැබවි. මේ හා සම්බන්ධයෙන් වූ කල, අර්ධ-යටත් විජිත රටවල්, ''මධ්‍යම අවධිය'' දක්වන නිදර්ශන සපයති. ලෝකයේ අන් කොටස් බෙදු ගෙන අවසාන වී තිබෙන නිසා, මෙම අර්ධ-ස්වාධීන රටවල්

සඳහා කෙරෙන අරගලය මූල්‍ය ප්‍රාග්ධනයේ අවධියේ දී විශේෂයෙන්ම තියුණු වීම ස්වාභාවික දෙයකි.

යටත් විජිත ප්‍රතිපත්තිය සහ අධිරාජ්‍යවාදය, ධනපති ක්‍රමයේ අළුත්ම අවධියට පෙර පැවතුණි. වහල් ක්‍රමය මත ගොඩ නගන ලද රෝමය, යටත් විජිත ප්‍රතිපත්තියක් අනුගමනය කරමින් අධිරාජ්‍යවාදය ක්‍රියාත්මක කළේය. එහෙත්, සමාජ-ආර්ථික ක්‍රම අතර වෙනස්කම් සැලකිල්ලට නො ගන්නා, නැතහොත්, ඒවා පසු බිමට තල්ලු කර දමමින් කරන, අධිරාජ්‍යවාදය පිළිබඳ සාමාන්‍ය විවරණයන්, අනිවාර්ණීය වශයෙන්ම පත් වන්නේ, ''මහා රෝමය සහ මහා බ්‍රිතාන්‍යය''* යනුවෙන් කරන සංසන්දනයන් වැනි, වැදගැම්මකට නැති මොට්ට කථා හා පුරසාරම් බවටය. ධනපති ක්‍රමයේම පූර්වගාමී ධනපති අවධිවල යටත් විජිත ප්‍රතිපත්තියද, මූල්‍ය ප්‍රාග්ධනයේ යටත් විජිත ප්‍රතිපත්තියෙන් මූලික වශයෙන් වෙනස් වූවකි.

ධනපති ක්‍රමයේ නවතම අවධියේ ප්‍රධාන අංග ලක්ෂණය, ලොකු සේවා යෝජකයන්ගේ ඒකාධිකාරී හවුල් සමාගම්වල ආධිපත්‍යය වේ. මෙම ඒකාධිකාරයන් ඉතාමත් තහවුරු ලෙස ස්ථාපිත වන්නේ, අමුද්‍රව්‍ය සම්පාදන මාර්ග සියල්ලම එක කණ්ඩායමක් විසින් අත්පත් කරගන්නා ලද විටය. තම ප්‍රතිමල්ලයන්ට තරඟ කිරීමේ හැකියාව අහිමි කිරීමට, නිදර්ශනයක් වශයෙන්, යකඩ ආකර, තෙල් ආකර ආදිය සියල්ලම මිළට ගැනීමට, ජාත්‍යන්තර ධනපති සමාගම් සෑම ධෛර්යයක්ම යොදන්නේ කුමණ උත්සුක්තතාවයකින් ද යන්න අපි දැක ඇත්තෙමු. රාජ්‍ය ඒකාධිකාරයක් පිහිටුවීමේ නීතියක පිහිටෙන් ආරක්ෂා වීමට අපේක්ෂා කරන ප්‍රතිපාක්ෂිකයන් ඇතුළු, සියළුම ප්‍රතිපාක්ෂිකයින්ට විරුද්ධව කරන අරගලයේ දී, ඇතිවන සියළුම අනපේක්ෂිත දුර්වලතා වලින් ආරක්ෂා වීමේ සම්පූර්ණ සහතිකයක් ඒකාධිකාර වලට ලැබෙන්නේ, හිමිකරගෙන තිබෙන යටත් විජිත වලිනි. ධනපති ක්‍රමය වඩ වඩාත් සංවර්ධනය වන තරමට, අමු ද්‍රව්‍ය හිඟය වැඩියෙන් දැනෙන්නේය; අමුද්‍රව්‍ය සම්පාදන මාර්ග සඳහා ලෝකය මුළුල්ලේම තරඟ කිරීම සහ දුව ඇවිදීම වැඩි වන්නේය; යටත් විජිත අත්පත් කර ගැනීමේ අරගලය වඩාත් දරුණු වන්නේය.

* C. P. Lucas. "Greater Rome and Greater Britain". Oxford, 1912 (සී. පී. ලූකස්. ''මහා රෝමය සහ මහා බ්‍රිතාන්‍යය'', ඔක්ස්පර්ඩ්, 1912. — සංස්කාරක) හෝ Earl of Cromer. "Ancient and Modern Imperialism". London, 1910 (ක්‍රෝමර් ආදිපාදවරයාගේ ''පුරාණ සහ නවීන අධිරාජ්‍යවාදය''. ලන්ඩන්, 1910. — සංස්කාරක).



ෂිල්දර් මෙසේ ලියයි: ''බොහෝ දුරට පූර්වනුමාන කළ හැකි තරම් නුදුරු අනාගතයේ දී ඇතිවන ආහාර හිඟයකට වඩා, කර්මාන්තයට අවශ්‍ය අමු ද්‍රව්‍ය හිඟවීම නිසා නාගරික කාර්මික ජනගහනයේ වර්ධනයට බාධාකාරී තත්වයක් ඇති විය හැක. සමහරෙකුට මෙය පිළි ගැනීම අපහසු වුවත්, එය නිශ්චය වශයෙන් ම කිව හැක්කකි''. නිදසුනක් වශයෙන්, දැව හිඟයක් ඇත. දැව මිළ වේගයෙන් ඉහළ යයි. පේශකාර්මික අමු ද්‍රව්‍යවල මිළද ඉහළ යයි. ''සමස්ත ලෝක ආර්ථිකයේම කෘෂිකර්මාන්තය හා කර්මාන්තය අතර සම තුලිත තාවයක් ඇති කිරීමට නිෂ්පාදකයන්ගේ හවුල් සමාගම් දිරි දරති. මේ පිළිබඳ නිදර්ශන වශයෙන්, 1904 දී පිහිටුවන ලද, වැදගත් කාර්මික රටවල් බොහොමයක කපු කටින්නන්ගේ හවුල් සමාගම්වල ජාත්‍යන්තර සම්මේලනයක් පිහිටුවීම ද, 1910 දී එම ආකෘතිය ම මත පිහිටුවන ලද, ප්ලැක්ස් හණ කටින්නන්ගේ යුරෝපීය සම්මේලනයද කෙනෙකුට පෙන්විය හැක.''*

එසේ වුවද, ''වැය අධික සහ අන්තරාදායක'' යටත් විජිතවාදී ප්‍රතිපත්තියකින් තොරව, අමු ද්‍රව්‍ය විවෘත වෙළඳ පොළෙන් ලබා ගත ''හැකි'' යයි කියන තර්ක ඉදිරිපත් කරමින්, මෙවැනි කරුණුවල වැදගත් කම අඩු කිරීමට, ධනපති ප්‍රතිසංස්කරණවාදීහු, විශේෂයෙන්ම ඔවුනතර සිටින වර්තමාන කෞට්ස්කිවාදීහු ප්‍රයත්න දරති. එමෙන්ම, ''හුදෙක්ම'' කෘෂිකර්මාන්තයේ තත්වයන් පොදුවේ වැඩි දියුණු කිරීමෙන්, අමු ද්‍රව්‍ය සම්පාදනය යෝධ පරිමාණයෙන් වැඩි දියුණු ''කළ හැකි'' යයිද ඔවුහු කියති. එහෙත්, එවැනි තර්ක ඉදිරිපත් කිරීමේ දී, ධනපති ක්‍රමයේ නවතම අවධියේ ප්‍රධාන අංග ලක්ෂණය වන ඒකාධිකාර අමතක කරනු ලබන නිසා, එසේ තර්ක කිරීම අධිරාජ්‍යවාදයට සුදු හුණු ගෑමක් හා එය දීප්තිමත් වර්ණාලේපයෙන් සැරසීමක් වන්නේය. නිදහස් වෙළඳ පොල එන්න එන්නම අතීතයට යටවූ දෙයක් බවට පතිත වමින් පවතී. ගත වන සෑම දිනක් පාසාම, ඒකාධිකාරී සම්මේල හා සංගත ව්‍යාපාර විසින් නිදහස් වෙළඳ පොල සීමා කරනු ලැබේ. තවද, ''හුදෙක්ම'' කෘෂිකර්මාන්තයේ තත්වයන් වර්ධනය කිරීම යනුවෙන් අදහස් කෙරෙන්නේ, ජනතාවගේ තත්වය වැඩි දියුණු කිරීමය, වේතන වැඩි කිරීම සහ ලාභ අඩු කිරීම ය. යටත් විජිත අල්ලා ගැනීම වෙනුවට ජනතාවගේ තත්වය ගැන සැලකිලිමත් වීමෙහි සමත් සංගත ව්‍යාපාර තිබෙන්නේ හැඟළු හරිත ප්‍රතිසංස්කරණවාදීන්ගේ මනෝරාජ්‍යයේ මිස වෙන කොහේ ද?

දැනට සොයාගෙන තිබෙන අමු ද්‍රව්‍ය සම්පාදන මාර්ග කෙරෙහි පමණක් නොව, විය හැකි අමු ද්‍රව්‍ය සම්පාදන මාර්ග කෙරෙහි ද, මූල්‍ය

* Schilder, ඉහත සඳහන් කෘතිය, පිටු 38—42.

ප්‍රාග්ධනය උනන්දුවක් දක්වයි. එය එසේ උනන්දුවක් දක්වන්නේ, වර්තමාන තාක්ෂණික සංවර්ධනය ඉතාමත් වේගවත් නිසා සහ අද ප්‍රයෝජනවත් නොවන භූමි භාග, හෙට, නව විධික්‍රම සොයා ගතහොත් (මෙම අරමුණ ඇතිව, ඉන්ජිනේරුවන්, කෘෂිකාර්මික විශේෂඥයින් ආදීන්ගෙන් සමන්විත විශේෂ ගවේෂණයන් සංවිධානය කිරීම ලොකු බැංකුවකට කළ හැකිය) වැඩි දියුණු කර ගත හැකි වන නිසාත් ය. ඛණිජ ද්‍රව්‍ය සෙවීමේ ගවේෂණ, අමු ද්‍රව්‍ය පිරියත් කිරීම සහ උපයෝගි කර ගැනීම යනාදියට ද මෙය අදාළ වේ. මූල්‍ය ප්‍රාග්ධන අධිකාරීන් තමන්ගේ බල ප්‍රදේශ හා තමන්ගේ දේශභූමි පවා විශාල කර ගැනීමට කරන අරගලය අනිවාරණීය වන්නේ එහෙයිනි. සංගත ව්‍යාපාර, ඒවායේ දේපල වලින් (ඒවායේ සැබෑ අගය නොව) ''ලැබිය හැකි'' ලාභ සහ ඒකාධිකාරයෙන් තවදුරටත් ලැබෙන ප්‍රතිඵල ද සැලකිල්ලට ගනිමින්,එම දේපලවල වටිනාකම දෙතුන් ගුණයෙන් වැඩි කොට දමා, ඒවා ප්‍රාග්ධනය කරන සේම, මූල්‍ය ප්‍රාග්ධනයත්, අමු ද්‍රව්‍ය සම්පත් ඇතැයි තැබිය හැකි බලාපොරොත්තුත්, සැලකිල්ලට ගනිමින්, ඉතිරිවී තිබෙන නිදහස් ප්‍රදේශ අත්පත් කර ගැනීමට හෝ, දැනටම බෙදගෙන තිබෙන ප්‍රදේශ නැවත බෙදා ගැනීමට හෝ කරන අරගලයේදී, තමන් පසු වේය යන බියක්ද ඇති කර ගනිමින්, සෑම මාර්ගයක් ම පාවිච්චි කරමින්, සෑම දේශයකම, සෑම වර්ගයකම, භූමි භාග අත්පත් කර ගැනීමේ අරගලයක යෙදෙති.

බ්‍රිතාන්‍ය ධනපතියෝ ඔවුන්ගේ යටත් විජිතයක් වන ඊජිප්තුවෙහි කපු වැවීම දියුණු කිරීමට සෑම උත්සාහයක් ම කරති. (1904 දී එහි වගා කර තිබුණු හෙක්ටෙයාර් 23,00,000 කින්, 6,00,000 ක්ම නැතහොත් හතරෙන් එකකට වැඩි කොටසක් කපු වගාව විය). රුසියානුවෝ ද, ඔවුන්ගේ යටත් විජිතය වන තුර්කිස්ථානයේ එයම කරති. එසේ කිරීමෙන් විදේශීය තරඟ කරුවන් පරාජය කිරීමටත්, අමු ද්‍රව්‍ය සම්පාදන මාර්ග ඒකාධිකාරී ලෙස අත් කර ගැනීමටත්, කපු නිෂ්පාදනයේ සහ කර්මාන්තයේ සියළුම ක්‍රියා දමයන් ''ඒකාබද්ධ'' කළ සහ එකම හිමිකරුවන් පිරිසක් වෙත සංකේන්ද්‍රණය වුනු, වඩාත් පිරිමැසුම් දායක සහ ලාභ දායක පේෂකාර්මික සංගත ව්‍යාපාරයක් ඇති කිරීමටත් වැඩි පහසුකම් ලැබෙන තත්වයක් ඔවුහු ඇති කර ගනිති.

ප්‍රාග්ධන අපනයනයේ දී ඉටු කරනු ලබන උවමනාවන් නිසාද, යටත් විජිත අත්පත් කර ගැනීම දිරි ගැන්වෙයි. එයට හේතුව, යටත් විජිත වෙළඳ පොළෙහි දී, ඒකාධිකාරී ක්‍රම ක්‍රියාත්මක කිරීම (සමහර විට යොදා ගත හැකි වන්නේ එම ක්‍රම පමණකි) මගින් තරඟය අහෝසි කිරීම, සැපයුම් ස්ථාවර තත්වයකට ගෙන ඒම, අවශ්‍ය ''සම්බන්ධකම්'' ඇති කර ගැනීම යනාදිය වඩාත් පහසු වීමයි.



මූල්‍ය ප්‍රාග්ධනය හා එහි ප්‍රතිපත්ති හා දෘෂ්ටිය පදනම් කරගෙන, ඒමත ගොඩ නැගෙන ආර්ථික නොවන උඩු ව්‍යුහය විසින්, යටත් විජිත අත්පත් කර ගැනීමේ අරගලය ශක්තිමත් කෙරෙන්නේ ය. ''මූල්‍ය ප්‍රාග්ධනය නිදහසට කැමති නැත. එයට අවශ්‍ය ඒකාධිපත්‍යය'' යන හිල්පර්දිංගේ කියමන ඉතා නිවැරදි ය. ඒ අතර ධනපති ප්‍රංශ ලේඛකයෙක්, ඉහත උපුටා දක්වන ලද සිසිල් රෝඩ්ස්ගේ අදහස්* සංවර්ධනය කර ඌණ පූරණය කරන්නාක් මෙන්, යටත් විජිත ප්‍රතිපත්තියේ හේතු සාධකවලට සමාජමය හේතුද එකතු කළ යුතු යයි කියයි. ''කම්කරු පංතියට පමණක් නොව, මධ්‍යම පංතිවලට පවා බරක් දැනෙන සේ ජීවිතයේ සංකීර්ණත්වය හා දුෂ්කරතාවයන් වැඩි වෙමින් පැවතීම නිසා, පැරණි ශිෂ්ඨාචාරය පවතින සියළුම රටවල් තුළ නොඉවසිල්ල, කිපෙන සුළු බව සහ වෛරය එක් රැස්වෙමින්, එය මහජන සාමයට තර්ජනයක් බවට පත් වන්නේය. ස්වදේශය තුළ පිපිරීමක් වලක්වනු පිණිස, නිශ්චිත පංති මාර්ගයකින් පිටතට විදිනු ලබන ශක්තිය විදේශයෙහි යෙදවිය යුතුය''**

අප කථා කරමින් සිටින්නේ ධනපති අධිරාජ්‍යවාදී අවධියේ යටත් විජිත ප්‍රතිපත්තිය ගැන හෙයින්, මූල්‍ය ප්‍රාග්ධනයත්, එහි විදේශ ප්‍රතිපත්තිය වන, ආර්ථික හා දේශපාලන වශයෙන් ලෝකය බෙදා ගැනීම සඳහා මහ බලවතුන් ගෙන යන අරගලයත්, නිසා ගැති රාජ්‍යයන් බවට පත්වීමේ ආකෘති ගණනාවක්ම මතු වන බව මෙහිලා සඳහන් කළ යුතුය. යටත් විජිත හිමි රටවල් සහ යටත් විජිත යන ප්‍රධාන රාෂ්ට්‍ර කණ්ඩායම් දෙකට අමතරව, නොයෙක් ආකාරයේ ගැති රටවල් ඇත. ඒවාට දේශපාලන වශයෙන් නාමික නිදහසක් ඇතත්, ඒවා ඇත්ත වශයෙන් ම, මෙම යුගයට විශේෂ වූ මූල්‍ය හා රාජ්‍ය තන්ත්‍රීය ජාලයක පැටලී තිබේ. ගැති භාවයේ එක් ආකෘතියක් වන අර්ධ යටත් විජිතය ගැන අපි ඉහත සඳහන් කෙළෙමු. ආර්ජන්ටිනාව තවත් ආකෘතියක් පිළිබඳ නිදර්ශනයකි.

''දකුණු ඇමෙරිකාව, විශේෂයෙන් ම ආර්ජන්ටිනාව, බ්‍රිතාන්‍යයේ ආර්ථික යටත් විජිතයක් යයි කිව හැකි තරමට එය මූල්‍යමය වශයෙන් ලන්ඩනය කෙරෙන් යැපෙන්නේය'' යි ෂුල්ත්සෙ-ගෙවර්නිත්ස් ඔහු ලියූ

---

* මෙම පොතේ 110 පිටුව බලන්න.

** Wahl. "La France aux colonies" (වාල්. ''ප්‍රංශය සහ යටත් විජිත''. — සංස්තාරක), හෙන්රි රියූසියේ විසින් උපුටා දැක්වීම: Henri Russier. "Le Partage de l'Océanie". Paris, 1905, p. 165 (හෙන්රි රියූසියේ. ''පැසිපික් දූපත් බෙදගැනීම'', පැරිස්, 1905, පිටු 165. — සංස්කාරක).

බ්‍රිතාන්‍ය අධිරාජ්‍යවාදය ගැන වූ පොතෙහි සඳහන් කර ඇත*. බුවනෝස්-අයර්ස් හි ඕස්ත්‍රෝ-හංගේරියානු තානාපති වරයා 1909 අවුරුද්දට අදාළව සැපයූ වාර්තා අනුව ගිය ෂුල්දර් ආර්ජන්ටිනාවේ ආයෝජනය කර තිබෙන බ්‍රිතාන්‍ය ප්‍රාග්ධනය ප්‍රැන්ක් කෝටි 875 ක් බව ඇස්තමේන්තු කළේ ය. මේ මාර්ගයෙන්, බ්‍රිතාන්‍ය මූල්‍ය ප්‍රාග්ධනය (හා එහි සුවච ''මිත්‍ර'' රාජ්‍ය යන්ත්‍රය) ආර්ජන්ටීන ධනපති පංතියත්, මුළු රටෙහිම ආර්ථික හා දේශපාලන ජීවිතය පාලනය කරන පිරිසුත්, සම්බන්ධ කර ගන්නේ, මොනතරම් ශක්තිමත් බැමිවලින් ද යන්න සිතා ගැනීම අපහසු නැත.

දේශපාලන නිදහස සමග සමාගම්ව යන, එක්තරා දුරකට වෙනස් ආකෘතියක් ගන්නා මූල්‍ය සහ රාජ්‍ය තන්ත්‍රීය ගැති භාවය පිළිබඳ නිදර්ශනයක් පෘතුගාලයෙන් ඉදිරිපත් වේ. පෘතුගාලය ස්වාධීන ස්වෛරී රාජ්‍යයකි. එහෙත්, ඇත්ත වශයෙන් ම ස්පාඤ්ඤ රජකම් උරුමය සම්බන්ධයෙන් (1701—1714) පැවති යුද්ධයේ පටන් අවුරුදු දෙසීයකට අධික කාලයක් තිස්සේ එය බ්‍රිතාන්‍යය යටතේ ආරක්ෂිත තත්වයේ පවතින රටක් විය. මහා බ්‍රිතාන්‍යය විසින් පෘතුගාලයත්, ඇගේ යටත් විජිතත්, ආරක්ෂා කරන ලද්දේ, තමන්ගේ ප්‍රතිමල්ලයන් වූ ස්පාඤ්ඤයට හා ප්‍රංශයට විරුද්ධව සටනේදී ඇගේම තත්වය ශක්තිමත් කර ගැනීම සඳහාය. පෘතුගාලයට සලසන ලද ආරක්ෂාව වෙනුවට ඇගෙන් වාණිජ වරප්‍රසාද ද, පෘතුගාලයට හා ඇගේ යටත්විජිත වලට භාණ්ඩ සහ විශේෂයෙන් ම ප්‍රාග්ධන ආනයනයේ දී වරණීය කොන්දේසිද පෘතුගාලයේ වරායයන්, දූපත්ත් සහ විදුලි පණිවුඩ කේබල් යනාදිය ප්‍රයෝජනයට ගැනීමේ අයිතියද, මහා බ්‍රිතාන්‍යයට ලැබිණි.** මෙවැනි සම්බන්ධකම් කවදත් රාජ්‍යයන් අතර පැවතුනේ ය. නමුත්, ධනපති අධිරාජ්‍ය යුගයේ දී ඒවා සමස්තමය ක්‍රමවත් වෙමින් ''ලොකය බෙදා ගැනීමේ'' සම්බන්ධකම්වල සම්පූර්ණ සමස්තයෙහි එක් කොටසක් බවට පත්වේ; එමෙන්ම ඒවා ලෝක ප්‍රාග්ධන ක්‍රියාකාරීත්ව දම්වැලෙහි පුරුක් බවට පත්වේ.

---

* Schulze-Gaevernitz. "Britischer Imperialismus und englischer Freihandel zu Beginn des 20-ten Jahrhunderts". Leipzig, 1906, පිටු 318 (ෂුල්ත්සෙ-ගෙවර්නිත්ස්, ''බ්‍රිතාන්‍ය අධිරාජ්‍යවාදය සහ විසිවැනි ශතවර්ෂය ආරම්භයේ බ්‍රිතාන්‍ය නිදහස් වෙළඳාම''. ලයිප්සිග්,1906. — සංස්කාරක). Sartorius von Waltershausen.එසේම කියයි. "Das volkswirtschaftliche System der Kapitalanlage im Auslande". Berlin, 1907, S. 46 (සර්තෝරියුස් පොන් වල්තර්හවුසන් ''විදේශයන්හි ධන ආයෝජනය කිරීමේ ජාතික ආර්ථික ක්‍රමය, බර්ලින්, 1907, පිටු 46. — සංස්කාරක)

** ෂිල්දර්, කලින් සඳහන් කෘතිය, වෙළුම 1, පිටු 160—161.



ලෝකය බෙදා ගැනීමේ ප්‍රශ්නය ගැන ඉදිරිපත් කරන කරුණු හමාර කිරීම පිණිස, පහත සඳහන් අතිරේක නිරීක්ෂණය ද ඉදිරිපත් කරන්නෙමි. දහනවවැනි ශත වර්ෂයේ අවසාන අන්තයේ දී සහ විසිවැනි ශත වර්ෂයේ ආරම්භයේ දී, මෙම ප්‍රශ්නය විවෘත ලෙස සහ නිශ්චිත ලෙස මතු කරන ලද්දේ, ස්පාඤ්ඤ ඇමෙරිකන් යුද්ධයෙන් පසුව ඇමෙරිකන් සාහිත්‍යය විසින් සහ ඉංග්‍රිසි බුවර් යුද්ධයෙන් පසුව ඉංග්‍රිසි සාහිත්‍යය විසින් පමණක් නොවේ. මෙම කරුණ ගැන ක්‍රමානුකූල ලෙස අගය කිරීමක යෙදුනේ ''බ්‍රිතාන්‍ය අධිරාජ්‍යවාදය'' දෙස ''ඊර්ෂ්‍යා සහගත ලෙස බැලුම් හෙලාගෙන සිටි, ජර්මන් සාහිත්‍යය පමණක් ද නොවේ. ධනපති දෘෂ්ටි කෝණය අනුව කල්පනා කළ හැකි තාක් දුරට නිශ්චිත වශයෙන් සහ පුළුල් ලෙස, ප්‍රංශ ධනපති සාහිත්‍යය ද, මෙම ප්‍රශ්නය මතු කර තිබේ. ඉතිහාසඥ ද්‍රියෝ ලියූ ''දහනව වැනි ශතවර්ෂයාවසානයේ දේශපාලන සහ සමාජ ගැටළු'' යන පොතෙහි ''මහා බලවතුන් සහ ලෝකය බෙදා ගැනීම'' යන පරිච්ඡේදයෙහි, ඔහු මෙසේ සඳහන් කර තිබේ: ''පසු ගිය වසර කීපය තුළදී චීනය හැර පෘථිවියෙහි සියළුම නිදහස් ප්‍රදේශ, යුරෝපයේ බලවතුන් සහ උතුරු ඇමෙරිකාව විසින් අත්පත් කර ගෙන තිබේ. මෙහි ප්‍රතිඵලයක් වශයෙන්, දැනටමත් සට්ටන හා බල ප්‍රදේශ වෙනස් වීම් ගණනාවක් ඇති වී තිබේ. එමෙන් ම අනාගතයේ වඩාත් භයානක කැළඹිලි ඇති වන බවට පෙර නිමිති ද එයින් පළ වේ. ඉක්මන් කාරීව කටයුතු කිරීම අවශ්‍ය දෙයක් වී තිබීම එයට හේතුවකි. මීළඟ, (එනම්, විසිවැනි) ශත වර්ෂයේ ඉතාමත් වැදගත් අංග ලක්ෂණවලින් එකක් වනු ඇත්තේ, පෘථිවියෙහි සම්පත් දැවැන්ත පරිමාණයෙන් උදුරා ගැනීම ය, ඒ සඳහා, තවමත් තමන්ට ඉඩකඩ සලසා ගෙන නොමැති ජාතීන්, මෙම සම්පත් කොල්ලයෙන් තමන්ට ලැබිය යුතු කොටස සඳහටම අහිමි වීමේ හෝ එම කොල්ලයට සහභාගි වීමට නො ලැබීමේ හෝ අවදානමට මුහුණ පා ඇත. මුළු යුරෝපයම හා ඇමෙරිකාවත්, මෑතදී පටන්, යටත් විජිත ව්‍යාප්තියේ, නැතහොත්, දහනව වැනි ශතවර්ෂයාවසානයේ වැඩිම අවධානයකින් සටහන් කරගත යුතු අංග ලක්ෂණය වන, ''අධිරාජ්‍යවාදයේ'' උණෙන් පෙළෙන්නට පටන් ගෙන තිබෙන්නේ මේ නිසාය''. කර්තෘ වරයා තවදුරටත් මෙසේ සඳහන් කළේය: ''ලෝකය මෙසේ බෙදා ගැනීමේ දී, පෘථිවියේ වස්තුව සහ ලොකු වෙළඳ පොලවල් සොයාගෙන යන මෙම ලුහුබැඳීමේ දී, දහනව වැනි ශත වර්ෂයේ පිහිටුවන ලද අධිරාජ්‍යවල සාපේක්ෂ ශක්තිය, ඒවා පිහිට වූ ජාතීන් යුරෝපය තුළ දැරූ තත්වය හා සමග කිසිසේත් සමානුපාතික නො වීය. යුරෝපයේ අධිපති බලවතුන්, එනම්, ඇගේ ඉරණම තීරණය කරන බලවතුන්, සමස්ත ලෝකයම හා සම්බන්ධයෙන් එතරම්ම ප්‍රධාන තත්වයක් දරන්නේ නැත. එනිසා, යටත් විජිත බලයත්, මෙතෙක්

ගණන් බලා නොමැති වස්තුව පාලනය කිරීමේ අභිලාෂයත්, යුරෝපීය බලවතුන්ගේ සාපේක්ෂ ශක්තිය කෙරෙහි ප්‍රතිචාරී වන බව පෙනෙන හෙයින්, දැනටමත් යුරෝපයේ දේශපාලන කොන්දේසි වෙනස් කරන — ඔබ කැමති නම්, ''අධිරාජ්‍යවාදය'' යයි කිව හැකි — යටත් විජිත ප්‍රශ්නය විසින් එම කොන්දේසි තව තවත් වෙනස් කෙරෙනු ඇත.''*

## VII. අධිරාජ්‍යවාදය ධනපති ක්‍රමයේ විශේෂ අවධියක් ලෙස

අධිරාජ්‍යවාදය යන විෂය සම්බන්ධයෙන් අප ඉහත දැක්වූ කරුණු වලින් කියවෙන අදහස් මාලාවන් එක් තැන් කිරීමට දැන් අපි උත්සාහ ගත යුත්තෙමු. සමස්ත ධනපති ක්‍රමයේ මූලික අංග ලක්ෂණයන් පොදුවේ සංවර්ධනය වීම සහ එක එල්ලේ ඉදිරියට යාමත් සමග අධිරාජ්‍යවාදය පැන නැංගේ ය. එහෙත්, ධනපති ක්‍රමය, ධනපති අධිරාජ්‍යය බවට පත් වූයේ එහි නිශ්චිත හා ඉතා උසස් අවධියක දී පමණකි; එසේ වූයේ, ධනපති ක්‍රමයේ මූලික ස්වභාව ලක්ෂණ සමහරක් ඒවායේ ප්‍රතිවිරුද්ධ තත්වයන්ට පත්වීමට ආරම්භ වීමෙන්, ධනපති ක්‍රමය වඩාත් උසස් සමාජ හා ආර්ථික ක්‍රමයකට පරිවර්තනය වීමේ අවධියෙහි අංගලක්ෂණ හැඩ ගැසී, ඒවා සෑම ක්ෂේත්‍රයකම ප්‍රකට වීමෙන් පසුව පමණකි. ආර්ථික වශයෙන් මෙම ක්‍රියාදාමයෙහි ප්‍රධාන කරුණ වූයේ ධනපති නිදහස් තරඟය වෙනුවට, ධනපති ඒකාධිකාරය ආදේශ වීමයි. පොදු වශයෙන් ගත් කල, නිදහස් තරඟය ධනපති ක්‍රමයේ සහ වෙළඳ භාණ්ඩ නිෂ්පාදනයේ මූලික අංග ලක්ෂණය යි. ඒකාධිකාරය යනු නිදහස් තරඟයට එක එල්ලේම ප්‍රතිවිරුද්ධ තත්වය ය. එහෙත් මහා කර්මාන්ත ඇති කරමින් කුඩා කර්මාන්ත නෙරපා දමමින් ද, මහා පරිමාණ කර්මාන්ත ආදේශ කරමින් ද, ඒකාධිකාරයන් වර්ධනය වූ හා වර්ධනය වන තත්වය දක්වා නිෂ්පාදනය සහ ප්‍රාග්ධන සංකේන්ද්‍රණය ඉදිරියට ගෙන යාමෙන් ද, නිදහස් තරඟය අපගේ ඇස් ඉදිරියේම ඒකාධිකාර තත්වයට පරිවර්තනය වනු අපි දුටුවෙමු. ඒ අනුව කාටල්, සම්මේල සහ සංගත ව්‍යාපාර ඇති වීමත්, සිය කෝටි ගණන් මුදල් මෙහෙයන බැංකු දුසිම් ගණන් ඒවා සමග සංයෝගී වීමත් දුටුවෙමු. ඒ අතරම, නිදහස් තරඟයෙන් පැන නැඟුණු ඒකාධිකාරයන්, නිදහස් තරඟය අහෝසි කර නොදමා, එයත් සමග එක්ව, එයට ඉහළින් සිටිමින්, එමගින්

* J.-E. Driault. “Problèmes politiques et sociaux”. Paris, 1900, පිටු 299 (ජේ. ඊ. ද්‍රියෝ, ''දේශපාලන සහ සමාජ ගැටළු''. පැරිස්, 1900, පිටු 299. — සංස්කාරක).



ඉතා තියුණු, උත්සන්න ප්‍රතිවිරෝධතාවයන්, ගර්ෂණ හා සට්ටන ගණනාවන් ඇති කරයි. ඒකාධිකාරය යනු ධනපති ක්‍රමයේ සිට වඩාත් ඉහළ ක්‍රමයකට පරිවර්තනය වීමයි.

අධිරාජ්‍යවාදය ගැන ලුහුඬුතම නිර්වචනය දීම අවශ්‍ය වී නම්, එය ධනපති ක්‍රමයේ ඒකාධිකාරී අවධිය යයි කීමට අපට සිදුවේ. එවැනි නිර්වචනයකට ඉතාමත් ම වැදගත් දේ ඇතුළත් ය. එක් අතකින් මූල්‍ය ප්‍රාග්ධනය යනු, ඒකාධිකාරී කර්මන්ත හවුල් සමාගම්වල ප්‍රාග්ධනය සමග එකට සංයෝග වූ, ඉතා ස්වල්ප සංඛ්‍යාවක් වූ, ඒකාධිකාරී බැංකුවල බැංකු ප්‍රාග් ධනය ය. අනිත් අතට ලෝකය බෙදා ගැනීම යනු, කිසිම ධනවාදී බලවතෙකු විසින් ග්‍රහණය කර නො ගන්නා ලද ප්‍රදේශ කරා, අවහිරයකින් තොරව ව්‍යාප්ත කෙරුණු, යටත් විජිතවාදී ප්‍රතිපත්තියක් වෙනුවට, සම්පූර්ණයෙන් ම බෙදා වෙන් කර තිබෙන ලෝකයේ ප්‍රදේශ ඒකාධිකාරී ලෙස අයත් කර ගැනීමේ යටත් විජිතවාදී ප්‍රතිපත්තියක් දක්වා පරිවර්තනය වීම ය.

නමුත්, ඉතා කෙටි නිර්වචනයක් මගින් ප්‍රධාන කරුණු පිඩුකොට දැක්වෙන නිසා, ඒවා යොදා ගැනීම පහසුවට හේතුවක් වුවත්, නිර්වචනය කිරීමට තිබෙන ප්‍රපංචයේ විශේෂයෙන් ම වැදගත් අංග ලක්ෂණ ඒවායින් තේරුම් ගැනීමට අපට සිදුවන නිසා, ඒවා ප්‍රමාණවත් වන්නේ නැත. එබැවින් යම් තත්වයන් යටතේ සහ සාපේක්ෂ වශයෙන්, සියළුම නිර්වචනවල ඇති පොදු වැදගත් කම අමතක නොකරම, ප්‍රපංචයක සියළුම අනුගත කොටස් එහි ඇතුළත් කළ නොහැකි බව පිළිගත යුතුය. එනිසා, අප අධිරාජ්‍යවාදය යන්නට දිය යුත්තේ පහත සඳහන් මූලික අංග ලක්ෂණ පහ ඇතුළත් නිර්වචනයකි. (1) ආර්ථික ජීවිතයේ තීරණාත්මක කාර්ය කොටසක් ඉටු කරන ඒකාධිකාරයන් ඇති වන තරම් ඉහළ අවධියක් දක්වා නිෂ්පාදනය සහ ප්‍රාග්ධන සංකේන්ද්‍රණය සංවර්ධනය වී තිබේ. (2) කාර්මික ප්‍රාග්ධනය හා සමග බැංකු ප්‍රාග්ධනය සංයෝග වීම සහ මෙම ''මූල්‍ය ප්‍රාග්ධනය'' පදනම් කර ගෙන මූල්‍ය කතිපයාධිපතිත්වයක් ඇති වීම, වෙළඳ භාණ්ඩ අපනයනයට වෙනස් වූ ප්‍රාග්ධන අපනයනය අති විශේෂ වැදගත් තත්වයකට පත් වීම, (4) ලෝකය තම තමන් අතර බෙදාගන්නා ජාත්‍යන්තර ඒකාධිකාරී ධනපති හවුල් සමාගම් පිහිටුවීම සහ (5) ලොකුම ධනපති බලවතුන් අතර ලෝකය ප්‍රදේශ වශයෙන් බෙදා ගැනීම සම්පූර්ණ වී තිබීම. අධිරාජ්‍යවාදය යනු, ඒකාධිකාරයන්ගේ සහ මූල්‍ය ප්‍රාග්ධනයේ අධිපතිත්වය ස්ථාපිත කෙරෙන සංවර්ධන අවධියට පත්වී තිබෙන ධනපති ක්‍රමය ය. එය ජාත්‍යන්තර සංගත ව්‍යාපාර අතර ලෝකය බෙදා ගැනීම ආරම්භ වී ඇති අවධියකි. එය ලොකුම ධනපති බලවතුන් අතර පෘථිවියේ ප්‍රදේශ බෙදා ගැනීම සම්පූර්ණ වී තිබෙන අවධියකි.

අධිරාජ්‍යවාදය ගැන ඉහත සඳහන් නිර්වචනය දී තිබෙන්නේ, මූලික ආර්ථික සංකල්පයන් පමණක් සැලකිල්ලට ගනිමිනි. එහෙත් හුදෙක් මූලික ආර්ථික සංකල්පයන්ට පමණක් සීමා නොවී, පොදුවේ ධනපති ක්‍රමය හා එහි මෙම අවධිය අතර ඇති සම්බන්ධය අනුව මෙම අවධියට හිමිවන ඓතිහාසික ස්ථානයද, එසේ නැතහොත්, අධිරාජ්‍යවාදය හා කම්කරු පංති ව්‍යාපාරයේ ප්‍රධාන ප්‍රවණතාවයන් දෙක අතර සම්බන්ධයද, සැලකිල්ලට ගන්නෙමු නම්, අධිරාජ්‍යවාදයට වෙනත් ආකාරයකින් නිර්වචනයක් දිය හැකි හා දිය යුතු බව අපට පෙනෙනු ඇත. මෙහි දී සටහන් කරගත යුතු වැදගත් කරුණ වන්නේ, ඉහත අර්ථ නිරූපනය කරන ලද පරිදි, අධිරාජ්‍යවාදය ධනපති ක්‍රමයේ සංවර්ධනයේ විශේෂ අවධියක් නියෝජනය කරන බවයි. පාඨකයාට අධිරාජ්‍යවාදය ගැන ඉතාමත් ශක්තිමත් පදනමකින් යුත් අවබෝධයක් ලබා ගත හැකි වනු පිණිස, ධනපති ආර්ථිකයේ නවතම අවධිය සම්බන්ධයෙන් වූ, කිසිසේත් ප්‍රතික්ෂේප කළ නො හැකි කරුණු පිළිගන්නා තත්වයට වැටුනු ධනපති ආර්ථික විද්‍යාඥයන්ගේ ලියවිලිවලින් කොටස් දීර්ඝ ලෙස උපුටා දැක්වීමට මම උත්සාහ දැරුවෙමි. එම අරමුණ ඇතිව මම විස්තර සහිත සංඛ්‍යා ලේඛණ උපුටා දැක්වූයෙමි. බැංකු ප්‍රාග්ධනය ආදිය කුමන මට්ටමකට වර්ධනය වී තිබේද යන්නත්, සංඛ්‍යාව ගුණය බවටත්, දියුණු ධනපති ක්‍රමය අධිරාජ්‍යවාදය බවටත්, පරිවර්තනය වීම ප්‍රකාශිත වූයේ කුමක් මගින් ද යන්නත්, අයෙකුට එයින් වටහා ගත හැකි වේ. ස්වභාව ධර්මයේ හා සමාජයේ දක්නට ලැබෙන සියළුම සීමා රේඛාවන් සම්ප්‍රදායනුකූල හා වෙනස් වන සුලු බවත්, එනිසා නිදර්ශනයක් වශයෙන්, අධිරාජ්‍යවාදය ''නිශ්චිත ලෙස'' ස්ථාපිත වූයේ කුමන වර්ෂයේද, නැතහොත් කුමන දශකයේද යන්න ගැන තර්ක කිරීම විකාරයක් වන බවත් කිව මනා නොවේ.

එසේ වුවද, අධිරාජ්‍යවාදය යන්නට නිර්වචනයක් දීම පිළිබඳ ප්‍රශ්නයේදී, මූලික වශයෙන් කාල් කෞට්ස්කි සමග විවාදයට එළඹීමට අපට සිදු වේ. ඊනියා දෙවැනි ජාත්‍යන්තරය අවධියේ, එනම් 1889 හා 1914 අතර අවුරුදු 25 කාලයේ ප්‍රධාන මාක්ස්වාදී න්‍යායවාදියා වූයේ ඔහුය. අධිරාජ්‍යවාදය පිළිබඳව අප ඉදිරිපත් කළ නිර්වචනයේ මූලික අදහස් වලට, 1915 දී, එමෙන්ම 1914 නොවැම්බරයේ දී පවා කෞට්ස්කි තදබල ලෙස පහර දුන්නේ ය. එවිට ඔහු කීවේ, අධිරාජ්‍යවාදය ආර්ථිකයේ එක් ''අවස්ථාවක්'', නැතහොත්, අවධියක් ලෙස නොගිණිය යුතු බවත්, එය මූල්‍ය ප්‍රාග්ධනය ''වැඩි රුචියක් දක්වන'' ප්‍රතිපත්තියක් වශයෙන්, නිශ්චිත ප්‍රතිපත්තියක් වශයෙන් සැලකිය යුතු බවත් ය; අධිරාජ්‍යවාදය ''වර්තමාන ධනපති ක්‍රමය'' සමග ''සම්බන්ධ කොට හැඳින්වීම'' නො කළ යුතු බවය; අධිරාජ්‍යවාදය යන්නෙන් ''වර්තමාන ධනපති ක්‍රමයේ සියළුම



ප්‍රපංචයන්'' එනම් කාටල, ආරක්ෂණය, මූල්‍ය සම්පාදකයන්ගේ ආධිපත්‍යය හා යටත් විජිත වාදී ප්‍රතිපත්තිය අදහස් කෙරේ නම්, එවිට ''අධිරාජ්‍යවාදය ධනපති ක්‍රමයේ බලවත් අවශ්‍යතාවයක්'' වන බැවින් ධනපති ක්‍රමයට අධිරාජ්‍යවාදය අවශ්‍ය වන්නේද යන ප්‍රශ්නය ''අඥානතම පුනරුක්තියක'' තත්වයට පත් වන බවය. කෞට්ස්කිගේ අදහස ගෙන හැර දැක්වීමේ උචිතම ක්‍රමය අධිරාජ්‍යවාදය පිළිබඳ ඔහුගේ නිර්වචනය උපුටා දැක්වීම ය. එය මා ඉදිරිපත් කළ අදහස්වලට ඉඳුරාම ප්‍රතිවිරුද්ධය. (දැනට අවුරුදු බොහෝ ගණනකට පෙර පටන් එවැනි අදහස් ඉදිරිපත් කරමින් සිටි ජර්මන් මාක්ස්වාදීන්ගේ කඳවුරෙන් මතුකෙරෙන විරෝධතාවයන් මාක්ස්වාදයේ නිශ්චිත උපනතියක විරෝධතාවයන් වන බව කෞට්ස්කි දීර්ඝ කාලයක සිට දැන සිටියේ ය).

කෞට්ස්කිගේ නිර්වචනය මෙසේය:

''අධිරාජ්‍යවාදය යනු ඉතාමත් සංවර්ධිත කාර්මික ධනපති ක්‍රමයේ ප්‍රතිඵලයකි. කෘෂිකාර්මික (කෞට්ස්කිගේ අවධාරණය) ප්‍රදේශවල වෙසෙන ජාතීන් ගැන නොතකා, එම ප්‍රදේශ ඇතුලත් භූමි භාග සියල්ලම තම පාලනයට හෝ යටතට ගැනීම සඳහා සෑම කාර්මික ධනපති රජයක්ම කරන අරගලයෙන් එය සමන්විත වන්නේ ය''.*

මෙම නිර්වචනයෙන් කිසිම වැඩක් සිදු නොවේ. එය අත්තනෝමතික ලෙස ජාතික ප්‍රශ්නය පමණක් තනි කොට ගැනීමකි. (ජාතික ප්‍රශ්නය තනි කොට ගත් කල මෙන්ම අධිරාජ්‍යවාදය හා සමග සම්බන්ධ කොට ගත් කලද, ඉතාම වැදගත් වන බව සැබවි). එයින් සිදු වන්නේ, අත්තනෝමතික ලෙස සහ සාවද්‍ය ලෙස මෙම ප්‍රශ්නය රටවල් යටත් කරගන්නා අධිපති රටවල ප්‍රාග්ධනය සමග පමණක් සම්බන්ධ කිරීමකි. එසේම අත්තනෝමතික සහ සාවද්‍ය ලෙසට එය කෘෂිකාර්මික භූමි භාග යටත් කර ගැනීම ඉදිරියට දමන්නේය.

කෞට්ස්කිගේ නිර්වචනයෙහි දේශපාලන කොටසෙහි අර්ථය වී තිබෙන්නේ, අධිරාජ්‍යවාදය නම් රටවල් යටත් කර ගැනීමේ අරගලයකියි යන්නය. එය නිවැරදිය. එහෙත් ඉතාමත් අසම්පූර්ණය. මක්නිසාදයත්, අධිරාජ්‍යවාදය පොදු වශයෙන් හිංසනය සහ ප්‍රතිගාමිත්වය දෙසට නැඹුරු වීමක්ද වන හෙයිනි. එසේ වුවද, දැනට අප සැලකිල්ලට ගන්නේ කෞට්ස්කි විසින්ම, ඔහුගේ නිර්වචනයට ඇතුලත් කර තිබෙන ප්‍රශ්නයේ ආර්ථික අංශයයි. කෞට්ස්කිගේ නිර්වචනයේ බරපතල වැරදි දක්නට ලැබේ. අධිරාජ්‍යවාදයේ ස්වභාව නිරූපී අංග ලක්ෂණය වනුයේ කාර්මික

* "Die Neue Zeit," 1914, 2, (H. 32), S. 909, සැප් . 11, 1914; 1915, 2, S. 107 පටන් ඉදිරියට.

ප්‍රාග්ධනය නොව මූල්‍ය ප්‍රාග්ධනය ය. ප්‍රංශයේ මූල්‍ය ප්‍රාග්ධනය අසමාන සීඝ්‍රතාවයකින් සංවර්ධනය වීම සහ කාර්මික ප්‍රාග්ධනය දුර්වල් වීම නිසාම, අසූගණන්වල පටන් ඉදිරියට එහි රටවල් අල්ලා ගැනීමෙ (යටත් විජිත-වාදී) ප්‍රතිපත්තිය ඉදිරියට ගෙන ඒම අහම්බෙන් සිදුවූවක් නොවේ. නිශ්චිත වශයෙන්ම අධිරාජ්‍යවාදයෙ ස්වභාව නිරූපී අංග ලක්ෂණය වන්නේ, එය කෘෂිකාර්මික ප්‍රදේශ පමණක් නොව, ඉතාමත් උසස් දියුණුවක් ඇති ප්‍රදේශ පවා (බෙල්ජියම ගැනීමට ජර්මනියේ ගිජුකම; ලොතෙර්න් ප්‍රදේශය සඳහා ප්‍රංශයේ ගිජුකම) අල්ලා ගැනීමට ප්‍රයත්න දැරීම ය. එයට හේතුව මෙසේ ය. (1) ලෝකය දැනටම බෙදා වෙන්කර ගෙන තිබෙන නිසා නැවත බෙදීමක් ගැන කල්පනා කරන අයට, ඔවුන්ගේ හස්තය සෑම වර්ගයකම ප්‍රදේශ කරා දිගු කිරීමට සිදුවේ. (2) මූලිකත්වය සඳහා මහ බලවත් රාජ්‍යයන් කීපයක් අතර ප්‍රතිපාක්ෂික භාවය අධිරාජ්‍යවාදයේ ප්‍රධාන අංග ලක්ෂණයකි. එම ප්‍රතිපාක්ෂිකභාවය, එක එල්ලේම තවත්-ගේම අවශ්‍යතාවය සඳහා නොවූවත්, ප්‍රතිමල්ලයා දුර්වල කිරීම හා ඔහුගේ මූලිකත්වය බිඳ දැමීමට ප්‍රදේශ අල්ලා ගැනීම සඳහා වූවකි. (බ්‍රිතාන්‍යයට විරුද්ධව කටයුතු කිරීමේ මූලස්ථානයක් වශයෙන්, ජර්මනියට බෙල්-ජියම වැදගත් වේ. ජර්මනියට විරුද්ධව කටයුතු කිරීමේ මූලස්ථානයක් වශයෙන් බැග්ඩෑඩ් බ්‍රිතාන්‍යයට අවශ්‍යය. මේ ආදී වශයෙනි).



කෞට්ස්කිට වැටහෙන අර්ථයෙන් ''අධිරාජ්‍යවාදය'' යන වචනයට පිරිසිදු දේශපාලන අර්ථයක් දුන්නේ යයි ඔහු කියන ඉංග්‍රීසි ලේඛකයන් ගැන, හේ විශේෂයෙන් හා නිතර නිතර සඳහන් කරයි. ඉංග්‍රීසි ගත් කතුවර හොබ්සන්ගේ ''අධිරාජ්‍යවාදය'' යන පොත ගෙන බලමු. 1902 වර්ෂයේ නිකුත් වූ එහි මෙසේ සඳහන්ව ඇත.

''නව අධිරාජ්‍යවාදය පැරණි අධිරාජ්‍යවාදයට වඩා වෙනස් ය. එම වෙනස පෙනෙනුයේ, ප්‍රථමයෙන්ම, වර්ධනය වන එක අධිරාජ්‍යයක් පිළිබඳ මහේච්ඡාව වෙනුවට, හැම අධිරාජ්‍යයක්ම දේශපාලන අති උදරම්-කම සහ වාණිජ ලාභය සඳහා වූ තන්හා බර චේතනාවලියකින් මෙහෙය-වෙමින් තරඟයෙහි යෙදෙන අධිරාජ්‍යයන් පිළිබඳ න්‍යායක් හා ව්‍යවහාරයක් ආදේශ කිරීමෙන් සහ දෙවැනිව, වෙළඳම කෙරෙහි මූල්‍ය සහ ආයෝජන ආධිපත්‍යය පැතිරවීමෙනි''.*

පොදු වශයෙන් ඉංග්‍රීසි ලේඛකයින් ගැන සඳහන් කිරීමෙන් කෞට්-ස්කි (අදහස් කළේ පහත් ඉංග්‍රීසි අධිරාජ්‍යවාදයේ සුප්‍රසිද්ධ ගුණගායකයන් ගැන නොවේ නම්) කර තිබෙන්නේ ඒකාන්ත වරදකි. කෞට්ස්කි තමන්

* Hobson, "Imperialism". London, 1902, p. 324 (හොබ්සන්, ''අධිරාජ්‍යවාදය'', ලන්ඩන්, 1902, පිටු 324. — සංස්කාරක).



තවදුරටත් මාක්ස්වාදයට පක්ෂවාදී බව කියන අතරම, ඔහු කරන දෙය සමාජ-ලිබරල් හොබ්සන් හා සමග සසඳන විට, අඩියක් පස්සට තැබීමකි. හොබ්සන් වඩාත් නිවැරදි ලෙස නවීන අධිරාජ්‍යවාදයේ ''ඓතිහාසික වශයෙන් යථාභූත'' අංග ලක්ෂණ දෙක (කෞට්ස්කිගේ නිර්වචනය, ඓතිහාසික යථාභූතභාවයේ විකෘෂියකි!) සැලකිල්ලට ගනී. 1) අධිරාජ්‍ය කීපයක් අතර තරඟය සහ 2) වෙළෙන්ද මූල්‍ය සම්පාද-කයාගේ ආධිපත්‍යයට යට වීම, ඒ අංග ලක්ෂණ දෙක ය. ප්‍රධාන වශයෙන් කාර්මික රටවල් විසින් කෘෂිකාර්මික රටවල් අල්ලා ගැනීම පිළිබඳ ප්‍රශ්නයක් නම් එවිට වෙළෙන්දගේ කාර්ය කොටස ඉදිරි පෙළෙහි තබනු ලැබේ.

කෞට්ස්කිගේ නිර්වචනය වැරදි සහ මාක්ස්වාදී නොවන එකක් පමණක් නොවේ. එය මුල පටන් අග දක්වාම, මාක්ස්වාදී න්‍යායෙන් හා මාක්ස්වාදී ව්‍යවහාරයෙන් සම්පූර්ණයෙන්ම බැහැර වූ සමස්ත අදහස් පද්ධතියකම පදනම බවට පත්වී තිබේ. මේ ගැන පසුව සඳහන් කරන්නෙමි. ධනපති ක්‍රමයේ නවතම අවධියට අධිරාජ්‍යවාදය කිව යුතුද, නැත හොත්, මූල්‍ය ධනපති ක්‍රමයේ අවධිය කිව යුතුද, යනුවෙන් වචන ගැන කෞට්ස්කි මතු කරන තර්කය බරපතල අවධානයක් යොමු කිරීමට තරම් වන දෙයක් නොවේ. එයට ඔබ කැමති නමක් තැබිය හැක. එයින් වෙනසක් සිදු නොවේ. එහෙත්, කෞට්ස්කි අධිරාජ්‍යවාදයේ ආර්ථිකයෙන් එහි දේශපාලනය වෙන් කරයි. රටවල් අල්ලා ගැනීම යනු මූල්‍ය ප්‍රාග්ධනය ''වැඩි රුචියක් දක්වන'' ප්‍රතිපත්තියක් යයි හේ කියයි. ඔහු, එම ප්‍රතිපත්තිය තවත් ධනපති ප්‍රතිපත්තියකට, නැතහොත්, මූල්‍ය ප්‍රාග්ධනයේ එම පදනම මතම ඇතිවිය හැකි යයි ඔහු කියන ධනපති ප්‍රතිපත්තියකට, විරුද්ධ තත්වයේ ලා දක්වයි. ඒ අනුව අදහස් කෙරෙන්නේ, ආර්ථිකයෙහි පවතින ඒකාධිකාර-යන් දේශපාලනයෙහි ඒ කාධිකාරී නොවන, අවිහිංසාවාදී, රටවල් අල්ලා නොගැනීමේ ක්‍රම හා සමග ගැලපෙන බවයි. එයින් තවදුරටත් අදහස් වන්නේ, වර්තමානයේ ලොකුම ධනපති රාජ්‍යයන් අතර පවතින විශේෂ ආකාරයේ ප්‍රතිපාක්ෂික භාවයට පදනම වන හා මෙම මූල්‍ය ප්‍රාග්ධන අවධියේදීම පරිපූර්ණත්වයට පත් වූ ලෝකය, ප්‍රදේශ වශයෙන් බෙදා වෙන් කර ගැනීම අධිරාජ්‍යවාදී නොවන ප්‍රතිපත්තියක් හා සමග ගැලපෙන බවයි. එහි ප්‍රතිඵලය වන්නේ, ධනපති ක්‍රමයේ නවතම අවධියේ ඉතාමත් ගැඹුරු ප්‍රතිවිරෝධතාවයන්ගේ බරපතලකම හෙළිදරව් කරනවා වෙනුවට, ඒවා සුළු කොට තැකීමකි. එය නම් මාක්ස්වාදය නොව ප්‍රතිසංස්කරණවාදය ය.

අධිරාජ්‍යවාදය සහ රටවල් අල්ලා ගැනීම හොඳ දෙයක් ලෙසට පෙන්වීමට තැත් කරන ජර්මානු කුනෝ සමග විවාදයට කෞට්ස්කි ඉදිරිපත්

වෙයි. දුරුක්ත හා දෝෂාරෝපක ලෙස තර්ක කරමින් කුනෝ මෙසේ කියයි: අධිරාජ්‍යවාදය යනු වර්තමාන ධනපති ක්‍රමයයි; ධනපති ක්‍රමයේ සංවර්ධනය අනිවාර්ය හා ප්‍රගතිශීලී වේ; එනිසා, අධිරාජ්‍යවාදය ප්‍රගතිශීලීය. එබැවින්, අපි එය ඉදිරියේ මුනින් වැටී එය විභූතිමත් කළ යුත්තෙමු! මෙයනම් 1894—1895 කාලයේ නරෝද්නිත් වරුන් වෙතින් ඉදිරිපත් වූ රුසියන් මාක්ස්වාදීන් පිළිබිඹු කළ විකට චිත්‍රය වැන්නක් ම ය. ඔවුහු මෙසේ තර්ක කළහ: මාක්ස්වාදීහු, රුසියාවේ ධනපති ක්‍රමය අනිවාරණීය බවත්, එය ප්‍රගතිශීලී බවත් විශ්වාස කරති නම්, එවිට ඔවුන් කළ යුත්තේ තැබෑරුමක් විවෘත කර ධනපති ක්‍රමය රෝපණය කිරීමට පටන් ගැනීම ය! කෞට්ස්කි කුනෝට පිළිතුරු දුන්නේ මෙසේ ය: අධිරාජ්‍යවාදය යනු වර්තමාන ධනපති ක්‍රමය නොවේ. එය වර්තමාන ධනපති ක්‍රමයේ ආකෘති අතුරෙන් එකක් පමණකි. මෙම ප්‍රතිපත්තියට විරුද්ධව අපට සටන් කළ හැකිය. අපි එයට විරුද්ධව, අධිරාජ්‍යවාදයට, රටවල් අල්ලා ගැනීමට යනාදියට විරුද්ධව සටන් කළ යුත්තෙමු.

මෙම පිළිතුර ඉතා නිවැරදි සේ පෙනෙතත්, එය වඩාත් සූක්ෂම හා වෙස් වලාගත් ලෙසින් (එනිසාම වඩාත් භයානක ලෙස) අධිරාජ්‍යවාදය සමග සමගියට පක්ෂවාදී වීමකි. සංගත ව්‍යාපාරවල සහ බැංකුවල ආර්ථික පදනමට හානි ගෙන නොදී, එම සංගත ව්‍යාපාරවල හා බැංකුවල ප්‍රතිපත්තියට විරුද්ධව සටන් කිරීම ධනපති ප්‍රතිසංස්කරණවාදය සමග සමාදනයක් ඇති කර ගැනීමකි; එය ධාර්මිෂ්ඨ අපේක්ෂාවන් පිළිබඳ අහිංසක ප්‍රකාශනයකි. කෞට්ස්කිගේ න්‍යාය වී තිබෙන්නේ පවත්නා ප්‍රතිවිරෝධතාවයන්ගේ පූර්ණ ගැඹුර හෙළිදරව් කිරීම වෙනුවට, ඒවා මග හැරීම සහ එයින් වැදගත්ම ප්‍රතිවිරෝධතාවය අමතක කර දැමීමය. ඔහුගේ මෙම න්‍යාය මාක්ස්වාදයෙන් සම්පූර්ණයෙන්ම බාහිර ය. ස්වභාවික වශයෙන්ම එවැනි න්‍යායක් ප්‍රයෝජනවත් වන්නේ කුනොව්ලා සමග එක්සත් වීමට කථා කිරීම සඳහා පමණකි!

කෞට්ස්කි මෙසේ ලියයි: ''පිරිසිදු ආර්ථික දෘෂ්ටි කෝණයෙන් බලන කල, ධනපති ක්‍රමය නව අවස්ථාවක් පසුකර යාම සිදුවිය නොහැක්කක් නොවේ. එය, කාටල්වල ප්‍රතිපත්තිය විදේශ ප්‍රතිපත්තිය දක්වා ව්‍යාප්ත කෙරෙන සීමාන්තික-අධිරාජ්‍යවාදයේ අවස්ථාව'',* එනම්, මුළු ලෝකයේ ම අධිරාජ්‍යයන් අතර අරගල නොව, එක්සත් කමක් ඇති කරන උත්තර-අධිරාජ්‍යවාදයේ අවස්ථාව, ධනපති ක්‍රමය යටතේ යුද්ධ ඇති නොවන හා ''ජාත්‍යන්තර වශයෙන් එක්සත් වූ මූල්‍ය ප්‍රාග්ධනය විසින් ලෝකය

* "Die Neue Zeit", 1914, 2 (H. 32), S. 921, සැප්. 11. 1914; 1915, 2 , පිටු 107 පටන් බලන්න.



ඒකාබද්ධ ලෙස උපයෝජනය කර ගනු ලබන අවස්ථාව''*පසු කරනු ඇත.

''සීමාන්තික අධිරාජ්‍යවාදය පිළිබඳ න්‍යාය'' කොතරම් තීරණාත්මක ලෙස මාක්ස්වාදයෙන් බැහැර වන්නේ ද යන්න සවිස්තර ලෙස පෙන්වීම සඳහා මේ ගැන පසුව කරුණු දක්වන්නෙමු. දැනට, මෙම කෘතියේ පොදු සැලැස්සමට අනුකූලවන සේ මෙම ප්‍රශ්නය පිළිබඳ ආර්ථික දත්තයන් පරීක්ෂා කළ යත්තෙමු. ''පිරිසිදු ආර්ථික දෘෂ්ටි කෝණයෙන් බලන කල'' ''සීමාන්තික-අධිරාජ්‍යවාදය'' විය හැකි දෙයක්ද, නැතහොත් සීමන්තික-විකාරයක් වන්නේ ද?

පිරිසිදු ආර්ථික දෘෂ්ටි කෝණය යනුවෙන් අදහස් කෙරෙන්නේ ''පිරිසිදු'' කල්පනා මාත්‍රයක් නම්, කිවහැකි දේ සියල්ල සම්පිණ්ඩනය කොට ගත් කල, එයින් ඉදිරිපත් වන ප්‍රස්තුතය මෙයයි: සංවර්ධනය සිදුවේගෙන යන්නේ ඒකාධිකාර දිශාවටය; එනිසා, එය එක ලෝක ඒකාධිකාරයක්, එක ලෝක සංගත ව්‍යාපාරයක් ඇතිවීමට තුඩු දෙන්නේ ය. මේ ගැන විතර්කයට ඉඩ නැත. එහෙත්, එය, රසායනාගාරවල ආහාර නිෂ්පාදනය කිරීම දිශාවට ''සංවර්ධනය සිදුවේගෙන යන්නෙය'' යන ප්‍රකාශය තරම්ම සම්පූර්ණයෙන්ම අර්ථ විරහිත වන්නේ ය. මේ අර්ථයෙන්ගත් කල සීමාන්තික-අධිරාජ්‍යවාදය යන්න විකාර ස්වභාවය අතින් ''සීමාන්තික කෘෂිකාර්මික න්‍යායක්'' යන්නට නො දෙවැනි ය.

එසේ නමුත්, මූල්‍ය ප්‍රාග්ධනයේ අවධිය, විසි වැනි ශතවර්ෂය ආරම්භයේ පටන්ගත් ඓතිහාසික වශයෙන් යථා භූත අවධියක් ලෙස ගෙන, අපි එහි පවත්නා ''පිරිසිදු ආර්ථික'' කොන්දේසි ගැන සාකච්ඡා කරන්නෙමු නම්, සීමාන්තික-අධිරාජ්‍යවාදය ගැන ඉදිරිපත් කරන ජීවයක් නැති කල්පනා මාත්‍රයන්ට (ඒවායින් සේවයක් වන්නේ ඉතාමත් ප්‍රතිගාමී අරමුණට පමණකි; එනම්, පවතින ප්‍රතිවිරෝධතාවයන්ගේ ගැඹුරු ස්වභාවය කෙරෙන් අවධානය බැහැර කිරීම පමණකි) දිය හැකි හොඳම පිළිතුර, වර්තමාන ලෝක ආර්ථිකයේ ප්‍රත්‍යක්ෂ ආර්ථික යථාර්ථයන් සමග ඒවායේ ඇති වෙනස පෙන්නුම් කිරීම ය. කෞට්ස්කිගේ කිසිම අර්ථයක් නැති, සීමාන්තික-අධිරාජ්‍යවාදය පිළිබඳ කථාවල ප්‍රතිඵල අතුරෙන් එකක් නම්, මූල්‍ය ප්‍රාග්ධනයේ පාලනය නිසා ලෝක ආර්ථිකයේ අසමානතාවය සහ ප්‍රතිවිරෝධතාවයන් ඇත්ත වශයෙන් වැඩිවන නමුත්, ඒවා අඩු වන්නේය යන ඉතාමත් වැරදි සහගත හා අධිරාජ්‍යවාදයේ ගුණ ගායකයන්ට ආධාරකාරීවන අදහසට ධෛර්ය දීමය.

විසි වැනි ශත වර්ෂයේ මූලාරම්භයේ දී ලෝක ආර්ථිකයේ පැවති අභ්‍යන්තරික සම්බන්ධකම් ගැන යථාභූත පින්තූරයක් ගැනීමට කෙනෙකුට

* "Die Neue Zeit", 1915, 1, පිටු 144, 1915 අප්‍රියෙල් 30.

ආධාරකාරීවන, ප්‍රධාන පිරිසිදු ආර්ථික දත්තයන් සම්පිණ්ඩනය කිරීමේ ප්‍රයත්නයක්, ආර්. කැල්වර් විසින් ඔහුගේ "ලෝක ආර්ථිකය ගැන හැඳින්වීමක්"* යන කුඩා පොතෙන් ඔහු දරා ඇත. ඔහු පහත සඳහන් පරිදි ලෝකය "ප්‍රධාන ආර්ථික ක්ෂේත්‍ර පහකට බෙදයි. 1) මධ්‍යම යුරෝපය (රුසියාව සහ මහා බ්‍රිතාන්‍යය හැර මුළු යුරෝපය); මහා බ්‍රිතාන්‍යය; 3) රුසියාව; 4) පෙරදිග ආසියාව; 5) ඇමෙරිකාව. ඔහු, යටත් විජිත, ඒවා හිමි රාජ්‍යවල "ක්ෂේත්‍රයන්ට" ඇතුලත් කරන අතර, ක්ෂේත්‍ර අනුව බෙදී නොයන ආසියාවේ පර්සියාව, ඇෆ්ගනිස්ථානය සහ අරාබියාවත්, අප්‍රිකාවේ මොරොක්කෝ සහ ඇබිසීනියාවත්, යනාදී රටවල් "පසෙක තබයි".

මෙම ක්ෂේත්‍රයන් සම්බන්ධයෙන් ඔහු උපුටා දක්වන ආර්ථික දත්තයන්ගේ කෙටි සාරාංශයක් පහත දැක්වේ:

| ප්‍රධාන ආර්ථික ක්ෂේත්‍ර | වර්ග ප්‍රමාණය | ජනගහනය | ප්‍රවාහණ | | වෙළඳම | කර්මාන්ත | | |
|---|---|---|---|---|---|---|---|---|
| | | | | | | නිපැයුම | | |
| | (ව.කි.මී. 10,00,000) | (10,00,000) | (දුම්රිය මාර්ග කි.මී. 10,000) | (වෙළෙඳ නාව ටොන් 10,00,000) | (ආනයන, අපනයන, මාර්ක් 100,00,00,000) | (ගල් අඟුරු ටොන් 10,00,000) | (අමු යකඩ ටොන් 10,00,000) | (කපු කටි තක්කිල් 10,00,000) |
| 1) මධ්‍යම යුරෝපය | 27.6 (23.6)** | 388 (146) | 204 | 8 | 41 | 251 | 15 | 26 |
| 2) බ්‍රිතාන්‍යය | 28.9 (28.6)** | 398 (355) | 140 | 11 | 25 | 249 | 9 | 51 |
| 3) රුසියාව | 22 | 131 | 63 | 1 | 3 | 16 | 3 | 7 |
| 4) නැගෙනහිර අසියාව | 12 | 389 | 8 | 1 | 2 | 8 | 0.02 | 2 |
| 5) ඇමෙරිකාව | 30 | 148 | 379 | 6 | 14 | 245 | 14 | 19 |

* R. Calwer. "Einführung in die Weltwirtschaft". Berlin, 1906.

**වරහන් තුළ සංඛ්‍යාවලින් යටත් විජිතවල වර්ග ප්‍රමාණය සහ ජනගහනය දැක්වේ.



ධනපති ක්‍රමය ඉහළ මට්ටමේ සංවර්ධනයකට පත් (ප්‍රවාහණ මාර්ග, වෙළඳම සහ කර්මාන්ත උසස් ලෙස සංවර්ධනය වූ) ප්‍රදේශ තුනක් අපට දක්නට ඇත. ඒ මධ්‍යම යුරෝපය, බ්‍රිතාන්‍යය සහ ඇමෙරිකාව යන ප්‍රදේශ ය. ලෝකයේ අධිපති තත්වයට පත් ජර්මනිය, බ්‍රිතාන්‍යය සහ එක්සත් ජනපදය මෙම ප්‍රදේශ තුනට අයත්ය. ජර්මනිය සතුව ඇත්තේ ඉතා සුළු භූමි ප්‍රදේශයක් හා අල්ප යටත් විජිත ප්‍රමාණයක් නිසා, මෙම රටවල් තුන අතර අධිරාජ්‍යවාදී ප්‍රතිපාක්ෂික භාවය හා අරගලය ඉතාමත් තියුණු වී ඇත. "මධ්‍යම යුරෝපය" නිර්මාණය කිරීම තවමත් අනාගතයට අයත් දෙයකි. එය දරුණු අරගලයක් මධ්‍යයේ උත්පාද වෙමින් පවතී. මෙම අවස්ථාවේදී සමස්ත යුරෝපයේ ම කැපී පෙනෙන අංග ලක්ෂණය දේශපාලන අසමගිය ය. අනික් අතට බ්‍රිතාන්‍ය සහ ඇමෙරිකානු ප්‍රදේශවල දේශපාලන සංකේන්ද්‍රණය ඉතා උසස් ලෙස දියුණු වී ඇත. එහෙත් ඉන් එකකට අයත්ව ඇති දැවැන්ත යටත් විජිත ප්‍රමාණයත්, අනිකට අයත්ව ඇති ඉතාමත් සුළු යටත් විජිත ප්‍රමාණයත් අතර වෙනස ඉතා විශාලය. එනමුත් යටත් විජිතවල ධනපති ක්‍රමය සංවර්ධනය වීමට පටන් ගත්තා පමණකි. දකුණු ඇමෙරිකාව සඳහා කරන අරගලය වඩ වඩාත් දරුණු වීම ආරම්භ වී ඇත.

ධනපති ක්‍රමය මඳ වශයෙන් සංවර්ධනය වූ ප්‍රදේශ දෙකකි. ඒ රුසියාව හා නැගෙනහිර ආසියාව ය. ඉන් ප්‍රථම ප්‍රදේශයෙහි ජනගහනය ඉතාමත් නී වන අතර, අනිත් ප්‍රදේශයෙහි එය ඉතාමත් ඝන ය. ඉන් ප්‍රථම ප්‍රදේශයෙහි දේශපාලන සංකේන්ද්‍රණය ඉතාමත් ඉහළ මට්ටමක ඇත. අනිත් ප්‍රදේශයෙහි එම සංකේන්ද්‍රණය නොපවතී. චීනය බෙදාගැනීම පටන් ගැනෙන්නේ දැන් ය. ජපානය, එක්සත් ජනපදය ආදී රටවල් අතර ඒ සඳහා කෙරෙන අරගලයෙහි උත්සන්න තාවය නිරතුරුවම වැඩි වෙමින් පවතී.

යථාර්ථය නම් ආර්ථික සහ දේශපාලන විවිධත්වයයි; නොයෙක් රටවල් ආදියෙහි සංවර්ධන වේගයේ විශාල අසමානත්වයයි; අධිරාජ්‍යවාදී රාජ්‍යයන් අතර කෙරෙන සාහසික අරගලයයි. මෙම යථාර්ථය කෞට්ස්කි ගෙතූ "සාමකාමී" සීමාන්තික-අධිරාජ්‍යවාදය පිළිබඳ මෝඩ මිථ්‍යා කථා පිංච සමග සසඳා බලන්න. එය දයා විරහිත යථාර්ථයෙන් බියපත්ව සැඟවීමට උත්සාහ කරන අමනයෙකුගේ ප්‍රතිගාමී ප්‍රයත්නයක් නොවේ ද? "සීමාන්තික-අධිරාජ්‍යවාදයේ" කලල රූපය යයි කෞට්ස්කි සිතන කාටල (මේ ලෙසින්, රසායනාගාරයක පෙති නිෂ්පාදනය කිරීමත් සීමාන්තික-කෘෂිකර්මාන්තයේ කලල රූපය වශයෙන් අයෙකුට විස්තර කළ "හැකිය") ලෝකය බෙදා ගැනීමේ සහ නැවත බෙදා ගැනීමේ නිදර්ශනයක් නොවේද? සාමකාමී බෙදා ගැනීමේ සිට සාමකාමී නොවන බෙදා ගැනීමත්, එහි ප්‍රතිවර්තනයත්, දක්වා පරිවර්තනය වීම පිළිබඳ නිදර්ශනයක් නො

වේද? නිදර්ශනයක් වශයෙන්, ජාත්‍යන්තර දුම්රිය සම්මේලය නැතහොත්, ජාත්‍යන්තර වෙළෙඳ නැව් සංගතය මගින්, ජර්මනියේද සහභාගිත්වය ඇතිව, ලෝකය සාමකාමී ලෙස බෙදගත් ඇමෙරිකානු සහ වෙනත් ප්‍රාග්ධන අධිකාරීන්, දැන්, වෙනස් වෙමින් පවතින බලවේග තුලනය පදනම් කරගෙන, කිසිසේත්ම සාමකාමී යයි කිව නොහැකි ආකාරයෙන්, ලෝකය නැවත බෙදා ගැනීමක යෙදී සිටිනවා නොවේද?

මූල්‍ය ප්‍රාග්ධනය සහ සංගත ව්‍යාපාර නිසා, ලෝක ආර්ථිකයේ විවිධ කොටස්වල සංවර්ධන වේගයෙහි වෙනස්කම් වැඩි වනු මිස අඩු නොවේ. ධනපති ක්‍රමය යටතේ බලවේගයන්ගේ තුලනය වෙනස් වූ කල, ඇති වන ප්‍රතිවිරෝධයන් විසඳාහැනීමට, බලහත්කාරය හැර තිබෙන වෙනත් විසඳීම් මොනවාද? ලෝක ආර්ථිකය තුළ ධනපති ක්‍රමයෙහි සහ මූල්‍ය ප්‍රාග්ධනයෙහි වර්ධනයේ විවිධ වේග ප්‍රමාණ පිළිබඳ බෙහෙවින් නිවැරදි දත්තයන් දුම්රිය මාර්ග හා සම්බන්ධ සංඛ්‍යා ලේඛන වලින්* ලැබේ. අධිරාජ්‍යවාදී සංවර්ධනයේ අන්තිම දශකවලදී දුම්රිය මාර්ගවල දිග ප්‍රමාණයන් පහත දක්වා ඇති පරිදි වෙනස් වී තිබේ:

දුම්රිය මාර්ග
(කිලෝමීටර් 1000)

| | 1890 | | 1913 | | + | |
|---|---|---|---|---|---|---|
| යුරෝපය | 224 | | 346 | | + 122 | |
| එක්සත් ජනපදය | 268 | | 411 | | + 143 | |
| සියළු යටත් විජිත | 82 | 125 | 210 | 347 | + 128 | +222 |
| ආසියාවේ සහ ඇමෙරිකාවේ නිදහස් සහ අර්ධ නිදහස් රාජ්‍යයන් | 43 | | 137 | | + 94 | |
| එකතුව | 617 | | 1104 | | | |

* Statistisches Jahrbuch für das Deutsche Reich, 1915; Archiv für Eisenbahnwesen, 1892 (ජර්මන් රාජ්‍ය සංඛ්‍යා ලේඛන වාර්ෂික සංග්‍රහය 1915; දුම්රිය මාර්ග පිළිබඳ සංඛ්‍යා ලේඛන සහරාව 1892. — සංස්කාරක); 1890 දී විවිධ රටවල යටත් විජිත තුළ දුම්රිය මාර්ග බෙදී ගොස් තිබුණු ආකාරය ගැන සුළු විස්තර දළ වශයෙන් තක්සේරු කිරීමට සිදු විය.



යටත් විජිතවල සහ ආසියාවේ සහ ඇමෙරිකාවේ නිදහස් (සහ අර්ධ-නිදහස්) රාජ්‍යවල දුම්රිය මාර්ග ඉතාමත් වේගවත් ලෙස දියුණු වී තිබෙන බව පෙනේ. මෙහිදී විතර්ක රහිතවම, ප්‍රධානත්වය දරන්නේ ලොකුම ධනපති රටවල් හතරක හෝ පහක ප්‍රාග්ධනය බව අපි දන්නෙමු. යටත් විජිත රටවල සහ ආසියාවේ සහ අප්‍රිකාවේ අනිකුත් රටවල දුම්රිය මාර්ග කිලෝමීටර් දෙලක්ෂයක් ඉදි කිරීම, මාර්ක් කෝටි 4000 ක් ඉක්ම වූ මුදලක ආයෝජනයක් නියෝජනය කරන්නකි. එම ආයෝජනයන් කර තිබෙන්නේ ඉතාමත් වාසිදායක කොන්දේසිත්, හොඳ ලාභයක් ලැබීම පිළිබඳ විශේෂ සහතිකයනුත්, වානේ කර්මාන්තය සඳහා ලාභදායක ඇනවුම් ලැබීමත් යනාදී වාසි සහිතවය.

එතෙර රටවල සහ යටත් විජිතවල ධනපති ක්‍රමය ඉතාමත් වේගයෙන් සංවර්ධනය වන්නේ ය. එතෙර රටවල් අතුරෙන් නව අධිරාජ්‍යවාදී බලවතුන් (ජපානය) මතුවෙමින් පවතී. ලෝක අධිරාජ්‍යයන් අතර අරගලය වඩාත් තියුණු වෙමින් පවතී. යටත් විජිතවල හා එතෙර රටවල ඇති, ඉතාමත් ලාභදායක ව්‍යවසායවලින්, මූල්‍ය ප්‍රාග්ධනය ගන්නා කප්පම් වැඩි වෙමින් පවතී. මෙම ''කොල්ල කාගත් වස්තුව'' බෙදා ගැනීමේදී, එයින් ඉතා විශාල කොටසක් ලබා ගන්නේ, ස්වකීය බලවේගයන්ගේ සංවර්ධනයේ සීඝ්‍රතාවය අතින් නිතරම ලැයිස්තුවේ මුලට සිටින රටවල් නොවේ. ලොකුම රටවල හා ඒවායේ යටත් විජිතවල දුම්රිය මාර්ගවල මුළු දිග ප්‍රමාණය පහත සඳහන් පරිදි විය.

(කිලෝමීටර් 1000)

| | 1890 | 1913 | |
|---|---|---|---|
| එක්සත් ජන පදය | 268 | 413 | +145 |
| බ්‍රිතාන්‍ය අධිරාජ්‍යය | 107 | 208 | +101 |
| රුසියාව | 32 | 78 | + 46 |
| ජර්මනිය | 43 | 68 | + 25 |
| ප්‍රංශය | 41 | 63 | + 22 |
| බලවතුන් පස් දෙනාට එකතුව | 491 | 830 | +339 |

පවත්නා දුම්රිය මාර්ගවලින් සියයට අසූවක් ම පමණ ඉතාමත් බලවත් රටවල් පහ අතෙහි සංකේන්ද්‍රණය වී තබෙන බව මෙයින් පෙනේ, නමුත්

නිදර්ශනයක් වශයෙන්, ප්‍රංශය සහ බ්‍රිතාන්‍ය කෝටිපතියන්, ඇමෙරිකානු රුසියානු සහ වෙනත් දුම්රිය මාර්ගවල කොටස් සහ පිළිණපත් අති විශාල ප්‍රමාණයක් හිමිකරගෙන සිටින නිසා, මෙම දුම්රිය මාර්ගවල හිමිකම් සංකේන්ද්‍රණය හා මූල්‍ය ප්‍රාග්ධන සංකේන්ද්‍රණ මෙතෙකැයි කිව නොහැකි තරම් දැඩි ය.

යටත් විජිතවලට ස්තුති වන්නට මහා බ්‍රිතාන්‍යය ඇගේ දුම්රිය මාර්ග ප්‍රමාණය කිලෝමීටර් 1,00,000 කින් වැඩි කර ගෙන ඇත. එය ජර්මනිය වැඩි කරගත් ප්‍රමාණය මෙන් සතර ගුණයකි. එසේ වුවත් මෙම කාල පරිච්ඡේදය තුළදී, ජර්මනියේ නිෂ්පාදනීය බලවේගයන්ගේ සංවර්ධනය, විශේෂයෙන් ම, ගල් අඟුරු සහ යකඩ කර්මාන්තවල සංවර්ධනය, බ්‍රිතාන්‍යයට වඩා බෙහෙවින් ම වේගවත් වූ බව සුප්‍රකට කරුණකි. එනිසා මේ අතින්, එය ප්‍රංශය හා රුසියාව ඉක්මවා ගිය බව කීම අනවශ්‍ය ය. 1892 දී, ජර්මනිය අමු යකඩ ටොන් 49,00,000 ක් නිපද වූ අතර, මහා බ්‍රිතාන්‍යය ටොන් 68,00,000 ක් නිපදවිය; 1912 දී ජර්මනිය ටොන් 1,76,00,000 ක් නිපදවූ අතර, බ්‍රිතාන්‍යය නිපදවූයේ ටොන් 90,00,000කි. එනිසා, මේ හා සම්බන්ධයෙන් ජර්මනිය බ්‍රිතාන්‍යයට වඩා බෙහෙවින් උසස් තත්වයක සිටියේ ය.* ප්‍රශ්නය මෙයයි: ධනපති ක්‍රමය යටතේ එක් අතකින්, නිෂ්පාදනීය බලවේගයන්ගේ සංවර්ධනය වීම සහ ප්‍රාග්ධනය රාශීභූත වීමත්, අනිත් අතට, යටත් විජිත හා බල ප්‍රදේශ බෙදා ගැනීමත්, අතර තිබෙන නොගැලපීම සමහන් කිරීමට යුද්ධය හැර තිබෙන අනිකුත් ක්‍රමය කුමක්ද?

## VIII. ධනපති ක්‍රමයේ පරපෝෂිතභාවය සහ දිරාපත් වීම

අධිරාජ්‍යවාදයේ තවත් වැදගත් අංශයක් ගැන දැන් අපි විමර්ශනය කළ යුතු වෙමු. අධිරාජ්‍යවාදය ගැන කෙරෙන සාකච්ඡාවලදී මෙම අංශය ගැන සමාන්‍යයෙන් දක්වනු ලබන සැලකිල්ල ප්‍රමාණවත් නොවේ. මෙම කාරණය විෂයෙහි දී, මාක්ස්වාදියෙකු නොවන හොබ්සන්ට වඩා, මාක්ස්වාදී හිල්පර්දිං අඩියක් පස්සට ගෙන තිබීම ඔහුගේ දුර්වල කම කි. මා සඳහන් කරන්නේ අධිරාජ්‍යවාදයේ ස්වභාව ලක්ෂණයක් වන පරපෝෂිතවාදය ගැනයි.

අප ඉහත දුටු පරිදි අධිරාජ්‍යවාදයේ ගැඹුරුතම ආර්ථික අඩිතාලම ඒකාධිකාරයයි. එය ධනපති ඒකාධිකාරයයි. ධනපති ක්‍රමයෙන් වැඩී ගිය හා ධනපති ක්‍රමයේ, එනම්, වෙළඳ භාණ්ඩ නිෂ්පාදනයේ සහ තරඟයේ පොදු වටපිටාව තුළ පවතින, එම පොදු වටපිටාව සමග සදාකාලික හා නො විසඳිය හැකි ප්‍රතිවිරෝධයක් ඇතිව පවතින, ඒකාධිකාරයයි. කෙසේ හෝ වේවා, සියලුම ඒකාධිකාරයන් මෙන්ම, එයද, එක තැන පල්වීමේ හා දිරාපත් වීමේ ප්‍රවණතාවයක් අනිවාරණීය වශයෙන් ජනිත කරයි. ඒකාධිකාරී මිළ තහවුරු තත්වයකට පත් කර ඇති නිසා, තාවකාලිකව හෝ, තාක්ෂණික ප්‍රගතියේ හා ඒ සමගම අන් සියලු ආකාරයේ ම ප්‍රගතියේ ද ගාමක හේතු සාධකය එක්තරා දුරකට නැතිව යන්නේ ය. තවද උවමනාවෙන්ම තාක්ෂණික ප්‍රගතිය ප්‍රමාද කිරීමේ ආර්ථික හැකියාව ද එයින් ඇති වේ. නිදර්ශනයක් වශයෙන්, ඇමෙරිකාවේ ඕවන්ස් නැමැත්තෙක් බෝතල් නිෂ්පාදනයේ විප්ලවයක් සිදු කළ හැකි යන්ත්‍රයක් සොයා ගත්තේය. බෝතල් නිපදවන ජර්මන් කාටලය ඕවන්ස්ගේ පේටන්ට් බල පත්‍රය මිලට ගත් නමුත්, එය හමස් පෙට්ටියේ දමා, එය උපයෝගි කර ගැනීමෙන් වැළකී සිටියේය. ධනපති ක්‍රමය යටතේ තරඟය අංහෝසි කර දැමීම සම්පූර්ණ වශයෙන් සහ ඉතා දීර්ඝ කාලයක් යන තෙක් ඇත්ත වශයෙන් ම ඒකාධිකාරයට කළ හැකි නොවනු ඇත (සීමාන්තික-අධිරාජ්‍යවාදය එතරම්ම විකාරයක් වීමට එක හේතුවක් එය යි). නිෂ්පාදන වියදම් කපා හැරීම සහ තාක්ෂණික වැඩිදියුණු කිරීම උපයෝජනයෙන් ලාභ වැඩි කිරීමට තිබෙන හැකියාව, වෙනස්කම් ඇති කිරීමට තුඩු දෙන සේ ක්‍රියාත්මක වන බව ඇත්ත ය. එහෙත්, ඒකාධිකාරයේ ස්වභාව ලක්ෂණයක් වන එක තැන පල්වීමේ හා දිරාපත් වීමේ ප්‍රවණතාවය නො නැවතීම ක්‍රියාත්මක වෙයි. සමහර අංශවල, සමහර රටවල, කිසියම් කාල සීමාවක් තුළ, එම ප්‍රවණතාවය බලවත් වන්නේය.

ඉතා විශාල, ආඪ්‍ය සම්පන්න, නැතහොත්, හොඳ පිහිටීමක් ඇති යටත් විජිත හා සම්බන්ධයෙන් ඒකාධිකාරී හිමිකම ක්‍රියාත්මක වීමද, එම දිශානතිය ඔස්සේම ක්‍රියාත්මක වන්නකි.

තවද අධිරාජ්‍යවාදය යනු, රටවල් අතලොස්සක් වෙත අති මහත් ප්‍රාග්ධන සමුච්ඡගත වීමක් සිදු කරන්නකි. අප දැක ඇති ලෙසට එසේ සමුච්ඡගත මුදල සුරැකුම්පත්වලින් ෆ්‍රෑන්ක් කෝටි 10,000—15,000 ක් වේ. පොලී කන්නන් ගේ, නැතහොත්, කිසිම ව්‍යවසායකට කිසිසේත් සහභාගි නොවන, අලසකම වෘත්තීය කොටගත්, ''කූපන් කැපීම''

* Edgar Crammond. "The Economic Relations of the British and German Empires" in "The Journal of the Royal Statistical Society", 1914, July, p. 777 ss. (එඩ්ගාර් ක්‍රමන්ඩ්, 1914 ජූලි ''රාජකීය සංඛ්‍යා ලේඛන සභරාවේ'' පිටු 777 පටන් වූ ''බ්‍රිතාන්‍ය සහ ජර්මන් අධිරාජ්‍ය අතර ආර්ථික සම්බන්ධකම්''. — සංස්කාරක) යන්න බලන්න.

ජීවනෝපාය කොටගත්, පංතියක් නැතහොත් ස්ථරයක් අසාමාන්‍ය ලෙසට වර්ධනය වූයේ, එහෙයිනි. අධිරාජ්‍යවාදයේ වැදගත්ම ආර්ථික පදනම්වලින් එකක් වන, ප්‍රාග්ධන අපනයනය නිසා, තවත් අංග සම්පූර්ණ ලෙසට, පොලී කන්නන් නිෂ්පාදනයෙන් කොන් වීමෙන්, එතෙර රටවල් සහ යටත් විජිත ගණනාවක ශ්‍රමය සූරා කෑමෙන් ජීවත් වන මුළු රටටම, පරපෝෂිතවාදයේ හණ ලකුණ වදින්නේය.

''1893 දී, විදේශයෙහි ආයෝජිතව තිබුණු බ්‍රිතාන්‍ය ප්‍රාග්ධනය, එක්සත් රාජධානියේ මුළු ධනයෙන් සියයට පහළොවක් නියෝජනය කළේය'' යි* හොබ්සන් ලිවේය. 1915 වන විට මෙම ප්‍රාග්ධනය දෙගුණයකුත් හමාරකින් වැඩි වී තිබුණ බව පාඨකයාට මතක් කරනු කැමැත්තෙමි. අනතුරුව හොබ්සන් මෙසේ ද කියයි. ''බදු ගෙවන්නාට බර වියදමක් පටවන ආක්‍රමණකාරී අධිරාජ්‍යවාදය, නිෂ්පාදකයාට හා වෙළෙන්දට වටින්නේ ඉතා අල්ප වශයෙනි... එය ධනපති ආයෝජකයාට අති විශාල ලාභ ගෙන දෙන මාර්ගයකි..'' (ඉංග්‍රිසි බසින් මෙම අදහස පැවසීමට එක වචනයක් ප්‍රමාණවත්ය. ''ඉන්වෙස්ටර්'' — ''ආයෝජකයා, පොළිකන්නා''). ... ''මහා බ්‍රිතාන්‍යය, ඇගේ මුළු විදේශ සහ යටත් විජිත වෙළඳාමෙන්, ආනයනයෙන් හා අපනයනයෙන් ලබා ගන්නා කොමිසම, 1899 දී පවුම් 1,80,00,000 ක් (රූබල් කොටි 17 ක් පමණ) වූ බව ශ්‍රීමත් ආර්. ගිෆන් ගණන් බලා ඇත. එය ගණනය කර තිබෙන්නේ මුළු පිරිවැටුම වන පවුම් 80,00,00,000 න් සියයට $2^{1}/_{2}$ බැගිනි''. මෙම මුදල විශාල වුවත් මහා බ්‍රිතාන්‍යයේ ආක්‍රමණකාරී අධිරාජ්‍යවාදයට හේතු දක්වීම ඒ අනුව කළ නොහැක. එයට හේතු වී තිබෙන්නේ, පොලී කන්නන්ගේ ''ආයෝජිත'' ප්‍රාග්ධනයෙන් ලැබෙන පවුම් කෝටි 9 සිට 10 දක්වා වූ ආදායම ය.

පොලී කන්නන් ලබන ආදායම, ලෝකයේ ලොකුම ''වෙළඳ'' රට විදේශ වෙළඳමෙන් ලබන ආදායම මෙන් පස්ගුණයක් විශාල ය! අධිරාජ්‍යවාදයේ සහ අධිරාජ්‍යවාදී පරපෝෂිතවාදයේ හරය මෙය ය.

මේ හේතු කොට ගෙන, අධිරාජ්‍යවාදය ගැන ලියැවෙන ආර්ථික පත පොතෙහි ''පොලී කන රාජ්‍යය'' (Rentnerstaat), නැතහොත්, පොලීකාර රාජ්‍යය යන පාඨය පොදු ව්‍යවහාරයට එමින් පවතී. ලෝකය පොලීකාර රාජ්‍යයන් අතලොස්සක් හා අති විශාල ණය කාර රටවල් බහුතරයක් වශයෙන් දෙකට බෙදී තිබේ. ෂුල්ත්සේ-ගේවර්නිත්ස් මෙසේ කියයි: ''විදේශ ආයෝජන ලැයිස්තුවෙහි ඉහළින්ම දක්වා ඇත්තේ, දේශපාලන වශයෙන් ගැති, නැතහොත්, මිත්‍ර රටවල යොදන ලද ආයෝජන ය. ඊජිප්තුවටත්, ජපානයටත්, චීනයට හා දකුණු ඇමෙරිකාවටත් බ්‍රිතාන්‍යය

* Hobson, කලින් සඳහන් පොතේ, පිටු 59,62.



විසින් ණය දෙනු ලැබේ. අවශ්‍ය අවස්ථාවක් වුවහොත්, ඇගේ නාවුක හමුදාව මේ සම්බන්ධයෙන් පොලිස් භේවායාගේ කාර්ය ඉටු කරයි. මහා බ්‍රිතාන්‍යයේ දේශපාලන බලය, ඇයට ඇගේ ණය කාරයන්ගේ කෝපයෙන් හානියක් විය නොදී ආරක්ෂා කරයි''.* සාර්තොරියුස් ෆොන් වල්තර්හවුසන්, ඔහු ගේ ''විදේශයන්හි ප්‍රාග්ධනායෝජනය කිරීමේ ජාතික ආර්ථික ක්‍රමය'' යන පොතෙහි, ඕලන්දය ආදර්ශමත් ''පොලීකන රාජ්‍යය'' වශයෙන් සඳහන් කරන අතර, මහා බ්‍රිතාන්‍යය හා ප්‍රංශයත් දැන් එම තත්වයට පත්වෙමින් සිටින බවද පෙන්නුම් කරයි.** කාර්මික රාජ්‍යයන් පහක් ''ඉතා හොඳින් කැපී පෙනෙන ණය හිමි රාජ්‍ය'' බවට පත්වී ඇතැයි ෂිල්දර් අදහස් කරයි. එම රටවල් පහ නම්, මහා බ්‍රිතාන්‍යය, ප්‍රංශය, ජර්මනිය, බෙල්ජියම හා ස්විට්සර්ලන්තය ය. ඕලන්දය ''කාර්මික වශයෙන් ස්වල්ප දියුණුවක්*** ඇති'' රටක් වීමේ හේතුව පමණක් නිසා, එය එම ලැයිස්තුවට ඇතුලත් නොකරන ලදී. එක්සත් ජනපදය ණය හිමියෙකු වන්නේ ඇමෙරිකානු රටවල් සම්බන්ධයෙන් පමණකි.

ෂුල්ත්සේ — ගේවර්නිත්ස් මෙසේ කියයි: ''මහා බ්‍රිතාන්‍යය කාර්මික රටක තත්වයේ සිට ක්‍රමයෙන්, ණය හිමි රාජ්‍යයක් බවට පත්වෙමින් තිබේ. කාර්මික නිෂ්පාදිතයේ සහ නිමි භාණ්ඩ අපනයනයෙහි ඒකාන්ත වැඩිවීමක් තිබුණේ වී නමුත්, සමස්ත ජාතික ආර්ථිකය විෂයෙහි පොලී සහ ලාභාංශවලින්ද, සුරැකුම්පත් නිකුත් කිරීමෙන්ද, කොමිස් මුදල් සහ සමපේක්ෂණයෙන්ද, ලබන ආදායමේ වැදගත්කම සාපේක්ෂ වශයෙන් වැඩි වී තිබේ. මගේ අදහසේ හැටියට, අධිරාජ්‍යවාදී උද්ගමනයේ ආර්ථික පදනම ඒකාන්ත වශයෙන්ම සකස් වන්නේ මෙයිනි. විකුණුම් කරුවා ගැනුම් කරුවාට සවි වී සිටී''.**** බර්ලින් ''බැංකුව'' සඟරාවේ ප්‍රකාශක ඒ. ලාන්ස්බුර්ග් ලියූ, ''ජර්මනිය — පොලී කන රාජ්‍යයක්'' යන ලිපියෙහි ජර්මනිය ගැන මෙසේ ලියා ඇත:''පොලී කන්නන් වීමට ප්‍රංශයෙහි දක්නට තිබෙන ආශාව සමච්චලයට ලක් කිරීමට ජර්මනියේ ජනයා සූදානම්ය. නමුත් ධනපති පංතිය හා සම්බන්ධයෙන් වූ කල, ජර්මනියේ තත්වය එන්න එන්නම ප්‍රංශයට සමාන වෙමින් පවතින බව ඔවුහු අමතක කරති.*****

පොලී කන රාජ්‍යය යනු පරපෝෂිතවාදී දිරාපත් වන ධනවාදී රාජ්‍යයකි. මෙම තත්වය පොදු වශයෙන් අදාළ රටවල සියළුම සමාජ-දේශපා-

* Schulze-Gaevernitz. "Britischer Imperialismus", S. 320 පටන්.

** Sartorius von Waltershausen. "Das Volkswirtschaftliche System etc.". Berlin, 1907, Buch IV.

*** Schilder, කලින් සඳහන් පොතෙහි පිටු 393.

**** ෂුල්ත්සේ-ගේවර්නිත්ස්, කලින් සඳහන් පොතෙහි පිටු 122.

***** "Die Bank", 1911, 1. S. 10—11

ලන තත්වයන්ටත්, විශේෂයෙන්ම, කම්කරු පංතියේ මූලික ප්‍රවණතා දෙකටත් නිසැක වශයෙන්ම බලපානු ඇත. මෙය හැකිතරම් පැහැදිලි ලෙස පෙන්නුම් කිරීම පිණිස හොබ්සන් ගේ පොතෙන් කොටසක් උපුටා දක්වන්නෙමි. ඔහු මාක්ස්වාදී සාධර්මිකතාවයට පක්ෂ වියයි සැකයක් ඇති කර ගත නොහැකි නිසා, ඔහු ඉතාමත් විශ්වාසදායක සාක්ෂි කරුවෙකි. අනිත් අතට, ඔහු ඉංග්‍රීසි කාරයෙකු වය අතර, යටත් විජිත අතින්, මූල්‍ය ප්‍රාග්ධනය අතින් සහ අධිරාජ්‍යවාදී අත්දැකීම් අතින්, ලෝකයේ පොහොසත්ම රටෙහි පවතින තත්වය ගැන හොඳින් දන්නා කෙනෙකි.

ඉංග්‍රීසි-බුවර් යුද්ධය ගැන අළුත් මතකයක් ඇතිව සිටින ඔහු, අධිරාජ්‍යවාදය සහ ''පොලී කන්නන්'' ගේ උවමනාවන් අතර සම්බන්ධයත්, කොන්ත්‍රාත්, සැපයුම්, ආදියෙන් ලබන එන්න එන්නම වැඩිවන ලාභත්, ගැන විස්තර කරමින් පහත දැක්වෙන පරිදි ලියයි. ''නිශ්චිත වශයෙන්ම පරපෝෂිතවාදී වූ මෙම ප්‍රතිපත්තියේ අධ්‍යක්ෂවරුන්, ධනපති පංතියේ අය වන අතර එම චේතනාවන්ම කෙරෙහි කම්කරුවන්ගේ විශේෂ පංතිවලද සිත් ඇදී යයි. බොහෝ නගරවල ඉතාමත් වැදගත් කර්මාන්ත රැඳී පවතින්නේ, ආණ්ඩුවේ රැකියා දීම හා කොන්ත්‍රාත් මතය. ලෝහ සහ නැව් සෑදීමේ මධ්‍යස්ථාන තුළ, අධිරාජ්‍යවාදයට හේතු භූත වූයේ, මෙම කරුණ ය''. මෙම ලේඛකයාගේ අදහසේ හැටියට පැරණි අධිරාජ්‍ය දුර්වල වීමට හේතු වූ කරුණු දෙකකි. ඒවා නම් (1) ''ආර්ථික පරපෝෂිතවාදය'' සහ (2) යටත් ජනතාවන් අතරින් බඳවාගත් පිරිස්වලින් යුත් යුද්ධ හමුද පිහිටුවීමය. ''ප්‍රථමයෙන් ඇත්තේ පරපෝෂිතභාවය පිළිබඳ පළපුරුද්දය. මෙහිදී පාලක රාජ්‍යයන්, එහි පාලක පංති ධනවත් කිරීමට සහ පහළ පංතිවල අවිරෝධය දිනාගැනීම පිණිස ඒවාට අල්ලස් දීමට, ස්වකීය ප්‍රදේශ, යටත් විජිත සහ ගැති රටවල් උපයෝගී කරගෙන තිබේ''. කුමන ලෙසකින් හෝ එවැනි අල්ලස් දීමේ ආර්ථික හැකියාවක් තිබීමට නම් ඉතා ඉහළ මට්ටමේ ඒකාධිකාරී ලාභ තිබිය යුතු බව මම ඊට අමතරව කියන්නෙමි.

දෙවැනි කරුණ ගැන හොබ්සන් මෙසේ ලියා ඇත. ''මෙම අන්තරාදයක ගැති වීමට එළඹීමේදී, මහා බ්‍රිතාන්‍යය, ප්‍රංශය සහ වෙනත් අධිරාජ්‍යවාදී ජාතීන් දක්වන, අපරීක්ෂාකාරී නොසැලකිල්ල අධිරාජ්‍යවාදයේ අන්ධ ස්වභාවය පෙන්නුම් කරන, ඉතාමත් පුදුම එලවන ලක්ෂණයකි. මෙනයින් වැඩිම දුරක් ගමන් කර ඇත්තේ මහා බ්‍රිතාන්‍යය ය. ඉන්දියාවේ සහ, වඩාත් මෑතදී පටන්, ඊජිප්තුවේද අති විශාල යුද්ධ හමුද බ්‍රිතාන්‍ය අණ දෙන නිලධාරීන් යටතේ පවත්වාගෙන යනු ලැබේ. අපගේ අප්‍රිකානු යටත් ප්‍රදේශ හා සම්බන්ධයෙන් කරන ලද යුද්ධ අතුරෙන්, දකුණු කොටසේ යුද්ධ හැර, අන් සියල්ලම අපට කර දුන්නේ, එරටවල වැසියන්ය''.



චීනය බෙදාගැනීමට ඇති හැකියාව ගැන හොබ්සන් ඉදිරිපත් කරන තක්සේරුව පහත සඳහන් පරිදි වේ. ''එවිට බටහිර යුරෝපයෙන් වැඩි කොටසක දක්නට ලැබෙනු ඇත්තේ, දැනටම දකුණු එංගලන්තයේ සමහර කලාපවලත් රිවියෙරාහිත් ඉතාලියේ සහ ස්විට්සර්ලන්තයේ සංචාරකයන් ගහණ නේවාසික ප්‍රදේශ වලත් දැනටම ඇති මුහුණුවර වනු ඇත; ඈත පෙරදිග රටවලින් ලාභාංශ හා විශ්‍රාම වැටුප් ලබමින් තරමක් විශාල වෘත්තීය සේවකයන් සහ කාර්මික කණ්ඩායමක් ද, වඩාත් විශාල පෞද්ගලික සේවක පිරිසක් ද, ප්‍රවාහණ කර්මාන්තයේ සහ වැඩි කොටම ඉක්මණින් නරක්වන සුලු භාණ්ඩ නිෂ්පාදනයේ අවසාන අදියරවල නියුක්ත කම්කරුවන් ද පිරිවරා ගෙන සිටින ධනවත් වංශක්කාරයන්ගේ කුඩා කණ්ඩායම් බිහිවනු ඇත; ප්‍රධාන ආහාර වර්ග සහ නිමි භාණ්ඩ ආසියාවෙන් හා අප්‍රිකාවෙන් කප්පම් වශයෙන් ලැබෙනු ඇති නිසා, සියළුම ප්‍රධාන කර්මාන්ත අංශ අහෝසි වී යනු ඇත. බටහිර රාජ්‍යයන්ගේ වඩාත් විශාල සන්ධානයක් ඇති වීමේ පුළුල් සේයාව පවා අපි දැක ඇත්තෙමු. එය ශිෂ්ටාචාරයේ සද්ව්‍යාපාරය ඉදිරියට ගෙනයාමට කිසිසේත් ආධාරකාරී නොවන, බටහිර පරපෝෂිතවාදයේ යෝධ අනතුර ගෙන එන මහා බලවතුන් ගේ යුරෝපීය ඒකාබද්ධ සංගමයක් වනු ඇත; එය ආසියාවෙන් හා අප්‍රිකාවෙන් කප්පම් ලබා ගනිමින්, තවදුරටත් කෘෂිකර්මාන්තයේ සහ භාණ්ඩ නිෂ්පාදනයේ ප්‍රධාන කර්මාන්තවල නොයෙදෙන, එහෙත් නව මූල්‍යාධිපතීන් ගේ පාලනය යටතේ පෞද්ගලික හෝ සුළු කාර්මික සේවාවන්හි නියුක්තවන, විශාල, සුවච කීකරු සේවක පිරිසක් මෙම කප්පම් වලින් නඩත්තු කරන, ඉහළ පංති සහිත දියුණු කාර්මික ජාතීන්ගේ කණ්ඩායමක් වනු ඇත. එවැනි න්‍යායක් (තත්වයක් ඇතිවීමේ ඉඩකඩ යයි කීම වඩා සුදුසුය) සලකා බැලීමට තරම් නොවන්නේ යයි කියා ප්‍රතික්ෂේප කරන අය, දැනටමත් එම තත්වයට පත් වී තිබෙන දකුණු එංගලන්තයේ දිස්ත්‍රික්කවල අද පවතින ආර්ථික සහ සමාජ තත්වය ගැන විමසා බැලීම සුදුසුය. ඊළඟට, මෙතෙක් ලෝකය දුටු විශාලතම ලාභ නිධානය විය හැකි චීනය, එවැනිම මූල්‍යාධිකාරීන්, ආයෝජකයන් සහ දේශපාලන හා ව්‍යාපාරික නිලධාරීන් කණ්ඩායම්වල ආර්ථික පාලනයට හසු කිරීමෙන්, එයින් සූරා ගන්නා ධනය යුරෝපයේ පරිභෝජනය සඳහා යොදන කල්හි, එවැනි ක්‍රමයක් ඉතා විශාල ලෙස විකාශකිරීමට ඇතිවන ඉඩකඩ ගැන සිතා බැලීම සුදුසුය. තත්වය ඉතාමත් සංකීර්ණය. ලෝක බලවේගයන් ගේ ක්‍රියා කාරිත්වය පමණ කිරීමට නොහැකි තරම් ය. එනිසා, අනාගතය ගැන කරන මෙම හෝ වෙනත් විස්තරයක්, බොහෝ දුරට නිශ්චිත වශයෙන්ම සිදුවිය හැකි දෙයක් සේ ස්ථිර කොට කිව නොහැකිය. එහෙත්, අද බටහිර යුරෝපය පාලනය කරන බලවේගයන් ගමන් කරන්නේ මෙම දිසාවටය. එය නො-

වැලැක්වුව හොත් හෝ වෙනත් අතකට යොමු නොකළහොත්, එවැනි උච්ච අවස්ථාවක් දෙසට එම බලවේග ගමන් කරනු ඇත''.*

කතුවරයා සම්පූර්ණයෙන්ම නිවරදිය. අධිරාජ්‍ය බලවේගයන්, නොවලක්වන ලද නම්, එම බලවේග ඔහු විස්තර කරන තත්වයට නියත වශයෙන්ම පවත්වන්නට තිබුණි. වර්තමාන අධිරාජ්‍යවාදී තත්වය යටතේ ''යුරෝපා එක්සත් ජනපදයක'' වැදගත්කම නිවැරදි ලෙස අගය කර තිබේ. එසේ වුවත්, දැනට බොහෝ රටවල කම්කරු ව්‍යාපාර තුළ තාවකාලික වශයෙන් ජයග්‍රහණය ලබාසිටින අවස්ථාවාදීන් ද එම පැත්තටම යොමු වී ක්‍රමාණුකූල ලෙස හා ඒකාන්ත ලෙස ''වැඩ කරමින්'' සිටින බවත් ඔහු සඳහන් කළ යුතුව තිබුණි. අධිරාජ්‍යවාදය යන්නෙන් ලෝකය බෙදු ගැනීමක්, චීනයට අමතරව අනික් රටවල ද සූරා කැමක් අදහස් වන්නේ ය. එනිසා, ඉතාමත් ධනවත් රටවල් අතලෙස්සකට, අධික ඒකාධිකාරී ලාභ ලැබීමෙන්, ඒවායේ නිර්ධන පංතියේ ඉහළ ස්ථරයන්ට අල්ලස් දීමේ ආර්ථික හැකියාව ඇතිවේ. එයින් අවස්ථාවාදය ඇති දැඩි කෙරේ, හැඩ ගැසේ, ශක්තිමත් වේ. එසේ වුවද, පොදු වශයෙන් අධිරාජ්‍යවාදයට බාධාකාරී වන බලවේගයන් ගැන අපි අමතක නොකළ යුත්තෙමු. සමාජ-ලිබරල්වාදියෙක් වන හොබ්සන්ට එම බලවේග නොපෙනීම ස්වභාවික ය.

අධිරාජ්‍යවාදය ආරක්ෂා කිරීම නිසා වරක් පක්ෂයෙන් නෙරපන ලද, ඒහෙත් දැන්, ඊනියා ජර්මන් ''සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී'' පක්ෂයේ නායකත්වයට සුදුසු, ජර්මන් අවස්ථාවාදියෙකු වන, ගෙර්හර්ද් හිල්දබ්‍රන්ද් අප්‍රිකානු නීග්‍රෝ වරුන්ට විරුද්ධව, ''මහා-ඉස්ලාම් ව්‍යාපාරයට විරුද්ධව, ශක්තිමත් යුද්ධ හමුදවක් සහ නාවුක හමුදවක් පවත්වාගැනීම සඳහා, ''චීන-ජපන් සභාගයකට''**විරුද්ධව, යනාදිය, සඳහා ''ඒකාබද්ධ'' ක්‍රියාකාරිත්වය ඇතිකිරීමට ''බටහිර යුරෝපා එක්සත් ජනපදය'' (රුසියාව හැර) පිළිබඳ ඔහුගේ අදහස ඉදිරිපත් කිරීමෙන් හොබ්සන් කී දෙය මනා ලෙස ඌණ පූර්ණය කරයි.

ෂුල්ත්සෙ-ගෙවර්නිත්ස්ගේ පොතෙන්* ''බ්‍රිතාන්‍ය අධිරාජ්‍යවාදය'' ගැන කෙරෙන විස්තරයෙන් ද, එම පරපෝෂිතවාදී ගතිය පෙනෙන්නට තිබේ. 1865 සිට 1898 දක්වා කාලය තුළ බ්‍රිතාන්‍යයේ ජාතික ආදායම දළවශයෙන් දෙගුණ වුයේය. ඒ අතර එම කාලය තුළම ''විදේශවලින්''

* හොබ්සන්, කලින් සඳහන් පොත, පිටු 103, 205 144, 335, 386.

** Gerhard Hildebrand. “Die Erschütterung der Industrieherrschaft und des Industriesozialismus”. 1910, S. 222 පටන් (ගෙර්හාර්ද් හිල්දබ්‍රන්ද් ''කාර්මික ආධිපත්‍යය සහ කාර්මික සමාජවාදය බිඳවැටීම''. — සංස්කාරක).



ලත් ආදායම නව ගුණයකින් වැඩි විය. ''නීග්‍රෝවරුන්ට කාර්මික හුරු පුරුදුකම් දීම (බල කිරීම නැතිව එය කළ නොහැකිය) අධිරාජ්‍යවාදයේ ''යහ ගුණය'' වේ.

ඒ අතර එහි ''අන්තරාය'' තිබෙන්නේ ''යුරෝපය'' ප්‍රථමයෙන් කෘෂිකර්මාන්තයෙහි සහ ආකරවල වැඩත්, ඊළඟට කර්මාන්තවල වඩාත් ගොරෝසු වැඩත් යන ශාරීරික වෙහෙස ගෙන දෙන වැඩවල බර වර්ණවත් ජන වර්ගවල පිරිස් මත පටවා, තමන් පොලී කන කාර්ය කොටස ඉටු කිරීමෙන් සැනසී සිටීම නිසා, සමහර විට එමගින් වර්ණවත් ජන වර්ගවල ආර්ථික විමුක්තියට ප්‍රථමයෙනුත්, දේශපාලන විමුක්තියට පසුවත් මඟ සකස් කිරීම තුළය''

පොහොසතුන්ගේ ක්‍රීඩා සහ විනෝද කටයුතු සඳහා උපයෝගි කරගනු වස්, එංගලන්තයේ කෘෂිකර්මාන්තයෙන් ඉවත් කර ගන්නා ඉඩම් ප්‍රමාණයේ අනුපාතය එන්න එන්නම වැඩි වෙමින් පවතී. දඩයම් සහ වෙනත් ක්‍රීඩා සම්බන්ධයෙන් වූ කල, වංශවත් පෙළෙහි ලා ගැනෙන, ස්කොට්ලන්තය ගැන කියන කල,''එය යැපෙන්නේ එහි අතීතයෙන් සහ කර්නේජි මහතා ගෙන්'' (ඇමෙරිකානු කෝටිපතියා ගෙන්) යයි කියනු ලැබේ. තුරඟ ධාවන තරඟ සහ නරි දඩයමට පමණක්, එංගලන්තය පවුම් 1,40,00,000 ක් (රුබල් කෝටි 13 ක් පමණ) වාර්ෂිකව වියදම් කරයි. එංගලන්තයේ සිටින පොලී කන්නන් සංඛ්‍යාව දශ ලක්ෂයක් පමණ වෙති. සමස්ත ජනගහනයෙන් නිෂ්පාදන කටයුතුවල නියුක්ත සියයට ගණන පහත යමින් පවතී:

| | එංගලන්තයේ මූලික කර්මාන්ත ජනගහනය වල කම්කරුවන් (100,000) | | ජනගහනයෙන් සියයට ගණන |
|---|---|---|---|
| 1851 | 17.9 | 4.1 | 23 |
| 1901 | 32.5 | 4.9 | 15 |

''විසිවැනි ශතවර්ෂය ආරම්භයේ බ්‍රිතාන්‍ය අධිරාජ්‍යවාදය'' ගැන අධ්‍යයනය කරන විමර්ශකයා බ්‍රිතාන්‍ය කම්කරු පංතිය ගැන කථා කරන විට කම්කරුවන් ගේ ''ඉහළ ස්ථරය'' සහ ''නියම නිර්ධන පංතියේ පහළ ස්ථරය'' ක්‍රමාණුකූල ලෙස වෙන්කර දක්වීමට ඔහුට සිදු වේ. සමූපකාර සමිතිවල වෘත්තීය සමිතිවල, ක්‍රීඩා සමාජවල හා ගණනක් නැති ආගමික නිකායවල සාමාජිකත්වයෙන් වැඩි කොටස එම ඉහළ ස්ථරයෙන් ආ

අයයි. ඡන්ද ක්‍රමය ද මෙම මට්ටමට සිටින සේ සකස් කර තිබේ, තවමත් මහා බ්‍රිතාන්‍යයේ ඡන්ද ක්‍රමය "නියම නිර්ධන පංතියේ පහළ ස්ථරය පිටමං කර තැබීමට තරම් සීමා සහිත ලෙස පවත්වා ගනු ලබන්නකි". බ්‍රිතාන්‍ය කම්කරු පංතියේ තත්වය අලංකාර කර පෙන්වීම සඳහා, නිර්ධන පංතියෙන් සුළු පිරිසක් වන මෙම ඉහළ ස්ථරය ගැන පමණක් සාමාන්‍යයෙන් කථා කරනු ලැබේ. නිදර්ශනයක් වශයෙන්, "විරක්ෂාව පිළිබඳ ප්‍රශ්නය, ප්‍රධාන වශයෙන් ලන්ඩනයේ සහ පහළ නිර්ධන පංති ස්ථරයේ ප්‍රශ්නයකි, එය ධනපති දේශපාලඥයින් හා "සමාජවාදී අවස්ථාවාදීන් විසින් සුළු කොට තකනු ලබන ප්‍රශ්නයක් යයි කිවයුතුව තිබිණි, දේශපාලනඥයන් එයට දක්වන්නේ ස්වල්ප සැලකිල්ලකි..."*

මා විස්තර කරන කරුණු හා සම්බන්ධ වූ අධිරාජ්‍යවාදයේ එක විශේෂ අංග ලක්ෂණයක් නම්, අධිරාජ්‍යවාදී රටවලින් විගමනය අඩු වී යාම සහ වඩාත් නොදියුණු, අඩු වේතන ගෙවන රටවලින් ආධිරාජ්‍යවාදී රටවලට ආගමනය වැඩි වීම. 1884 පටන් බ්‍රිතාන්‍යයෙන් විගමනය පහත බැස යන්නට පටන් ගත් බව හොබ්සන් සඳහන් කරයි. එම වර්ෂයේ විගමනයෙහි යෙදුනු සංඛ්‍යාව 2,42,000 කි. 1900 දී එය 1,69,000 ක් විය. ජර්මනියේ විගමනය උච්ඡස්ථානයට පත් වූයේ 1881 හා 1890 අතර කාලයේය. ඒ කාලය තුළ විගමනයෙහි යෙදුනවුන් මුළු ගණන 14,53,000 ක් විය. ඊළඟ දශක දෙක තුළදී එය 5,44,000 සහ 3,41,000 දක්වා පහත වැටුණි. අනිත් අතට ඔස්ට්‍රියාවෙන්, ඉතාලියෙන්, රුසියාවෙන් හා වෙනත් රටවලින් ජර්මනියට ඇතුල් වුනු කම්කරුවන් ගේ සංඛ්‍යාව වැඩි විය. 1907 දී පවත්වන ලද සංගණනය අනුව ජර්මනිය තුළ විදේශිකයන් 13,42,294 ක් වූ අතර, 4,40,800 ක් දෙනා කාර්මික කම්කරුවන්ද 2,57,329 ක් දෙනා කෘෂිකාර්මික කම්කරුවන් ද වූහ.** ප්‍රංශයේ ආකර කර්මාන්තයේ නියුක්ත කර සිටින කම්කරුවන් ගෙන් "විශාල කොටසක්" විදේශිකයන් ය— පෝලන්ත ජාතිකයන්,ඉතාලියානුවන් සහ ස්පාඤ්ඤ ජාතිකයන්ය.*** එක්සත් ජනපදයේ නැගෙනහිර හා දකුණු යුරෝපීය ආගාමික කම්කරුවන් ඉතාමත් අඩු වැටුප් ලබන රැකියාවල යෝදවා ඇත. ඒ අතර ඕවර්සියර්වරුන් ගෙන් සහ වඩා හොඳ වැටුප් ලබන කම්කරුවන් ගෙන් වැඩි ප්‍රතිශතයක් ඇමෙරිකානු ජාතිකයෝ වෙති. ****කම්කරුවන් අතර ද වරප්‍රසාද

* Schulze-Gaevernitz. "Britischer Imperialismus", S. 301.

** Statistik des Deutschen Reichs, Bd. 211 (ජර්මන් රාජ්‍ය සංඛ්‍ය ලේඛන, වෙළුම 211 — සංස්කාරක).

*** Henger. "Die Kapitalsanlage der Französen". Stuttgart, 1913.

**** Hourwich. "Immigration and Labour". New York, 1913 (හුර්විච්, "ආගමනය සහ කම්කරුවන්" නිව්යොක්, 1913. — සංස්කාරක).



ලත් කොටස් ඇති කර, ඔවුන් පුළුල් නිර්ධන පංති කොටස් ඇති කර, වෙන්කර ගැනීමේ ප්‍රවණතාවයක් අධිරාජ්‍යවාදය කෙරෙහි දක්නට ලැබේ.

කම්කරුවන් භේද කිරීම, ඔවුන් අතර අවස්ථාවාදය ශක්තිමත් කිරීම හා කම්කරු පංති ව්‍යාපාරයේ තාවකාලික දිරාපත් වීමකට කටයුතු සැලැස්වීම වෙත එල්ල වූ බ්‍රිතාන්‍ය අධිරාජ්‍යවාදයේ ප්‍රවණතාවය දහනවවැනි ශත වර්ෂයේ අවසානයට සහ විසිවැනි ශත වර්ෂයේ ආරම්භයට වඩා බොහෝ ඉහතදීම පෙනෙන්නට තිබුණි. මක්නිසාද යත් දහනව වැනි ශතවර්ෂයේ මැද භාගයේදීම, අධිරාජ්‍යවාදයේ ආවේණික අංග ලක්ෂණ දෙක මහා බ්‍රිතාන්‍යය කෙරෙහි දක්නා ලද හෙයිනි. එම ලක්ෂණ නම්, හිමි කර ගත් අති විශාල යටත් විජිතයන් සහ ලෝක වෙළඳ පොළේ ඒකාධිකාරී තත්වය ය. කම්කරු පංතියේ අවස්ථාවාදයත්, බ්‍රිතාන්‍ය ධනපති ක්‍රමයේ අධිරාජ්‍යවාදී අංග ලක්ෂණත්, අතර සම්බන්ධය ගැන මාක්ස් සහ එංගල්ස් දශක ගණනක් තිස්සේ විමර්ශනය කළහ. එංගල්ස් 1858 ඔක්තෝබර් 7 දින මාක්ස්ට පහත සඳහන් පරිදි ලියූ බව නිදසුනක් ලෙසට දැක්විය හැක: "ඉංග්‍රීසි නිර්ධන පංතිය එන්න එන්නම ධනපති වෙමින් පවතී. ඒ අනුව, සියළුම ජාතීන් අතුරෙන්, වැඩියෙන්ම ධනපති වන ජාතිය අරමුණු කරන්නේ, අවසාන වශයෙන්, ධනපති පංතිය හා සමග එක පෙළට ධනපති රදළ පෙළැන්තියක් සහ ධනපති නිර්ධනයන් පිරිසක් ඇති කර ගැනීම බව පෙනෙන්නට තිබේ. මුළු ලෝකයම සූරා කන ජාතියක් මෙසේ කිරීම එක්තරා දුරකට සාධාරණය". ඊට ශත වර්ෂ කාලකට පමණ පසුව එංගල්ස් ලියූ 1881 අගෝස්තු 11 දිනැති ලිපියක, "මධ්‍යම පංතියට විකුණුනු නැතහොත්, යටත් පිරිසෙයින්, මධ්‍යම පංතියෙන් ගෙවීම් හෝ ලබන මිනිසුන්ට තම නායකත්වය ගැනීමට ඉඩදෙන, නරකම ඉංග්‍රීසි වෘත්තීය සමිති" ගැන සඳහන් කර ඇත. එංගලස් 1882 සැප්තැම්බර් 12 දින කෞට්ස්කිට ලියූ ලිපියක මෙසේ සඳහන් කළේය: "යටත් විජිත ප්‍රතිපත්තිය ගැන ඉංග්‍රිසි කම්කරුවන් සිතන්නේ කුමක්දැයි ඔබ මගෙන් විමසන්නෙහිය. ඔවුන් ඒ ගැන සිතන්නේ ද සාමාන්‍යයෙන් දේශපාලනය ගැන සිතන දේමය. මෙහි කම්කරුවන්ගේ පක්ෂයක් නොමැත. ඇත්තේ ගතානුගතික කොන්සවටිව් පාක්ෂිකයන් හා ලිබරල්-උන්නතිකාමීන් පමණකි. එම තත්වය යටතේ, කම්කරුවෝ ලෝක වෙළඳ පොල සහ යටත් විජිත සම්බන්ධයෙන් එංගලන්තයට ඇති ඒකාධිකාරය පිළිබඳ භෝජන සංග්‍රහයේ කොටස් කරුවන් වශයෙන් ප්‍රීතියෙන් එයට සම්බන්ධ වෙති".* (1892 හි නිකුත්වූ "එංගලන්තයේ කම්කරු පංතියේ තත්වය"

* Briefwechsel von Marx und Engels, Bd. II, S. 290; IV, 433

යන පොතෙහි දෙවැනි සංස්කරණයට එංගල්ස් ලියූ පෙර වදනෙන්ද පුවත් පත් මගින්ද ඔහු එවැනි අදහස් පළ කළේය).

හේතු සහ ප්‍රතිඵල යන දෙකම මෙයින් මනාව පැහැදිලි වේ. හේතු මෙසේය: (1) මෙම රට විසින් මුළු ලෝකයම සූරා කනු ලැබීම (2) යටත් විජිත ඒකාධිකාරය. ප්‍රතිඵල මෙසේය. (1) බ්‍රිතාන්‍ය නිර්ධන පංතියෙන් කොටසක් ධනපති වෙයි. (2) ධනපති පංතිය විසින් මිළයට ගන්නා ලද නැතහොත්, යටත්පිරිසෙයින් ගෙවනු හෝ ලබන, මිනිසුන්ට තම නායකත්වය ගැනීමට බ්‍රිතාන්‍ය කම්කරු පංතියේ කොටසක් ඉඩ දෙයි. විසිවෙනි ශත වර්ෂයාරම්භයේ අධිරාජ්‍යවාදය, ලෝකය රාජ්‍යයන් අතලොස්සක් අතර බෙදා ගැනීම සම්පූර්ණ කළේය. අද ඉන් සෑම රාජ්‍යයක්ම "මුළු ලෝකයෙන්" කොටසක් (ඉන් සුපිරි ලාභ ලබන අර්ථයෙන්) සූරා කන්නේය. ඉන් එක් එක් රාජ්‍යය සූරා කන ප්‍රමාණය 1858 දී එංගලන්තය සූරා කෑ ප්‍රමාණයට වඩා ස්වල්පයක් කුඩාය. සංගත ව්‍යාපාර, කාටල, මූල්‍ය ප්‍රාග්ධනය සහ ණය හිමි සහ ණයකාර රටවලට ස්තූති වන්නට, ඒ හැම රාජ්‍යයක්ම ලෝක වෙළඳ පොලෙහි ඒකාධිකාරී තත්වයක් උසුලයි. ඒ හැම රාජ්‍යයක්ම එක්තරා ප්‍රමාණයකට යටත් විජිත ඒකාධිකාරයක් භුක්ති විඳියි. (වර්ග කිලෝමීටර් 7,50,00,000 ක් වූ මුළු යටත් විජිත ලෝකයෙන් වර්ග කිලෝමීටර් 6,50,00,000 ක්, නැතහොත්, සියයට 86 ක් බලවත් රාජ්‍ය හයකටත්, වර්ග කිලෝමීටර් 6,10,00,000 ක්, නැතහොත්, සියයට 81 ක් බලවත් රාජ්‍ය තුනකටත් අයත් බව අපි දුටුවෙමු).

වර්තමාන තත්වයට විශේෂවූ අංග ලක්ෂණය නම්, අවස්ථාවාදයත්, කම්කරු පංති ව්‍යාපාරයේ පොදු සහ අත්‍යවශ්‍ය උවමනාවනුත් අතර පවතින නොසමහන්කාරී පරතරය ඒකාන්ත ලෙස වැඩි වීමට රුකුල් දෙන ආර්ථික හා දේශපාලන තත්වයන් බල පැවැත්වීමයි. අධිරාජ්‍යවාදය කලල අවස්ථාවේ සිට ප්‍රබල ක්‍රමයක් බවට පත් වී ඇත. ආර්ථිකයේ සහ දේශපාලනයෙහි ප්‍රධාන තැන ධනපති ඒකාධිකාරයන්ට හිමිව ඇත. ලෝක බෙදගැනීම සම්පූර්ණ වී ඇත. අනිත් අතට, මහා බ්‍රිතාන්‍යයේ තනි ඒකාධිකාරය වෙනුවට, මෙම ඒකාධිකාරයෙන් කොටසක් ලැබීමේ අයිතිය සඳහා තරඟ කරන බලවත් අධිරාජ්‍යවාදී රාජ්‍යයන් කීපයක් අපට

(මාක්ස් හා එංගල්ස් අතර හුවමාරු වූ ලිපි, වෙළුම 11, පිටු 290. — සංස්කාරක). Karl Kautsky. "Sozialismus und Kolonialpolitik". Berlin, 1917, පිටු 79 (කාල් කෞට්ස්කි, "සමාජවාදය සහ යටත් විජිත ප්‍රතිපත්තිය" බර්ලින්. 1907 — සංස්කාරක); කාල් කෞට්ස්කි මෙම පොත ලියුවේ ඔහු මාක්ස්වාදියෙකුව සිටි ඒ ඇත කාලයේදීය.



දක්නට ලැබේ. එමෙන්ම මෙම අරගලය විසිවැනි ශත වර්ෂයේ මුළු ප්‍රාරම්භක කාල සීමාවේම ස්වභාව ලක්ෂණය විය. දහනව වැනි ශත වර්ෂයේ දෙවැනි භාගයේ බ්‍රිතාන්‍යයේ සිදුවූ ලෙසට දැන් එක රටක කම්කරු පංතිය තුළ අවස්ථාවාදය දශක ගණන් තිස්සේ සම්පූර්ණයෙන්ම විජය ග්‍රාහීව පැවතීමට පුළුවන් කමක් නැත. එහෙත් රටවල් ගණනාවකම, එය පැසී, ඉදී හා කුණු වී ගොස්, "සමාජ-ජාත්‍යෝන්මාදවාදයේ" ස්වභාවය ගත් ධනපති ප්‍රතිපත්තිය හා සමග සම්පූර්ණයෙන්ම සංයෝග වී ඇත.*

## IX. අධිරාජ්‍යවාදය පිළිබඳ විවරණය

අධිරාජ්‍යවාදය පිළිබඳ විවරණයක් යන පාඨයෙන්, එහි පුළුල් අර්ථය අනුව, අප අදහස් කරන්නේ, සමාජයේ විවිධ පංති, ඒවායේ දෘෂ්ටිය අනුව අධිරාජ්‍යවාදී ප්‍රතිපත්තිය කෙරෙහි දක්වන ආකල්පයයි.

කුඩා හා මධ්‍යම ප්‍රමාණයේ ධනිපතියන් පමණක් නොව, ඉතා කුඩා ධනපතියන් සහ කුඩා සේවායෝජකයන් පවා යටපත් කර ගන්නා, අසාමාන්‍ය තරම් ඝන සහ පැතිරී ගිය සම්බන්ධ කම් ජාලයක් නිර්මාණය කරන, එමෙන් ම ඉතා ස්වල්ප දෙනෙකු අත සංකේන්ද්‍රණය වී තිබෙන මූල්‍ය ප්‍රාග්ධනයෙහි දැවැන්ත පරිමාණය නිසා එක් අතකින් ද, ලෝකය බෙදගැනීම සහ අනිකුත් රටවල් මත ආධිපත්‍ය පැතිරවීම සඳහා අනෙකුත් ජාතික රාජ්‍ය කණ්ඩායම් වලට විරුද්ධව කරගෙන යන, එන්න එන්නම උත්සන්න වන අරගලය නිසා අනිත් අතින්ද දේපල හිමි පංතිය, සම්පූර්ණයෙන්ම අධිරාජ්‍යවාදයේ පැත්තට තල්ලු වීමට කටයුතු සැලසේ. අධිරාජ්‍යවාදයෙන් ඇතිකරන බලාපොරොත්තු පිළිබඳ "පොදු" උද්යෝගය, අධිරාජ්‍යවාදය ආවේශයෙන් මෙන් ආරක්ෂා කිරීම හා එය දීප්තිමත් වර්ණයෙන් සැරසීම යන මේවා, වර්තමානයේ සලකුණු බවට පත් වී තිබේ. අධිරාජ්‍යවාදී දෘෂ්ටිය කම්කරු පංතිය තුළටද කා වැදෙයි. එය වෙනත් පංති වලින් වෙන් කරන චීන මහා ප්‍රාකාරයක් නොමැත්තේය. ජර්මනියේ වර්තමාන ඊනියා "සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී" පක්ෂයේ නායකයන් යුක්තා යුක්ති ලෙසම "සමාජ-අධිරාජ්‍යවාදීන්" ලෙසට හඳුන්වනු ලැබේ. ඔවුන්

* පොත්‍රෙසව්ලා, චෙහෙන්කේලිලා, මාස්ලව්ලා ආදීන් විසින් නියෝජනය කරනු ලබන රුසියානු සමාජ-ජාත්‍යෝන්මන්මාදවාදයේ විවෘත ආකාරයත් (එහෙයිද්සේ, ස්කොබිලෙව්, අක්සල්රොද්, මාර්තව්, ආදීන් විසින් නියෝජනය කරනු ලබන එහි) ආවෘත ආකාරයත් බිහිවූයේ ලික්විඩේෂනිසම් යන රුසියානු අවස්ථාවාදය තුළිනි.

එසේ හඳුන්වනු ලබන්නේ, ඔවුන් වචනයෙන් සමාජවාදීන් සහ ක්‍රියාවෙන් අධිරාජ්‍යවාදීන් වන නිසාය. නමුත් බ්‍රිතාන්‍යයේ අවස්ථාවාදී ''ෆේබියන් — සමාජයට''[42] අයත් ''ෆේබියන් — අධිරාජ්‍යවාදීන්'' සිටි බව හොබ්සන් සටහන් කළේ 1902 තරම් ඈත අතීතයේදීය.

ධනපති උගත්තු සහ ප්‍රකාශකයෝ සාමාන්‍ය වශයෙන් තරමක් අනියම් ආකාරයෙන් අධිරාජ්‍යවාදය ආරක්ෂා කරති. අධිරාජ්‍යවාදයේ සම්පූර්ණ ආධිපත්‍යය සහ එහි ගැඹුරුගාමී මුල් පැහැදිලි ලෙස දක ගැනීම අපහසු කරන ඔවුහු, එක් එක් විශේෂ කරුණු සහ ද්විතීය කරුණු ඉදිරියට තල්ලු කරති. ඒ අනුව, සංගත ව්‍යාපාර හෝ බැංකු, පොලිස් පරිපාලනයට යටත් කිරීම වැනි ''ප්‍රතිසංස්කරණ'' සඳහා ඉදිරිපත් කරන, ඉතාමත් හාස්‍ය ජනක යෝජනා මගින් අවධානය නො මඟට යොමු කිරීමට ඔවුහු හැකි සියල්ලක්ම කරති. අධිරාජ්‍යවාදයේ මූලික අංග ලක්ෂණ ප්‍රතිසංස්කරණය කිරීමේ අදහස නොයෙදෙන්නක් බව පිළිගැනීමට තරම් බිය සැක නොමැතිව, කරුණු නොසඟවා කථා කරන සහ දුර්ගුණ පෙන්නුම් කරන අධිරාජ්‍යවාදීන් විරළ ප්‍රපංචයක් වේ.

නිදර්ශනයක් මෙන්න. ''ලෝක ආර්ථික ලේඛනාගාරය'' නැමති සඟරාව මගින් යටත් විජිතවල ජාතික විමුක්ති ව්‍යාපාරය ගැන අවබෝධයක් ලබා ගැනීමේ ප්‍රයත්නයක්, ජර්මන් අධිරාජ්‍යවාදීන් දරා ඇත. නමුත් එහිදී අවධානය යොමුකර තිබෙන්නේ ජර්මනියට අයත් නොවන යටත් විජිත කෙරෙහිය. ඉන්දියාවේ විරෝධය පෑමේ ව්‍යාපාරයද, නතාල්හි (දකුණු අප්‍රිකාවේ) ව්‍යාපාරයද, ලන්දේසි නැගෙනහිර ඉන්දියානු දූපත්වල ව්‍යාපාරයද, යනාදිය ගැන ඔවුහු සටහන් කරති. ආසියාවේ, අප්‍රිකාවේ සහ යුරෝපයේ විදේශ පාලනයට යටත් ජාතීන් ගේ සහ ජන වර්ගවල නියෝජිතයින් ගේ සහභාගිත්වයෙන් 1910 ජූනි 28—30 දින පැවැත්වුනු සාකච්ඡා සම්මේලනයක් ගැන වූ ඉංග්‍රීසි වාර්තාවක් විවේචනයට ලක් කරන ඉන් එක් අයෙක්, එම සම්මේලනයේදී කරන ලද කතා ගැන අගය කරමින් මෙසේ ලියා ඇත: ''අප අධිරාජ්‍යවාදයට විරුද්ධව සටන් කළ යුතු යැයි අපට කියනු ලැබේ. නිදහස සඳහා යටත් ජාතීන්ට ඇති අයිතිය පාලක ජාතීන් පිළිගත යුතු බවත්, මහ බලවත් රටවල් සහ දුර්වල ජනතාවන් අතර ඇති කරගන්නා ලද ගිවිසුම් ක්‍රියාත්මක කිරීම, ජාත්‍යන්තර විනිශ්චය සභාවක් මගින් පරිපාලනය කළ යුතු බවත්, අපට කියනු ලැබේ. මෙම ධර්මිෂ්ඨ අපේක්ෂාවන් ප්‍රකාශ කිරීමට වඩා එහාට ඔවුහු නොයති. අධිරාජ්‍යවාදය නොවෙන් කළ හැකි ලෙසට ධනපති ක්‍රමයේ වර්තමාන ආකාරය සමග එකට බැඳී තිබෙන බව හා එනිසා (!!) සමහර විට අධිරාජ්‍යවාදයේ, විශේෂයෙන්ම පිළිකුල් සහගත කෲරතර ක්‍රියාවන්ට විරෝධය පෑමට සීමා කළ සටනක් මිස, අධිරාජ්‍යවාදයට විරුද්ධව කරන විවෘත



සටනක් කිසිසේත් ජයග්‍රහණය කළ නොහැකිය යන අවබෝධයේ ඡායා මාත්‍රයක්වත් අපට දක්නට නැත''.* අධිරාජ්‍යවාදයේ පදනම ප්‍රතිසංස්කරණය කිරීම යනු රැවටිල්ලක් හා ''ධර්මිෂ්ඨ අපේක්ෂාවක්'' වන නිසා, පීඩිත ජනතාවන්ගේ ධනපති පංති නියෝජිතයෝ ''තව දුර'' ඉදිරියට නොයන නිසා, පීඩිත ජනතාවන්ගේ ධනපති පංති නියෝජිතයෝ ''විද්‍යාත්මක'' වීමට ඇති අයිතිය නැමති කඩතුරාවට මුවාවී සිටිමින් අධිරාජ්‍යවාදයට දස වීමේ තත්වය දක්වා තව දුර ආපසු යති. එහිද ''තර්කයක්'' ඇත!

අධිරාජ්‍යවාදයේ පදනම ප්‍රතිසංස්කරණය කළ හැකිද, එයින් ජනිත කෙරෙන ප්‍රතිවිරෝධයන් තවදුරටත් උත්සන්න කිරීමට ඉදිරියට යා යුතුද, නැතහොත් මෙම ප්‍රතිවිරෝධයන් සමහන් කිරීම දක්වා ආපසු යන්නේද, යන ප්‍රශ්න අධිරාජ්‍යවාදය පිළිබඳ විවරණයෙහි මූලික තැනක් ගත්තේය. සෑම දේශයකම ප්‍රතිගාමීත්වයයත්, මූල්‍ය කතිපයාධිපත්‍යයත්, නිදහස් තරඟය අහෝසි කිරීම නිසා වැඩි වූ ජාතික පීඩනයත් අධිරාජ්‍යවාදයේ විශේෂ දේශපාලන අංග ලක්ෂණ වන හෙයින්, විසිවැනි ශත වර්ෂය ආරම්භයේ, සියළුම අධිරාජ්‍යවාදී රටවල පාහේ, අධිරාජ්‍යවාදයට පටහැණි සුළු-ධනේශ්වර-ප්‍රජාතන්ත්‍රවාදී විරුද්ධ පාර්ශවයක් ඇති විය. මෙම සුළු ධනේශ්වර ප්‍රතිසංස්කරණවාදී විරුද්ධ පාර්ශවය, එහි ආර්ථික පදනම අනුව, ඇත්ත වශයෙන්ම ප්‍රතිගාමීය. කෞට්ස්කි එම විරුද්ධ පාර්ශවයට විරුද්ධත්වයක් දැක්වීමට තරම් කරදර වූයේ නැත. එයට විරුද්ධ වීමේ හැකියාවක් ඔහුට නොතිබිණි. එපමණක් නොව, ඔහු ව්‍යවහාරයේදී ඒ හා සමග සංයෝග විය. කෞට්ස්කි සහ කෞට්ස්කිවාදී පුළුල් ජාත්‍යන්තර ප්‍රවණතාවය මාක්ස්වාදය හැර දමා ගියේ හරියටම මෙතැනදීය.

එක්සත් ජනපදය ස්පාඤ්ඤයට විරුද්ධව කළ අධිරාජ්‍යවාදී යුද්ධය නිසා, එහි ධනපති ප්‍රජාතන්ත්‍රවාදයේ අන්තිම වීරයා වූ ''අධිරාජ්‍ය — විරෝධීන්ගේ'' විරෝධය මතු විය. එය ''සාපරාධී'' යුද්ධයක් බව ප්‍රකාශ කළ ඔවුහු, එය විදේශ ප්‍රදේශ අත්පත් කරගැනීම යන ව්‍යවස්ථාව උල්ලංඝනය කිරීමක් සේ සැලකූහ. පිලිපයින නායක අග්විනාල්දෙට සලකන ලද ආකාරය (ඔහුගේ රටට නිදහස දෙන බව ඇමෙරිකානුන් පොරොන්දු වූ නමුත්, පසුව හමුද ගොඩබස්වා එය අල්ලා ගන්නා ලදී) ''අධිරාජ්‍යවාදී ද්‍රෝහි කමක්'' බව ප්‍රකාශ කරමින්, ඔවුහු ලින්කන් ගේ මෙම වචන උපුටා දැක්වූහ. ''සුදු මිනිසා තමන් ආණ්ඩු කර ගන්නා විට, එය ස්වයං-පාලනයයි; එහෙත් ඔහු තමන්ම හා වෙනත් අයද පාලනය කරන විට එය

* Weltwirtschaftliches Archiv, Bd. II. S. 198 (ලෝක ආර්ථික ලේඛණාගාරය, වෙළුම , පිටු 198 — සංස්කාරක).

ස්වයං පාලනය නොවේ. එවිට එය සර්වාධිකාරය වන්නේය''. * එසේ වුවද, මෙම විවේචනය, අධිරාජ්‍යවාදය හා සංගත ව්‍යාපාර අතර තිබෙන-නොබිඳිය හැකි සම්බන්ධකම් නොපිළිගත් හෙයින්ද, එනිසාම, අධිරාජ්‍යවාදය සහ ධනපති ක්‍රමයේ පදනම් අතර සම්බන්ධයන් නොපිළිගත් හෙයින්ද, මහා පරිමාණ ධනපති ක්‍රමයෙන් සහ එහි සංවර්ධනයෙන් ජනිත වූ බලවේගයන් සමග අත්වැල් නොබැඳගත් හෙයින්ද, මහා පරිමාණ ධනපති ක්‍රමයෙන් සහ එහි සංවර්ධනයෙන් ජනිත වූ බලවේගයන් සමග අත්වැල් නොබැඳගත් හෙයින්ද ඒ තාක් දුරට, එය ''ධර්මිෂ්ඨ අපේක්ෂාවක්'' පමණක් විය.

හොබ්සන් අධිරාජ්‍යවාදය ගැන කළ විවරණයේදී, ඔහුද ප්‍රධාන වශයෙන් දක්වූයේ, මෙම ආකල්පයමය. ''අධිරාජ්‍යවාදයේ අනිවාරණීයභාවය'' පිළිබඳ තර්කයට විරෝධය දක්වීමටත්, (ධනපති ක්‍රමය යටතේ!) ජනතාවගේ ''පාරිභෝගික හැකියාව වැඩි කිරීමේ'' අවශ්‍යතාවය ගැන කියා සිටීමටත් කෞට්ස්කි ඉදිරිපත් වෙතැයි හොබ්සන් පූර්වානුමානය කළේය. මා නිතර උපුටා දක්වූ කොටස්වල කතුවරු වූ අගාද්, ඒ. ලාන්ස්බුර්ග්, එල්. එෂ්වේගේ සහ ප්‍රංශ ලේඛකයන් අතුරෙන්, 1900 දී පළවූ ''එංගලන්ත අධිරාජ්‍යවාදය'' යන නොගැඹුරු පොතෙහි කර්තෘ වූ වික්තොර් බෙරාර් ද වැනි ලේඛකයෝ, අධිරාජ්‍යවාදය ගැන විවරණ කිරීමේදී බැංකුවල, මූල්‍ය කතිපයාධිපතිත්වයේ, යනාදියෙහි, සර්වබලධාරිත්වය පිළිබඳ සුළු ධනේශ්වර අදහස පිළිගත්හ. තමන් මාක්ස්වාදීන් වන බවට කිසිම අයිතිවාසිකමක් නොකියන මෙම කතුවරු සියළු දෙනාම, අධිරාජ්‍යවාදය නිදහස් තරඟයටත්, ප්‍රජාතන්ත්‍රවාදයටත් වෙනස් බව පෙන්වති; සට්ටන සහ යුද්ධයට මඟ පාදන බැග්ඩෑඩ් දුම්රිය මාර්ග යෝජනා ක්‍රමය හෙළා දකිති. සාමය සඳහා ධර්මිෂ්ඨ අපේක්ෂාවන් පළ කරති; එවැනි වෙනත් දේ කරති. ජාත්‍යන්තර ස්කන්ධ හා කොටස් නිකුතුව පිළිබඳ සංඛ්‍යා ලේඛණ සංග්‍රාහකයා වන, එ. නේයිමාර්ක්ටද මෙය අදාළ වන්නේය. ෆ්‍රෑන්ක් කෝටි සිය ගණනක් වූ ජාත්‍යන්තර සුරැකුම් පත් ගණනය කිරීමෙන් පසුව, ඔහු 1912 දී විස්මිතව මෙන් මෙසේ ප්‍රකාශ කළේය. ''සාමයට බාධා කෙරෙනු ඇතැයි විශ්වාස කිරීමට පුළුවන් කමක් තිබේද?.. මෙම අති දැවැන්ත සංඛ්‍යාවක් බල බලාම, යමෙක් යුද්ධයක් ඇරඹීමේ අවදානම් පියවර තබනු ඇතැයි විශ්වාස කළ හැකිද?'' **

* J. Patouillet. "L'imperialisme américain". Dijon, 1904, S. 272 (ජේ. පතුයියේ, ''ඇමෙරිකානු අධිරාජ්‍යවාදය''. දිජෝන්, 1904, පිටු 272. — සංස්කාරක).

** Bulletin de l'institut international de statistique. T. XIX, livr. II, p. 225.



ධනපති විද්‍යාඥයන්ගේ සරල ස්වභාවයේ මානසිකත්වය පුදුමයට කරුණක් නොවේ. එපමණක් නොව එතරම් බොළඳ ස්වභාවයක් පෙන්වමින්, අධිරාජ්‍යවාදය යටතේ සාමය ගැන කථා කිරීම ඔවුන්ගේම වාසියට හේතු වන්නේය. නමුත් කෞට්ස්කි 1914, 1915 හා 1916 දී එම ධනපති ප්‍රතිසංස්කරණවාදී අදහසම පිළිගනිමින්, සාමය පිළිබඳ කාරණයෙහි දී ''සියළු දෙනාම'' (අධිරාජ්‍යවාදීන්, ව්‍යාජ සමාජවාදීන් සහ සමාජ — සමාදනවාදීන්) ''එකඟ වෙති'' යි සහතික කරන කල, ඔහුගේ මාක්ස්වාදයෙන් ඉතිරිවන්නේ කුමක්ද? අධිරාජ්‍යවාදය කරන ලද විශ්ලේෂණයන් හා එහි ප්‍රතිවිරෝධතාවයන් ගේ ගැඹුරු ස්වභාවය හෙළිදරව් කිරීම වෙනුවට, මෙහි ඇත්තේ ඒවා ඉවත ලන සහ ඒවා මඟ හරින ප්‍රතිසංස්කරණවාදී ''ධර්මිෂ්ඨ අපේක්ෂාවක් පමණකි.

අධිරාජ්‍යවාදය ගැන කෞට්ස්කි කරන විවේචනයක නිදර්ශනයක් මෙන්න. ඔහු 1872 සහ 1912 වර්ෂ සඳහා බ්‍රිතාන්‍යය සහ ඊජිප්තුව අතර වූ අපනයන සහ ආනයන වෙළඳාම හා සම්බන්ධ සංඛ්‍යා ලේඛණ ගනී. මෙම අපනයන සහ ආනයන වෙළඳාම, සමස්ත බ්‍රිතාන්‍ය විදේශ වෙළදමට වඩා අඩු වේගයකින් සංවර්ධනය වී තිබෙන බවක් පෙනේ. ඒ අනුව කෞට්ස්කි බැස ගන්නා නිගමනය මෙයයි. ''ඊජිප්තුව යුද්ධමය වශයෙන් යටත් කරගෙන නොතිබුණත්, හුදෙක් ආර්ථික සාධකයන්ගේම ක්‍රියාකාරිත්වය නිසා, එරට සමග කරන බ්‍රිතාන්‍ය වෙළෙඳාම අඩුවන්නට ඉඩක් තිබිනැයි යනු අදහස් කිරීමට අපට හේතුවක් නො පෙනේ''. ''ප්‍රසාරණය වීම සඳහා ප්‍රාග්ධනයෙහි ඇති උද්වේගය'' දිරිගැන්වීමේ හොඳම මාර්ගය අධිරාජ්‍යවාදයේ හිංසාකාරී විධි නොව, සාමකාමී ප්‍රජාතන්ත්‍රවාදයයි''. *

කෞට්ස්කිගේ මෙම තර්කය, ඔහුගේ රුසියානු සන්නාහධාරියා (සමාජ-ජාත්‍යෝන්මාදවාදීන්ගේ රුසියානු ආරක්ෂකයා) වන ස්පෙක්ටේටර් මහතා විසින්ද, එම ස්වරයෙන්ම ප්‍රතිරාවය දෙවනු ලැබේ. අප වඩාත් විස්තර සහිත ලෙස ඒ ගැන විමසා බැලිය යුත්තේ එහෙයිනි. අපි හිල්පර්දිංගේ ප්‍රකාශයක් උපුටා දක්වමින් පටන් ගනිමු. බොහෝ විට ඔහුගේ නිගමනයන්, විශේෂයෙන්ම 1915 අප්‍රේල් මස ඔහු කළ නිගමනය ''සියළුම සමාජවාදී න්‍යායවාදීන් විසින් ඒකමතික ලෙස පිළිගන්නා ලදී'' යි කෞට්ස්කි ප්‍රකාශ කර තිබේ.

හිල්පර්දිං මෙසේ ලියයි: ''නිදහස් වෙළඳාම පැවති සේම රජයට සතුරු ආකල්පයක් දක්වූ, පසුගිය යුගයේ ධනපති ප්‍රතිපත්තිය හා සමග,

* Kautsky. "Nationalstaat, imperialistischer Staat und Staatenbund". Nürnberg, 1915, පිටු 72 සහ 70 (කෞට්ස්කි, ''ජාතික රාජ්‍යය, අධිරාජ්‍යවාදී රාජ්‍යය සහ රාජ්‍ය සංගමය''. නූරන්බර්ග්. — සංස්කාරක).

වඩාත් ප්‍රගතිශීලී ප්‍රතිපත්තිය විසංසන්දනය කිරීම නිර්ධන පංතියේ කාර්යය නොවේ. මූල්‍ය ප්‍රාග්ධනයේ, නැතහොත්, අධිරාජ්‍යවාදයේ ආර්ථික ප්‍රතිපත්තියට ඔවුන්ගේ පිළිතුර විය යුත්තේ, නිදහස් වෙළඳාම නොව, සමාජවාදයයි. නිර්ධන පංතියේ අද පරමාර්ථය විය යුත්තේ, ධනපති ක්‍රමය අහෝසි කිරීම මගින්, තරඟය සම්පූර්ණයෙන්ම අහෝසි කර දැමීම මිස නිදහස් තරඟය යළි ස්ථාපිත කිරීම නොවේ; නිදහස් තරඟය දැන් ප්‍රතිගාමී පරමාදර්ශයක් වී තිබේ''. *

මූල්‍ය ප්‍රාග්ධනයේ අවධියේදී ''ප්‍රතිගාමී පරමාදර්ශයක්'' දේශනා කිරීමෙන්, එනම්, ''සාමකාමී ප්‍රජාතන්ත්‍රවාදය'' සහ ''ආර්ථික සාධකයන්ගේ සරල ක්‍රියාකාරිත්වය'' ගැන පක්ෂවාදී ලෙස කථා කිරීමෙන් කෞට්ස්කි මාක්ස්වාදයෙන් බිඳී ගියේය. මෙම පරමාදර්ශය අප, වාස්තවික වශයෙන්, ඒකාධිකාරී ධනපති ක්‍රමයේ සිට, ඒකාධිකාරී නොවන ධනපති ක්‍රමයට ඇදගෙන යන්නකි. එය ප්‍රතිසංස්කරණවාදී වංචාවකි.

යුද්ධමය යටත් කර ගැනීම නොමැතිව, අධිරාජ්‍යවාදය නොමැතිව, මූල්‍ය ප්‍රාග්ධනය නොමැතිව, ඊජිප්තුව සමග (නැතහොත් වෙනත් ඕනෑම යටත් විජිතයක් හෝ අර්ධ යටත් විජිතයක් සමග) වෙළෙඳාම තවත් වැඩිවන්නට ඉඩ තිබිණ''. මෙහි අර්ථය කුමක්ද? එහි අර්ථය පොදු වශයෙන් ඒකාධිකාර විසින්ද, නැතහොත් ''සම්බන්ධකම්'' වලින්ද, එනම්, මූල්‍ය ප්‍රාග්ධනයේ (එයද ඒකාධිකාරීමය) බන්ධන වලින්ද, එසේත් නැතහොත්, සමහර රටවල් ඒකාධිකාරී ලෙස යටත් විජිත හිමි කර ගෙන සිටීම නිසාද, නිදහස් තරඟය සීමා නොකරන ලද නම්, ධනපති ක්‍රමය වඩාත් සීඝ්‍රවන්නට තිබුණේය යන්න ද?

කෞට්ස්කිගේ තර්කයට වෙනත් අර්ථයක් තිබිය නොහැක. කිසිම වර්ගයක ඒකාධිකාරයක් නොමැතිව, නිදහස් තරඟය මගින් ධනපති ක්‍රමය හා වෙළඳාම වඩාත් සීඝ්‍ර ලෙස වර්ධනය වී යයි අපි උපකල්පනයක් වශයෙන් පිළිගනිමු. නමුත්, ධනපති ක්‍රමයේ සහ වෙළඳාමෙහි සංවර්ධන වේගය වැඩිවූ තරමට නිෂ්පාදන හා ප්‍රාග්ධන සංකේන්ද්‍රණයද වැඩි වේ. එයින් ඒකාධිකාර උද්ගත වේ. එසේම, ඒකාධිකාරයන් දැනටමත් ඇතිවී තිබේ. ඒවා ඇතිවූයේ නිදහස් තරඟය තුළින්මය! දැන් ඒකාධිකාරයන් ප්‍රගතියට බාධා කිරීමට පටන් ගෙන ඇතත්, එය නිදහස් තරඟයට පක්ෂ තර්කයක් සේ ගත නො හැකිය. ඒකාධිකාර උද්ගත කිරීම ඉටු කළ නිදහස් තරඟය, ඉන් පසු පැවතීමට නො හැකි තත්වයකට පත්ව ඇත.

අයෙක් කෞට්ස්කිගේ තර්කය මොන අතට හැරෙව්වත්, එය තුළ ප්‍රතිගාමිත්වය හා ධනපති ප්‍රතිසංස්කරණවාදය හැර වෙනත් කිසිවක් එහි දක්නට නොලැබේ.

---

* මූල්‍ය ප්‍රාග්ධනය, පිටු 567.



ස්පෙක්ටේටර් කියන ආකාරයට, අප මෙම තර්කය නිවැරදි කර, බ්‍රිතාන්‍යයේ යටත් විජිත රටවල් බ්‍රිතාන්‍යය සමග කරන වෙළඳාම දැන් සංවර්ධනය වන්නේ, බ්‍රිතාන්‍යය වෙනත් රටවල් සමග කරන වෙළඳාමට වඩා අඩු වේගයකින් යයි කීවත්, එයින්ද කෞට්ස්කිට ගැලවීමේ මගක් නොසැලසේ. බ්‍රිතාන්‍යයට එසේ පහර වදින්නේ ඒකාධිකාරයෙන් මය; අධිරාජ්‍යවාදයෙන් මය. වෙනසකට ඇත්තේ එය වෙනත් රටක (ඇමෙරිකාවේ සහ ජර්මනියේ) ඒකාධිකාරය වීමයි. කාටල නිසා, නව සහ විශේෂ ආකාරයක ආරක්ෂක තීරු බදු ගාස්තු ක්‍රමයක්, එනම්, අපනයනය සඳහා සුදුසු භාණ්ඩ ආරක්ෂා කිරීමේ ක්‍රමයක්, ඇරඹී තිබෙන බව ප්‍රකටය (''ප්‍රාග්ධනය'' 111 වෙළුමෙහි මේ ගැන එංගල්ස්ගේ සටහනක් ඇත)[43]. එමෙන්ම කාටල සහ මූල්‍ය ප්‍රාග්ධනය, ඒවාටම විශේෂවූ ක්‍රමයක්ද අනුගමනය කරන බව ප්‍රකටය. ඒවා අඩු මිළට භාණ්ඩ අපනයනය'' කරති. ඉංග්‍රීසින් මෙය හඳුන්වන්නේ භාණ්ඩ ප්‍රපාතනය යනුවෙනි. නියමිත රටක් තුළ, කාටල, ඒවායේ භාණ්ඩ, ඉහළ ඒකාධිකාරී මිළට අලෙවි කරති. නමුත් තරඟ කරුවා අමාරුවේ දැමීම, තමන්ගේම නිෂ්පාදන ව්‍යාප්ත කර ගැනීම, ආදිය සඳහා එම භාණ්ඩ ඊට වඩා බොහෝ අඩු මිළට විදේශයේ අලෙවි කරති. බ්‍රිතාන්‍ය යටත් විජිත සමග ජර්මනියේ වෙළඳාම සීඝ්‍ර ලෙස වර්ධනය වන්නේ නම්, එයින් ඔප්පු වන්නේ ජර්මන් අධිරාජ්‍යවාදය, බ්‍රිතාන්‍ය අධිරාජ්‍යයට වඩා තරුණ බවය; ශක්තිමත් බවය; හොඳින් සංවිධානය කර තිබෙන බවය; එය වඩාත් උසස් බවය. එය නිදහස් වෙළඳාමත්, ආරක්ෂණය හා යටත් විජිත ගැති භාවයත්,යන දෙක අතර සටනක් නොව, ප්‍රතිපාක්ෂික අධිරාජ්‍යවාද දෙකක්, ඒකාධිකාර දෙකක්, මූල්‍ය ප්‍රාග්ධන කණ්ඩායම් දෙකක්, අතර සටනකි. එබැවින්, නිදහස් වෙළඳාමේ ''උසස්බව''එයින් කිසි ලෙසකින් හෝ ඔප්පු වන්නේ නැත. බ්‍රිතාන්‍ය අධිරාජ්‍යවාදයට වඩා, ජර්මන් අධිරාජ්‍යවාදයේ ඇති උසස් බව, යටත් විජිත දේශ සීමා සහ ආරක්ෂක ගාස්තු නැමති ප්‍රාකාරයට වඩා ශක්තිමත්ය. මෙය නිදහස් වෙළඳාමට සහ ''සාමකාමී ප්‍රජාතන්ත්‍රවාදයට'' පක්ෂ ''තර්කයක්'' වශයෙන් යොදා ගැනීම අර්ථ විරහිත දෙයකි. එහි අදහස වන්නේ, අධිරාජ්‍යවාදයේ ස්වභාව ලක්ෂණයන් අමතක කිරීමයි; මාක්ස්වාදය වෙනුවට ධනපති ප්‍රතිසංස්කරණවාදය ආදේශ කිරීමයි.

ධනපති අර්ථ ශාස්ත්‍රඥයෙකු වූ, ඒ. ලාන්ස්බුර්ග් අධිරාජ්‍යවාදය ගැන කරන විවේචනය කෞට්ස්කිගේ විවේචනය මෙන්ම සුළු ධනේශ්වරවාදීය. එසේ වුවද, ඔහු පවා, කෞට්ස්කිට වඩා විද්‍යාත්මක ලෙස වෙළඳ සංඛ්‍යා ලේඛන ගැන අධ්‍යයනයකට සමීප වන බව සටහන් කරගැනීම වැදගත්ය. ඔහු හිතූ මතයට තෝරාගත් එකම රටක් හා එකම යටත් විජිතයක් අන්‍ය රටවල් සමග සංසන්දනය කිරීමේ ක්‍රමය අනුගමනය

නො කළේය. ඔහු අධිරාජ්‍යවාදී රටක වෙළඳාම විමර්ශනය කළේය; (1) මූල්‍ය වශයෙන් එයින් යැපෙන රටවල්ද, එයින් මුදල් ණයට ගන්නා රටවල්ද සමගත්, (2) මූල්‍ය වශයෙන් එයින් ස්වාධීන රටවල් සමගත්, එය කළ විදේශ වෙළඳාම පරීක්ෂා කළේය. ඔහු එයින් ලබා ගත් ප්‍රතිඵල මෙසේය:

ජර්මනියේ අපනයන වෙළෙඳාම

(මාර්ක් 10,00,000 ගණනින්)

| | | 1889 | 1908 | වැඩිවීම ප්‍රතිශතය |
|---|---|---|---|---|
| මූල්‍ය වශයෙන් ජර්මනියෙන් යැපෙන රටවල් | රුමේනියාව .... | 48.2 | 70.8 | 47 |
| | පෘතුගාලය ...... | 19.0 | 32.8 | 73 |
| | ආර්ජන්ටිනාව ... | 60.7 | 147.0 | 143 |
| | බ්‍රසීලය ......... | 48.7 | 84.5 | 73 |
| | චිලී .......... | 28.3 | 52.4 | 85 |
| | තුර්කිය ....... | 29.9 | 64.0 | 114 |
| | එකතුව ....... | 234.8 | 451.5 | 92 |
| මූල්‍ය වශයෙන් ජර්මනියෙන් ස්වාධීන රටවල් | මහා බ්‍රිතාන්‍ය .... | 651.8 | 997.4 | 53 |
| | ප්‍රංශය ......... | 210.2 | 437.9 | 108 |
| | බෙල්ජියම ..... | 137.2 | 322.8 | 135 |
| | ස්විට්සර්ලන්තය .. | 177.4 | 401.1 | 127 |
| | ඕස්ට්‍රේලියාව .... | 21.2 | 64.5 | 205 |
| | ලන්දේසි නැගෙනහිර ඉන්දියා කොදෙව් | 8.8 | 40.7 | 363 |
| | එකතුව ....... | •1206.6 | 2264.4 | 87 |

ලාන්ස්බුර්ග් නිගමනවලට එළඹියේ නැත. එනිසා මෙම සංඛ්‍යාවලින් ඔප්පුවන යම් දෙයක් ඇතොත්, ඒ ඔහු වැරදි බව යන්නය. පුදුමයකට මෙන් ඔහු ඒ බව දුටුවේ නැත. (ලාන්ස්බුර්ගේ සංඛ්‍යා කිසිසේත් සම්පූර්ණ ඒවා නොවන නිසා ඇතොත්'' යන්න අවධාරණය කෙළෙමි). ජර්මනියෙන් මූල්‍ය වශයෙන් යැපෙන රටවල අපනයනය, මූල්‍ය වශයෙන් ස්වාධීන රටවල කරන අපනයනයට වඩා සීඝ්‍ර ලෙස වර්ධනය වී තිබෙන බව පෙනේ.

අපනයනය හා ණය අතර සම්බන්ධය අනුව යමින් ලාන්ස්බුර්ග් මෙසේ ලීවේය:



''1890—1891 දී ජර්මන් බැංකු මාර්ගයෙන් රුමේනියාවට ණයක් දීමට කටයුතු කරන ලදී. ඒවන විටත් කලින් අවුරුදුවලදී, එම බැංකු ණය මුදලෙන් අත්තිකාරම් දී තිබුණි. එය ප්‍රධාන වශයෙන් උපයෝගි කරගන්නා ලද්දේ ජර්මන් දුම්රිය මාර්ග සඳහා අවශ්‍ය ද්‍රව්‍ය මිළට ගැනීමටය. 1891 දී ජර්මනියෙන් රුමේනියාවට අපනයනය කළ භාණ්ඩවල වටිනාකම මාර්ක් කෝටි 5.5 ක් විය. ඊළඟ අවුරුද්දේ එය මාර්ක් කෝටි 3.94 දක්වා අඩු වී, නැවත අඩු වැඩි වීම්වලින් පසුව 1900 දී එය මාර්ක් කෝටි 2.54 ක් විය. අළුත් ණය මුදල්වලට ස්තූති වන්නට, එය 1891 වර්ෂයේ මට්ටමට නැවත ඉහළ ගියේ ඉතා මෑත අවුරුදුවලදී පමණකි.

''ජර්මනිය 1889 —1890 දී පෘතුගාලයට ණය මුදල් දීමෙන් පසුව, ජර්මනිය එරටට අපනයනය කළ භාණ්ඩ වටිනාකම, (1890) මාර්ක් 2,11,00,000 දක්වා වැඩි විය. නැවත ඊළඟ අවුරුදු දෙකෙහිදී, එය 1,62,00,000 හා 74,00,000 දක්වා අඩුවී, කලින් තිබුණු මට්ටමට පත් වූයේ 1903 දී පමණකි.

''ජර්මනිය ආජන්ටිනාව සමග කළ වෙළඳාමට අදළ සංඛ්‍යාවලින්, ඊටත් වඩා හොඳට කරුණු පැහැදිලි වේ. 1888 දී ණය මුදල් දීමට කටයුතු කරන ලදී. ජර්මනිය ආර්ජන්ටිනාවට කළ අපනයනය මාර්ක් 6,07,00,000 (1889) දක්වා වැඩි විය. අවුරුදු දෙකකට පසු එහි වටිනාකම වූයේ මාර්ක් 1,86,00,000 ක් පමණකි — එනම් කලින් වර්ෂයෙන් තුනෙන් පංගුවකට අඩු ප්‍රමාණයකි. එය 1889 මට්ටමට පැමිණ, එය ඉක්මවා යාම සිදු වූයේ, විදුලි බලාගාර ඉදි කිරීම පිණිස අත්තිකාරම් සහිතව රජය සහ නගර සභා මගින් ණය මුදල් දීමත්, වෙනත් ණය ගනුදෙනුත් හේතු කොට ගෙනය.

''1889 වර්ෂයේ ණය මුදලෙහි ප්‍රතිඵලයක් වශයෙන් චිලී රටට අපනයනය (1892 දී) මාර්ක් 4,52,00,000 දක්වා වැඩි විය. නමුත් අවුරුද්දකට පසුව එය මාර්ක් 2,25,00,000 දක්වා පහත වැටින. ජර්මන් බැංකු විසින් චිලී රටට 1906 දී අළුත් ණය මුදලක් දෙන ලදී. අනතුරුව 1907 දී අපනයනය, මාර්ක් 8,47,00,000 දක්වා වැඩි වී, නැවත 1908 දී එය 5,24,00,000 දක්වා පහත වැටුනේය''. *

මෙම කරුණු ආධාර කර ගන්නා ලාන්ස්බුර්ග් ණය මුදල් හා සම්බන්ධ කළ අපනයන වෙළඳාම අස්ථිර සහ අක්‍රමික බවත්, ''ස්වභාවික'' සහ ''සංගත'' ලෙස දේශීය කර්මාන්ත සංවර්ධනය කරනවා වෙනුවට, විදේශයෙහි ආයෝජන කිරීම නරක බවත්, විදේශ ණය පිළිගැන්වීම සඳහා කෘප්ට ගෙවන සන්තෝසම්, ඉතා වියදම්කාරී බවත් කියන, සුළු ධනේශ්වර පාඩම වෙත එළඹීම හාස්‍ය ජනකය. එහෙත් අපනයන

* ''Die Bank'', 1909. 2, පිටු 819 පටන්.

වෙළඳාමෙහි වැඩිවීම සම්බන්ධ වී තිබෙන්නේ, ගොනා දෙවරක් හම ගැසීම ගැන උනන්දුවක් ඇති හා ධනපති සදචාරය ගැන කිසිම කැක්කුමක් නොමැති, මූල්‍ය ප්‍රාග්ධනයේ මෙම නිශ්චිත වංචාකාරී සට ප්‍රයෝග හා සමග බව, කරුණු අනුව, අපට මනාව පැහැදිලි වන්නේය — ප්‍රථමයෙන්ම එය ණය මුදලෙන් ලාභයක් සාක්කුවේ ලා ගනී; ඊළඟට ණය ලාභියා, එම ණය මුදලම යොදා කෘප්ගෙන් දුම්රිය මාර්ග සඳහා අවශ්‍ය භාණ්ඩ, නැතහොත්, සම්මේලයෙන් වානේ ආදිය මිළට ගන්නා විට, එයින් තවත් ලාභයක් සාක්කුවේ ලා ගනී.

ලාන්ස්බුර්ග් දක්වා ඇති සංඛ්‍යාවන්, සම්පූර්ණයෙන් නිවැරදියයි මා නොසලකන බව නැවතත් කියන්නෙමි. නමුත් කෞට්ස්කි ගේ සහ ස්පෙක්ටේටර් ගේ සංඛ්‍යාවලට වඩා ඒවා විද්‍යානුකූල නිසාත්, ලාන්ස්බුර්ග් ප්‍රශ්නය වෙත ළඟාවිය යුතු නිවැරදි මග පෙන්වූ නිසාත්, මට එම සංඛ්‍යා උපුටා දැක්වීමට සිදුවිය. අපනයන ආදිය හා සම්බන්ධයෙන් මූල්‍ය ප්‍රාග්-ධනයෙහි ඇති වැදගත් කම සාකච්ඡා කරන කෙනෙකුට, විශේෂයෙන්ම හා තනිකරම මූල්‍යාධිකාරීන් ගේ සටප්‍රයෝග සමගද, විශේෂයෙන්ම හා තනිකරම, කාටල ආදියෙහි භාණ්ඩ අලෙවිය සමගද, අපනයනය සම්බන්ධ වී තිබෙන ආකාරය, වෙන්කර වටහා ගැනීමේ හැකියාව තිබිය යුතුය. වැඩක් නොවන ලෙසට, යටත් විජිත හා යටත් විජිත නොවන රටවල්ද, එක් අධිරාජ්‍යවාදයක් හා තවත් අධිරාජ්‍යවාදයක්ද, එක් අර්ධ යටත් විජිත-යක් හෝ යටත් විජිතයක් (ඊජිප්තුව) හා අනිත් සියළුම රටවල්ද, සංසන්-දනය කිරීම යනු ප්‍රශ්නය මග හැරීමක් හා එහි හරයම ව්‍යාකූල කර දැක්වී-මක් වන්නේය.

කෞට්ස්කි අධිරාජ්‍යවාදය ගැන කරන න්‍යායික විවරණයෙන්, අධිරාජ්‍යවාදයේ ඉතාමත් බරපතල සහ මූලික ප්‍රතිවිරෝධතාවයන් මඟ හරින සහ ව්‍යාකූල කරන හෙයින්ම, මාක්ස්වාදයට එකඟ කිසිවක් එහි තුළ නොමැත. ඒකාධිකාරය සහ ඒ හා සමගම පවතින නිදහස් තරඟය අතරත්, මූල්‍ය ප්‍රාග්ධනයේ යෝධ "කටයුතු" (සහ යෝධ ලාභ) හා නිදහස් වෙළඳ පොලේ "අවංක" වෙළඳාම අතරත් පවතින ප්‍රතිවි-රෝධතාවයන්ද, එක් අතකින් කාටල හා සංගත ව්‍යාපාරත්, අනිත් අතින් සංගත නොවූ කර්මාන්ත අතරත්, පවතින ප්‍රතිවිරෝධතාවයන්ද, යනාදිය, කෞට්ස්කිගේ විවරණයෙන් මග හැරේ, ව්‍යාකූල කෙරේ. එනිසා එය ප්‍රයෝජනවත් වන්නේ, අවස්ථාවාදීන් සහ ජාත්‍යෝන්මාදවාදීන් සමග සාමයට සහ සමගියට පක්ෂව කරන ප්‍රචාරයට පූර්විකාවක් ලෙසට පමණකි.

කෞට්ස්කි නිර්මාණය කරගත් "සීමාන්තික අධිරාජ්‍යවාදය" පිළිබඳ න්‍යායද, එසේම ප්‍රතිගාමීය. මෙම විෂය සම්බන්ධයෙන් ඔහු 1915 දී



ඉදිරිපත් කරන තර්ක, හොබ්සන් 1902 දී ඉදිරිපත් කළ තර්ක සමග සසඳා බලන්න.

කෞට්ස්කි: "... වර්තමාන අධිරාජ්‍යවාදී ප්‍රතිපත්ති ඉවත් කර, ජාතික මූල්‍ය ප්‍රාග්ධන බලවතුන්ගේ අන්‍යෝන්‍ය ප්‍රතිමල්ලතාවය වෙනුවට, ජාත්‍යන්තර වශයෙන් එක්සත් වූ මූල්‍ය ප්‍රාග්ධනය විසින් ඒකාබද්ධ ලෙස ලෝකයේ සම්පත් උදුරා ගැනීම අරඹන නව සීමාන්තික-අධිරාජ්‍යවාදී ප්‍රතිපත්තියක් ආදේශ කළ නොහැකිද? කෙසේ හෝ වේවා, ධනපති ක්‍රමයේ එවැනි නව අදියරක් ගැන සිතන්නට පුළුවන. එය සාර්ථක කරගත හැකිද? මෙම ප්‍රශ්නයට උත්තරයක් සැපයීමට ප්‍රමාණවත් තරම් අපට හැකියාව ලබා දෙන කරුණු තවමත් දක්නට නැත. *

හොබ්සන්: "සෑම අධිරාජ්‍යවාදයකටම, අශීලාචාර සහ ගැති රටවල් පිරිවරක් සහිත වන, මහා ඒකාබද්ධ අධිරාජ්‍ය කීපයක් ක්‍රිස්තියානි ආධි-පත්‍යය විසින් එසේ ඇති කරන ලදී. එය වර්තමාන ප්‍රවණතාවයන්ගේ ඉතාමත් සාධාරණ සංවර්ධනය බවත්, අන්තර් —අධිරාජ්‍යවාදයේ ස්ථිර සාර පදනම මත සදාකාලික සාමය ඇතිවීම පිළිබඳ ඉහළම බලාපොරො-ත්තුව ඇති කරන්නේ එය බවත්, බොහෝ දෙනා අදහස් කරති".

අවුරුදු දහතුනකට පෙර හොබ්සන් අන්තර් අධිරාජ්‍යවාදය යනුවෙන් විස්තර කළ දෙය කෞට්ස්කි හඳුන්වන්නේ සීමාන්තික —අධිරාජ්‍යවාදය නැතහොත් උත්තර-අධිරාජ්‍යවාදය යනුවෙනි. එක ලතින් උපසර්ගයක් වෙනුවට වෙනත් එකක් යොදමින් දක්ෂ ලෙස අළුත් පදයක් නිර්මාණය කිරීම හැරුණු විට "විද්‍යාත්මක" චින්තනය පිළිබඳ ක්ෂේත්‍රයෙහි ලා මෙයින් කෞට්ස්කි පෙන්වූ එකම ප්‍රගතිය වූයේ, හොබ්සන් ඉංග්‍රීසි පාදි-ලියන් ගේ දේශනා භාෂිතය ලෙස සාරාර්ථ වශයෙන් විස්තර කළ දෙයම, මාක්ස්වාදය යන නමින් ඉදිරිපත් කිරීම පමණකි. දකුණු අප්‍රිකාවේ යුද්ධ භූමිවලදී නැසුනු බොහෝ නෑදැයින් ඇති සහ බ්‍රිතාන්‍ය මූල්‍ය සම්පාදක-යන්ට තවත් වැඩියෙන් ලාභ ලැබීම සහතික කර දීම සඳහා වැඩි බදු ගෙවීමට සිදු වූ බ්‍රිතාන්‍ය මධ්‍යම පංතිය සහ කම්කරු පංතිය අස්වැසීම සඳහා ඉංග්‍රීසි-බුවර් යුද්ධයෙන් පසුව මෙම උසස් බමුණු කුලය එහි ධෛර්යය ප්‍රධාන වශයෙන් යොමු කිරීම ඉතාමත් ස්වාභාවික දෙයක් විය. අධිරාජ්‍යවාදය එතරම් නරක නැතැයි කියන න්‍යායකට වඩා, අධි රාජ්‍ය-වාදය සදාකාලික සාමය සහතික කිරීමෙහි සමත්, අන්තර් (නැතහොත් සීමාන්තික) අධිරාජ්‍යවාදයට තදාසන්න ලෙස පිහිටා ඇතැයි කියන න්‍යා-යකට වඩා සාර්ථක ලෙස අස්වැසිල්ල දනවන වෙනත් දෙයක් ඇද්ද? ඉංග්‍රීසි පාදිලියන් ගේ නැතහොත්, භාවාත්මක කෞට්ස්කි ගේ, හොඳ

* "Die Neue Zeit", 1915 අප්‍රේල් 30, පිටු 144.

අපේක්ෂාවන් මොනවා වුවත්, කෞට්ස්කි ගේ ''න්‍යායෙහි'' එකම අරමුණ, එනම්, සැබෑ සමාජමය වැදගත්කම, මෙයයි: ධනපති ක්‍රමය යටතේ සදකාලික සාමය ඇති කළ හැකිය යන බලාපොරොත්තුව ජනතාවට දෙන, වර්තමාන කාලයේ පවතින ඉතාමත් දරුණු ප්‍රතිවිරෝධතාවයන් හා තියුණු ප්‍රශ්න කෙරෙන් ඔවුන් ගේ අවධානය වෙනතකට යොමු කරන, අනාගතයේ ඇති වෙතැයි කියන, සිතෙන් මවාගත් ''සීමාන්තික-අධිරාජ්‍යවාදය'' පිළිබඳ මිරිඟුවක් බඳු බලාපොරොත්තුව දෙසට ඔවුන් යොමු කරන, මෙය, ජනතාව අස්වැසීමේ ඉතාමත් ප්‍රතිගාමී විධියකි. කෞට්ස්කි ගේ ''මාක්ස්වාදී'' න්‍යායෙහි ඇත්තේ පොදු ජනතාව රැවටීම පමණකි.

කෞට්ස්කි ජර්මන් කම්කරුවන් (සියළුම රටවල කම්කරුවන්) හමුවේ ආවේශමත් කිරීමට උත්සාහ කරන බලාපොරොත්තුවල අන්ත ව්‍යාජභාවය ගැන හොඳ අවබෝධයක් ලබා ගැනීමට, සුප්‍රකට හා විතර්කයට බඳුන් කළ නො හැකි කරුණු සසඳා බැලීම ඇත්තෙන් ම ප්‍රමාණවත් ය. ඉන්දියාව, ඉන්දුචීනය සහ චීනය ගැන සලකා බලමු. කෝටි 60 ක නැතහොත් 70 ක ජනගහනයක් සහිත මෙම යටත් විජිත හෝ අර්ධ යටත් විජිත රටවල් තුන බලවත් අධිරාජ්‍යවාදී රටවල් කීපයක, එනම්, මහා බ්‍රිතාන්‍යය, ප්‍රංශය, ජපානය, ඇ. එ. ජ. ආදී බලවතුන් ගේ සූරාකෑමට භාජනය වී තිබෙන බව සුප්‍රකට කරුණකි. මෙම අධිරාජ්‍යවාදී රටවල් තමන් ගේ යටත් ප්‍රදේශ හා මෙම ආසියානු රාජ්‍යයන් තුළ තම හිමි කම් හා බල ප්‍රදේශ ආරක්ෂා කර ගැනීම සහ විශාල කර ගැනීම පිණිස, එක් හෝ තවත් රටකට විරුද්ධව සන්ධානයක් ඇති කර ගනිතියි සිතමු. එවිට මෙම සන්ධාන ''අන්තර්-අධිරාජ්‍ය'' නැතහොත් ''සීමාන්තික-අධිරාජ්‍ය'' සන්ධානයන් වන්නේය. ආසියාවේ මෙම ප්‍රදේශ බෙදා ගැනීම සඳහා, සියළුම අධිරාජ්‍යවාදී රටවල් සන්ධානයක් ඇති කර ගන්නා ලදැයි සිතමු. එවිට එය ජාත්‍යන්තර වශයෙන් එක් වූ මූල්‍ය ප්‍රාග්ධනයේ සන්ධානයක් වන්නේය. විසි වැනි ශත වර්ෂයේ ඉතිහාසයෙහි, මෙවැනි සන්ධානයක් පිළිබඳ යථාභූත නිදර්ශන දක්නට ඇත. බලවත් රටවල් චීනය කෙරෙහි දැක්වූ ආකල්පය මෙයට නිදර්ශනයකි[44]. ධනපති රටවල් ඒකීය වශයෙන් පවතිතැයි යන්න උපකල්පනයක් සේ පිළිගනිමින් (කෞට්ස්කිද එම උපකල්පනය පිළිගනී) එවැනි සන්ධානයක් හුදෙක්ම තාවකාලික නොවන්නේ යයි ද, සෑම ආකාරයකම ගර්ෂණ ගැටුම් හා අරගල අහෝසි කරන්නේ යයි ද ''සිතන්නට'' හැකි ද?

මෙම ප්‍රශ්නය පැහැදිලි ලෙස ඉදිරිපත් කළ පමණින් ම, එයට නැත යන පිළිතුර හැර වෙනත් පිළිතුරක් දිය නොහැකි වන්නේය. එයට හේතුව, ධනපති ක්‍රමය යටතේ බලප්‍රදේශ, හිමිකම් සහ යටත් විජිත ආදිය බෙදා ගැනීම සඳහා තිබෙන සිතාගත හැකි එකම පදනම ඊට සහභාගි වන්නවුන් ගේ ශක්තිය, ඔවුන් ගේ සාමාන්‍ය ආර්ථික, මූල්‍යමය, යුද්ධමය ශක්තිය ආදිය ගණනය කිරීම පමණක් වීමයි. තවද, බෙදා ගැනීමට සහභාගි වන්නන් ගේ ශක්තිය ඒකාකාරවම වෙනස් වන්නේද නොවේ. ධනපති ක්‍රමය යටතේ විවිධ ව්‍යවසායයන්ගේ, සංගත ව්‍යාපාරවල, කර්මාන්ත අංශවල හෝ රටවල වුවද, ශක්තිය වෙනස් වීම එක මට්ටමකට සිදු වන්නේ නැත. අර්ධ ශත වර්ෂයකට පෙර බ්‍රිතාන්‍යය සමග සසඳන ලද්දේ නම්, එකල ජර්මනිය, කාලකණ්ණි, නොවැදගත් රටක්ව තිබුණි. රුසියාව හා සමග සසඳන විට, ජපානයේ තත්වය වූයේ ද එය ම ය. අවුරුදු දහයක හෝ විස්සක කාලයෙන් පසුව, අධිරාජ්‍යවාදී බලවතුන් ගේ සාපේක්ෂ ශක්තිය වෙනස් නොවී තිබෙනු ඇතැයි ''සිතන්නට'' පුළුවන්ද? කිසිසේත් ම එසේ සිතිය නොහැකිය.

එනිසා ඉංග්‍රීසි පාදිලිවරුන් ගේ හෝ ජර්මන් ''මාක්ස්වාදී'' කෞට්ස්කි ගේ හෝ වැදගැම්මකට නැති අමන බහු බූතවලින් මොනව කීවත්, ''අන්තර්-අධිරාජ්‍ය'' හෝ ''සීමාන්තික-අධිරාජ්‍ය'' සන්ධානයන් කෙබඳු වුවත්, ඒවායේ ආකෘති කෙබඳු වූවත්, එකකට විරුද්ධව ඇතිකරගන්නා තවත් සභාගයක් වුවත්, එසේ නැතහොත්, සියළුම අධිරාජ්‍යයන් හසුවන සේ ඇති කළ පොදු සන්ධානයන් වුවත්,ඒ සියල්ලම, අනිවාරණීය වශයෙන් ම, යුද්ධ අතර පවතින ''සමාදානයක්'' වනු ඇත; ඒ අන් කිසිවක් නො වනු ඇත. සාම සන්ධාන යුද්ධවලට භූමිය සකස් කරති. අනිත් අතට ඒවා යුද්ධ තුළින් ම මතුවෙති. යුද්ධය සහ සාමය යන දෙක, ලෝක ආර්ථිකයේ සහ ලෝක දේශපාලනයේ අධිරාජ්‍යවාදී බැඳීම් හා සම්බන්ධකම් පිළිබඳ වූ තනි සහ එකම පදනම මත, එකකින් අනිකට මාරුවන, සාමකාමී සහ සාමකාමී නොවන විකල්ප අරගල ආකෘති ජනිත කරමින්, එකකින් අනික සකස් වෙයි. නමුත්, කම්කරුවන් සැනසීමට හා ඔවුන්, ධනපති පංතියේ පැත්තට පැන ගිය සමාජ-ජාත්‍යෝන්මාදවාදීන් සමග සමාදාන කරනුවස්, අති පණ්ඩිත කෞට්ස්කි එකම දම්වැලේ එක පුරුකකින් අනිත් පුරුක වෙන් කරයි. චීනය ''සන්සුන් කිරීම'' සඳහා (බොක්සර් කැරැල්ල මැඩලීම[45] ඔබට මතක ඇත) සියළුම බලවතුන් ගේ වර්තමාන සාමකාමී (සහ සීමාන්තික-අධිරාජ්‍යවාදී, නැත, සීමාන්තික-සීමාන්තික-අධිරාජ්‍යවාදී) සන්ධානයෙන්, තුර්කිය වැනි රටක් බෙදා ගැනීම සඳහා අනිද්දා තවත් ''සාමකාමී'' පොදු සන්ධානයක් ඇති කර ගැනීමට පසුබිම සකස් කරන්නා වූ හෙට දින සාමකාමී නොවන සට්ටනය වෙන් කරයි. ඒ ආදී වශයෙන් එකකින් අනික වෙන් කරයි. අධිරාජ්‍යවාදී සාමයේ කාල සීමාවන් හා අධිරාජ්‍යවාදී යුද්ධයේ කාලසීමාවන් අතර තිබෙන ජීවමාන සම්බන්ධය පෙන්නුම් කරනවා වෙනුවට, කෞට්ස්කි කරන්නේ, කම්කරුවන් ඔවුන්

ගේ ජීවයෙන් තොර නායකයන් සමග ගලපනු සඳහා, ජීවයක් නැති නිෂ්කර්ෂණයක් කම්කරුවන් හමුවේ තැබීම ය.

ඇමෙරිකානු ලේඛකයෙකු වූ හිල් ගේ ''යුරෝපයේ ජාත්‍යන්තර සංවර්ධනය හා සම්බන්ධ රාජ්‍ය තන්ත්‍ර ඉතිහාසය'' නැමති පොතට ඔහු ලියූ පෙර වදනෙහි, මෑත රාජ්‍ය තන්ත්‍ර ඉතිහාසයේ පහත සඳහන් කාල පරිච්ඡේද ගැන ඔහු සඳහන් කර තිබේ. (1) විප්ලව යුගය, (2) ව්‍යවස්ථාදායක ව්‍යාපාරය, (3) වර්තමාන ''වාණිජ අධිරාජ්‍යවාදයේ'' යුගය.* තවත් ලේඛකයෙක් 1810 න් පසු මහා බ්‍රිතාන්‍යයේ ''ලෝක ප්‍රතිපත්තියේ'' ඉතිහාසය කාල පරිච්ඡේද හතරකට බෙදයි: (1) ප්‍රථම ආසියාතික කාලය (මධ්‍යම ආසියාව කරා ඉන්දියාව දෙසට රුසියාවේ ඉදිරිගමනට විරුද්ධව අරගලයේ කාලය), (2) අප්‍රිකානු කාලය (දළ වශයෙන් 1885—1902). මෙය අප්‍රිකාව බෙදා ගැනීම සඳහා ප්‍රංශයට විරුද්ධව අරගල කළ කාලයයි. (1898 ඇති වූ, ''පැෂෝඩා සිද්ධිය''[46] නිසා බ්‍රිතාන්‍ය ප්‍රංශය සමග යුද්ධයකට පැටලීමට ඉතා ආසන්න විය). (3) දෙවැනි ආසියාතික කාලය (රුසියාවට විරුද්ධව ජපානය සමග සන්ධානය). (4) ''යුරෝපීය'' කාලය — මෙය ප්‍රධාන වශයෙන් ජර්මන් විරෝධී විය.** ඉතාලියෙහි ක්‍රියාත්මක වෙමින් පැවති ප්‍රංශ ප්‍රාග්ධනය, මෙම රටවල දේශපාලන සන්ධානයක් ඇති කිරීමට මාර්ගය සකස් කරන ආකාරයද, ජර්මනිය හා මහා බ්‍රිතාන්‍යය අතර පර්සියාව සම්බන්ධයෙනුත්, යුරෝපීය ධනපතියන් අතර චීන ණය සම්බන්ධයෙනුත්, යනාදී වශයෙන්, සට්ටනය සංවර්ධනය වෙමින් පවතින ආකාරයද, පෙන්වා දෙමින් ''මූල්‍ය ක්ෂේත්‍රයෙහි මුර සංචාරක ගැටුම් ඇතිවන්නේ'' යයි බැංකු කාරයෙකු වූ රීසර් 1905 දී ලීවේය. සාමාන්‍ය අධිරාජ්‍යවාදී සට්ටන සමග නො වෙන් කළ හැකි සේ සම්බන් වී පවතින සාමකාමී ''සීමාන්තික-අධිරාජ්‍යවාදී'' සන්ධානයක් පිළිබඳ මේ ජීවමාන යථාර්ථය බලන්වා!

කෞට්ස්කි අධිරාජ්‍යවාදයේ ගැඹුරුතම ප්‍රතිවිරෝධයන් ව්‍යාකූල කරයි. එය අනිවාර්යයෙන් ම අධිරාජ්‍යවාදය දීප්තිමත් වර්ණාලේපයෙන් සැරසීමක් බවට පත් වේ. අධිරාජ්‍යවාදයේ දේශපාලන අංග ලක්ෂණයන් ගැන මෙම ලේඛකයා කරන විවේචන විෂයෙහි ද, එම ව්‍යාකූල කිරීමේ සටහන් දක්නට ලැබේ. අධිරාජ්‍යවාදය මූල්‍ය ප්‍රාග්ධනයේ සහ ඒකාධිකාරවල යුගය ය. ඒවා සෑම තැනෙකදීම උත්සාහ කරන්නේ, අධිපතිත්වය අත් කරගැනීමට මිස, නිදහස සඳහා නොවේ. පවතින දේශපාලන ක්‍රමය කුමක් වුවත්, මෙම ප්‍රවනතාවයන් නිසා සෑම තන්හිම ඇතිවන ප්‍රතිඵලය වන්නේ ප්‍රතිගාමිත්වය ඇති වීම සහ මෙම ක්ෂේත්‍රයෙහි ප්‍රති විරෝධයන් සීමාන්තික ලෙස උත්සන්න වීමය. ජාතික පීඩනයේ බන්ධනයන් හා රටවල් අල්ලා ගැනීම, නැතහොත්, ජාතික ස්වාධීනත්වය උල්ලංඝනය කිරීම, විශේෂයෙන්ම උත්සන්න කෙරේ. (රටවල් අල්ලාගැනීම යනු, ජාතීන් සතු ස්වාධිපත්‍යය පිළිබඳ අයිතිය උල්ලංඝනය කිරීම මිස අන් කිසිවක් නොවේ). අධිරාජ්‍යවාදයත්, ජාතික පීඩනය උත්සන්න වීමත් අතර සම්බන්ධය හිල්පර්දිං නිවැරදි ලෙස සටහන් කරයි. ඔහු මෙසේ ලියයි: ''අළුත් රටවල් තුළට අපනයනය කරන ලද ප්‍රාග්ධනය, ඒවා තුළ ප්‍රතිවිරෝධතාවයන් උත්සන්න කරයි. පිබිදී එන ජනතාවන් තුළ ජාතික හැඟීමක් ඇති වී බලහත්කාරයෙන් රටට පැමිණියවුන්ට විරුද්ධව නිරන්තරව වර්ධනය වන ප්‍රතිවිරෝධයක් අවුස්සාලයි. මෙම ප්‍රතිරෝධනය විදේශ ප්‍රාග්ධනයට විරුද්ධව ගන්නා භයානක පියවරයන්ගේ තත්වය දක්වා පහසුවෙන් ම සංවර්ධනය විය හැක. පැරණි සමාජ සම්බන්ධකම් විප්ලවීය වෙනසකට බඳුන් වේ. ''ඓතිහාසික ප්‍රගමණයකින් තොර ජාතීන් ගේ'' ඉපැරණි ගොවි ජන හුදකලා භාවය විනාශ වේ. ඔවුහු ධනපති ක්‍රමයේ දිය සුලියට ඇදී යති. යටත් ජාතීන් ගේ විමුක්තිය සඳහා අවශ්‍ය මාධ්‍යයන් හා සම්පත් ක්‍රම ක්‍රමයෙන් ධනපති ක්‍රමය විසින් ම ඔවුනට සපයනු ලැබේ. ඒ අනුව, ආර්ථික හා සංස්කෘතික නිදහස ගෙන එන මාධ්‍යයක් වශයෙන්, එක්සත් ජාතික රාජ්‍යයක් ඇති කර ගැනීමේ අරමුණ ඉටු කර ගැනීමට, ඔවුහු ඉදිරියට යති. කලෙක යුරෝපීය ජාතීන්ටද උසස්තම අරමුණ ලෙස පෙනුනේ එය ය. ජාතික නිදහස සඳහා වූ මෙම ව්‍යාපාරය, ඉතාමත් අගනා සහ බලාපොරොත්තු උපදවන ක්ෂේත්‍රයන්හි දී, යුරෝපීය ප්‍රාග්ධනයට තර්ජනය එල්ල කරන්නේය. එනිසා යුරෝපීය ප්‍රාග්ධනයට එහි ආධිපත්‍යය රැකගත හැකි වන්නේ, නිරතුරු ලෙසට එහි යුද්ධ හමුදා වැඩි කිරීමෙන් පමණකි. *

මෙයට එකතු කළ යුතු කරුණක් ඇත. අධිරාජ්‍යවාදය විසින් අල්ලා ගනු ලැබීමට හා වැඩිවන ජාතික පීඩනයට භාජනය කරන්නේත්, එහි ප්‍රතිඵලයක් වශයෙන්, ඒවා වැඩිවන ප්‍රතිරෝධනයට මෙහෙයවනු ලබන්නේත්, අළුත් රටවල් පමණක් නොවේ. පැරණි රටවල්ද එම තත්වයට භාජනය කරනු ලැබේ. අධිරාජ්‍යවාදය විසින් දේශපාලන ප්‍රතිගාමිත්වය උත්සන්න කරනු ලැබීමට විරුද්ධත්වය ප්‍රකාශ කරන අතරම, කෞට්ස්කි, ඉතාමත් හදිසි කටයුත්ත වී ඇති ප්‍රශ්නය, එනම්, අධිරාජ්‍යවාදී යුගයේදී අවස්ථාවාදීන් සමග කිසිසේත් එක්සත් වීමට නොහැකිය යන්න අත්හැර

* David Jayne Hill. "A History of the Diplomacy in the international development of Europe", vol. 1, p. X.

** ෂිල්දර්, කලින් සඳහන් කළ පොත, පිටු 178.

* ''මූල්‍ය ප්‍රාග්ධනය'', පිටු 487.

දමන්නේය. රටවල් අල්ලා ගැනීමට විරුද්ධත්වය ප්‍රකාශ කරන ඔහු, ඔහුගේ විරෝධය ඉදිරිපත් කරන්නේ, අවස්ථාවාදීන්ට වඩාත් හොඳින් පිළිගත හැකි, සහ ඔවුනට අඩුවෙන්ම අප්‍රසන්නකාරී ආකාරයටය. ඔහු ජර්මන් අසන්නන් අමතන නමුත්, ඉතාමත් කාලීන සහ වැදගත් කරුණ වන, ජර්මනිය විසින් ඇල්සාස්-ලොරේන් ප්‍රදේශය අල්ලා ගනු ලැබීම ගැන කථා නොකරයි. කෞට්ස්කි ගේ මෙම ''මානසික පීලි පැනීම'' අගය කිරීම පිණිස පහත සඳහන් නිදර්ශනය ඉදිරිපත් කරන්නෙමි. පිලිපයිනය ඇමෙරිකානුන් විසින් අල්ලා ගනු ලැබීම, ජපන් ජාතිකයෙක් හෙළා දකින්නේ යයි සිතමු. මෙහිදී ප්‍රශ්නයක් පැන නගී. ඔහු එසේ කරන්නේ, ඔහුම පිලිපයිනය අල්ලා ගැනීමට ආශා කරන නිසා නොව, රටවල් අල්ලා ගැනීම ගැන බලවත් භීතියක් ඔහු තුළ ඇති නිසා යයි බොහෝ දෙනා විශ්වාස කරති? එමෙන්ම, රටවල් අල්ලා ගැනීමට විරුද්ධව ජපන් ජාතිකයා කරන ''සටන'' හෘදයංගම හා දේශපාලන වශයෙන් අවංක සටනක් ලෙස පිළිගත හැක්කේ, ජපානය විසින් කොරියාව අල්ලා ගනු ලැබ තිබීමට විරුද්ධව ඔහු සටන් කරන්නේ නම් හා ජපානයෙන් වෙන් වීමේ අයිතිය කොරියාවට දෙන ලෙස ඉල්ලා ඔහු සටන් කරන්නේ නම් පමණක් බව අපට අකැමැත්තෙන් හෝ කීමට සිදුවෙනවා නොවේද?

අධිරාජ්‍යවාදය පිළිබඳව කෞට්ස්කි කරන න්‍යායික විශ්ලේෂණය මෙන්ම, අධිරාජ්‍යවාදය ගැන ඔහු කරන ආර්ථික සහ දේශපාලන විවරණයද, කිසිසේත්ම මාක්ස්වාදයට නො ගැලපෙන සේම, අධිරාජ්‍යවාදයේ මූලික ප්‍රතිවිරෝධතාවයන් ව්‍යාකූල කිරීමේ සහ නොතකා හැරීමේත්, යුරෝපීය කම්කරු පංති ව්‍යාපාරයේ අවස්ථාවාදය හා සමග වූ ගරා හැලෙන සමගිය කුමණ පාඩුවක් හෝ විඳ රැක ගැනීමට යත්න දැරීමේත් ජීව ගුණයක්, එහි අස්සක් මුල්ලක් නැර විනිවිද ගොස් ඇත.

## X. අධිරාජ්‍යවාදයට ඉතිහාසයෙහි හිමි වන තැන

අධිරාජ්‍යවාදයේ ආර්ථික හරය ඒකාධිකාරී ධනපති ක්‍රමය බව අපි දුටුවෙමු. එයට ඉතිහාසය තුළ හිමිවන තැන මෙයින්ම තීරණය වන්නේය. එසේ වන්නේ, නිදහස් තරඟ යේ භූමියෙන් වැඩී යන, නියත වශයෙන්ම නිදහස් තරඟයෙන් බැහැරට වැඩී යන, ඒකාධිකාරය ධනපති ක්‍රමයේ සිට ඊට වඩා ඉහළින් සිටින සමාජ-ආර්ථික ක්‍රමයකට පරිවර්තනය වීමක් හෙයිනි. එබැවින් අප පිරික්සා බලන යුගයේ ස්වභාව ලක්ෂණයක් වන ඒකාධිකාරයේ ප්‍රධාන සතර වර්ගය හෝ ඒකාධිකාරී ධනපති ක්‍රමය



ප්‍රකටවන ප්‍රධාන සතර ආකාරය ගැන අපි විශේෂයෙන් සටහන් කර ගත යුත්තෙමු.

ප්‍රථමයෙන් ම, ඉතාමත් උසස් අවස්ථාවකට පත් නිෂ්පාදන සංකේන්ද්‍රණයෙන් ඒකාධිකාරය උද්ගත විය. ඒකාධිකාරී ධනපති හවුල් ව්‍යාපාර, කාටල, සම්මේල හා සංගත ව්‍යාපාර ඇති වූයේ එසේය. වර්තමාන ආර්ථික ජීවිතයේදී ඒවා ඉටු කරන වැදගත් කාර්ය කොටස අපි දැක ඇත්තෙමු. විසි වැනි ශත වර්ෂය ආරම්භයේදී ඒකාධිකාර දියුණු රටවල් තුළ සම්පූර්ණ ආධිපත්‍යයට පත්ව සිටියහ. කාටල පිහිටුවීම කරා යොමු වූ ප්‍රථම පියවරයන් ගන්නා ලද්දේ අධික තීරු බදුවල ආරක්ෂාව භුක්ති විඳි රටවල් (ජර්මනිය, ඇමෙරිකාව) විසින් නමුත්, ස්වකීය නිදහස් වෙළඳ ක්‍රමයක් සහිතව සිටි බ්‍රිතාන්‍යයේද එම මූලික ප්‍රපංචයම දක්නා ලදී. වෙනසකට තිබුණේ එය පසුව උද්ගත වීමය. නැතහොත්, නිෂ්පාදනයේ සංකේන්ද්‍රණය තුළින් ඒකාධිකාරය ජනිත වීමය.

දෙවැනිව, ඉතාමත් වැදගත් අමු ද්‍රව්‍ය සම්පාදන මාර්ග, විශේෂයෙන්ම ධනපති සමාජයේ මූලික හා වඩාත්ම කාටලගත කරණය වූ ගල් අඟුරු හා යකඩ කර්මාන්ත සඳහා අවශ්‍ය අමු ද්‍රව්‍ය සම්පාදන මාර්ග අල්ලා ගැනීම ඒකාධිකාර විසින් දිරි ගැන්වින. ඉතාමත් වැදගත් අමු ද්‍රව්‍ය සම්පාදන මාර්ග ඒකාධිකාරී හිමිකමට යටත් වීම නිසා, ප්‍රාග්ධනයේ බලය අතිශයින් වැඩි වීමටත්, කාටලගත වූ හා කාටලගත නොවූ කර්මාන්ත අතර සතුරුතාවය තියුණු වීමටත් හේතු විය.

තුන්වැනිව, බැංකුවලින් ඒකාධිකාරය උද්ගත විය. නිහතමානී අතරමැදි ව්‍යවසායවල තත්වයේ පටන් බැංකු මූල්‍ය ප්‍රාග්ධන ඒකාධිකාරීන් දක්වා සංවර්ධනය වී ඇත. ප්‍රධානතම ධනපති රටවල් සෑම එකකම ලොකුම බැංකුවලින් තුන සිට පහ දක්වා වැනි සංඛ්‍යාවක්, කාර්මික ප්‍රාග්ධනය සහ බැංකු ප්‍රාග්ධනය අතර ''පුද්ගල සම්බන්ධය'' ඇති කරගෙන තිබේ. එසේම ඒවා, මුළු මහත් රටවලම ප්‍රාග්ධනයෙන් හා ආදායමෙන්-වැඩි කොටසක් වන සිය කෝටි ගණන් මුදල් පාලනය තමන් අතට සංකේන්ද්‍රණය කරගෙන සිටිති. වර්තමාන ධනපති සමාජයේ ආර්ථික හා දේශපාලන ආයතනයන් සියල්ලම, කිසිම විශේෂයක් නොමැතිව හසු කර ගන්නා සමීපව වෙළුනු ගැතිභාවයේ සම්බන්ධකම් ජාලයක් එලා ගෙන සිටින මූල්‍ය කතිපයාධිපත්‍යයක් ඇති වී තිබේ. මෙම ඒකාධිකාරයේ කැපී පෙනෙන ස්වභාවය එසේය.

හතරවැනිව, යටත් විජිත ප්‍රතිපත්තියෙන් ඒකාධිකාරය වැඩී ගියේය. අමු ද්‍රව්‍ය සම්පාදන මාර්ග සඳහාද, ප්‍රාග්ධන අපනයනය සඳහාද, බල ප්‍රදේශ, එනම්, ලාභදායක ජාවාරම්, අනුග්‍රහ, ඒකාධිකාරී ලාභ යනාදිය හා පොදු වශයෙන් ආර්ථික ප්‍රදේශ සඳහාද, කරන අරගලයට, මූල්‍ය ප්‍රාග්-

ධනය විසින් "පැරණි" යටත් විජිත ප්‍රතිපත්තියේ අභිප්‍රායයන් ද එකතු කරන ලදී. යුරෝපීය යටත් විජිත බලවතුන්ට, නිදර්ශනයක් වශයෙන් (1876 දී වූ පරිදි), ඔවුන් හිමි යටත් විජිත ලෙසට අප්‍රිකා දේශයෙන් දහයෙන් එක පංගුවක් පමණක් තිබුණු විට, ඒකාධිකාරී ක්‍රම නොමැතිව වෙනත් ක්‍රම මගින්, "නිදහස් ලෙස" ප්‍රදේශ "උදුරා ගැනීම" මගින් යටත් විජිත ප්‍රතිපත්තියට සංවර්ධනය වීමට හැකි විය. නමුත් අප්‍රිකාවෙන් දහයෙන් නව කොටසක් (1900 වන විට) අල්ලා ගෙන තිබුණු කල, එසේම මුළු ලෝකයම බෙද ගෙන තිබුණු කල, යටත් විජිත හිමිකම පිළිබඳ ඒකාධිකාරිත්වයේ සමයක්, ලෝකය බෙදගැනීම සහ යළිත් බෙදගැනීම සඳහා කෙරෙන විශේෂයෙන් තියුණු අරගලයක සමයක්, අනිවාරණීය වශයෙන්ම උදා විය.

ඒකාධිකාරී ප්‍රාග්ධනය විසින් පොදු වශයෙන් ධනපති ක්‍රමයේ ප්‍රතිවිරෝධතාවයන් කොතෙක් දුරට උත්සන්න කරන ලද්දේද යන්න ප්‍රකට කරුණකි. ඉහළ ගිය ජීවන වියදම හා කාටලවල කෲර පීඩනය ගැන මෙහිදී සඳහන් කිරීම ප්‍රමාණවත් වේ. ලෝක මූල්‍ය ප්‍රාග්ධනයේ අවසාන ජයග්‍රහණයේ අවස්ථාවේ පටන් ආරම්භ වූනු, ඉතිහාසයේ පරිවර්තනීය යුගයෙහි ඉතාමත් බලගතු ගාමක බලවේගය වන්නේ, ප්‍රතිවිරෝධතාවයන් ගේ මෙම උත්සන්න වීමය.

ඒකාධිකාර, කතිපයාධිපත්‍යය, නිදහස සඳහා නොව ආධිපත්‍යය සඳහා අරගල කිරීම, ධනවත්ම හා වඩාත්ම බලවත් ජාතීන් අතලොස්සක් විසින් කුඩා හා දුර්වල ජාතීන් එන්න එන්නම වැඩි වන සංඛ්‍යාවක් සූරාකනු ලැබීම, යන මේ සියල්ලෙන් අධිරාජ්‍යවාදයේ ස්වභාව නිරූපී ලක්ෂණ ජනිත වේ. ඒවා ගැන සලකා බලන කල අධිරාජ්‍යවාදය යනු පරපෝෂිතවාදී නැතහොත් දිරාපත්වන ධනපති ක්‍රමය ලෙසට විස්තර කිරීමට අපට අනිවාර්යයෙන්ම සිදු වන්නේය. ප්‍රාග්ධන අපනයනයේ ආදයමෙන් හා "කූපන් කැපීමෙන්" ධනපති පංතිය යැපෙන තත්වය එන්න එන්නම වැඩි වන, "බදුකාර රාජ්‍යය" නැතහොත් "පොළීකාර රාජ්‍යය" ඇති කිරීමේ ප්‍රවණතාවය, අධිරාජ්‍යවාදයේ වඩාත් ප්‍රමුඛ ප්‍රවණතාවයක් ලෙස ඉස්මතු වෙයි. දිරාපත්වීම කරා යොමු වූ මෙම ප්‍රවණතාවය පවතින කල, ධනපති ක්‍රමයේ සීඝ්‍ර වර්ධනයක් ඇතිවිය නොහැකි යයි සිතීම වරදක් වනු ඇත. එයින් එම වර්ධනය වැලකෙන්නේ නැත. අධිරාජ්‍යවාදයේ යුගයේ දී, කර්මාන්තයේ සමහර අංශ, ධනපති පංතියේ සමහර ස්ථරයන් සහ සමහර රටවල්, වරක් මෙයින් එක් ප්‍රවණතාවයක්ද, වරක් අනෙක් ප්‍රවණතාවයක්ද, අඩු වැඩි පමණින් පෙන්නුම් කරයි. සමස්තයක් වශයෙන් ගත් කල ධනපති ක්‍රමය, පෙරට වඩා බෙහෙවින් සීඝ්‍ර ලෙස සංවර්ධනය වන්නේය. නමුත් මෙම සංවර්ධනය සාමාන්‍ය වශයෙන්



වඩාත් අසමාන තත්වයක් ගන්නවා පමණක් නොව, එම අසමානත්වය, විශේෂයෙන්ම, ප්‍රාග්ධනය අතින් ධනවත්ම රටවල් (බ්‍රිතාන්‍යය) දිරාපත් වීමෙන් ප්‍රකට වීම ද සිදුවෙයි.

ලොකු ජර්මන් බැංකු ගැන ලියවුනු පොතෙහි කර්තෘ තැන්පත් රීසර්, ජර්මනියේ ආර්ථික සංවර්ධනයේ වේග ප්‍රමාණය ගැන මෙසේ කියයි: "ඒ යහපත් පැරණි කාලයේ තැපැල් රථයේ වේගය, වර්තමාන කාලයේ ඉතා වේගයෙන් දිවයන මෝටර් වාහනය, පයින් යන මගියන් පමණක් නොව, එය තුළම සිටින අයද අන්තරායට ලක්කරමින් පාන වේගය සමග සංසන්දනය වූ පරිද්දෙන් ම, ඉහත කාල පරිච්ඡේදයෙහි (1848-1870), හරියටම හෙමිහිට සිදු වී යයි කිව නොහැකි සංවර්ධනයේ වේගයද, මෙම කාල පරිච්ඡේදයෙහි (1870—1905) ජර්මනියේ සමස්ත ආර්ථිකයම හා ඒ සමග ජර්මන් බැංකු කටයුතු ද සංවර්ධනය වූ වේගය සමග සංසන්දනය වේ". අනිත් අතට, එතරම් අසාමාන්‍ය සීඝ්‍රතාවයකින් වර්ධනය වී තිබෙන මූල්‍ය ප්‍රාග්ධනය, වඩාත් ධනවත් රටවලින්, තනිකරම සාමකාමී පමණක් නොවන ක්‍රම වලින් උදුරා ගත යුතුව තිබෙන යටත් විජිත වඩාත් "උපශාන්ත" ලෙස හිමිකරගෙන සිටීමේ ක්‍රමයකට මාරුවීමට නොකැමැත්තේ නොවේ. විශේෂයෙන්ම එය එතරම් ඉක්මනින් වර්ධනය වී සිටින නිසාම එයට කැමති වේ. පසුගිය දශකවල එක්සත් ජනපදයේ ආර්ථික සංවර්ධනය, ජර්මනියටත් වඩා සීඝ්‍ර විය. මේ හේතුව නිසාම නවීන ඇමෙරිකානු ධනපති ක්‍රමයේ පරපෝෂිත අංග ලක්ෂණ විශේෂයෙන්ම ප්‍රකට ලෙස විද්‍යාමාන වේ. අනිත් අතට රාජාණ්ඩුවාදී ජපන් හෝ ජර්මන් ධනපති පංතිය සමග සමූහාණ්ඩුවාදී ඇමෙරිකානු ධනපති පංතිය සංසන්දනය කළ විට පෙනෙන්නේ ඒවා අතර ඇති ඉතාමත් බරපතල දේශපාලන වෙනස් කම පවා, අධිරාජ්‍යවාදී යුගයේදී සම්පූර්ණයෙන්ම පාහේ මැකී යන බවයි. එම වෙනස එසේ මැකී යන්නේ, එය පොදු වශයෙන් නොවැදගත් නිසා නොව, මේ හැම අවස්ථාවකම අප කථා කරන්නේ පරපෝෂිත භාවයේ නිශ්චිත අංග ලක්ෂණ ඇති ධනපති පංතියක් ගැන වන නිසාය.

රාශියක් කාර්මික අංශ අතුරෙන් එකක, රාශියක් රටවල් අතුරෙන් එකක, යනාදී වශයෙන් වූ ධනපතියන් ලබන මහත් ලාභ පිහිට කොට ගෙන, කම්කරුවන් ගෙන් යම් කොටසකට අල්ලස් දීමෙන්, ඔවුන්ගෙන් සැලකිය යුතු සුළු පිරිසක් එක්තරා කාලයක් යන තෙක් දිනාගෙන, ඔවුන් අන් සියළු දෙනාටම විරුද්ධව නියමිත කර්මාන්තයක හෝ නියමිත ජාතියක පැත්ත ගන්නා තත්වයට පත් කිරීමේ හැකියාව, එම ධනපතියනට ලැබේ. ලෝකය බෙද ගැනීම සඳහා අධිරාජ්‍යවාදී ජාතීන් අතර පවතින සතුරුතාවය උග්‍ර වීම නිසා, මෙම අභිලාෂය තවත් වැඩි වන්නේය. ඒ

අනුව අධිරාජ්‍යවාදය හා අවස්ථාවාදය අතර එම බැඳීම නිර්මානය වේ. එය ප්‍රථමයෙන්ම හා වඩාත් පැහැදිලි ලෙස විද්‍යාමාන වූයේ මහා බ්‍රිතාන්‍යයෙහි ය. එසේ වීමට හේතුව, අන් රටවලට වඩා බොහෝ කලින්, එරටෙහි අධිරාජ්‍යවාදී අංග ලක්ෂණ සමහරක් දක්නට ලැබීමය. එල්. මාර්තව් වැනි සමහර ලේඛකයෝ, පහත සඳහන් වැනි (කෞට්ස්කිගේ හා හුයිස්මාන්ගේ වැනි) ''නිල සර්ව ශුභවාදය පිළිගනිමින්, වර්තමාන කාලයේ ඉතාමත් ප්‍රකට සත්‍යයක් වන, අධිරාජ්‍යවාදය හා කම්කරු පංති ව්‍යාපාරයේ අවස්ථාවාදය අතර සම්බන්ධය ගැන නොතකා හැරීමට හුරුවී සිටිති. නිල සර්ව ශුභවාදය මෙසේ කියයි: අවස්ථාවාදය වැඩි වීමට හේතු වූයේ ප්‍රගතිශීලී ධනපති ක්‍රමය නම්, අවස්ථාවාදය දෙසට නැඹුරු වන්නේ වඩාත්ම හොඳ වැටුප් ලබන කම්කරුවන් නම්, ඒ ආදිය එසේ නම්, ධනපති ක්‍රමයේ ප්‍රතිපාක්ෂිකයන්ගේ ව්‍යාපාරය සම්පූර්ණයෙන් අසාර්ථක වන එකකි. මේ වර්ගයේ ''සර්ව ශුභවාදය'' ගැන අපි මුලාවට පත් නොවිය යුත්තෙමු. එය අවස්ථාවාදය සම්බන්ධයෙන් වූ සර්ව ශුභවාදයයි. එය අවස්ථාවාදය සඟවා තැබීමට උපකාර වන සර්ව ශුභවාදයයි. අවස්ථාවාදයේ සංවර්ධනයෙහි අසාමාන්‍ය සීඝ්‍රතාවය හා එහි ඉතාමත් පිළිකුල් සහගත ස්වභාවය ඇත්තෙන්ම එහි ජයග්‍රහණය කල් පවතින බවට සහතිකයක් නොවේ. නිරෝගී ශරීරයක ඇති වේදනා සහිත විසර ගෙඩියක් වර්ධනය වීමෙන් සිදුවිය හැක්කේ, එය වඩාත් ඉක්මණින් පිපිරී ගොස් ශරීරය එයින් නිදහස් වීමය. මේ හා සම්බන්ධයෙන් ඉතාමත් භයානක වන්නේ අවස්ථාවාදයට විරුද්ධව කරන සටන සමග අභේද්‍ය ලෙස සම්බන්ධවී නොමැති අධිරාජ්‍ය විරෝධී අරගලය ව්‍යාජයක් බව වටහා ගැනීමට නො කැමති අය ය.

අධිරාජ්‍යවාදය යන්න අප විස්තර කළ යුත්තේ පරිවර්තනය වෙමින් පවතින, එසේ නැතහොත්, වඩාත් නිවැරදිව කිවහොත්, මරණාසන්නව පවතින ධනපති ක්‍රමය යනුවෙනි. අධිරාජ්‍යවාදයේ ආර්ථික හරය ගැන මෙම පොතෙහි කියා ඇති සියල්ලෙන්ම ඒ බව අදහස් වන්නේය. නවීන ධනපති ක්‍රමය විස්තර කිරීමේදී ධනපති ආර්ථික විද්‍යාඥයෝ ''අන්තර් බද්ධ වීම'', ''තනි නොවීම'', යනාදිය වැනි, උගුල් වචන හා පාඨ බොහෝ විට යොදති. බැංකු ''ඒවායේ කාර්යයන් හා සංවර්ධන මාර්ගය අනුව පිරිසිදු පෞද්ගලික ව්‍යාපාරික ව්‍යවසායයන් නොවේ. ඒවා එන්න එන්නම, පිරිසිදු පෞද්ගලික ව්‍යාපාර පටිපාටියේ ක්ෂේත්‍රය ඉක්මවා වර්ධනය වෙමින් පවතී''. මේ බව සටහන් කර ගැනීම ඉතාමත් උපදේශාත්මකය. ඒ අතර, මා ඉහත උපුටා දැක්වූ වචනවල කතුවරයා වන රීසර්ම බරපතල ලීලාවකින් කියන්නේ, ''සමාජමයකරණය'' පිළිබඳව මාක්ස්වාදීන් කී ''අනාගත වාක්‍යය'' ''සත්‍ය වී නැති'' බවයි!



එසේ නම් ''අන්තර් බද්ධ වීම'' යන උගුල් වචනයෙන් කියවෙන්නේ කුමක් ද? එයින් හුදෙක්ම ප්‍රකාශ කෙරෙන්නේ අපගේ ඇස් ඉදිරිපිට ක්‍රියාත්මක වෙමින් පවතින ඉතාමත් සිත් කා වදින අංග ලක්ෂණයයි. නිරීක්ෂකයා ගස් එකින් එක වෙනම ගණින නමුත් ඔහු වනාන්තරය නොදකින බව මෙයින් පෙනේ. මතු පිට ඇති දෙයත්, අහඹුවත්, වියවුල් ස්වභාවයත් එයින් පිටපත් කර ගනු ලැබේ. සකස් නොකළ කරුණු රාශියක් දැක වික්ෂිප්තව, එහි අර්ථය හා වැදගත්කම වටහා ගත නොහැකි තත්වයට නිරීක්ෂකයා පත්ව ඇති බව එයින් අනාවරණය වේ. කොටස් හිමිකම හා පෞද්ගලික දේපල හිමියන් අතර සම්බන්ධකම් ''පිළිවෙළක් නැති ලෙසට අන්තර්බද්ධ වී තිබේ''. නමුත්, මෙම අන්තර්බද්ධ වීමට යටින්, එහි පදනමෙහිම පතුලේ ඇත්තේ, වෙනස් වෙමින් පවතින නිෂ්පාදන සම්බන්ධකම්ය. විශාල ව්‍යවසායයක් යෝධ පරිමානයට පත් වී, සමූහ දත්තයන් නිවැරදි ලෙස ගණනය කිරීම පදනම් කර ගනිමින්, කෝටි ගණන් ජනතාව සඳහා අවශ්‍ය අමු ද්‍රව්‍ය මුළු ප්‍රමාණයෙන් තුනෙන් දෙකක් හෝ හතරෙන් තුනක් හෝ සම්පාදනය සැලැස්මානුකූල ලෙස සංවිධානය කරන විට, සමහර විට එකකින් අනෙක සැතපුම් සිය ගණන් හෝ දහස් ගණන් ඈතින් පිහිටි, ඉතාමත් සුදුසු, නිෂ්පාදන ස්ථානවලට ක්‍රමාණුකූල හා සංවිධිත ආකාරයෙන් අමු ද්‍රව්‍ය ප්‍රවාහණය කෙරෙන විට, නේකාකාර නිමි භාණ්ඩ රාශියක් නිෂ්පාදනය කිරීම දක්වාම, අමු ද්‍රව්‍ය පිරියත් කිරීමේ අනුගාමී අවධි සියල්ලම එකම මධ්‍යස්ථානයකින් මෙහෙයවනු ලබන විට, මෙම නිෂ්පාදිතයන් කෝටි හා දස කෝටි ගණන් පාරිභෝගිකයන් අතර එකම සැලැස්මක් අනුව බෙදා හරින විට (ඇමෙරිකානු තෙල් සංගතය විසින් ඇමෙරිකාවේ හා ජර්මනියේ තෙල් අලෙවි කිරීම), එවිට අප හමුවේ ඇත්තේ හුදෙක් ''අන්තර්බද්ධ වීම'' නොව නිෂ්පාදනයේ සමාජමයකරණයක් බව පැහැදිලි වන්නේය; එවිට පෞද්ගලික ආර්ථික හා පෞද්ගලික දේපල හිමිකම් සම්බන්ධකම් යනු තවදුරටත් සන්ධාරයට නොගැලපෙන පිට කටුවක් වන බවත්, එය ඉවත් කිරීම කෘතිම වශයෙන් ප්‍රමාද කළහොත් අනිවාරණීය වශයෙන් දිරාපත් වන කටුවක් බවත්, එය දිරාපත් වීමේ තත්වයෙන් සැලකිය යුතු තරම් දීර්ඝ කාලයක් පැවතිය හැකි (අවස්ථාවාදී විසර ගෙඩිය සුව කිරීම ඉතා නරක ලෙසට දිග්ගැස්සුනොත්) නමුත් අනිවාරණීය වශයෙන්ම ඉවත් කෙරෙනු ඇති බවත් පැහැදිලි වන්නේය.

ජර්මන් අධිරාජ්‍යවාදයේ උද්යෝගිමත් ගුණ ගායක ෂුල්ත්සෙ- ගේවර්නිත්ස් වේගස්වරයෙන් මෙසේ කියයි:

''ජර්මන් බැංකුවල පරම කළමණාකාරිත්වය පුද්ගලයන් දුසිමකට පැවරූ කල, අද වුවද ඔවුන් ගේ ක්‍රියාකාරිත්වය රාජ්‍ය ඇමතිවරුන් වැඩි දෙනෙකුගේ ක්‍රියාකාරිත්වයට වඩා මහජන යහපත සඳහා වැදගත්

වන්නේය (වාසිය සඳහා බැංකුකරුවන් ගේ, ඇමතිවරුන් ගේ, කර්මාන්ත අධිකාරීන් ගේ සහ බදුකරුවන් ගේ ''අන්තර්බද්ධ වීම'' මෙහිදී අමතක කර තිබේ...) ''... අප සටහන් කරගත් එම ප්‍රවණතාවයන් ඒවායේ තර්කානුකූල අවසානය දක්වා සංවර්ධනය වූ තත්වයක් ඇති වුවහොත්, එවිට ජාතියේ ප්‍රාග්ධනය බැංකුවල එක්සත් වී තිබීමත්, බැංකුද කාටල වශයෙන් සංයෝජනය වී තිබීමත්, ජාතියේ ආයෝජන ප්‍රාග්ධනය සුරැකුම්පත් හැඩය ගෙන තිබීමත්, අපට දක්ක හැකි වනු ඇත. එවිට මහා ප්‍රාඥ සේන්ට් සිමොන් ගේ අනාගත වාක්‍ය සත්‍ය වනු ඇත: ''ඒකාකාර හැසිරවීමකින් තොරව ආර්ථික සම්බන්ධකම් සංවර්ධනය වීමට සමාන්තර වන නිෂ්පාදනයේ වර්තමාන අරාජිකත්වය, නිෂ්පාදනය සංවිධානය කිරීම සඳහා ඉඩදී ඉවත් විය යුතුය. එකිනෙකාගෙන් ස්වාධීන වූ හා මිනිසාගේ ආර්ථික අවශ්‍යතාවයන් ගැන දැනුමක් නොමැති, තනිවූ නිෂ්පාදකයන් විසින් තවදුරටත් නිෂ්පාදනය මෙහෙයවනු නොලැබේ. එය කිසියම් මහජන ආයතනයක් විසින් කරනු ලැබේ. උස් බැල්මක දෘෂ්ටි කෝණයෙන් සමාජ ආර්ථිකයේ විශාල භූමි භාගය නිරීක්ෂණය කිරීමෙහි සමත් මධ්‍යම කළමණාකාර කාරක සභාවක්, මුළු සමාජයේම යහපත සඳහා එම ආර්ථිකය මෙහෙයවනු ඇත; නිෂ්පාදන මාර්ග සුදුසු අත්වලට පවරනු ඇත; එසේම, අන් සියල්ලටමත් වඩා නිෂ්පාදනය හා පාරිභෝජනය අතර නිරන්තර සංගතය පවත්වා ගැනීමට සුපරීක්ෂා කාරී වනු ඇත. ආර්ථික ශ්‍රමයේ කිසියම් සංවිධානයක් ඇති කිරීම ස්වකීය කාර්යයන් අතුරෙන් කොටසක් ලෙසට පිළිගත් ආයතන දැනටමත් පවතී. ඒවා නම් බැංකුය! සේන්ට් සිමොන් ගේ අනාවැකිය ඇත්ත වනු දකීමට අපි තව බොහෝ දුර යා යුත්තෙමු. නමුත් අපි ඒ කරා යමින් සිටින්නෙමු. ඒ මාක්ස් ගේ පරිකල්පනයට වඩා වෙනස් මාක්ස්වාදයක් වන නමුත් එය වෙනස් වන්නේ ආකෘතිය වශයෙන් පමණකි''.*

මාක්ස් ගේ නියත, විද්‍යාත්මක විශ්ලේෂණයේ සිට සේන්ට් සිමොන් ගේ අනුමානය දක්වා, මහා ප්‍රාඥයෙකුගේ අනුමානය දක්වා, එසේ වුවත් හුදෙක් අනුමානයක් පමණක් ම දක්වා පියවරකින් පසු බැසීමක් වන මෙය ඇත්තෙන්ම මාක්ස්වාදය බලවත් ලෙස බිඳ හෙළීමකි''.

•

1916 ජනවාරි — ජූනි කාලයේ ලියන ලදී.
ප්‍රථමයෙන් පෙට්‍රොග්‍රෑඩ්හි ''පාරුස්'' ප්‍රකාශකයන් විසින් පොතක් ලෙස පළ කරන ලදී. ප්‍රංශ සහ ජර්මන් සංස්කරණවලට පෙරවදන, ''කොමියුනිස්ට් ජාත්‍යන්තරය'' 1921 අංක 18 කලාපයේ පළ කරන ලදී.

සම්පූර්ණ කෘති ''5 වැනි මුද්‍රණය'' වෙළුම 27, පිටු 299—426.

* "Grundriß der Sozialökonomik", S. 146.

# ''අධිරාජ්‍යවාදී ආර්ථිකවාදයේ'' ජායමාන උපනතිය[47]

1894—1902 කාලයේ පැරණි ''ආර්ථිකවාදය'' තර්ක කළේ මෙසේය: නරෝද්නික්වරුන් ගේ මත බිඳ හෙළා ඇත. ධනපති ක්‍රමය රුසියාවේ ජයගෙන ඇත. එනිසා දේශපාලන විප්ලවය පිළිබඳ ප්‍රශ්නයක් මතුවිය නොහැකිය. එසේ තර්ක කිරීමෙන් බැසගත් ප්‍රායෝගික නිගමනය මෙසේය: එක්කෝ ''ආර්ථික අරගලය කම්කරුවන්ට කරගන්නට දී දේශපාලන අරගලය ලිබරල්වාදීන්ට භාර දිය යුතුය'', එනම්, පිම්මක් දකුණට පැන්න යුතුය; එසේ නැතහොත්, දේශපාලන විප්ලවය වෙනුවට සමාජවාදය සඳහා සමන්ත මහා වැඩ වර්ජනය ආදේශ කළ යුතුය. එසේ පිම්මක් වමට පැනීම යෝජනා කරන ලද්දේ අනූගණන් අගදී රුසියානු ආර්ථික විද්‍යාඥයෙකු විසින් ලියන ලද, දැනට අමතක වී ඇති පොත් පිංචක් මගිනි[48].

දැන් අළුත් ''ආර්ථිකවාදයක්'' බිහි වී තිබේ. ඉහත සඳහන් මෙන්ම මෙහිදී ද, තර්කණය පිම් දෙකක් මත පදනම් කර තිබේ: ''දකුණට'' — අපි ජාතීන්ගේ ස්වාධිපත්‍යය සඳහා අයිතියට'' විරුද්ධ වෙමු. (නැතහොත් පීඩිත ජනතාවන් ගේ විමුක්තියටත්, රටවල් අල්ලා ගැනීමට විරුද්ධව කරන අරගලයටත් විරුද්ධ වෙමු — ඒ ගැන තවමත් පැහැදිලි ලෙස කල්පනා කර බලා හෝ ප්‍රකාශ කර හෝ නැත. ''වමට'' — අපි අවම වැඩ පිළිවෙළට විරුද්ධ වෙමු. (නැතහොත්, ප්‍රතිසංස්කරණ සහ ප්‍රජාතන්ත්‍රය සඳහා අරගලයට විරුද්ධ වෙමු) එය සමාජවාදී විප්ලවයට ප්‍රතිවිරෝධීය''.

1915 වසන්තයේ පැවැත්වුනු බර්න් සාකච්ඡා සභාවේ සහෝදරවරු ගණනාවකට මෙම ජායමාන උපනතිය ගැන දන්වීමෙන් පසු දැනට අවුරුද්දකට වඩා කල් ගතවී ඇත. එම අවස්ථාවේදී, මෙම අධිරාජ්‍යවාදී ආර්ථිකවාදී අදහස් කෙරෙහි සම්මේලයේ අවසානය දක්වාම දැඩි ලෙස එල්බ සිටියේත්, විශේෂ ''ප්‍රවාද'' ලෙසට ඒවා ලියා ඉදිරිපත් කළේත්, එකම

සහෝදරයෙක් පමණක් වීමත්, සම්මේලනයෙන් මුළුනින්ම ඔහුට අප්‍රසාදය පළවීමත් සතුටට කරුණක් විය. මෙම ප්‍රවාදවලට කිසිවෙක් හෝ සම්බන්ධ වූයේ නැත.[49]

පසුව මෙම සහෝදරයාගේ ස්වාධිපත්‍යයට විරුද්ධ ප්‍රවාදයට තවත් දෙදෙනෙක් සම්බන්ධ විය. (ඔවුන් එසේ සම්බන්ධ වූයේ, එම ප්‍රශ්නය ඉහත සඳහන් ''ප්‍රවාදයන්ගේ''[50] පොදු ක්‍රියාමාර්ගය සමග බෙරුමක් නොමැති සේ සම්බන්ධව ඇති බව නොදනය). නමුත්, ජාත්‍යන්තර සමාජවාදී කාරක සභාවේ බුලටිනයේ අංක 3 දරන කලාපයේ පළ කෙරුණු ''ලන්දේසි වැඩ පිළිවෙළ''[51] 1916 පෙබරවාරියේදී නිකුත් වීමෙන් පසුව වහාම මෙම ''වැරදි අවබෝධය'' පැහැදිලි විය. එනිසා මුල් ප්‍රවාදවල කතුවරයාට ඔහුගේ අධිරාජ්‍යවාදී ආර්ථිකවාදය නැවතත් ප්‍රකාශ කිරීමටත්, මෙම අවස්ථාවේදී ද, ප්‍රශ්නයකින් ''කොටසක්'' පමණකැයි කියන ලද කරුණකට අදාලව පමණක් නොව, එය සමස්තයක් වශයෙන් ප්‍රකාශ කිරීමටත් සිදුවිය.

අදළ සහෝදරවරු මඩ වගුරක වැටී සිටින බවත්, ඔවුන් ගේ ''අදහස්'' වල මාක්ස්වාදයට හෝ විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයට හෝ ගැලපෙන කිසිම දෙයක් නොමැති බවත් පෙන්වා දෙමින් ඔවුනට නිතර නිතර අනතුරු හැඟවීම පරම අවශ්‍යතාවයකි. තවදුරටත් මෙම කරුණ ''අඳුරෙහි තිබෙන්නට හැරීම'' අපට කළ නොහැකිය. එයට ඉඩ හැරීමෙන් සිදු වනු ඇත්තේ දෘෂ්ටිමය අවුල් සහගත තත්වයට දිරි දීමක් හා උභයාර්ථකථනය, ''පෞද්ගලික'' ගැටුම්, නිමක් නැති ඝර්ෂන, යනාදිය ගෙන එනසුලු හිතාමතා නරක මාර්ගයකට එය යොමු කිරීමක් පමණකි. ඊට ප්‍රතිකූල වශයෙන්, අපගේ යුතුකම වන්නේ සාකච්ඡාව සඳහා මතුකර තිබෙන ප්‍රශ්න ගැන සම්පූර්ණ වශයෙන්ම සිතා බැලීමේ හා විශ්ලේෂණය කර බැලීමේ වගකීම ගැන, ඉතාමත් අවධාරණ සහිත හා ඒකාන්ත ආකාරයෙන් දිගටම පෙන්වා දීමය.

''සොටිසල් ඩිමොක්‍රට්'', සංස්කාරක මණ්ඩලයේ ස්වාධිපත්‍ය පිළිබඳ ප්‍රවාද (නැවත මුද්‍රණයක් ලෙස "Vorbote"[52] අංක 2 හි ජර්මන් බසින් පළ විය) ඉදිරිපත් කිරීමේදී, එය උවමනාවෙන්ම මෙම ප්‍රශ්නය අපෞද්ගලික, එහෙත්, ඉතාමත් විස්තර සහිත ආකාරයෙන්, ප්‍රවෘත්ති පත්‍ර අතරට ගෙන ආවේය. එසේ කිරීමේදී ස්වාධිපත්‍යයත් සමග ප්‍රතිසංස්කරණ සඳහා සහ ප්‍රජාතන්ත්‍රවාදය සඳහා අරගලයත්, දේශපාලන පැත්ත ගැන නොසලකා හැරීමට කිසිසේත් ඉඩ දීමේ නොහැකියාවත්, යනාදිය සම්බන්ධව තිබීම පිළිබඳ පොදු ප්‍රශ්නය එය විශේෂයෙන් අවධාරණය කළේය. මුල් ප්‍රවාදවල (''අධිරාජ්‍යවාදී ආර්ථිකවාදයේ'') කර්තෘ තැන, කර්තෘ මණ්ඩලයේ ප්‍රවාද ගැන ස්වකීය අදහස් ඉදිරිපත් කිරීමේදී ලන්දේසි වැඩ පිළිවෙළට සහයෝගය දක්වයි. ජායමාන උපනතියේ ප්‍රචාරකයන් කියන ලෙසට, ස්වාධිපත්‍යය කිසිසේත් ප්‍රශ්නයක ''කොටසක්'' නොවන බව හා එය පොදු සහ මූලික ප්‍රශ්නයක් වන බව ඔහු එමගින් පැහැදිලි ලෙස පෙන්නුම් කරයි.

බර්න්හි පැවැත්වුනු ජාත්‍යන්තර සමාජවාදී කාරක සභාවේ 1916 පෙබරවාරි 5-8 රැස්වීමේදී[53] ලන්දේසි වැඩ පිළිවෙළ ටිසිමර්වොල්ඩ් වාමාංශයේ[54] නියෝජිතයන් හමුවේ තබන ලදී. ටිසිමර්වොල්ඩ් වාමාංශයේ කිසිම සාමාජිකයෙක්, රදෙක් පවා, වැඩ පිළිවෙළට පක්ෂව කථා නොකළේය. එසේ වූයේ ''බැංකු අසන්තක කිරීම'' හා ''රේගු තීරුබදු අවලංගු කිරීමත්'', ''ප්‍රථම සෙනට් සභාව අහෝසි කිරීමත්'' යනාදිය වැනි කරුණු, එමගින් පිළිවෙළක් නැතිව ඒකාබද්ධ කර තිබුණු හෙයිනි.ලන්දේසි වැඩ පිළිවෙළ ප්‍රකටවම පෙනෙන ලෙසට සම්පූර්ණයෙන් නුසුදුසු සේ සැලකූ ටිසිමර්වොල්ඩ් වාමාංශය, අදහසක් ප්‍රකාශ නොකරම පාහේ, ඇත්ත වශයෙන්ම, හුදෙක් දෙළර නැටවීමෙන් පමණක් එය ප්‍රතික්ෂේප කළේය.

එසේ වුවද, 1915 වසන්තයේදී ලියන ලද මුල් ප්‍රවාදවල කතුවරයා වැඩ පිළිවෙළට කොතරම් ලැදි කමක් දක්වූයේද යත්, හේ මෙසේ පැවසීය: ''හරය වශයෙන් ගත් කල'' (1915 වසන්තයේදී) ''මා කී සියල්ලත්, එයමය''. ලන්දේසිවරු කරුණු හොඳ හැටි සිතා බලා ඇත:'' ''ඔවුන් කියන ලෙසට ආර්ථික පැත්ත යනු බැංකු සහ මහා පරිමාන නිෂ්පාදනය (ව්‍යවසායයන්) අසන්තක කිරීමය; දේශපාලන පැත්ත යනු සමූහාණ්ඩුවක් යනාදී කරුණුය. මෙය සම්පූර්ණයෙන් ම නිවැරදිය!''

නමුත් සත්‍යකාරණය වූයේ ලන්දේසිවරු ''කරුණු හොඳ හැටි සිතා බැලුවේ නැති බවය; සිතා නොබැලූ වැඩ පිළිවෙළක් ඉදිරිපත් කළ බවය. අප අතර සිටින සමහර දෙනා, අළුත්ම නවතාවය ලෙස සලකා අල්ලා ගන්නේ හරියටම සිතා නොබලන ලද දෙයම වීම, රුසියාවේ කණගාටුදායක ඉරණම වේ.

''සොටිසල් ඩිමොක්‍රට්'' සංස්කාරක වරුම බැංකු අසන්තක කිරීම'' සඳහා බල කළ විට, එපමණක් නොව, ''වහාම'' යන වචනය (සහා ''ආඥදායක පියවරයන්'') පවා 8 වැනි වගන්තියට (''නිශ්චිත පියවරයන්'') ඇතුළත් කළ විට, ඔවුන්ම ප්‍රතිවිරෝධී තත්වයට වැටුනේ යයි 1915 ප්‍රවාදවල කතුවරයා විශ්වාස කරයි. ''මෙයම කීම නිසා, බර්න්හිදී මට කොතරම් දෝෂාරෝපනය කරන ලද්දේද!'' යි 1915 ප්‍රවාදවල කතුවරයා 1915 වසන්තයේ බර්න් විවාද ගැන සිහිපත් කරමින් කෝප ස්වරයෙන් කියයි.

ඔහුට මෙම ''සුළු'' කරුන නොපෙනේ: 8 වැනි වගන්තිය යටතේ ''සොටිසල් ඩිමොක්‍රට්'' කතුවරු ඇති විය හැකි තත්වයන් දෙකක් ගැන

කියති: 1. සමාජවාදී විප්ලවය ආරම්භ වී ඇත. එය එසේ නම් ''බැංකු වහාම අසන්තක කිරීම'' ආදිය කළ යුතු යයි ඔවුහු කියති. 2. සමාජවාදී විප්ලවය ආරම්භ වී නැත. එසේ නම් මෙම හොඳ දේ ගැන කථා කිරීම කල් දැමීමට අපට සිදුවෙනවා ඇත.

ඉහත සඳහන් අර්ථයෙන් සමාජවාදී විප්ලවය තවමත් ආරම්භ වී නොමැති බව දැන් පැහැදිලි හෙයින් ලන්දේසි වැඩ පිළිවෙළ අනුචිතය. එසේම, (''ප්‍රථම සෙනට් සභාව අහෝසි කිරීම'' වැනි?) දේශපාලන ඉල්ලීම් ''සමාජ විප්ලවය සඳහා දේශපාලන සූත්‍රයක්'' බවට හරවා ගැනීම පිළිබඳ ඔහුගේ පැරණි වරද වෙතම ආපසු යාමෙන් (ඔහු නිතරම එක තැනටම ලිස්සා යන බව පෙනේ!) ප්‍රවාදවල කතුවරයා ඔහුගෙන් ''ගාම්භීරත්වය'' ස්වල්පයක් ද එකතු කරයි.

මුළු අවුරුද්දක්ම තිස්සේ කල් බලමින් සිට, කතුවරයා ඔහුගේ පැරණි වරද වෙත ආපසු ගියේය. ඔහුට සිදුවූ වැරදීම්වල ''හරය'' එයයි. අධිරාජ්‍යවාදයේ පැමිණීම සමග ප්‍රතිසංස්කරණ හා ප්‍රජාතන්ත්‍රවාදය සඳහා කරන අරගලය සම්බන්ධ කර ගන්නේ කෙසේද යන ප්‍රශ්නය විසඳා ගැනීම ඔහුට නුපුළුවන. එයද, ඒ අප්‍රසන්න මතකයේ රැඳුනු ''ආර්ථිකවාදය'', ධනපති ක්‍රමයේ පැමිණීම සමග ප්‍රජාතන්ත්‍රවාදය සඳහා කරන අරගලය ගලපා ගැනීමෙහි අසමත් වූ සේ මය.

අධිරාජ්‍යවාදී ක්‍රමය යටතේ ප්‍රජාතන්ත්‍රවාදී ඉල්ලීම් ''දිනා ගත නොහැකියාව'' පිළිබඳ සම්පූර්ණ අවුල ඇති වූයේ එහෙයිනි.

මාක්ස්වාදියෙකුට කිසිසේත් අවසර නොමැති ලෙසට (රබෝවය මිස්ල් ''ආර්ථිකවාදියෙකුට'' පමණක් අවසර ඇති ලෙසට)[55], මේ මොහොතේදී, වර්තමානයේදී, වහාම හා සෑම කාලයකදීම දේශපාලන අරගලය නොතකා හරින්නේ එහෙයිනි.

(අප්‍රසන්න මතකයේ රැඳුනු ආර්ථිකවාදීන් ධනපති ක්‍රමය හඳුනා ගැනීමේ සිට ධනපති ක්‍රමයට ආවැඩීම දක්වා ලිස්සා ගිය පරිද්දෙන්ම) අධිරාජ්‍යවාදය හඳුනා ගැනීමේ සිට අධිරාජ්‍යවාදයට ආවැඩීම දක්වා නිරතුරුවම ලිස්සා යාමේ දක්ෂ කමක් දක්නට ලැබෙන්නේ එහෙයිනි.

තවදුරටත් මේ ආදී වශයෙනි.

1915 ප්‍රවාදවල කතුවරයා, ස්වාධිපත්‍ය පිළිබඳ ''සොටසල් ඩිමොක්‍රට්'' ප්‍රවාද ගැන දක්වා ඇති අදහස් සෑම පේළියක්ම සදෙස් නිසා, එම අදහස් ඉදිරිපත් කිරීමේදී ඔහු කර ඇති වැරදි සියල්ලම ගැන සම්පූර්ණ විමර්ශනයක් කිරීම උගහටය! ''අධිරාජ්‍යවාදී ආර්ථිකවාදයේ'' මූලාරම්භකයන් මුළු අවුරුද්දක්ම කල් බලමින් ගත කරන අතර, ඔවුන්ට දේශපාලන ප්‍රශ්න සම්බන්ධයෙන් බරපතල ආකල්පයකින් කටයුතු කිරීමේ උවමනාව තිබෙ නම්, ඔවුන්ගේ ඍජු යුතුකම වන දෙය ඉටු කිරීම, එනම්, ''අපගේ වෙනස්කම්'' ලෙසට ඔවුන් හඳුන්වන්නේ කුමක්ද යන්න ගැන මනා සැලකිල්ලෙන් යුතුව හා පැහැදිලි ලෙස ප්‍රකාශ කිරීම දැඩි ලෙස ප්‍රතික්ෂේප කරන්නේ නම්, ''අදහස් දැක්වීමකට'' පිළිතුරු වශයෙන් පොත් පොඩි හෝ පොත් ලිවීමේ අවශ්‍යතාවයක් නොමැත.

එනිසා, කතුවරයා ඔහුගේ වරද ක්‍රියාත්මක කරන්නේ සහ එහි ''අනුපූරණය'' කරන්නේ කෙසේද යන්න ගැන කෙටි සමලෝචනයක් කිරීමට පමණක් සීමාවීමට මට සිදු වේ.

මා ප්‍රතිවිරෝධී තත්වයකට පත් වී යයි ඔහු විශ්වාස කරයි: බටහිර යුරෝපීය සමාජවාදීන්ගේ වැඩ පිළිවෙළවල් තුළ ස්වාධිපත්‍යය සෙවීම විහිළුවක් බව මම 1914 දී (''ප්‍රස්විශේනිය'' හි) ලීවෙමි.* නමුත් 1916 දී ස්වාධිපත්‍යය විශේෂයෙන්ම හදිසි අවශ්‍යතාවයක් වී ඇතැයි මම ප්‍රකාශ කරමි.

මෙම වැඩ ''පිළිවෙළවල්'' සකස් කරන ලද්දේ 1875, 1880, 1891[56] යන වර්ෂවල බව කතුවරයාට කල්පනා වූයේ නැත!

දැන් (''සොටසල් ඩිමොක්‍රට්'') ස්වාධිපත්‍ය ප්‍රවාදයට පටහැණිව ඉදිරිපත් කරන මෙම විරෝධයන් එකින් එක ගෙන බලමු.

1 වැනි වගන්තිය: දේශපාලන ප්‍රශ්න දැකීමට හා මතු කිරීමට ඇති ඒ ''ආර්ථිකවාදී'' අකැමැත්තම මෙහිද පෙන්වා ඇත. දේශපාලන ක්ෂේත්‍රයේ ජාතික පීඩනය අහෝසි කිරීමේ ආර්ථික පදනම සමාජවාදය විසින් නිර්මාණය කෙරෙන බැවින්, මෙම ක්ෂේත්‍රයේ අපට පැවරෙන දේශපාලන කර්තව්‍යයන් ඉදිරිපත් කිරීම කතුවරයා ප්‍රතික්ෂේප කරන්නේය. එය අන්ත විහිළුවකි!

ජයග්‍රාහී නිර්ධන පංතිය, වෙනත් රටවල ධනපති පංතියට විරුද්ධව යුද්ධ කිරීම ප්‍රතිෂේධ නොකරන හෙයින් ජාතික පීඩනය සම්බන්ධයෙන් අපගේ දේශපාලන කර්තව්‍යයන් ඉදිරිපත් කිරීම කතුවරයා ප්‍රතික්ෂේප කරයි!! මේ සියල්ල මාක්ස්වාදය සහ තර්ක විද්‍යාව උල්ලංඝනය කිරීමේ නිදර්ශන වෙති. නැතහොත්, ඔබ කැමති නම්, ඒවා ''අධිරාජ්‍යවාදී ආර්ථිකවාදයේ'' මූලික වැරදි වලට තාර්කික හේතු පෙන්නුම් කරන නිදර්ශන වෙති.

2 වැනි වගන්තිය: ස්වාධිපත්‍යය ''දිනා ගැනීමේ නොහැකියාව'' ගැන සඳහන් කිරීමට ගොස් ස්වාධිපත්‍යයේ ප්‍රතිපාක්ෂිකයෝ අන්ත අවුලට පත්ව සිටිති.

දිනාගත නොහැකියාවේ අවස්ථා දෙකක් ගැන ඔවුනට පැහැදිලි කරන ''සොටසල් ඩිමොක්‍රට්'' සංස්කාරකවරු එම අවස්ථා දෙකෙහිදීම ඔවුන්ගේ වරද පෙන්වා දෙති.

---

*මෙම ප්‍රකාශනයේ 3 වැනි වෙළුමේ 216 පිටු බලන්න. — සංස්කාරක

එසේ ද වුවත්, 1915 ප්‍රවාදවල කතුවරයා, ''දිනාගත නොහැකියාව'' ගැන ඔහුගේ අර්ථ නිරූපනය දීමට උත්සාහ නොකරම, එනම්, මෙහි දී එකිනෙකට වෙනස් කරුණු දෙකක් අවුල් කර ගෙන ඇතැයි යන අපගේ විස්තරය පිළිගනිමින්ම, එම අවුලෙහිම වෙළී සිටියි!!

ඔහු අර්බුද ''අධිරාජ්‍යවාදී'' ''ප්‍රතිපත්තිය'' සමග එක මිටියට බඳියි: අධිරාජ්‍යවාදයට පෙර අර්බුද තිබුණු බව දේශපාලන අර්ථශාස්ත්‍රයේ අප විශේෂඥයාට අමතක වී තිබේ!

ආර්ථික වශයෙන් ස්වාධිපත්‍යය දිනා ගැනීමේ නොහැකියාව ගැන කථා කිරීම යනු ප්‍රශ්නය අවුල් කිරීමක් බව සංස්කාරකවරු පැහැදිලි කරති. කතුවරයා ඊට පිළිතුරු නො දෙයි; ආර්ථික වශයෙන් ස්වාධිපත්‍යය දිනාගත නොහැකි යයි තමා සලකන බව හේ නොකියයි. සැක පහළ කරන ස්වකීය ප්‍රතිෂ්ඨාව අත්හැර දමන ඔහු (''එකසේම'' දිනාගත නොහැකි) දේශපාලනයට පනියි. ඔහු එසේ කරන්නේ, අධිරාජ්‍යවාදය යටතේ ස්වාධිපත්‍යය මෙන්ම සමූහාණ්ඩුවක් ද දේශපාලන වශයෙන් දිනාගත නොහැකි'' බව ඉතාමත් පැහැදිලි ලෙස ඔහුට කියා තිබියදී ය.

එයින් කොටුවූ කතුවරයා නැවතත් ''පනියි'': ඔහු සමාජ විප්ලවය සඳහා දේශපාලන සූත්‍රයක් වශයෙන් පමණක් සමූහාණ්ඩුවක් හා මුළු අවම වැඩ පිළිවෙළම පිළිගනියි!!!

''ආර්ථික වශයෙන්'' ස්වාධිපත්‍යය දිනා ගැනීමේ නො හැකියාවට පක්ෂව කරුණු කීමට ප්‍රතික්ෂේප කරන ඔහු දේශපාලනයට පනිමින්, දේශපාලන වශයෙන් දිනාගැනීමේ නොහැකියාව සමස්තයක් වශයෙන් මුළු අවම වැඩ පිළිවෙළට ම බලපාන බව කියයි. මෙහි ද අබ ඇටයක් තරම්වත් මාක්ස්වාදය හෝ තර්කය හෝ නොමැත. එහි ඇත්තේ ''අධිරාජ්‍යවාදී ආර්ථිකවාදයේ'' තර්කය පමණකි.

කතුවරයාට උවමනා කරන්නේ නො පෙනෙන ලෙසට (සිතා බැලීමට ප්‍රමාද නොවී, පැහැදිලි කිසිවක් ඉදිරිපත් නොකර, තමන්ගේ වැඩ පිළිවෙළ සකස් කිරීමට කිසිම ප්‍රයත්නයක් නොදරා) සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ අවම වැඩ පිළිවෙළ ගිල්වා දැමීමටය! ඔහු අවුරුද්දක් තිස්සේම කල් බලමින් සිටීම පුදුමයක් නොවේ!

තවද, කෞට්ස්කිවාදයට විරුද්ධව සටන් කිරීමද, ප්‍රශ්නයක කොටසක් නොව, නූතන කාලයේ පොදු හා මූලික ප්‍රශ්න වලින් එකකි. කතුවරයාට මෙම අරගලය නොවැටහෙයි. ''ආර්ථිකවාදීන්'' නරෝද්නික්වරුන්ට විරුද්ධව කළ අරගලය ධනපති ක්‍රමයට ආවැඩීමක් බවට හැරවූ සේම, කතුවරයාද, කෞට්ස්කිවාදයට විරුද්ධව කරන අරගලය අධිරාජ්‍යවාදයට ආවැඩීමක් බවට හරවන්නේය. (එය 3 වැනි වගන්තියට ද අදාලය.)

කෞට්ස්කිවාදීන් ගේ වරද ඇත්තේ, විප්ලවවාදී ලෙස පමණක් යම්



අවස්ථාවක ඉදිරිපත් කළ යුතු යම් ඉල්ලීම් ප්‍රතිසංස්කරණවාදී ලෙස ඉදිරිපත් කිරීමය. (නමුත් කතුවරයා වරදට වැටෙන්නේ ඔවුන් එම ඉල්ලීම් ඉදිරිපත් කිරීම ම වරදකැයි ගැනීමෙනි. එය වනාහි ''ඒකාධිපත්‍යය භංගවේවා'' යන සටන් පාඨය නරෝද්නික්වාදය අදහස් කරන්නකැයි යනුවෙන් නරෝද්නික්වාදයට විරුද්ධ අරගලය වටහා ගත් ''ආර්ථිකවාදීන්ට'' සමාන වීමකි).

කෞට්ස්කිවාදයේ වරද ඇත්තේ, නිවැරදි ප්‍රජාතන්ත්‍රවාදී ඉල්ලීම්, අනාගතය වෙතට, සමාජ විප්ලවය වෙතට එල්ල නොකොට, ඒවා අතීතය වෙතට එල්ල කිරීමය. (එහෙත් කතුවරයා වැටෙන්නේ මෙම ඉල්ලීම් වැරදි යයි සලකන තත්වයට ය).

3 වැනි වගන්තිය: ඉහත ඡේදය බලන්න. කතුවරයා ''පෙඩරල් ඒකාබද්ධවීම'' පිළිබඳ ප්‍රශ්නය ද මඟ හැර යයි. එම පරණ ''ආර්ථිකවාදයේ'' එම පරණ වරදම කරනු ලැබේ. එය නම්, දේශපාලන ප්‍රශ්න මතු කිරීමේ අසමර්ථතාවය ය.*

4 වැනි වගන්තිය: ''ස්වාධිපත්‍යය අනුව පිතෘ භූමිය ආරක්ෂා කිරීම උද්ගත වන්නේය'' යි කතුවරයා මුරණ්ඩු ලෙස යළිත් කියයි. මෙහිදී ඔහුගේ වරද වන්නේ පිතෘ භූමිය ආරක්ෂා කිරීම යන්නෙහි ප්‍රතිෂේධය ඇදබිල්ලක් කර ගැනීමය; කිසියම් නිශ්චිත යුද්ධයක ඓතිහාසික අංග ලක්ෂණ අනුව එය නිගමනය නොකර ''පොදු වශයෙන්'' එය යොදා ගැනීමය. එය මාක්ස්වාදය නොවේ.

''පිතෘ භූමිය ආරක්ෂා කිරීම'' සාධාරණ දෙයක් ලෙස නොදක්වන ස්වභාවයේ (ආකෘතියක්) වන, ජාතික පීඩනයට හා අසමානත්වයට විරුද්ධ අරගල ආකෘතියක් ගැන සිතා බලන ලෙස කතුවරයාට මීට බොහෝ ඉහත දී කියා ඇත. ඔබට එවැනි ආකෘතියක් නිර්මාණය කළ නොහැකිය. එය වැරදි බවක් කතුවරයා නො කියයි.

කිසියම් ජාතික පීඩනයකට විරුද්ධව කරන සටනක්, පිතෘ භූමිය ආරක්ෂා කිරීමක් වන ලෙසට එහි අර්ථය නිරූපනය කළ නොහැකි නම් අප එම සටන ප්‍රතික්ෂේප කරන බව එයින් අදහස් වේද?

නැත. අප විරුද්ධ වන්නේ ''පොදු වශයෙන්'' ''පිතෘ භූමිය ආරක්ෂා කිරීමට'' නොව (අපගේ පක්ෂ යෝජනා බලන්න) වර්තමාන අධිරාජ්‍යවාදී යුද්ධය හුවා දැක්වීම සඳහා මෙම සටන් පාඨය වංචාකාරී ලෙස යොදාගැනීම ගැනය.

* ''බිඳී විසිරී යාම ගැන අපි බිය නොවෙමු. අපි ජාතික දේශ සීමා ආරක්ෂා නො කරමු'' යයි කතුවරයා කියයි. දැන් එයට නිශ්චිත දේශපාලන හැඩයක් දීමට උත්සාහ කරන්න!! එය ඔබට කිසිසේත් කළ නොහැක්කකි. වරද ඇත්තේ එතැනය. දේශපාලන ප්‍රජාතන්ත්‍රවාදය පිළිබඳ ප්‍රශ්න සලකා බැලීමේදී, ''ආර්ථිකවාදී'' අන්ධ කම ඔබට බාධාවක් වී තිබේ.

කතුවරයාට උවමනා කරන්නේ ''පිතෘ භූමිය ආරක්ෂා කිරීම'' පිළිබඳ ප්‍රශ්නය මූලික වශයෙන් වැරදි සහ ඉතිහාසයට නොගැලපෙන ආකාරයට මතු කිරීමට ය (නමුත් ඔහුට එය කළ නො හැකිය. ඔහු මුළු අවුරුද්දක්ම එසේ කිරීමට උත්සාහ දරමින් සිටියේය...).

''ද්විත්වවාදය'' ගැන ඔහු කරන සඳහනෙන් පෙනෙන්නේ, අද්වෛතවාදයත්, ද්විත්වවාදයත් අතර වෙනස ඔහුට නොවැටහෙන බවයි.

මා සපත්තු බුරුසුවකුත්, ක්ෂීරපායි සත්වයෙකුත් ''එක්සත්'' කළේ නම්, එය ''අද්වෛතවාදය'' වන්නේ ද?

''A'' ඉලක්කය වෙත යාම සඳහා (C) → A ← (B)

(B) ලක්ෂයේ සිට වමටත්, (C) ලක්ෂයේ සිට දකුණටත් අප ගමන් කළ යුතු යයි මා කිව හොත් එය ''ද්විත්වවාදය'' වන්නේ ද?

ජාතික පීඩනය හා සම්බන්ධයෙන් පීඩක හා පීඩිත ජාතීන්ගේ නිර්ධන පංතිය දරන තත්වය එකම ද? නැත, එය එකම නොවේ — ආර්ථික වශයෙන්, දේශපාලන වශයෙන්, දෘෂ්ටිමය වශයෙන්, අධ්‍යාත්මික වශයෙන්, යනාදී ලෙසට එම පංතිය දරන තත්වය එකම නොවේ.

මෙහි අර්ථය කුමක් ද?

මෙයින් අදහස් කෙරෙන්නේ, එකම අරමුණ (ජාතීන් සංයෝජනය වීම) වෙතට, සමහරෙක් එක මගකින් ද, තවත් සමහරෙක් වෙනත් මගකින් ද, වෙනස් ආරම්භක ස්ථානවල සිට ළඟා වන බවයි. මෙය ප්‍රතික්ෂේප කිරීම යනු සපත්තු බුරුසුව සහ ක්ෂීරපායි සත්වයා එක්සත් කරන ''අද්වෛතවාදය'' වන්නේය.

''මෙය (ස්වාධිපත්‍ය ගැන උනන්දු කරවීම) පීඩිත ජාතීන්ගේ නිර්ධන පංතිකයන්ට කීම සුදුසු නොවේ''. සංස්කාරක වරුන්ගේ ප්‍රවාද ගැන කතුවරයා ''අර්ථකථනය'' කරන්නේ එසේය.

එය හාස්‍යජනකය!! එවැනි කිසිම දෙයක් එම ප්‍රවාදවල නැත. එක්කෝ කතුවරයා ඒවා අවසානය දක්වා කියවා නැත, එසේ නැතහොත්, ඔහු ඒවා ගැන කිසිසේත් සිතා බලා නැත.

5 වැනි වගන්තිය: කෞට්ස්කිවාදය ගැන ඉහත සඳහන් කරුණු බලන්න.

6 වැනි වගන්තිය: ලෝකයේ රටවල් තුන් වර්ගයක් ඇතැයි කතුවරයාට කියා ඇත. ඔහු මෙයට ''විරුද්ධත්වය ප්‍රකාශ කර'', ''විශේෂ සිද්ධීන්'' හුවා දක්වයි. මෙය දේශපාලනය නොව, අවුල් හැදීම වේ.

ඔබට අවශ්‍ය නිශ්චිත ''නිදර්ශනයක්'' නම් බෙල්ජියම ගැන කියන්නේ කුමක් ද?''

ලෙනින් සහ සිනෝව්යෙව් පොත් පිංච බලන්න: මෙම නිශ්චිත යුද්ධය වෙනස් එකක් වී නම් අපි බෙල්ජියම (යුද්ධ කර වුව) ආරක්ෂා කිරීමට පක්ෂ වෙමුයි එහි කියා ඇත.



ඔබ එයට එකඟ නොවන්නෙහි ද?

එසේ නම් ඒ බව කියන්න!!

සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් ''පිතෘ භූමිය ආරක්ෂා කිරීමට'' විරුද්ධ වන්නේ මන්ද යන ප්‍රශ්නය ගැන ඔබ හරි හැටි සිතා බලා නැත.

අප එයට විරුද්ධ වන්නේ ඔබ සිතන හේතූන් නිසා නොවේ; ඔබ ප්‍රශ්නය ඉදිරිපත් කරන (සැබවින්ම ඉදිරිපත් කිරීමක් නොව, නිශ්ඵල ප්‍රයත්න දැරීමකි) ආකාරය ඉතිහාසයට විරුද්ධ වන හෙයිනි. කතුවරයාට මා දෙන පිළිතුර එයයි.

ජාතික පීඩනය දුරු කිරීම සඳහා කරන යුද්ධ සාධාරණ බව කියන අතරම, ජාතික පීඩනය වැඩි කිරීම සඳහා දෙ පැත්තෙන්ම කෙරෙන වර්තමාන අධිරාජ්‍යවාදී යුද්ධය සාධාරණ බව අප විසින් කියනු නො ලැබීම ''විතණ්ඩවාදය'' යනුවෙන් විස්තර කිරීම යනු කරුණු ගැන මඳක් හෝ නො සිතා තද වචන පාවිච්චි කිරීමකි.

වඩාත් ''වාමාංශික'' ප්‍රතිඥාවක සිට ''පිතෘ භූමිය ආරක්ෂා කිරීම'' පිළිබඳ ප්‍රශ්නය ඉදිරිපත් කිරීමට කතුවරයාට උවමනා වෙයි. නමුත් (දැන් අවුරුද්දක්ම තිස්සේ) එහි ප්‍රතිඵලය අන්ත අවුලකි!

7 වැනි වගන්තිය: කතුවරයා මෙසේ විවේචනය කරයි: ''සාම කොන්දේසි'' පිළිබඳ ප්‍රශ්නය ගැන ස්වල්ප වශයෙන් හෝ කිසිසේත් ම සඳහන් කර නැත''.

මෙය අරුම පුදුම විවේචනයකි. අප මතු කළේවත් නැති ප්‍රශ්නයක් ගැන සඳහන් නොකිරීම සම්බන්ධව කරන විවේචනයකි!!

නමුත් රටවල් අල්ලා ගැනීම පිළිබඳ ප්‍රශ්නය ''සඳහන් කර'' හා සාකච්ඡා කර ඇත. ඒ සම්බන්ධයෙන්, මේ අවස්ථාවේදී ලන්දේසිවරු හා රඩෙක් ද සමගම ''අධිරාජ්‍යවාදී ආර්ථිකවාදීන්'' සම්පූර්ණයෙන් ම අවුලට පත්ව ඇත.

එක්කෝ ඔබ ඉහත හා මෑත රටවල් අල්ලා ගැනීම් වලට විරුද්ධ වීමේ හදිසි සටන් පාඨය ප්‍රතික්ෂේප කළ යුතුය. (අධිරාජ්‍යවාදය යටතේ එය යටත් විජිතවල මෙන්ම යුරෝපයේද, ස්වාධිපත්‍යයට වඩා ''දිනා ගැනීමේ නොහැකියාව'' අතින් නො අඩුය). ඔබ එසේ කරන්නේ නම්, ඔබ සැබවී සිට අධිරාජ්‍යවාදයට ආවැඩීමේ සිට එයට විවෘතව ආවැඩීම දක්වා මාරුවන්නෙහිය.

එසේ නැතහොත් (රදෙක් පුවත්පත් මගින් කර ඇති ලෙසට) ඔබ එම සටන් පාඨය පිළිගන්නවා විය යුතුය. ඔබ එසේ කරන්නේ නම්, ජාතීන්ගේ ස්වාධිපත්‍යයට වෙනත් නමක් දී එය පිළිගන්නෙහි ය!!

8 වැනි වගන්තිය: කතුවරයා ''බටහිර යුරෝපීය පරිමාණයකින් බෝල්ෂෙවික්වාදය'' ප්‍රකාශයට පත් කරයි. (''එය ඔබේ ප්‍රතිඥාව නොවේය'' යි ඔහු එකතු කරයි).

මෙම ''බොල්ෂෙවික්'' යන වචනයෙහි එල්බ ගැනීමට ඇති කැමැත්ත වැදගත් දෙයක් කොට නො සලකමි. මක් නිසාදයත්, එවැනි ''පැරණි බෝල්ෂේවික්'' වරුන් ගැන මා දන්නා හෙයිනි. දෙවියෝ අප ඔවුන්ගෙන් ගලවා ගනිත්වා. කතුවරයා විසින් ''බටහිර යුරෝපීය පරිමාණයකින් බෝල්ෂේවික්වාදය'' ප්‍රකාශයට පත් කරනු ලැබීම, බෝල්ෂෙවික්වාදය-වත්, මාක්ස්වාදයවත් නොවන බව හා ඒ පැරණි ''ආර්ථිකවාදයම'', සුළු වශයෙන් වෙනස් කොටගත්, එහිම ප්‍රභේදයක් බවත්, මට හොඳටම විශ්වාස ය.

මගේ අදහසේ හැටියට, මුළු අවුරුද්දක්ම තිස්සේ නව බෝල්ෂෙවික්-වාදය ප්‍රකාශයට පත්කර සියල්ල එසේ තිබෙන්නට හැරීම කොහෙත්ම ඉවසිය නොහැකි, වාචාල දෙඩීමේ හා පාක්ෂික නොවන තත්වයකි. කරුණු ගැන කල්පනා කර බලා, ''බටහිර යුරෝපීය පරිමාණයකින් බෝල්ෂෙවික්වාදය'' ගැන පැහැදිලි හා අංග පූර්ණ නිරාවරණයක් සහෝ-දරවරුන් වෙත සැපයීමට කාලය පැමිණ තිබෙනවා නොවේද?

කතුවරයා යුරෝපයේ යටත් විජිත හා පීඩිත ජාතීන් අතර වෙනස (සාකච්ඡාවට බඳුන් වූ ප්‍රශ්නයට අදාළ ආකාරයෙන්) ඔප්පු කර නැත. ඔහු එය ඔප්පු නො කරනු ඇත.

---

ලන්දේසිවරුන් සහ පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය (P. S. D.) විසින් ස්වාධිපත්‍යය ප්‍රතික්ෂේප කරනු ලැබීම හුදෙක් අවුලෙහිම පමණක් ප්‍රතිඵලයක් නොවේ. ගෝර්ටර් සත්‍ය ලෙසින් ඒ බව පිළිගෙන ඇත. පෝලන්ත ජාතිකයන්ගේ ව්සිමර්වොල්ඩ් ප්‍රකාශනයෙන් ද ඒ බව පිළිගෙන තිබේ. ඊට වඩා, එය ඔවුන්ගේ ජාතීන් ගේ විශේෂ තත්වයේ ප්‍රතිඵලයකි. (ඒවා මහ බලවත් තත්වය පිළිබඳ ශතවර්ෂාධික සම්ප්‍රදායයන් හා ව්‍යාජ හැඟීමක් ඇති කුඩා ජාතීන් වෙති).

ජාතිකවාදී ධනපති පංතියට හා එය විසින් ජනතාව රවටනු ලැබීමට විරුද්ධව දශක ගණන් තිස්සේ කරන ලද අරගලයේ ප්‍රතිඵලයක් වශයෙන් වෙනත් රටවල ඇති වූ දේ යාන්ත්‍රික වශයෙන් භාර ගැනීම සහ ඒවා විමසිල්ලෙන් තොරව පුනරුච්ඡාරනය කිරීම ඉතාමත් අඥනය, බොළඳය. මෙහි අපට දක්නට ඇත්තේ නිශ්චිත වශයෙන්ම භාර නොගතයුතු දේම භාර ගන්නා මිනිසුන් පිළිබඳ නිදර්ශනයකි.

1916 අගෝස්තු — සැප්තැම්බර් මාසවලදී ලියන ලදී.

1929, ''බෝල්ෂෙවික්'', අංක 15 සඟරාවේ ප්‍රථමයෙන් පළ විය.

වී. අයි. ලෙනින්.සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 30, පිටු 59—67.

# නිර්ධන පංති විප්ලවයේ යුද්ධ වැඩ පිළිවෙළ[57]

වර්තමාන අධිරාජ්‍යවාදී යුද්ධයේදී ප්‍රචාරය කෙරෙන ''පිතෘ භූමිය ආරක්ෂා කිරීම'' පිළිබඳ සමාජ-ජාත්‍යොන්මාදවාදීන් ගේ බොරු වලට විරුද්ධව සටන් කරමින් සිටින ලන්දේසි, ස්කැන්ඩිනේවියානු සහ ස්විට්සර්ලන්ත විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් අතර සමහර දෙනෙකු-ගෙන්, පැරණි සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී අවම වැඩ පිළිවෙළෙහි සඳහන් ''ජනතා හමුදවක්'' (මිලීෂියා) නැතහොත් ''ආයුධ සන්නද්ධ ජාතිය'' සඳහා ඉල්ලීම වෙනුවට අළුත් ඉල්ලීමක්, එනම්, ''නිරායුධකරණය'' සඳහා ඉල්ලීම ආදේශ කිරීමට පක්ෂ කට හඬ ඇසුනි. මෙම ප්‍රශ්නය ගැන සාකච්ඡාවක් ආරම්භ කර ඇති "Jugend-Internationale"[58] නිරායුධකරණයට සහයෝගය දක්වමින් එහි අංක 3 හි කර්තෘ වාක්‍යයක් පළ කර තිබේ. ආර් ග්‍රිම් ගේ නවතම ප්‍රවාදයෙහි ද[59] ''නිරායුධකරණය'' පිළිබඳ අදහසට එකඟතාවයක් තිබීම දකින්නට ලැබීමත් අපගේ කණගා-ටුවට හේතු ය. "Neues Leben"[60] සහ "Vorbote" හිද සාකච්ඡා ආරම්භ වී ඇත.

නිරායුධකරණයේ පක්ෂවාදීන් ගේ ප්‍රතිඡ්ඨාව ගැන වඩාත් සමීප ලෙස පිරික්සා බලමු.

## I

ප්‍රධාන තර්කය වී තිබෙන්නේ, සියළුම යුද්ධවාදවලටත්, සියළුම යුද්ධවලටත් විරුද්ධව කරන අරගලය ඉතාමත් පැහැදිලි ලෙස, ඉතාමත් තීරණාත්මක ලෙස, ඉතාමත් සසංගත ලෙස ප්‍රකාශ කරන ඉල්ලීම නිරායු-ධකරණය වන බවයි.

නමුත් නිරායුධකරණයේ පක්ෂවාදීන්ගේ ප්‍රධාන වරද ඇත්තේ ද,

මෙම ප්‍රධාන තර්කයෙහි ය. තමන් සමාජවාදීන් නොවන තත්වයට නොවැටී, සියළුම යුද්ධවලට විරුද්ධ වීම සමාජවාදීන්ට කළ නො හැකිය.

ප්‍රථමයෙන්ම, සමාජවාදීන් කිසි කලෙකත් විප්ලවවාදී යුද්ධවලට විරුද්ධ වූයේ නැත. ඔවුන්ට කිසි කලෙකත් ඒවාට විරුද්ධ වීමට ද නොපුළුවන. අධිරාජ්‍යවාදී මහ බලවත් රටවල ධනපති පංතිය අත්‍යන්තයෙන්ම ප්‍රතිගාමී වී නැත. එමෙන්ම, මෙම ධනපති පංතිය දුන් කරගෙන යන යුද්ධය, අප විසින් සැලකෙන්නේ ප්‍රතිගාමී, වහල් හිමි සහ සාපරාධී යුද්ධයක් ලෙසට ය. නමුත් මෙම ධනපති පංතියට විරුද්ධව කරන යුද්ධයක් ගැන කිව හැක්කේ කුමක් ද? නිදසුනක් වශයෙන් මෙම ධනපති පංතිය විසින් පීඩාවට පත් කරනු ලබන හා එයට ගැති ජනතාවන්, නැතහොත්, යටත් විජිත ජනතාවන්, විමුක්තිය පතා කරන යුද්ධයක් ගැන කිව හැක්කේ කුමක් ද?'' ''ජාත්‍යන්තරය'' කණ්ඩායමේ ප්‍රවාදවල 5 වැනි වගන්තියේ මෙසේ කියා ඇත: මුද්‍ර හරින ලද අධිරාජ්‍යවාදයේ යුගයේදී ජාතික යුද්ධ ඇතිවීමේ හැකියාවක් තවදුරටත් නොමැත''. මෙය වැරදි බව ඉතා පැහැදිලිය.

විසිවැනි ශත වර්ෂයේ, එනම්, ''මුද්‍ර හරින ලද අධිරාජ්‍යවාදයේ'' මෙම ශත වර්ෂයේ ඉතිහාසය, යටත් විජිත යුද්ධවලින් පිරී ඇත. නමුත්, යුරෝපීයයන් වන අප, ලෝකයේ ජනතාවන්ගෙන් බහුතරය පීඩාවට පත් කරන අධිරාජ්‍යවාදීන් වන අප, අපගේ සුපුරුදු, තුච්ඡ යුරෝපීය ජාත්‍යෝන්මාදවාදයෙන් යුතුව ''යටත් විජිත යුද්ධ'' යනුවෙන් හඳුන්වන ඒවා බොහෝ විට ජාතික යුද්ධ ය, නැතහොත්, මෙම පීඩිත ජනතාවන් ගේ ජාතික කැරළි ගැසීම් ය. ඉතාමත් නොදියුණු රටවල් තුළ ධනපති සංවර්ධනය වේගවත් කිරීම අධිරාජ්‍යවාදයේ ප්‍රධාන අංග ලක්ෂණවලින් එකකි. එමගින් එය ජාතික පීඩනයට විරුද්ධ අරගලය ව්‍යාප්ත කර පුළුල් කරන්නේය. එය සත්‍ය කරුණකි. අධිරාජ්‍යවාදයෙන් බොහෝ විට ජාතික යුද්ධ උද්ගත වන්නේය යනු ඒ අනුව නිගමනය වේ. ඉහත සඳහන් ප්‍රවාදවලට තම පොත් පිංචෙන් පක්ෂ වන යුනිවුස්, අධිරාජ්‍ය යුගයේ දී අධිරාජ්‍යවාදී මහ බලවත් රටකට විරුද්ධව කරන සෑම ජාතික යුද්ධයක්ම තරඟකාරී අධිරාජ්‍යවාදී මහ බලවතෙකු ගේ මැදිහත්වීම කැඳවන්නකැයි කියන්නීය. ඒ අනුව සෑම ජාතික යුද්ධයක්ම අධිරාජ්‍යවාදී යුද්ධයක් බවට හැරෙන්නේය. නමුත් එම තර්කයද වැරදිය. මෙය සිදු විය හැකි නමුත් නිතරම සිදුවන්නේ නොවේ. 1900 සහ 1914 අතර යටත් විජිත යුද්ධ බොහොමයක් එම මාර්ගය ගත්තේ නැත. එනිසා, නිදර්ශනයක් වශයෙන්, වර්තමාන යුද්ධය, සියළුම යුද්ධකාරීන් සම්පූර්ණයෙන්ම බෙලහීන වීමෙන් කෙළවර වුවහොත්, ''කිසිම වර්ගයක'' ජාතික, ප්‍රගතිශීලී, විප්ලවවාදී යුද්ධ කිරීමක් නැතහොත්, ඉන්දියාව, පර්සියාව, සියම ආදී රටවල් සමග



සන්ධානගත වූ චීනය මහ බලවතුන්ට විරුද්ධව කරන වැනි යුද්ධයක්, ඇතිවිය නොහැකි යයි ප්‍රකාශ කිරීම, අන්ත මෝඩ කමකි.

අධිරාජ්‍යවාදය යටතේ ජාතික යුද්ධ ඇතිවීමට කිසිම ඉඩක් නැතැයි කීම න්‍යායික වශයෙන් වැරදිය. එය ඉතිහාසය වරද්ද ගැනීමක් බව පැහැදිලිය. එය ව්‍යවහාරික වශයෙන් යුරෝපීය ජාත්‍යෝන්මාදයට වැටීමකි. යුරෝපයේ අප්‍රිකාවේ, ආසියාවේ ආදී රටවල දස කෝටි ගණන් ජනතාවන් පීඩනයට පත් කරන ''අපගේ'' ජාතීන්ට විරුද්ධව යුද්ධයක් කිරීම, පීඩිත ජනතාවන්ට ''කිසිසේත් කළ නොහැකි'' යයි ඔවුනට කියන ලෙස අපට ආරාධනා කරනු ලැබේ!

දෙවැනිව, සිවිල් යුද්ධයද, වෙනත් ඕනෑම යුද්ධයක් මෙන් ම, යුද්ධයකි. පංති අරගලය පිළිගන්නා කෙනෙක් වේ නම්, ඔහුට සිවිල් යුද්ධය පිළිනොගෙන බැරිය. සෑම පංති සහිත සමාජයකම එය ඇති වීම ස්වාභාවික දෙයකි. එසේම, සමහර තත්වයන් යටතේ එය ඇතිවීම, පංති අරගලය අනිවාර්ණීය ලෙස ඉදිරියට ගෙන යාමක්, සංවර්ධනය වීමක් හා උත්සන්න වීමක් වන්නේ ය. සෑම මහා විප්ලවයකින්ම ඒ බව සනාථ වී තිබේ. සිවිල් යුද්ධය ප්‍රතික්ෂේප කිරීම, නැතහොත්, ඒ ගැන අමතක කිරීම යනු අන්ත අවස්ථාවාදයට වැටීමක් සහ සමාජවාදී විප්ලවය අත්හැර දැමීමක් වන්නේය.

තුන්වැනිව, එක රටක සමාජවාදය ජයග්‍රහණයට පත්වීමෙන් පොදු වශයෙන් සියළුම යුද්ධ එක පහරින් දුරුව යන්නේ නැත. ඊට ප්‍රතිකූල වශයෙන් එම තත්වය යටතේ යුද්ධ ඇතිවන බවට පූර්වානුමාන කරනු ලැබේ. විවිධ රටවල ධනපති ක්‍රමය සංවර්ධනය වන්නේ ඉතාමත් අසමාන ආකාරයෙනි. වෙළඳ භාණ්ඩ නිෂ්පාදනය යටතේ එය වෙනත් ආකාරයකට සිදු විය නො හැකිය. සමාජවාදය සියළුම රටවල එකවර ජයග්‍රහණයට පත් විය නොහැකි බව මෙයින් ඒකාන්ත වශයෙන් නිගමනය වේ. එය ප්‍රථමයෙන් එක් රටක හෝ රටවල් කීපයක ජයග්‍රහණයට පත් වනු ඇති අතර, අනිකුත් රටවල් කලක් ගතවන තෙක් ධනපති හෝ පූර්ව ධනපති තත්වයේ පවතිනු ඇත. මේ නිසා ගැටුම් ඇතිවීම පමණක් නොව, සමාජවාදී රාජ්‍යයේ ජයග්‍රාහී නිර්ධන පංතිය මැඩලා දැමීමට වෙනත් රටවල ධනපති පංතිය කෙළින්ම උත්සාහ දැරීමද නිසැකවම සිදුවනු ඇත. එවැනි අවස්ථාවලදී අප කරන යුද්ධය සාධාරණ හා යුක්ති සහගත යුද්ධයක් වනු ඇත. එය සමාජවාදය සඳහා, අනිකුත් ජාතීන් ධනපති පංතියෙන් මුදගැනීම සඳහා, කරන යුද්ධයක් වන්නේය. ජයග්‍රහණයට පත්ව ඇති සමාජවාදයට ''ආරක්ෂක යුද්ධ'' කිරීමට පුළුවනැයි, එංගල්ස් 1882 සැප්තැම්බර් 12 දින කෞට්ස්කිට ලියූ ලිපියෙහි සඳහන් කළේය. ඔහුගේ එම කියමන සම්පූර්ණයෙන්ම නිවැරදිය. ඔහු අදහස් කළේ අනිකුත් රටවල ධනපති පංතියට විරුද්ධව ජයග්‍රාහී නිර්ධන පංතිය ආරක්ෂා කිරීම ය.

යුද්ධ ඇතිවීමට ඉඩක් නොමැති තත්වයක් ඇති කළ හැක්කේ, එක රටක පමණක් නොව මුළු ලෝකයේම ධනපති පංතිය බලයෙන් පහකර දමා අවසාන වශයෙන් පරාජය කර ඔවුන් ගේ දේපල අසන්තක කිරීමෙන් පසුව ය. එසේම, විද්‍යාත්මක දෘෂ්ටි කෝණයෙන් බලන කල, ඉතාමත් වැදගත් දෙය වන සමාජවාදයට සංක්‍රමණය වීමේදී ධනපති පංතියේ ප්‍රතිරෝධය මැඩලා දැමීමේ කර්තව්‍යය මග හැරීම හෝ නොසලකා හැරීම, බරපතල වරදක් වනු ඇත. එම ප්‍රතිරෝධය මැඩලීම ඉතාමත් දුෂ්කර කර්තව්‍යය වන අතර, ඒ සඳහා කළ යුතු සටන් ප්‍රමාණය ද අති විශාලය. අනාගත සාමකාමී සමාජවාදයක් පිළිබඳ සිහින මැවීමට, ''සමාජ'' දේශනාකරුවෝ හා අවස්ථාවාදීහු නිතරම සූදානම්ව සිටිති. නමුත්, ඔවුන් නිශ්චිත වශයෙන් විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගෙන් වෙන් වී පෙනෙන්නේද, එම අලංකාර අනාගතය අත් කරගැනීම සඳහා අවශ්‍යවන දරුණු පංති අරගලය හා පංති යුද්ධ ගැන සිතා බැලීම හා ඒ ගැන පරිකල්පනයෙහි යෙදීම ඔවුන් ප්‍රතික්ෂේප කරන හෙයිනි.

අපි වචනවලට මුලා නොවිය යුත්තෙමු. නිදර්ශනයක් වශයෙන් ''පිතෘ භූමිය ආරක්ෂා කිරීම'' යන පාඨය බොහෝ දෙනෙකුට තිත්ත වී ඇත. එයට හේතුව, වර්තමාන කොල්ලකාරී යුද්ධය ගැන දෙසන ධනපති බොරුව වසං කිරීමට හා අමතක කරවීමට අන්ත අවස්ථාවාදීන් සහ කෞට්ස්කිවාදීන් යන දෙපිරිසම එය උපයෝගි කර ගැනීමය. මෙය සත්‍යයකි. නමුත්, මින් ඉදිරියට අප දේශපාලන සටන් පාඨවල අර්ථය හරි හැටි අවබෝධ නො කරගත යුතුය යන්න එයින් අදහස් නොවේ. වර්තමාන යුද්ධයේදී ''පිතෘ භූමිය ආරක්ෂා කිරීම'' පිළිගැනීම යනු එය ''සාධාරණ'' යුද්ධයක් ලෙසට, නිර්ධන පංතියේ උවමනාවන්ට අනුකූල යුද්ධයක් ලෙසට පිළිගැනීමකි. එය ඊට අඩු හෝ වැඩි පිළිගැනීමක් නොවන්නේය. අප එසේ කියන්නේ, ඕනෑම යුද්ධයකදී ආක්‍රමණ ඇතිවිය හැකි බැවිනි. අධිරාජ්‍යවාදී මහ බලවත් රටවලට විරුද්ධව පීඩිත ජාතීන් කරන යුද්ධ වලදී එම ජාතීන්ගේ පැත්තෙන් හෝ, එසේ නැතහොත්, ජයග්‍රාහී නිර්ධන පංතිය ධනපති රාජ්‍යයක කිසියම් ගලිෆේ කෙනෙකුට විරුද්ධව, කරන එහි යුද්ධයේ දී එම පංතියේ පැත්තෙන් හෝ ''පිතෘ භූමිය ආරක්ෂා කිරීම'' ප්‍රතික්ෂේප කරන්නේ නම් එය මහත් මෝඩ කමක් වනු ඇත.

සෑම යුද්ධයක්ම, හුදෙක්ම ප්‍රතිපත්තිය ඉදිරියට ගෙන යාමේ තවත් මාර්ගයක් පමණක් බව අමතක කිරීම න්‍යායික වශයෙන් සම්පූර්ණයෙන්ම සාවද්‍ය වනු ඇත. වර්තමාන අධිරාජ්‍යවාදී යුද්ධය, මහ බලවතුන්ගේ කණ්ඩායම් ද්වයේ ප්‍රතිපත්ති ඉදිරියට ගෙන යාමක් වන්නේය. අධිරාජ්‍යවාදී යුගයේ සම්බන්ධකම්වල එකතු සමස්තය විසින්, මෙම ප්‍රතිපත්ති ජනිත කර පෝෂණය කරන ලදී. නමුත් මෙම යුගය විසින්ම ජාතික පීඩනයට විරුද්ධව අරගලයේත්, ධනපති පංතියට විරුද්ධව නිර්ධන පංති අරගලයේත් ප්‍රතිපත්තිද, ඉන් අනතුරුව, ප්‍රථමයෙන් විප්ලවවාදී ජාතික කැරළි ගැසීම් හා යුද්ධ ඇති වීමේත්, දෙවැනිව, ධනපති පංතියට විරුද්ධව නිර්ධන පංති යුද්ධ හා කැරළි ගැසීම් ඇතිවීමේත්, තුන්වැනිව, ඒ දෙවර්ගයේම විප්ලවවාදී යුද්ධ සංයෝජනය වීම ආදිය ඇති වීමේත් ඉඩ කඩද, උද කර පෝෂණය කරනු ලැබේ.



## II

මෙයට පහත සඳහන් පොදු කරුණු ද එකතු කළ යුතු වේ.

ආයුධ පාවිච්චි කිරීමට ප්‍රයත්න නොදරන, ආයුධ අත්පත් කර ගන්නේ නැති පීඩිත පංතියක් වෙතොත්, එය සුදුසු වන්නේ වහලුන් සේ සලකනු ලැබීමටය. අපි ධනපති පංතික සමාදානවාදීන් හෝ අවස්ථාවාදීන් නොවන්නෙමු නම්, අප ජීවත් වන්නේ පංති සහිත සමාජයක බවත් පංති අරගලය මගින් හැර එයින් ගැලවීමේ අන් මගක් නැති බවත්, එවැනි මගක් තිබිය නොහැකි බවත්, අපට අමතක කළ නො හැකිය. සෑම පංති සමාජයකම, පීඩකයා නිතරම ආයුධ සන්නද්ධව සිටී. එම සමාජය වහල් ක්‍රමය මත පදනම් වුවත්, ප්‍රවේණිදාස ක්‍රමය මත පදනම් වුවත්, නැතහොත් දැන් මෙන් වේතන ශ්‍රමය මත පදනම් වුවත්, එහි වෙනසක් නොමැත. නවීන ස්ථිර යුද්ධ හමුදාව පමණක් නොව ජනතා හමුදාව (මිලීෂියා) පවා නියෝජනය කරන්නේ නිර්ධන පංතියට විරුද්ධව ආයුධ සන්නද්ධ වූ ධනපති පංතිය ය. ඉතාමත් ප්‍රජාතන්ත්‍රවාදී ධනපති සමූහාණ්ඩුවල පවා, නිදර්ශනයක් වශයෙන් ස්විට්සර්ලන්තයෙහි පවා, තත්වය එසේය. එය ඉතාමත් සරල සත්‍යයකි. එනිසා ඒ ගැන විස්තර කිරීම පවා අනවශ්‍ය තරම්ය. සියළුම ධනපති රටවල වැඩ වර්ජකයන්ට විරුද්ධව යුද්ධ හමුදාව යොදවනු ලබන බව මෙහිදී පෙන්වාදීම ප්‍රමාණවත්ය.

නිර්ධන පංතියට විරුද්ධව ආයුධ සන්නද්ධ ධනපති පංතියක් සිටීම නවීන ධනපති සමාජයේ ඉතාමත් වැදගත්, මූලික හා ප්‍රධාන සත්‍ය කාරණාවලින් එකකි. ඒ අතර, මෙම කාරණාව හමුවේ ''නිරායුධකරණය'' ''ඉල්ලන'' ලෙස විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් උනන්දු කරනු ලැබේ! එය සම්පූර්ණයෙන්ම පංති අරගල දෘෂ්ටි කෝණය අත්හැර දැමීමක්, විප්ලවය පිළිබඳ සියළු සිතුවිලි අත්හැර දැමීමක් හා සමානය. අප ගේ සටන් පාඨය විය යුත්තේ, ධනපති පංතිය පරාජය කිරීම, එහි දේපල අසන්තක කිරීම හා එය නිරායුධ කිරීම සඳහා, නිර්ධන පංතිය ආයුධ සන්නද්ධ කරනු, යන්නය. විප්ලවවාදී පංතියට අනුගමනය කළ හැක්කේ එම උපක්‍රම පමණකි. ධනපති යුද්ධවාදයේ සමස්ත වාස්තවික වර්ධන-

යෙන්ම, තාර්කික වශයෙන් නිගමනය වන හා නියම කෙරෙන උපක්‍රම ඒවා පමණකි. නිර්ධන පංතියට භාරව ඇති ලෝක ඓතිහාසික කර්තව්‍යය පාවා නොදී, සියළුම අවි ආයුධ කසළ ගොඩට දැමිය හැකි වන්නේ, ධනපති පංතිය නිරායුධ කිරීමෙන් පසුව පමණකි. තවද, නිර්ධන පංතිය නිසැක වශයෙන්ම මෙය කරනු ඇත. එහෙත් ඒ මෙම කොන්දේසිය ඉටු වීමෙන් පසුව පමණකි; කිසිසේත් ඊට පෙර නොවේ.

වර්තමාන යුද්ධයෙන් ප්‍රතිගාමී ක්‍රිස්තියානි සමාජවාදීන් තුළ, කෙඳිරිගාමින් සිටින සුළු ධනපතියන් තුළ, ඇවිස්සෙන්නේ සංත්‍රාසය හා බියත්, ආයුධ පාවිච්චියට, ලේ වැගිරීමට, මරණයට ආදිය බලවත් අකැමැත්තත් පමණක් නම්, එවිට අපි මෙසේ කිව යුත්තෙමු: ධනපති සමාජය යනු නිමක් නැති සංත්‍රාසය ය. එය සඳ කල්හිම එසේ විය. යුද්ධ අතුරෙන් ඉතාමත් ප්‍රතිගාමී වන මෙම යුද්ධ සංත්‍රාසය කෙළවරක් කිරීම සඳහා දැන් සමාජය සූදනම් කරන්නේ නම්, අප අපේක්ෂා භංගත්වයට වැටීමට හේතුවක් නැත. නමුත්, කාටත් පෙනී යා යුතු ලෙසට, එකම සාධාරණ හා විප්ලවවාදී යුද්ධයට, එනම්, අධිරාජ්‍යවාදී ධනපති පංතියට විරුද්ධව කරන සිවිල් යුද්ධයට යන පාර, ධනපති පංතිය විසින්ම කපනු ලබද්දී, ''නිරායුධකරණය ඉල්ලීම'' නැතහොත්, වඩාත් නිවැරදි ලෙසට කියතොත්, නිරායුධකරණය ගැන සිහින දැකීම යනු වාස්තවික වශයෙන් අපේක්ෂා භංගත්වය ප්‍රකාශ කිරීමක් මිස අන් කිසිවක් නොවේ.

එය ජීවයක් නැති න්‍යායකැයි, සමහරෙක් කියන්නට ඉඩ තිබේ. නමුත් අපි ඔවුනට ලෝක ඉතිහාසයේ කරුණු දෙකක් මතක් කර දෙන්නෙමු. ඒ දෙ කරුණ නම්, එක් අතකින් සංගත ව්‍යාපාරවල කාර්ය කොටස සහ කර්මාන්තයේ වැඩට කාන්තාවන් යෙදවීම ද, අනිත් අතින් 1871 පැරිස් කොමියුනය සහ රුසියාවේ 1905 නැගී සිටීමද වේ.

ධනපති පංතිය, ස්වකීය ව්‍යාපාරික කටයුත්තක් වශයෙන් සංගත ව්‍යාපාර අරඹන අතර, ස්ත්‍රීන් හා ළමයින් පැක්ටරිවලට දක්කති; ඔවුන් දූෂණයට සහ දුක් වේදනාවලට කැප කරති; ඔවුන් අන්ත දුගීභාවයට හෙළති. අපි එවැනි සංවර්ධනයක් ''ඉල්ලන්නේ'' නොවෙමු. අපි එයට ''ආධාර'' නොකරමු. අපි එයට විරුද්ධව සටන් කරමු. නමුත් අප සටන් කරන්නේ කෙසේද? සංගත ව්‍යාපාරත්, කර්මාන්තයෙහි ස්ත්‍රීන් යෙදවීමත් ප්‍රගතිශීලී යයි අපි කියන්නෙමු. හස්ත කර්මාන්ත ක්‍රමයටත්, පූර්ව ඒකාධිකාරී ධනපති ක්‍රමයටත් ආපසු යාමට අපි නො කැමැත්තෙමු: ස්ත්‍රීන්ගේ ගෘහ වහල් සේවය දක්වා ආපසු යාම දැකීමට නො කැමැත්තෙමු. සංගත ව්‍යාපාර ආදිය මගින් ඒවායින් ඔබ්බට සමාජවාදයට යමු!

එම තර්කය අවශ්‍ය පරිදි වෙනස් කරගත් පසු, වර්තමානයේ කරන මෙන් ජනතාව යුද්ධමය ආකාරයට සංවිධානය කිරීමට ද ගලපා ගත



හැකිය. අද අධිරාජ්‍යවාදී ධනපති පංතිය, වැඩි හිටියන් මෙන්ම තරුණ පෙළ ද, හමුදා ආකාරයෙන් සංවිධානය කරන්නේය. හෙට සමහර විට, එය ස්ත්‍රීන් ද එලෙස සංවිධානය කරනු ඇත. ඒ සම්බන්ධයෙන් අප දැක්විය යුතු ආකල්පය මෙසේ ය. බොහොම හොඳයි! හැකි තරම් වේගයෙන් පෙරට යන්න. එසේ කියන්නේ ගමන් වේගය වැඩි වන තරමට ධනපති ක්‍රමයට විරුද්ධව කෙරෙන, ආයුධ සන්නද්ධව කැරළි ගසා නැගී සිටීම වඩාත් ලංවනු ඇති හෙයිනි. සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට ප්‍රංශ කොමියුනය අමතක වී නොමැති නම්, තරුණ පෙළ හමුදා ස්වරූපයෙන් සංවිධානය කිරීම ගැන බියට ඉඩදීමේ හැකියාවක් ඔවුන්ට ලැබෙන්නේ කෙසේ ද? මෙය ''ජීවයෙන් තොර න්‍යායයක්'' හෝ සිහිනයක් හෝ නොවේ. එය සත්‍යයකි. ආර්ථික හා දේශපාලන සත්‍ය කරුණු සියල්ලම එසේ තිබියදීම, අධිරාජ්‍යවාදී යුගය සහ අධිරාජ්‍යවාදී යුද්ධ විසින් එබඳු දේ යළිත් ගෙන එතැයි සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීහු කල්පනා කරත් නම්, එය කණගාටුදායක තත්වයක් වනු ඇත.

පැරිස් කොමියුනය දුටු යම් ධනපති නිරීක්ෂකයෙක් 1871 මැයි මාසයේදී ඉංග්‍රීසි ප්‍රවෘත්ති පත්‍රයක මෙසේ ලීවේය: ''ප්‍රංශ ජාතිය මුළුමනින්ම ස්ත්‍රීන්ගෙන් සමන්විත වී නම්, එය මොන තරම් භයානක ජාතියක් වනු ඇද්ද!'' ස්ත්‍රීහු හා අවුරුදු දහතුන ඉක්මවූ ළමයි, පිරිමින් හා එක පෙළට සිටිමින් පැරිස් කොමියුනයේ සටන් කළහ. ධනපති පංතිය බලයෙන් පහ කිරීම සඳහා, අනාගතයේ දී කෙරෙන සටන් වලදී ද, තත්වය ඊට වෙනස් නොවනු ඇත. ධනපති පංතියේ හොඳින් ආයුධ සන්නද්ධ යුද්ධ හමුදා විසින්, හරිහැටි හෝ කොහෙත්ම ආයුධ සන්නද්ධවී නොමැති, කම්කරුවන් වෙඩි තබා දමනු ලබන තෙක්, නිර්ධන පංතික ස්ත්‍රීන් අකර්මන්‍යව බලා නොසිටිනු ඇත. ඔවුන් 1871 දී කළ මෙන්, ආයුධ අතට ගන්නවා ඇත. එවිට අද තිබෙන තැතිගත් ජාතීන් කෙරෙන්, වඩාත් නිවැරදි ලෙස කියතොත්, ආණ්ඩුවලට වඩා අවස්ථාවාදීන් විසින් අවුල් කරන ලද වර්තමාන කම්කරු ව්‍යාපාරයෙන්, ඉක්මනින් හෝ කල්යාමේදී, විප්ලවවාදී නිර්ධන පංතියේ ''භයානක ජාතීන්ගේ'' ජාත්‍යන්තර සංගමයක්, නිසැක ලෙස හා නියත වශයෙන්ම උද්ගත වනු ඇත.

සමස්ත සමාජ ජීවිතයම දැන් යුද්ධ හමුදා ආකාරයෙන් සංවිධානය කරනු ලැබේ. අධිරාජ්‍යවාදය යනු ලෝකය බෙදා ගැනීම හා නැවත බෙදා ගැනීම් කිරීම සඳහා මහ බලවත් රටවල් අතර කෙරෙන දරුණු අරගලයකි. එනිසා, එය තවදුරටත් සියළුම රටවල යුද්ධමය ආකාරයේ සංවිධානය සඳහා මහ පාදන්නේ ය. මධ්‍යස්ථ සහ කුඩා රටවල පවා එය සිදුවන්නේය. නිර්ධන පංතික ස්ත්‍රීන් මෙයට විරුද්ධ වනු ඇත්තේ කෙසේද? යුද්ධයට හා යුද්ධමය සියළු දේට ශාප කිරීමෙන් පමණක් ද? නිරායුධකරණය

ඉල්ලීමෙන් පමණක්ද? පීඩිත හා සැබවින්ම විප්ලවවාදී පංතියක ස්ත්‍රීන් එම ලජ්ජා සහගත කාර්ය කොටස කිසි කලෙකත් භාර නොගනු ඇත. ඔවුන් තම පුතුනට මෙසේ කියනු ඇත: ''නුඹ ඉක්මනින්ම වැඩී ලොකු මිනිසෙකු වනු ඇති. අප්‍රමාදව නුඹට තුවක්කුවක් දෙනු ඇති. එය රැගෙන යුද්ධ ශිල්පය හොඳින් උගෙන ගනින්. නිර්ධන පංතිකයන්ට මෙම දැනුම අවශ්‍ය වේ. ඒ, වර්තමාන යුද්ධයේ කෙරෙන පරිදි හා, සමාජවාදයේ ද්‍රෝහීන් ඔබට කරන්න කියන ලෙසට, ඔබගේ සහෝදරයන් වන, වෙනත් රටවල කම්කරුවන් වෙත වෙඩි තැබීම සඳහා නොවේ. නිර්ධන පංතිකයනට එය අවශ්‍යවන්නේ ඔවුන්ගේම රටේ ධනපති පංතියට විරුද්ධව සටන් කිරීමටය; නිෂ්ඵල ප්‍රාර්ථනා මගින් නොව, ධනපති පංතිය පරාජය කර නිරායුධ කිරීමෙන් සූරාකෑම, දුප්පත් කම හා යුද්ධය කෙළවර කර දැමීමටය''.

වර්තමාන යුද්ධය සම්බන්ධයෙන් අපි එවැනි ප්‍රචාරය කිරීම, නියත වශයෙන් එවැනිම ප්‍රචාරය කිරීම, මග හරින්නෙමු නම්, ජාත්‍යන්තර සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය ගැන, සමාජවාදී විප්ලවය ගැන සහ යුද්ධයට විරුද්ධව යුද්ධය ගැන, ලස්සන වචන කීම නැවැත්විය යුත්තෙමු.

## III

නිරායුධකරණයේ පක්ෂවාදීහු වැඩ පිළිවෙළෙහි ඇතුළත් ජාතිය ''ආයුධ සන්නද්ධ කිරීම'' පිළිබඳ වගන්තියටද විරුද්ධවෙති. ඊට හේතු වශයෙන් ඔවුන් දක්වන්නේ ඒ අනුව අවස්ථාවාදයට වඩාත් පහසුවෙන් ඉඩ සැලසෙන බවය. ප්‍රධාන කාරණය, එනම්, නිරායුධකරණය පංති අරගලයට හා සමාජ විප්ලවයට සම්බන්ධවන ආකාරය, අපි ඉහත විමසා බැලුවෙමු. දැන් අපි නිරායුධකරණය සඳහා ඉල්ලීමත්, අවස්ථාවාදයත් අතර සම්බන්ධය ගැන විමසා බලමු. එම ඉල්ලීම නිසා ඇති වන මුළාවන් හේතුකොටගෙන, අවස්ථාවාදයට විරුද්ධව අප කරන අරගලය එයින් අනිවාරණීය ලෙස දුර්වල වීම හා අප්‍රාණික වීම, එය පිළිගත නොහැකි වීමට එක් ප්‍රධාන හේතුවකි.

නිසැක වශයෙන්ම ජාත්‍යන්තරයට දැන් මුහුණ පාන්නට සිදු වී තිබෙන ප්‍රධාන අරගලය හා හදිසි ප්‍රශ්නය මෙය ය. අවස්ථාවාදයට විරුද්ධව කරන අරගලය සමග සමීප ලෙස සම්බන්ධ වී නොමැති අධිරාජ්‍ය විරෝධී අරගලය, එක්කෝ පුහු වදනකි, නැතහොත් වංචාවකි. ට්සිමර්වෝල්ඩ් සහ කියන්තාල් සාකච්ඡා සභාවලදී[61], අවස්ථාවාදීන්ගෙන් බිඳී වෙන් වීමේ අවශ්‍යතාවය ප්‍රකාශයට පත් කිරීමේ අර්ථයෙන් අවස්ථාවාදයට විරුද්ධව සටන් කිරීමේ ප්‍රශ්නය විසඳීම තබා එම ප්‍රශ්නය විවෘත ලෙස මතු කිරීමවත්



නො සිදු විනි. එම සාකච්ඡා සභාවල ප්‍රධාන දුර්වල කමක් වූයේත්, තුන්වැනි ජාත්‍යන්තරයේ කලල රූපාකාර එම සභා සමහරවිට අසාර්ථකත්වයෙන් කෙළවර විය හැක්කේත්, එබැවිනි. අවස්ථාවාදය තාවකාලික වශයෙන් යුරෝපීය කම්කරු ව්‍යාපාර තුළ ජයග්‍රහණයට පත්ව ඇත. එහි ප්‍රධාන වර්ණ දෙක සියළුම ලොකු රටවල දක්නට ලැබේ. ඉන් පළමුවැන්න, ප්ලෙහානව්, ෂෙයිදමාන්, ලෙගින්, ඇල්බට් තෝමස් සහ සෙම්බට්, වන්දෙර්වෙල්ද්, හින්ඩමාන්, හෙන්ඩර්සන් සහ එවැනි අය අනුගමනය කරන ප්‍රසිද්ධියේ පිළිගත්, සියල්ලෙහි දෙස් දකින, එනිසා අන්තරාය අතින් අඩු, සමාජ-අධිරාජ්‍යවාදයයි; දෙවැන්න, සැඟවුනු කෞට්ස්කිවාදී අවස්ථාවාදයයි. එහි අනුගාමිකයෝ මෙසේ ය: ජර්මනියේ කෞට්ස්කි — හාසේ සහ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු කණ්ඩායම;[62] ප්‍රංශයේ ලොංගේ, ප්‍රෙස්මාන්, මායෙරස් සහ එවැනි අය; එංගලන්තයේ රැම්සේ මැක්ඩොනල්ඩ් සහ ''ස්වාධීන කම්කරු පක්ෂයේ'' අනෙකුත් නායකයන්[63], රුසියාවේ මාර්තව්, ච්හෙයිද්සෙ සහ එවැනි අය; ඉතාලියේ ත්‍රෙවැස් සහ අනෙකුත් ඊනියා වාම ප්‍රතිසංස්කරණවාදීන්.

ප්‍රසිද්ධියේ පිළිගත් අවස්ථාවාදය, විප්ලවයට සහ වැඩී එන විප්ලවවාදී ව්‍යාපාරවලට හා කඩා පැනීම්වලට විවෘත ලෙස සහ එක එල්ලේම විරුද්ධ වෙයි. එය ආණ්ඩු සමග එක එල්ලේ සන්ධානයට බැඳී ඇත. මෙම සන්ධානය ආණ්ඩුවේ ඇමති ධුර භාර ගැනීමේ පටන් යුද්ධ කර්මාන්ත කාරක සභාවලට සහභාගි වීම (රුසියාවේ)[64] දක්වා වෙනස් වේ. වෙස් මුහුණු පැළඳගත් අවස්ථාවාදීන් වන කෞට්ස්කිවාදීහු, කම්කරු ව්‍යාපාරයට ඊට වඩා බෙහෙවින් හානිකරය, අන්තරාදායකය. එසේ කියන්නේ ඉහත සඳහන් අවස්ථාවාදීන් සඳහා සන්ධානයට පක්ෂව මෙම පසු කී අවස්ථාවාදීන් කරන කටයුතු පිළිගත හැකි සේ පෙනෙන බොරු ''මාක්ස්වාදී'' උගුල් වචන වලින් හා සමාදනවාදී සටන් පාඨ වලින් ආවරණය කර ඇති හෙයිනි. බලපවත්නා අවස්ථාවාදයේ මේ දෙ ආකාරයටම විරුද්ධ සටන නිර්ධන පංති දේශපාලනයේ සියළුම ක්ෂේත්‍රයන්හි ගෙන යා යුතු වේ — පාර්ලිමේන්තුව, වෘත්තීය සමිති, වැඩ වර්ජන, සන්නද්ධ හමුදා යනාදිය මගින් එය ගෙන යා යුතු වේ. පවත්නා අවස්ථාවාදයේ මෙම දෙ ආකාරයේම ප්‍රධාන කැපී පෙනෙන අංග ලක්ෂණය වන්නේ වර්තමාන යුද්ධය හා විප්ලවය අතර ඇති නියත සම්බන්ධයත්, විප්ලවයේ වෙනත් නියත ප්‍රශ්නත් වසංකර, සඟවා තැබීමය. නැතහොත් ඒ ගැන කටයුතු කිරීමෙහිදී පොලිස් තහනම්වලට ගරු කිරීම ගැන සැලකිලිමත් වීමය. තවද, මෙසේ කරනු ලබන්නේ, යුද්ධයට පෙර මෙම ඇතිවීමට යන යුද්ධය සහ නිර්ධන පංති විප්ලවය අතර සම්බන්ධය නිල නොවන ලෙසට හා බාසල් ප්‍රකාශනයෙහි[65] නිල වශයෙන් ද, බොහෝ වරක් අවධාරණය කර තිබිය දීය.

නිරායුධකරණය පිළිබඳ ඉල්ලීම විප්ලවයේ සියළුම නියත ප්‍රශ්නවලින් මග හරින්නේය. එය එහි ඇති ප්‍රධාන දුර්වල කම වේ. එසේ නැතහොත් නිරායුධකරණයේ පක්ෂවාදියෝ සම්පූර්ණයෙන්ම අළුත් වර්ගයේ විප්ලවයක්, වෙනුවෙන් පෙනී සිටිත් ද?

තවද, අපි ප්‍රතිසංස්කරණ සඳහා කරන සටනට ද කිසිසේත්ම විරුද්ධ නොවන්නෙමු. පොදු ජන නොසන්සුන්තාවයෙන් පැන නගින, ගණනක් නැති තරම් පිපිරීම් හා පොදුජන අප්‍රසාදය ද, අපේ ප්‍රයත්න ද ඇත්තේ වී නමුත්, වර්තමාන යුද්ධයෙන් විප්ලවය උද්ගත නොවුවහොත්, සියල්ල නරකටම සිදුවුවහොත්, මිනිස් වර්ගයාට දෙවැනි අධිරාජ්‍යවාදී යුද්ධයක් ඔස්සේ යාමට සිදුවන ඛේද ජනක තත්වය ඇතිවීමේ හැකියාව ගැන ද, නොතකා හැරීමට අපි **අදහස්** නොකරමු. අවස්ථාවාදීන්ට ද විරුද්ධව එල්ල කරන ලද ප්‍රතිසංස්කරණ වැඩ පිළිවෙළකට අපි එකඟ වෙමු. ප්‍රතිසංස්කරණ සඳහා අරගලය සම්පූර්ණයෙන්ම අවස්ථාවාදීන්ට භාරදී, අපි "නිරායුධකරණය" නැමති පරතෙරක් නැති මනඃකල්පිතයට වැදී සංවේගදයක යථාර්ථයෙන් පැන ගන්නෙමු නම්, ඒ ගැන ඔවුන් ඉතාමත් සතුටු වනු ඇත. "නිරායුධකරණය" යනු අප්‍රසන්න යථාර්ථයෙන් පැන යාම මිස, එයට විරුද්ධව සටන් කිරීම නොවේ.

එවැනි වැඩ පිළිවෙළක අපි මෙවැන්නක් ඇතුලත් කරන්නෙමු! "1914-1916 අධිරාජ්‍යවාදී යුද්ධයේදී පිතෘ භූමිය ආරක්ෂා කිරීමේ සටන් පාඨය පිළිගැනීම නම්, ධනපති පංතියේ බොරුවක් පිහිට කොටගෙන කම්කරු පංති ව්‍යාපාරය දූෂණය කිරීමකි". නිශ්චිත ප්‍රශ්නයකට එවැනි නිශ්චිත පිළිතුරක් දීම, නිරායුධකරණය පිළිබඳ ඉල්ලීමටත්, "සියළුම හා ඕනෑම" ස්වරූපයක පිතෘ භූමිය ආරක්ෂා කිරීම ප්‍රතික්ෂේප කිරීමටත් වඩා න්‍යායික වශයෙන් නිවැරදි ය; ඊට වඩා නිර්ධන පංතියට බෙහෙවින් ප්‍රයෝජනවත්ය; ඊට වඩා අවස්ථාවාදීන්ට දරා ගැනීමට අපහසුය. තවදුරටත් අපි මෙසේ එකතු කරන්නෙමු "එංගලන්තය, ප්‍රංශය, ජර්මනිය, ඕස්ත්‍රියාව, රුසියාව, ඉතාලිය, ජපානය, එක්සත් ජනපදය යන සියළුම අධිරාජ්‍යවාදී මහ බලවත් රටවල ධනපති පංතිය ප්‍රතිගාමී වී තිබේ. ඒවා ලෝකාධිපත්‍යය ගැන කොතරම් උනන්දුවක් දක්වන්නේද යත්, එම රටවල ධනපති පංතිය කරන ඕනෑම යුද්ධයක් ප්‍රතිගාමී යුද්ධයක් වන්නේ ය. නිර්ධන පංතිය එවැනි යුද්ධ සියල්ලටම විරුද්ධ විය යුතුය. එපමණක් නොව, එය තමන්ගේ ආණ්ඩුව එවැනි යුද්ධවලින් පරාජය වීමද ප්‍රාර්ථනා කළ යුතුය. එසේම, යුද්ධය වැලැක්වීම සඳහා නැගී සිටීම අසාර්ථක වුවහොත්, මෙම පරාජය විප්ලවවාදී නැගී සිටීම සඳහා උපයෝගී කර ගත යුතුය".

ජනතා හමුදව (මිලීෂියා) ගැන මෙසේ කියන්නෙමු: අපි ධනපති



පංතියේ ජනතා හමුදවකට පක්ෂ නොවෙමු. අප පක්ෂ වන්නේ නිර්ධන පංතියේ ජනතා හමුදවකට පමණකි. එනිසා, එක්සත් ජනපදය, නැතහොත් ස්විට්සර්ලන්තය, නෝර්වේ යනාදී රටවල පවා, ස්ථිර හමුදවට පමණක් නොව, ධනපති පංතියේ ජනතා හමුදවකට වුවද, "තඹ දෙයිත්තුවක් හෝ එක මිනිහෙක් හෝ" නො දෙන්නෙමු. සමූහාණ්ඩුවාදී රටවල් අතුරෙන් ඉතාමත් නිදහස් රටවල පවා (නිදසුනක් වශයෙන් ස්විට්සර්ලන්තයේ) ජනතා හමුදව (මිලීෂියා) ප්‍රැසියානු ආකාරයෙන් වැඩි වැඩියෙන්, විශේෂයෙන්ම 1907 දී හා 1911 දී මෙන්, හැඩ ගැස්වෙන නිසාද, වැඩ වර්ජක විරෝධී ක්‍රියා නැමති ගණිකා වෘත්තියෙහි යොදවනු ලබන නිසාද, අපි එම ප්‍රතිපත්තිය තවත් තරකොට ගන්නෙමු. නිලධාරින් පොදු ජන ඡන්දයෙන් තෝරා පත් කරන ලෙසද, යුද්ධ නීතිය අවලංගු කරන ලෙසද, විදේශීය හා දේශීය කම්කරුවන්ට සමාන අයිතිවාසිකම් දෙන ලෙසද, (විදේශීය කම්කරුවන්ට සියළු අයිතිවාසිකම් ප්‍රතික්ෂේප කරමින්, වඩ වඩාත් විවෘත ආකාරයෙන්, තව තවත් විශාල සංඛ්‍යාවන් සූරාකන ස්විට්සර්ලන්තය වැනි රටවලට මෙය විශේෂයෙන් වැදගත් කරුණකි) අපට ඉල්විය හැකිය. තවද, නියමිත රටක සෑම වැසියන් සියයක් වැනි සංඛ්‍යාවකටම යුද්ධ පුහුණු සමිති පිහිටුවා ගැනීම හා ඒ සඳහා රජයෙන් ගෙවීම් ලබන උපදේශකයන් පත් කර ගැනීම ආදිය සඳහා අයිතිය අපට ඉල්විය හැක. වහල් හිමියන් උදෙසා නොව තමන්ම උදෙසා යුද්ධ පුහුණුව ලබා ගැනීමට නිර්ධන පංතියට හැකි වන්නේ එවැනි තත්වයන් යටතේ පමණකි. නිර්ධන පංතියේ අභිවෘධිය පිණිස, එවැනි පුහුණුවක අවශ්‍යතාවය අනිවාර්ය ය. විප්ලවවාදී ව්‍යාපාරයේ සෑම ජයග්‍රහණයක් ම, නැතහොත්, යම් නගරයක් අල්ලා ගැනීම, යම් පැක්ටරියක් අල්ලා ගැනීම හෝ යුද්ධ හමුදවෙන් කොටසක් දිනා ගැනීම වැනි සෑම අර්ධ ජයග්‍රහණයක්ම, එවැනි වැඩ පිළිවෙළක් ක්‍රියාත්මක කරන ලෙස ජයග්‍රාහී නිර්ධන පංතියට බල කරන බව රුසියානු විප්ලවයෙන් පෙන්නුම් කෙරුනි.

අවසාන වශයෙන්, අවස්ථාවාදය පරාජය කිරීම වැඩ පිළිවෙළවල් මගින් කිසි කලෙකත් නො කළ හැකි බවත්, එය පරාජය කළ හැක්කේ ක්‍රියාවලින් පමණක් බවත් වටහා ගත හැකිය. බංකොලොත් දෙවැනි ජාත්‍යන්තරයේ ලොකුම හා මරණීය වරද වූයේ, එහි වචන හා ක්‍රියා අතර ගැලපීමක් නොමැති වීමයි; වංචාකාරී හා බිය සැක නොමැති ලෙස විප්ලවවාදී වදන් හරඹයෙහි යෙදීමේ (බාස්ල් ප්‍රකාශනය කෙරෙහි කෞට්ස්කි සහ සමාගම දක්වන වර්තමාන ආකල්පය සටහන් කරගන්න) පුරුද්ද ඇති කර ගැනීමයි. සමාජ අදහසක් ලෙසට නිරායුධකරණය පැන නගින්නේ කිසියම් සමාජ පරිසරයකිනි. එසේම එය එම පරිසරයට බලපාන්නේය. එය කිසියම් ඔල්මාද කාරයෙකුගේ නිර්මානයක් නොව, යුද්ධය

හා ලේ වැගිරීම පිළිබඳ ලෝක මාවතෙන් බැහැරව තරමක් දීර්ඝ කාලයක් ගත කළ හා එසේ කල් ගත කිරීමට බලාපොරොත්තුවන කුඩා රටවල පවතින විශේෂත්වයක් වන අමුතු ''නිශ්චල'' තත්වයන් ගෙන් පැන නගින්නක් බව පැහැදිලිය. මෙය සම්පූර්ණයෙන් ඒත්තු ගැනීම පිණිස අප කළ යුත්තේ නිදසුනක් වශයෙන් නිරායුධකරණයේ නෝර්වීජියානු පක්ෂවාදීන් ඉදිරිපත් කරන තර්ක ගැන සලකා බැලීම පමණකි. ''අපි කුඩා රටක් වෙමු'' යි ඔවුහු කියති. ''අපගේ යුද්ධ හමුදව කුඩාය. මහ බලවතුන්ට විරුද්ධව අපට කළ හැකි කිසිවක් නැත''. (එනිසා, එක් හෝ වෙනත් මහ බලවත් කණ්ඩායමක අධිරාජ්‍යවාදී සංධානයට බලෙන් සම්බන්ධ කර ගැනීමට ප්‍රතිරෝධනය වශයෙන් අපට කළ හැකි කිසිවක් නොමැත)... ''අපට අවශ්‍ය වන්නේ අපගේ ඈත පිටිසරට වී සිටිමින් අපගේ ඈත පිටිසර දේශපාලනය කරගෙන යාමට, නිරායුධකරණය, අනිවාර්ය, බේරුම් කිරීම, ස්ථිර මධ්‍යස්ථභාවය'' (''ස්ථිර'' වන්නේ බෙල්-ජියන් ශෛලියෙන් බව නිසැකය) ''ආදිය ඉල්ලීමට සාමකාමී ඉඩ කඩ තිබීමය''.

සමහර කුඩා රාජ්‍යයන් තුළ නිරායුධකරණ අදහසට යම් ප්‍රමාණ සාර්ථකත්වයකුත්, යම් ප්‍රමාණ ජනප්‍රියත්වයකුත් ලැබීම සහතික කරන වාස්තවික සමාජ වාතාවරණය වන්නේ, කුඩා රාජ්‍යයන් බේරී සිටීමට දරන අඟුටු මිටි ප්‍රයත්න ද, ලෝක ඉතිහාසයේ මහා සංග්‍රාමයන්ගේ හැකි තරම් ඈතින් සිටීමට ඇති සුළු ධනපති කැමැත්ත ද, දූඩිතර අකර්මන්‍ය-තාවයක් රැකීම සඳහා අයෙකුගේ ඒකාධිකාරී තත්වයෙන් ප්‍රයෝජන ගැනීමද වේ. නමුත් එම ප්‍රයත්නයන් ප්‍රතිගාමී වන අතර ඒවා පදනම්ව ඇත්තේ මායා මත උඩ ය. එක් හෝ තවත් ක්‍රමයකින් අධිරාජ්‍යවාදය ලෝක ආර්ථිකයේ සහ ලෝක දේශපාලනයේ වක්කලමට කුඩා රාජ්‍යයන් ඇදගත්තේ ය.

නිදර්ශනයක් වශයෙන්, අධිරාජ්‍යවාදී වාතාවරණය විසින් ස්විට්-සර්ලන්ත කම්කරු ව්‍යාපාරය සඳහා වාස්තවික වශයෙන් ක්‍රියාමාර්ග දෙකක් නියම කරනු ලැබේ: ධනපතියන් සමග සන්ධානගත වන අවස්-ථාවාදීහු අධිරාජ්‍යවාදී ධනපති සංචාරකයින් ගෙන් ලබාගන්නා ලාභ වලින් සරු වූ සමූහාණ්ඩු-ප්‍රජාතන්ත්‍රවාදී ඒකාධිකාරී සංයුක්ත රාජ්‍යයක් බවට රට පරිවර්තනය කිරීමටත්, මෙම ''නිශ්චල'' ඒකාධිකාරී තත්වය හැකි උපරිම පමණින් ලාභදයක හා නිශ්චල කිරීමටත්, උත්සාහ දරති.

යුරෝපීය කම්කරු පක්ෂවල විප්ලවවාදී කොටස්වල සමීප සන්ධා-නයේ ජයග්‍රහණයට ආධාර දෙනු පිණිස ස්විට්සර්ලන්තයේ සාපේක්ෂ නිදහස හා ඇගේ ''ජාත්‍යන්තර'' තත්වය උපයෝගි කර ගැනීමට ස්විට්-සර්ලන්තයේ නියම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීහු ප්‍රයත්න දරති. දෙවියන්ට ස්තූතිවන්නට ස්විට්සර්ලන්තයට ''ඇගේම වෙනම භාෂාවක්'' නැත. නමුත් එරටෙහි භාෂා තුනක් භාවිතා වෙයි. ඒ යාබද යුද්ධකාරී රටවල් තුනක කථා කරන භාෂාවන්ය.

ස්විට්සර්ලන්ත පක්ෂයේ සාමාජිකයන් විසි දහස, එක්කෙනෙක් සතියකට සේන්ටයිම් දෙකක් බැගින් විශේෂ ගාස්තුවක් හෝ ''අතිරේක යුද්ධ බද්දක්'' වැනි ගෙවීමක් හෝ දෙතොත්, අපට වර්ෂයකට ෆ්‍රෑන්ක් විසි දහසක් ලැබෙනු ඇත. එම මුදල ලැබුණහොත්, නැගී එන කම්කරු කැරැල්ලත්, ''තමන්ගේම'' රටවල ධනපති පංතියට විරුද්ධව කරන විප්ලවීය අරගලය සඳහා ආයුධ පාවිච්චි කෙරෙනු ඇතැයි යන විශ්වාසයෙන් ඔවුන් අතර යුද්ධ අගල්වල දී ගොඩ නැගෙන සහෝද-රත්වයත් යනාදිය ගැන සියළු සත්‍ය සාක්ෂි භාෂාත්‍රයෙන්ම මුද්‍රණය කර, ප්‍රධාන අණ දෙන නිලධාරීන් පණවන තහනම් නොතකා, ඒවා යුද්ධකාරී රටවල කම්කරුවන් හා සොල්දාදුවන් අතර බෙදා හැරීමට එය ප්‍රමාණවත් වේ.

එය අළුත් දෙයක් නොවේ. එය "La sentinelle"[66], Volksrecht"[67] සහ "Berner Tagwacht"[68] වැනි ඉතාමත් හොඳ පුවත්පත් වලින් පවා කෙරෙන නමුත් අවාසනාවකට මෙන් එය කෙරෙන්නේ අප්‍රමාණවත් පරිමාණයෙනි. අරාවු පක්ෂ සම්මේලනය[69] ගත් අගනා තීරණය හුදෙක් අගනා තීරණයක් පමණක් නොවී එය ඊට වැඩි යමක් කළ හැක්කේ එවැනි ක්‍රියාකාරිත්වය අනුව පමණකි.

දැන් අපගේ සිත අදනා ප්‍රශ්නය මෙසේය: නිරායුධකරණය සඳහා ඉල්ලීම, ස්විට්සර්ලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් අතර පවතින විප්ලවවාදී උපනතියට ගැලපෙන්නේ ද? එය පැහැදිලි ලෙසම ඊට ගැලපෙන්නේ නැත. වාස්තවික වශයෙන් නිරායුධකරණය යනු කුඩා රාජ්‍යයන්ගේ අන්ත ජාතිකවාදී සහ විශේෂ වශයෙන්ම ජාතික වූ වැඩ පිළිවෙළකි. එය නිශ්චය වශයෙන්ම ජාත්‍යන්තර විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ ජාත්‍යන්තර වැඩ පිළිවෙළ නොවන්නේ ය.

1916 සැප්තැම්බර් මස ජර්මන් බසින් ලියන ලදී.

"Jugend-Internationale" සඟරාවේ අංක 9 හා 10, 1917 සැප්තැම්බර් හා ඔක්තෝබර් කලාපවල ප්‍රථමයෙන් පළ විය.

සම්පූර්ණ කෘති, වෙළුම 30, පිටු 131—143

## සංස්කාරකගේ සටහන්

1 මඳ කලකට පෙර ආරම්භවී තිබුණු අධිරාජ්‍යවාදී ලෝක යුද්ධය කෙරෙහි බොල්ෂෙවික් පක්ෂය දක්වන ආකල්පය පැහැදිලි කරමින් රු. ස. ප්‍ර. ක. පක්ෂයේ මධ්‍යම කාරක සභාව නිකුත් කළ ප්‍රථම නිල ලියවිල්ල ''යුද්ධය සහ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදය'' යන ප්‍රකාශනය විය. ප්‍රකාශනය රුසියාවේ හා විදේශීය රටවල ද පුළුල් ලෙස පැතිර ගියේය. එය රු. ස. ප්‍ර. ක. පක්ෂය යුද්ධය කෙරෙහි දක්වන ආකල්පය පෙන්නුම් කරන නිල ලියවිල්ලක් වශයෙන් ජාත්‍යන්තර සමාජවාදී බියුරෝ සභාවට (දෙවැනි ජාත්‍යන්තරයේ විධායක බල මණ්ඩලයට) සහ එංගලන්තයේ, ජර්මනියේ, ප්‍රංශයේ ස්වීඩනයේ සහ ස්විට්සර්ලන්තයේ සමාජවාදී පුවත්පත් ගණනාවකට යවන ලදී. ලෙනින්ගේ උපදෙස් අනුව එය මධ්‍යස්ථ රටවල සමාජවාදීන්ගේ සාකච්ඡා සභාවට ද යවන ලදී.

ප්‍රකාශනයෙහි අන්තර්ගත, පක්ෂයේ ඉතාමත් වැදගත් ප්‍රස්තුතයන් හා සටන්පාඨ, රුසියාවේ විශාල කාර්මික මධ්‍යස්ථාන රැසක පළවූ, බොල්ෂෙවික්වරුන්ගේ ප්‍රතිකා මගින් ප්‍රචාරය විය.

2 ජුන්කර්වරු — ප්‍රූසියානු රදළ ඉඩම් හිමියෝ.

3 1871 වර්ෂයේ පැරිස් කොමියුනය — නිර්ධන පංතියේ විප්ලවය මගින් පැරිසිහි ගොඩනගන ලද ලෝක ඉතිහාසයේ පළමුවැනි නිර්ධන පංති ආඥදායකත්වය ය. කම්කරු පංතියේ විප්ලවවාදී රජය ය. 1871 මාර්තු 18 වැනි දින සිට මැයි 28 දක්වා දින 72 ක් එම රජය බලයේ පැවතිණ.

4 යුද්ධය ආරම්භවූ පසු, හතරවැනි දූමා සභාවේ සිටි බොල්ෂෙවික් මන්ත්‍රීවරු වූ එම්. කේ. මුරානොව්, ජී. අයි. පෙත්රොව්ස්කි, එෆ්. එන්. සමොයිලව් හා එන්. පී. ෂාගව් දැඩි ලෙස කම්කරු පංති අවශ්‍යතාවයන් වෙනුවෙන් සටනට ඉදිරිපත් වූහ. පක්ෂයේ ප්‍රතිපත්තිය අනුව ගිය ඔවුහු යුද්ධ වියදම් සඳහා මුදල් ගෙවීමට පක්ෂව ඡන්දය දීම ප්‍රතික්ෂේප කොට, යුද්ධයේ පොදුජන විරෝධී ස්වභාවය හෙළිදරව් කළහ. යුද්ධය ගැන සත්‍යය කම්කරුවන්ට විස්තර කර දුන් ඔවුහු, සාර්වාදයට, ධනපති පංතියට හා ඉඩම් හිමියන්ට විරුද්ධව සටන් කරන සේ ඔවුන් පුබුදුවාලූහ. බොල්ෂෙවික් මන්ත්‍රීවරු යුද්ධ කාලය තුළ ගෙනගිය විප්ලවවාදී කටයුතු නිසා ඔවුන්ට විරුද්ධව නඩු පවරා ඔවුන් සයිබීරියාවට පිටුවාහල් කරන ලදී.

5 ''ඒකාධිපති රාජාණ්ඩුව හංගවේවා!'', ''සමාජවාදය දිනේවා!'' සහ ''ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුව දිනේවා!'' යන සටන් පාඨ යටතේ යුද්ධයට හා ඒකාධිපත්‍යයට විරුද්ධව අරගල කිරීමට සංවිධානය වන ලෙස කම්කරුවන් හා සොල්දාදුවන් වෙත ආයාචනය කරමින්, යුද්ධය ආරම්භ වූ වහාම බොල්ෂෙවික් පක්ෂයේ සාන්ත පීටර්ස්බර්ග් කාරක සභාව විසින් පත්‍රිකාවක් නිකුත් කරන ලදී. සංවිධානය වී ආයුධ සන්නද්ධ වන ලෙස කම්කරුවන් හා සොල්දාදුවන් වෙත ආයාචනය කරමින් සාන්ත පීටර්ස්බර්ග් කාරක සභාව අගෝස්තුවේදී තවත් නීති විරෝධී පත්‍රිකාවක් නිකුත් කළේය.

6 "Sozialistische Monafshefte" (''සමාජවාදී මාසිකය'') — ජර්මන් අවස්ථාවාදීන්ගේ මධ්‍යම සඟරාව හා ජාත්‍යන්තර අවස්ථාවාදයේ එක් එක් නිල ප්‍රකාශනයකි. 1897 සිට 1938 දක්වා බර්ලින්හි පළ විය. පළමුවැනි ලෝක යුද්ධය අවධියේදී (1914—1918) සමාජ-ජාතිකෝන්මාදවාදී තත්වයක් ගත්තේය.

7 ෂ්ටුට්ගාට් ජාත්‍යන්තර සමාජවාදී සම්මේලනය (දෙවැනි ජාත්‍යන්තරයේ හත්වැනි සම්මේලනය). මෙය 1907 අගෝස්තු 18—24 දිනවල පැවැත්විනි. සමාජවාදී පක්ෂ සහ වෘත්තීය සමිති නියෝජනය කරන නියෝජිතයෝ 886 දෙනෙක් එයට සහභාගී වූහ.

සම්මේලනය පහත සඳහන් ප්‍රශ්න සාකච්ඡා කළේය. 1. යුද්ධවාදය සහ ජාත්‍යන්තර ඝට්ටන; 2. දේශපාලන පක්ෂ සහ වෘත්තීය සමිති අතර සම්බන්ධකම්; 3. යටත් විජිත ප්‍රශ්නය; 4. කම්කරුවන්ගේ ආගමනය හා විගමනය; 5. කාන්තාවන්ට ඡන්ද බලය.

ජාත්‍යන්තර සමාජ-ප්‍රජාතන්ත්‍රයේ වාම බලවේගයන් එක්සත් කිරීම සඳහා, සම්මේලනය පැවැත්වුනු දිනවල ලෙනින් මහත් කාර්ය කොටසක් ඉටු කළේය. ඔහු අවස්ථාවාදීන්ට හා සංශෝධනවාදීන්ට විරුද්ධව එහිදී බලවත් අරගලයක් කළේය.

න්‍යාය පත්‍රයේ ප්‍රධාන ප්‍රශ්නය වූ ''යුද්ධවාදය සහ ජාත්‍යන්තර ඝට්ටන'' ගැන කෙටුම්පත් යෝජනාවක් සකස් කළ කාරක සභාවේ ලෙනින් කටයුතු කළේය. පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී නියෝජිතයන්ගේ ආධාරයද ලබාගත් ලෙනින්, ඕගස්ට් බේබෙල්ගේ කෙටුම්පත් යෝජනාවට වැදගත් සංශෝධන ඉදිරිපත් කිරීමෙන් එය විප්ලවවාදී මාක්ස්වාදයේ ජීවගුණයට අනුකූල වන සේ මූලික වශයෙන් සංශෝධනය කිරීමෙහි සමත් විය.

''යුද්ධවාදය සහ ජාත්‍යන්තර ඝට්ටන'' පිළිබඳ යෝජනාව අනුමත වීම, ජාත්‍යන්තර කම්කරු පංති ව්‍යාපාරයේ අවස්ථාවාදී අංශය පරදවා එහි විප්ලවවාදී අංශය ලත් ශ්‍රේෂ්ඨ ජයග්‍රහණයක් සලකුණු කරන්නක් විය.

කෝපන්හේගන් ජාත්‍යන්තර සමාජවාදී සම්මේලනය (දෙවැනි ජාත්‍යන්තරයේ අටවැනි සාකච්ඡා සම්මේලනය). 1910 අගෝස්තු 28 සිට සැප්තැම්බර් 3 දක්වා පැවති මෙයට නියෝජිතවරු 896 ක් සහභාගී වූහ. මෙම සාකච්ඡා සම්මේලනය අවස්ථාවේදී, ලෙනින් වාම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී නියෝජිතයන්ගේ සාකච්ඡා සභාවක් සංවිධානය කළේය. ඔහු එසේ කළේ ලෝකයේ විප්ලවවාදී මාක්ස්වාදීන් එක්සත් කිරීමේ අරමුණ ඇතිව ය.

ෂ්ටූට්ගාට් (1907) සාකච්ඡා සම්මේලනයේ දී, ලෙනින් හා රෝසා ලුක්සෙම්බුර්ග් ඉදිරිපත් කළ, යුද්ධයෙන් ඇතිවන ආර්ථික හා දේශපාලන අර්බුද ධනපති පංතිය බලයෙන් පහකිරීම සඳහා උපයෝගී කර ගැනීම සියලුම රටවල සමාජවාදීන්ගේ යුතුකම බව කියන සංශෝධන ඇතුලත්ව, එම සම්මේලනය විසින් අනුමත කරන ලද ''යුද්ධවාදය සහ ජාත්‍යන්තර ඝට්ටන'' යන යෝජනාව, මෙම සම්මේලනයේ යුද්ධ විරෝධී අරගලය පිළිබඳ ''බේරුම් කාරී උසාවි සහ නිරායුධ කරනය'' යන යෝජනාවෙන් ස්ථිර කෙරින. ඊට අමතරව, අවි ආයුධ අඩු කරන ලෙසත්, රාජ්‍ය අතර ගැටුම් බේරුම් කාරී උසාවි ආදිය මගින් විසඳා ගන්නා ලෙසත් ඉල්ලීම සමාජවාදී පක්ෂවල හා ඒවායේ පාර්ලිමේන්තු මන්ත්‍රීවරුන්ගේ අනිවාර්ය වගකීමක් බව තීරණය කළ මෙම සාකච්ඡා සම්මේලනය යුද්ධයේ තර්ජනයට විරුද්ධත්වය ප්‍රකාශ කරන ලෙස සියලුම රටවල කම්කරුවන්ට ආයාචනා කළේය.

දෙවැනි ජාත්‍යන්තරයේ බාසල් සාකච්ඡා සම්මේලනය — (1912 නොවැම්බර් 24—25) ඉතාමත් ලංව එන තර්ජනයක් වූද,පූර්ම බෝල්කන් යුද්ධය ආරම්භ වීමෙන් පසුව තව තවත් භයානක වූද,අධිරාජවාදී ලෝක යුද්ධයක් ඇතිවීමට විරුද්ධව අරගල කිරීමේ ප්‍රශ්නය තීරණය කිරීම සඳහා අති විශේෂ සාකච්ඡා සම්මේලනයක් ලෙසට කැඳවන ලද්දකි.



මෙම සාකච්ඡා සම්මේලනයට නියෝජිතයින් 555 දෙනෙක් සහභාගී වූහ. එය ආරම්භ කරන දිනයේ යුද්ධ විරෝධී යෝධ පෙළ පාලියක් සහ විරෝධය පෑමේ ජාත්‍යන්තර රැස්වීමක් පැවැත්වින.

නොවැම්බර් 25 දින සම්මේලනය ඒකමතිකව යුද්ධය පිළිබඳ ප්‍රකාශනය අනුමත කළේය. ළඟ එන ලෝක යුද්ධයේ අන්තරාය ගැන එයින් ජනතාවට අනතුරු හඟවන ලදී. අධිරාජ්‍යවාදීන් අරඅදිමින් සිටින යුද්ධයේ කොල්ලකාරී අරමුණු හෙළිදරව් කළ එය, සාමය සඳහා බලවත් ලෙස සටන් කරන ලෙසත්, ''ධනපති අධිරාජ්‍යවාදයට විරුද්ධව නිර්ධන පංතියේ ජාත්‍යන්තර සමගියේ බල පරාක්‍රමය ඉදිරිපත් කරන'' ලෙසත්, කම්කරුවන් උනන්දු කළේය. යුද්ධය ඇති වුවහොත්, ඉන් පැන නගින ආර්ථික හා දේශපාලන අර්බුදය සමාජවාදී විප්ලවය සඳහා සටන් කිරීමට උපයෝගී කරගන්නා ලෙස ප්‍රකාශනය නිර්දේශ කළේය.

කෞට්ස්කි, වැන්දර්වෙල්ද සහ දෙවැනි ජාත්‍යන්තරයේ වෙනත් නායකයෝ එම ප්‍රකාශනයට ඡන්දය දුන් නමුත්, යුද්ධය ඇතිවූ පසු, ජාත්‍යන්තරයේ අනෙකුත් යුද්ධ විරෝධී තීරණ සමග එයද නොපෙනෙනසේ වලලා දමා, ඔවුන්ගේ අධිරාජ්‍යවාදී ආණ්ඩුවල පැත්ත ගත්හ.

[8] කැඩෙට්වරු (ව්‍යවස්ථාදයක-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය) — රුසියාවේ ලිබරල්රාජාණ්ඩුවාදී ධනපති පංතියේ ප්‍රධාන පක්ෂය වූ මෙය 1905 ඔක්තෝබර් මාසයේ ආරම්භ කරන ලදී. ධනපති පංතියේ නියෝජිතයෝ, ඉඩම් හිමි සෙම්ස්කි නායකයෝ හා ධනපති බුද්ධිමත්හු මෙම පක්ෂයට ඇතුලත් වූහ. වැඩකරන ජනතාව රැවටීම සඳහා කැඩෙට්වරු තම පක්ෂයට ''ජනතා නිදහස් පක්ෂය'' යන ප්‍රයෝගීකාර නම තැබූහ. ඇත්ත වශයෙන්ම ඔවුහු ව්‍යවස්ථාවාදී රාජාණ්ඩුවක් ඉල්ලීමට වඩා දුර නොගියහ. ඔක්තෝබර් සමාජවාදී විප්ලවයේ ජයග්‍රහණයෙන් පසු කැඩෙට්වරු සෝවියට් රජයේ අන්ත හතුරන් සේ ක්‍රියා කළහ. ඔවුහු සියලුම අවිගත් ප්‍රතිවිප්ලවවාදී කටයුතුවලට හා ආක්‍රමණිකයින්ගේ කුරුස යුද්ධ වලට සහභාගි වූහ. ආක්‍රමණිකයින් හා සුදු හමුදව පරාජය වීමෙන් පසු විදේශගත වූ කැඩෙට්වරු සෝවියට් විරෝධී ප්‍රතිවිප්ලවවාදී කටයුතු දිගටම ගෙන ගියහ.

[9] නරෝද්නික්වාදය — දහනවවැනි ශත වර්ෂයේ හැටගණන්වලදී රුසියානු විප්ලවවාදී ව්‍යාපාරයේ පැන නැගි සුළු ධනපති ප්‍රවනතාවයකි. සාර්ගේ ඒකාධිපති පාලනය විනාශ කිරීම හා ඉඩම් හිමියන්ගේ ඉඩම් ගොවීන්ට බෙදා දීම සඳහා ඔවුහු සටන් කළහ. තමන් සමාජවාදීන් යයි ඔවුහු සිතූහ, එහෙත් ඔවුන්ගේ සමාජවාදය මනෝරාජික විය.

රුසියාවේ ධනපති සම්බන්ධකම්වල නියමානුකූලභාවය නරෝද්නික්වරු නොපිළිගත්හ. ඒ අනුව නිර්ධන පංතිය ප්‍රධානතම විප්ලවවාදී බලවේගය ලෙස නොසැලකූ ඔවුහු ගම්බද ජනපද ගොවි ජනතාව තුළ සමාජවාදයේ කලල රූපය දුටහ. ඓතිහාසික ක්‍රියාදාමය තුළ බහු ජනතාවගේ ඇති කාර්යභාරය නොපිළිගත් නරෝද්නික්වරු, ඉතිහාසය නිර්මාණය කරන්නේ වීරයින් වන ශ්‍රේෂ්ඨ පුද්ගලයින් බව කියා සිටියහ. සාර්ගේ ඒකාධිපති පාලනයට විරුද්ධව සටන් කිරීම සඳහා ගොවි ජනතාව පුබුදුවා ලීම සඳහා ඔවුහු ගම්බද ''නරෝද්'' (''ජනතාව'') වෙත (මේ අනුව නරෝද්නික්වරු යන හැඳින්වීම ඔවුන්ට ලැබිණ) ගියහ. එහෙත් ඔවුන්ට ගමෙන් කිසිම සහයෝගයක් නොලැබිණ. විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදයේ සිට ලිබරල්වාදය දක්වා නරෝද්නික්වාදය අවධි කීපයකටම මුහුණ පෑවේය.

1880—1890 ගණන්වලදී නරෝද්නික්වරු සාර්වාදය සමග සමාදනවීමේ මගක් ගෙන කුලාකයින්ගේ අයිතිවාසිකම් ආරක්ෂා කළහ, මාක්ස්වාදයට විරුද්ධව සටනක් ගෙන ගියහ.



10 එස්එර්වරු (සමාජවාදී විප්ලවවාදියෝ) — රුසියාවේ සුළු ධනේශ්වර පක්ෂයකි. විවිධ නරෝද්නික්වාදී කණ්ඩායම් හා කව ඒකාබද්ධවීමේ ප්‍රතිඵලයක් වශයෙන් 1901 අගදී හා 1902 මුලදී මෙය බිහිවිය.

තනි තනිව කරන ත්‍රස්තවාදී කටයුතු මගින් සාර්වාදයට විරුද්ධව සටන් කිරීම එස්එර්වරුන්ගේ ප්‍රධාන සටන් ක්‍රමය විය.

1905—1907 රුසියානු විප්ලවය අසාර්ථක වීමෙන් පසු, එස්එර්වරුන්ගේ පක්ෂය අර්බුද වලට මුහුණ පෑවේය: පක්ෂ නායකත්වය සාර්වාදයට විරුද්ධ විප්ලවකාරී සටන සම්පූර්ණයෙන්ම ප්‍රතික්ෂේප කළේය. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී එස්එර් පක්ෂයේ බහුතරය සමාජ-ජාත්‍යෝන්මාදවාදී පිළිවෙතක් අනුගමනය කළහ. 1917 පෙබරවාරි මාසයේදී සාර්වාදය බිඳ දැමීමෙන් පසු එස්එර් පක්ෂයේ නායකයෝ ධනේශ්වර තාවකාලික රජයට ඇතුළු වී සමාජවාදී විප්ලවයට සූදනම් වෙමින් සිටි කම්කරු ජනතාවට විරුද්ධව සටන් මෙහෙයවූ අතර 1917 ග්‍රීෂ්ම ඍතුවේදී ඇති වූ ගොවි ව්‍යාපාර පාගා දැමීමට සහභාගි වූහ. ඔක්තෝබර් සමාජවාදී විප්ලවයෙන් පසු එස්එර් පාක්ෂිකයෝ සෝවියට් රජයට විරුද්ධව උග්‍ර සටනක් ගෙන ගියහ.

11 වංශවතුන්ගේ එක්සත් මණ්ඩලය — ප්‍රවේණි හිමි-ඉඩම්හිමියන්ගේ ප්‍රතිවිප්ලවවාදී සංවිධානයකි. 1906 දී ආරම්භ වූ මෙම සංවිධානය 1917 දක්වා පැවතියේය. වංශවතුන්ගේ එක්සත් මණ්ඩලය පසුව රාජ්‍ය සංස්ථාවක්මෙන් කටයුතු කළේය. ඔවුහු ප්‍රවේණි හිමියන්ගේ අයිතිවාසිකම් ආරක්ෂා කර ගැනීම සඳහා රජය වෙත නීතිමය යෝජනා ඉදිරිපත් කළහ.

12 දෙසැම්බර්වාදීන් — සාර් ඒකාධිපතිවාදයට විරුද්ධව 1825 දෙසැම්බර් 14 වැනිදා කැරැල්ලක් මෙහෙයවූ වංශවත් විප්ලවවාදීන් මේ නමින් හැඳින්විණ. කැරැල්ල මැඩපවත්වන ලදී. එයට සහභාගිවූවන් මරණීය දඬුවමට පත්කරන ලද අතර සමහරුන් සයිබීරියාවේ සිර කඳවුරුවලට පිටුවාහල් කෙරිණ.

13 රාස්නොචින්ට්සි (''විවිධ තරාතිරම්වලට අයත් හා විවිධ නිලතල දරූ පුද්ගලයින්'') — වංශවතුන්ගෙන් නොපැවතෙන බුද්ධිමත්හු; වෙළෙඳුන්ගෙන්, පූජකයින්ගෙන්, සුළු ධනපති කොටස්වලින්, ගොවීන්ගෙන් ආදී වූ විවිධ ස්තරවලින් වෙන් වූ කොටස්.

14 වී. අයි. ලෙනින්, එන්. ජී. චෙර්නිෂෙව්ස්කිගේ ''ප්‍රොලෝග්'' නැමැති නව කථාවෙන් උපුටා දක්වයි.

15 ප්‍රෙඩ්රික් එංගල්ස් ''විදේශගත සාහිත්‍යය'' . පෝලන්ත ප්‍රකාශනය.

16 ලසාල්වාදියෝ — ජර්මන් සුළු ධනේශ්වර සමාජවාදී ලසාල්ගේ අනුගාමිකයෝ, 1863 ආරම්භ කරන ලද සමස්ත ජර්මන් කම්කරු සංගමයේ සාමාජිකයෝ. එම සංගමයේ ප්‍රථම සභාපතිවරයා වූයේ ලසාල්ය. සංගමයේ වැඩ පිළිවෙළ හා උපක්‍රමවල පදනම සකස් කරන ලද්දේද ඔහු විසින්මය. සර්වජන ඡන්දය ලබාගැනීම සංගමයේ දේශපාලන වැඩ පිළිවෙළ වශයෙන් එය පිළිගත්තේය. එහි ආර්ථික වැඩ පිළිවෙළ වූයේ ආණ්ඩුවේ නඩත්තුව සහිත නිෂ්පාදන-කම්කරු සංගම් සෑදීමය. ප්‍රුසියානු ආධිපත්‍යයට හුරු වූ ලසාල් හා ඔහුගේ අනුගාමිකයෝ තම ප්‍රායෝගික ක්‍රියාවලදී බිස්මර්ක්ගේ මහා ජාතිකවාදී ප්‍රතිපත්තියට පක්ෂපාතිත්වය දැක්වූහ. කාල් මාක්ස් හා ප්‍රෙඩ්රික් එංගල්ස් ලසාල්වාදීන්ගේ න්‍යායය, උපක්‍රම හා සංවිධාන මූලධර්ම ජර්මන් කම්කරු ව්‍යාපාරයේ අවස්ථාවාදී ප්‍රවනතාවයන් ලෙස හඳුන්වා නිතරම විවේචනය කළහ.

7 මාක්ස් සහ එංගල්ස් — "Social-Demokrat" කර්තෘ මණ්ඩලයට යන 23. 02. 1865 දිනැති ලිපිය බලන්න.

18 රු. ස. ප්‍ර. ක. ප. විදේශගත කණ්ඩායම්වල සාකච්ඡා සභාවක් 1915 පෙබරවාරි 14 සිට 19 (පෙබරවාරි 2) සිට මාර්තු 4) දක්වා බර්න්හි දී පවත්වන ලදී. එය ලෙනින්ගේ ක්‍රියාරම්භත්වය උඩ කැඳවන ලද අතර, එය පක්ෂ සාකච්ඡා සභාවක් සේම වැදගත් විය.

19 ''සොට්සල් ඩෙමොක්‍රට්'' — 1908 පෙබරවාරි පටන් 1917 ජනවාරි තෙක් නීති විරෝධී ලෙස පළ කරන ලද රු. ස. ප්‍ර. ක. ප. ප්‍රධාන පත්‍රය. මෙයින් කලාප පණස් අටක මුළු සංඛ්‍යාවක් පළ විය. ඉන් පහක් පළ වූයේ අතිරේක සමගය.

ලෙනින් ලියූ ලිපි හා වාර්තා අසූවකට අධික සංඛ්‍යාවක් මෙම පත්‍රයෙහි පළ කරන ලදී.

ප්‍රතිගාමිත්වයේ දරුණු අවුරුදුවලදී සහ විප්ලවීය ව්‍යාපාරයේ නව උද්ගමන කාලයේ දී, නීති විරොධී මාක්ස්වාදී පක්ෂය ආරක්ෂා කර ගැනීම සඳහා, එහි සමගිය සහ ජනතා සම්බන්ධකම් ශක්තිමත් කිරීම සඳහා, ලික්විඩේටර්වරුන්ට, ට්‍රොට්ස්කිවාදීන්ට සහ අත්සොවිස්ට්වරුන්ට විරුද්ධව බොල්ෂෙවික්වරු ගෙනගිය අරගලයේදී ''සොට්සල් ඩේමොක්‍රට්'' අතිශයින් වැදගත් සාධකයක් විය.

ප්‍රථම ලෝක යුද්ධය සමයේදී ''සොට්සල් ඩේමොක්‍රට්'' බොල්ෂෙවික් පක්ෂයේ ප්‍රධාන පත්‍රය විය. එම තත්වය දරමින්, යුද්ධය, සාමය හා විප්ලවය පිළිබඳ බොල්ෂෙවික් සටන් පාඨ ප්‍රචලිත කිරීමට එය ඉටු කළ කාර්ය කොටස අති වැදගත් ය.

20 ප්‍රැදොන්වාදය — ප්‍රංශ ආරාජිකවාදී දෘෂ්ටිවාදියෙක් වූ ප්‍රැදොන්ගේ නමින් පතල වූ මාක්ස්වාදයට විරුද්ධ වූ අවිද්‍යාත්මක සමාජවාදී උපනතියකි. සුළු ධනවාදී ස්ථාවරයකින් ධනවාදී අයිතිය විවේචනය කළ ප්‍රැදොන් කුඩා පරිමාණ පුද්ගලික අයිතිය සදකාලික කිරීමේ සිහිනය දිටීය. ඔහු ''මහජන'' හා ''හුවමාරු'' බැංකු සංවිධානය කිරීමට යෝජනා කළේය. මෙම බැංකු මාර්ගයෙන් කම්කරුවන්ට තමන්ගේම නිෂ්පාදන මාධ්‍යයන් අයිතිකර ගැනීමටද කඩා කර්මාන්තකරුවන් වීමටද හැකි බවත් එවිට තම නිෂ්පාදනයන්ට ''සාධාරණ'' වෙළඳ පොළක් ලබාදීම සහතික කළ හැකිබවත් ඔහු කියා සිටියේය. නිර්ධන පංතියේ ඓතිහාසික කාර්ය භාර්ය ගැන අවබෝධයක් ප්‍රැදොන්ට නොතිබිණ. පංති සටනට, නිර්ධන පංතික විප්ලවයට හා නිර්ධන පංති ආඥාදායකත්වයට ඔහු විරුද්ධ විය. ආරාජිකවාදී ප්‍රතිෂ්ඨාවක සිට රජයක ඇති අවශ්‍යතාවයට විරුද්ධ විය. ''දර්ශනයේ දිළිඳු බව'' නැමැති මාක්ස්ගේ පොතෙන් ප්‍රැදොන්වාදය තදබල ලෙස විවේචනය විය.



21 ''අධිරාජ්‍යවාදය, ධනපති ක්‍රමයේ ඉහළම අවධිය'' — නැමති පොත ලියන ලද්දේ 1916 ජනවාරි හා ජූනි අතර කාලයේදී ය. ලෙනින් බර්න්හි සිටිය දී, 1915 පටන්ම ඔහු අධිරාජ්‍යවාදය පිළිබඳව පොත පත අධ්‍යායනය කිරීමට පටන් ගත්තේය. 1916 පෙබරවාරි මස මුලදී බර්න් සිට සූරිච් නගරයට ගිය ඔහු එහි කැන්ටන ප්‍රදේශ පුස්තකාලය ආධාර කොට ගෙන පොතෙහි කටයුතු දිගටම කරගෙන ගියේය. ලෙනින් විදේශ පොත්, සඟරා, පුවත්පත් හා සංඛ්‍යා ලේඛණ සංග්‍රහ සියගණනකින් පිටපත් කොටගත් උපුටාගත් කොටස්, සම්පිණ්ඩන, සටහන් හා චක්‍ර, මුද්‍රිත පිටු 50 ක් පමණ වේ.

1916 ජූනි 19 (ජූලි 2) දින පොත ලියා අවසන් කළ ලෙනින්, අත් පිටපත ''පාරුස්'' ප්‍රකාශකයන් වෙත යැවීය. එම ප්‍රකාශන ආයතනයේ කළමණාකරුවන් අතර සිටි මෙන්ෂෙවික් පුද්ගලයින්, විසින් පොතෙහි ඇතුළත්, කෞට්ස්කිගේ හා රුසියානු මෙන්ෂෙවික් වරුන්ගේ (මාර්තව් සහ වෙනත් අයගේ) අවස්ථාවාදී න්‍යායයන් තියුණු ලෙස විවේචනය කරන කොටස් ඉන් කපා හරින ලද නිසා සහ පොතෙහි පෙළද වෙනස්කරන ලද නිසා එයින් ලෙනින්ගේ මුල් ශෛලිය පමණක් නොව ඔහුගේ අදහස්ද විකෘත කෙරින. ඒ අනුව (ධනපති ක්‍රමය අධිරාජ්‍යවාදය දක්වා) ''වැඩී යාම'' යන ලෙනින්ගේ වචන වෙනුවට ''පරිවර්තනය වීම'' යන්න යෙදීමද, (අන්ත අධිරාජ්‍යවාදී න්‍යායෙහි) ''ප්‍රතිගාමී ස්වභාවය'' යන්න වෙනුවට ''නොදියුණු ස්වභාවය'' යන්න යෙදීමද, ඒ ආදී තවත් වෙනස්කම්ද කරන ලදී.

''අධිරාජ්‍යවාදය, ධනපති ක්‍රමයේ නවතම අවධිය'' (සාමාන්‍ය කෙටි විස්තරයකි) යන නම යටතේ, මෙම පොත 1917 මැද භාගයේදී මුද්‍රණය කරන ලද අතර, ලෙනින් 1917 අප්‍රියෙල් 16 දින ලියූ පෙරවදනක්ද ඊට ඇතුලත් විය.

මෙම සංස්කරණය මුද්‍රණය කර තිබෙන්නේ සෝවියට් සංගමයේ කොමියුනිස්ට් පක්ෂයේ මධ්‍යම කාරක සභාවට අනුබද්ධ මාක්ස් ලෙනින්වාදී ආයතනය විසින් සකස් කරන ලද වි. අයි. ලෙනින්, සම්පූර්ණ කෘති (පස් වැනි රුසියානු මුද්‍රණය), වෙළුම 27 ට අනුකූලවය. පොත ලෙනින්ගේ අත්පිටපතට සැසදෙන්නේය.

22 මෙම පෙරවදන ප්‍රථමයෙන් ''අධිරාජ්‍යවාදය සහ ධනපති ක්‍රමය'' යන සිරස්තලය යටතේ 1921 ඔක්තෝබර් ''කොමියුනිස්ට් ජාත්‍යන්තරය'' අංක 18 හි පළ විය. ලෙනින්ගේ ජීවිත කාලය තුළ දී, 1921 දී ජර්මන් බසින්ද, 1923 දී ප්‍රංශ බසින් හා (සංක්ෂේපයෙන්) ඉංග්‍රීසි බසින් ද, ''අධිරාජ්‍යවාදය, ධනපති ක්‍රමයේ ඉහළම අවධිය'' යන පොතේ මුද්‍රණයන් වෙන වෙනම පළවිය.

23 බ්‍රෙස්ට්-ලිතොව්ස්ක් සාම ගිවිසුම — මෙය සෝවියට් රුසියාව හා ජර්මන් කඳවුරේ රටවල් (ජර්මනිය, ඔස්ත්‍රියා-හංගේරියාව, බල්ගේරියාව හා තුර්කිය) අතර 1918 මාර්තු 3 දින අත්සන් කරන ලද අතර, හතරවැනි අතිවිශේෂ සමස්ත රුසියා සෝවියට් සභා සම්මේලනය විසින් මාර්තු 15 දින අනුමත කරන ලදී. ගිවිසුමේ කොන්දේසි සෝවියට් රුසියාවට නොදැරිය හැකි තරම් විය. 1918 නොවැම්බර් විප්ලවයෙන් ජර්මනියේ රාජාණ්ඩුව බලයෙන් පහ වූ පසු, කොල්ලකාරී, අසාධාරණ බ්‍රෙස්ට් ගිවිසුම සමස්ත රුසියා මධ්‍යම විධායක කාරක සභාව විසින් නොවැම්බර් 13 දින අවලංගු කරන ලදී.

24 වර්සයිල්ස් සාම ගිවිසුම — (1914—1918) ප්‍රථම ලෝක යුද්ධය කෙළවර කළ මෙම ගිවිසුම, එක් අතකින්, ඇමෙරිකාව, බ්‍රිතාන්‍ය අධිරාජ්‍යය, ප්‍රංශය, ඉතාලිය, ජපානය හා අනිකුත් මිත්‍ර රටවල් ද, අනිත් අතින් ජර්මනියද විසින් 1919 ජූනි 28 දින අත්සන් කෙරිණ.

වර්සයිල් සාම ගිවිසුමේ ඉල්ලකය වූයේ ජයග්‍රහණය ලැබූ රටවලට වාසිදයක අන්දමට ධනවාදී ලෝකය නැවත බෙදගැනීම සහ සෝවියට් රුසියාවේ ගෙල මිරිකා දැමීම හා ලෝක විප්ලවවාදී ව්‍යාපාරය විනාශ කිරීම සඳහා එම රටවල් අතර සම්මන්ධතා ක්‍රමයක් ඇති කිරීම ය.

25 විල්සන්වාදය — 1913-1921 ඇමෙරිකා එක්සත් ජනපදයේ ජනාධිපති වූ වී. විල්සන්ගේ නමින් ඇති වූවකි. විල්සන්, කපටි අදහසින් ''නව නිදහසේ'' අවධිය නමින් හඳුන්වන ලද නීති ගණනාවක්ම පැනවූවේය. විල්සන්, අමනයින්ගේ හා මොට්ටයින්ගේ වීරයෙකි. ඔහුට ''සමාජයීය ලෝකය'' ආරක්ෂා කිරීමටද සූරාකන්නන් හා සූරාකනු ලබන්නන් සමගි කරන බවද සමාජයීය ප්‍රතිසංස්කර කරීමටද හැකි බව ඔවුහු සිතූහ (සම්පූර්ණ කෘති, 5 වැනි මුද්‍රණය, වෙළුම 41, පිටු 244).

26 ලෙනින් මෙහි අදහස් කරන්නේ බටහිර යුරෝපීය සමාජවාදී පක්ෂවල නායකයින් විසින් පළමුවැනි ලෝක යුද්ධයේ ආරම්භයත් සමග විසිර ගිය දෙවැනි ජාත්‍යන්තරය වෙනුවට 1919 දී බර්න්හි පැවැත්වූ සමාජවාදී පක්ෂවල සාකච්ඡා සභාවේදී ආරම්භ කරන ලද දෙවැනි (බර්න්) ජාත්‍යන්තරය ය.

27 ජර්මනියේ නිදහස් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂය — 1917 ගෝතා හි පැවැත් වුනු ආරම්භක සම්මේලනයක දී පිහිටුවනු ලැබූ මධ්‍යස්ථවාදී පක්ෂයකි. ''නිදහස් පාක්ෂිකයෝ'' සමාජ-ජාත්‍යෝන්මාදවාදීන් සමග ''සමගියට'' පක්ෂවාදී වූ අතර පංති අරගලය ප්‍රතික්ෂේප කරන තරම් දුරට ගියහ.

1920 ඔක්තෝබරයේ හාල්හිදී පැවැත්වුනු ජ. නි. ස. ප්‍ර. පක්ෂයේ සම්මේලනයේදී භේදවීමක් ඇති විය. 1920 දෙසැම්බරයේදී නිදහස් පාක්ෂියෝ සැලකිය යුතු කොටසක් ජර්මන් කොමියුනිස්ට් පක්ෂයට බැඳුනහ. වෙනම පක්ෂයක් පිහිටුවාගෙන එයට පැරණි ජ. නි. ස. ප්‍ර. ප. නම තබාගත් දක්ෂිණාංශය, 1922 තෙක් එසේ පැවැත්තේය.

28 මෙන්ෂෙවික්වරු — රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ අවස්ථාවාදී උපනතියකි.

1903 දී පවත්වන ලද රුසියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ දෙවැනි සම්මේලනයේදී පක්ෂයේ මධ්‍යම සංවිධානවලට ඡන්දය තේරීමේදී ලෙනින්ගේ ප්‍රධානත්වයෙන් යුත් විප්ලවවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට බහුතර (එතැන් සිට බහුතර යන තේරුම ඇති ''බොල්ෂෙවික්වරු'' නමින් ඔවුන් හැඳින් විණි) ඡන්ද සංඛ්‍යාවක්ද, අවස්ථාවාදීන්ට අල්පතර (එතැන් සිට ඔවුන් අල්පතර යන තේරුම ඇති ''මෙන්ෂෙවික්වරු'' නමින් හැඳින් විණි) ඡන්ද සංඛ්‍යාවක්ද ලැබිණ.

1905-1907 විප්ලවය සමයේ දී මෙන්ෂෙවිකයෝ විප්ලවයේ දී කම්කරු පංතියට ඇති බලයට විරුද්ධවද, කම්කරු පංතියේ සහ ගොවීන්ගේ සමගියට විරුද්ධවද නැගී සිටි අතර ලිබරල්වාදී ධනපති පංතිය විප්ලවයේ නායකයා ලෙස පෙනී සිටිය යුතු යැයි කියමින් ඔවුන් සමග සම්මුතියකට එන ලෙස ඉල්ලා සිටියහ. 1905-1907 විප්ලවයේ පරාජයෙන් පසු වසරවලදී ප්‍රතිගාමීත්වය පැනනැගී විට මෙන්ෂෙවික් වරුන්ගෙන් වැඩි දෙනෙක් ලික්විඩේටර්වාදීන් බවට පත්වූහ: කම්කරු පංතියේ විප්ලවවාදී නීති විරෝධී පක්ෂය විසුරුවා හරින ලෙස ඔවුහු ඉල්ලා සිටියහ. 1917 පෙබරවාරි මාසයේ දී ඇති වූ ධනපති ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයේ ජයග්‍රහණයෙන් ඉක්බිතිව, තාවකාලික ආණ්ඩුවට ඇතුළුවූ මෙන්ෂෙවික්වාදීහු එම ආණ්ඩුවේ අධිරාජ්‍යවාදී ප්‍රතිපත්තිවලට ආධාර දෙමින් සූදනම් වෙමින් තුබූ සමාජවාදී විප්ලවයට විරුද්ධව සටන් කළහ.

ඔක්තෝබර් සමාජවාදී විප්ලවයෙන් අනතුරුව මෙන්ෂෙවික්වරු විවෘතවම ප්‍රතිවිප්ලවවාදී පක්ෂයක් ලෙස පෙනී සිටිමින් සෝවියට් බලය පෙරලා දැමීම සඳහා කුමන්ත්‍රණ හා කැරලි සංවිධානය කොට ඒවාට සහභාගී වූහ.

[29] "ස්පාටකස්වරු" — අධිරාජ්‍යවාදී ලෝක යුද්ධය ආරම්භයේදී, කාල් ලියබ්නෙහ්ත්, රෝසා ලුක්සෙම්බුර්ග්, ෆ්‍රාන්ස් මේරිං හා වෙනත් අය විසින් පිහිටුවන ලද ජර්මන් වාමාංශික සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගෙන් සමන්විත වූ විප්ලවවාදී සංවිධානයක සාමාජිකයින් මෙනමින් හැඳින් විනි. ස්පාටකස්වරු පොදු ජනතාව අතර විප්ලවවාදී ප්‍රචාරය ගෙන ගියහ; දුවැන්ත යුද්ධ විරෝධී සටන සංවිධානය කළහ; වැඩ වර්ජන මෙහෙයවූහ; ලෝක යුද්ධයේ අධිරාජ්‍යවාදී ස්වභාවයත්, අවස්ථාවාදී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී නායකයන්ගේ ද්‍රෝහීභාවයත්, හෙළිදරව් කළහ.

1917 අප්‍රියෙල් මාසයේදී ස්පාටකස්වරු, ජර්මනියේ මධ්‍යස්ථාවාදී නිදහස් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයට බැඳුනු නමුත්, සංවිධානමය වශයෙන් ස්වාධීන ලෙස පැවතුනහ. ජර්මනියේ විප්ලවය සමයේදී 1918 නොවැම්බරයේදී ස්පාටකස් ලීගය පිහිට වූ ඔවුහු, තමන්ගේම වැඩ පිළිවෙළක් (දෙසැම්බර් 14 දින) නිකුත් කර නිදහස් පාක්ෂිකයන්ගෙන් වෙන් වූහ. 1918 දෙසැම්බර් 30 පටන් 1919 ජනවාරි 1 දක්වා පවත්වන ලද ආරම්භක සම්මේලනයේදී ඔවුහු ජර්මන් කොමියුනිස්ට් පක්ෂය පිහිට වූහ.

[30] "වර්සේල් නුවරුන්" — මොවුහු 1871 පැරිස් කොමියුනයට විරුද්ධත්වයක් දක්වූ අතර කොමියුනයේ] ජයග්‍රහණයෙන් පසුව වර්සේල් නගරයේ පිහිටුවන ලද තියර්ගේ ප්‍රතිවිප්ලවවාදී ආණ්ඩුවේ ආධාරකරුවන් වූහ. කොමියුනය පරාජය කිරීමෙන් පසුව වර්සේල් නගරය කොමියුනාවරුන්ට සැලකුවේ පෙර නො ඇසූ තරම් තිරශ්චීන ආකාරයකිනි. 1871 න් පසුව "වර්සේල්" යන වචනය මෑග ප්‍රතිවිප්ලවය යන අර්ථය දෙන නමක් විය.

[31] මෙහිදී ලෙනින් සඳහන් කරන්නේ 1912 සැප්තැම්බර් 20 දින ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ චෙම්නිට්ස් සම්මේලනය අනුමත කළ අධිරාජ්‍යවාදය සහ සමාජවාදීන් යුද්ධය කෙරෙහි දක්වන ආකල්පය පිළිබඳ වූ යෝජනාව ගැන ය. අධිරාජ්‍යවාදී ප්‍රතිපත්තිය හෙළා දුටු යෝජනාව සාමය සඳහා සටන් කිරීමේ වැදගත්කම අවධාරනය කළේය.

[32] කර්තෘ පොත් පත් ගැන සඳහන් කරන කරුණු හා වෙනත් සටහන්, මෙම සංස්කරණයේ පාසටහන් ලෙසට දක්වා ඇත.

[33] "Die Bank" (බැංකුව) — ජර්මන් බැංකුකරුවන්ගේ සඟරාවකි. 1908 සිට 1943 දක්වා පළ විය.



[34] කාල් මාක්ස්ගේ "ප්‍රාග්ධනය" තුන්වැනි වෙළුම 36 වැනි පරිච්ඡේදය — පූර්ව ධනවාදී සබඳතාවයන්.

[35] අදළ ව්‍යාපාර පොළ බිඳ වැටීම සිදුවූයේ 1873 වර්ෂයේ ප්‍රථම භාගයේදී ය. එය ප්‍රථමයෙන් ඕස්ත්‍රියා — හංගේරියාවෙහි ද, ඊළඟට ජර්මනියේ සහ වෙනත් රටවලද සිදුවිය. 1870 ගණන්වල මුල් අවුරුදුවලදී, වැඩී එන ලෝක ආර්ථික අර්බුදයක ලක්ෂණ පැහැදිලි ලෙසම මෝරා එමින් ඒවායේ බලපෑම කර්මාන්තය හා වෙළඳාම තුළ දැනෙන්නට පටන්ගෙන තිබිය දීම, ණය ව්‍යාප්තිය, ව්‍යාපාරික සමාගම් පිහිටුවීම හා ව්‍යාපාර පෙළෙහි සමපේක්ෂණය දිගටම වර්ධනය විය. මහා විනාශය 1873 මැයි 9 දින වියානා ව්‍යාපාර පොළ මත විනාශය කඩා වැටුනි. පැය විසි හතරක් ඇතුලත කොටස් මිල දශ කෝටි ගණනින් පහත වැටුනි. බංකොලොත් ලැබූ සංඛ්‍යාව අති විශාල විය. ඊළඟට, ව්‍යාපාර පොළ බිඳ වැටීම ජර්මනියට පැතිර ගියේය.

[36] සමාගම් පිහිටුවීම පිළිබඳ අපකීර්තිමත් සිදුවීම් — මෙම සිදුවීම් ඇතිවූයේ 1870 ගණන්වල මුල් කාලයේ ජර්මනියේ බද්ධ ව්‍යාපාර වස්තු සමාගම් පුළුල් ලෙස පිහිටුවන ලද අතර ය. සමාගම් පිහිටුවීම සමගම, නිශ්චල දේපල හා සුරැකුම්පත් සම්බන්ධයෙන් පාලනයක් නැති සමපේක්ෂණයද, මුදල් කැදර ධනපති ව්‍යාපාරිකයන්ගේ නොයෙක් ආකාර වංචාකාර කටයුතුද සිදුවිය.

[37] "ෆ්‍රැන්ක්පර්ට් පත්‍රය" ("Frankfurter Zeitung") — ජර්මනියේ විශාල වෙළඳ ව්‍යාපාර හිමියන්ගේ දිනපතා පුවත් පතකි. මායි නදීබඩ ෆ්‍රැන්ක්පර්ට් නගරයෙහි 1856 සිට 1934 දක්වා පළ විය. 1949 සිට නැවතත් එය "ෆ්‍රැන්ක්පර්ට් සමස්ත මහා පත්‍රය" ("Franfurter Allgemeine Zeitung") නමින් පළවීමට ගැණින.

[38] "සංවිධිත ධනවාදයේ" න්‍යායය, තරඟය හා නිෂ්පාදනයේ අරාජික භාවයත්, අර්බුදත්, අහෝසි කරන්නේ යයිද ජනතා ආර්ථික සැලැස්මක් අනුව වර්ධනය වීම සහතික කරන්නේයැයිද කියන විශේෂයෙන් ප්‍රතිසංස්කරණය වූ ධනවාදයේ ක්‍රමයක් ලෙස අධිරාජ්‍යවාදය පෙන්නුම් කරයි. ඒකාධිකාරි ධනවාදයේ දෘෂ්ටිවාදීන් විසින් ඉදිරිපත් කරන ලද "සංවිධිත ධනවාදය" නැමැති න්‍යායය කෞට්ස්කි, හිල්ෆර්දිංග් හා දෙවැනි ජාත්‍යාන්තරයේ වෙනත් න්‍යායය වාදීහුද තුරුලුකර ගත්හ.

[39] ලෙනින් සඳහන් කරන්නේ ජී. වී. ප්ලෙහානව් ගැනය.

40 පැනමාව — පැනමා ඇල ගොඩනැගීම කළ ප්‍රංශ සමාගමෙන් අල්ලස් ලැබූ රාජ්‍ය පාලකයන්, දේශපාලනඥයන්, නිලධාරීන් හා පුවත්පත් කළ නො ඇදහිය හැකි තරම් දූෂණ කටයුතු ගැන 1892—1893 කාලයේ හෙළිදරව් වීමෙන් පසු පුළුල් භාවිතයට පත් පාඨයකි.

41 "Die Neue Zeit" (''නවීන කාලය) — 1883 සිට 1923 දක්වා ෂ්ටුට්ගාට්හි මුද්‍රණය කරන ලද ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ න්‍යායික සඟරාවය. 1917 ඔක්තෝබර් මාසය දක්වා එහි කර්තෘවරයා ලෙස කටයුතු කළේ කෞට්ස්කිය. පසුව එම ධුරයට කුනොව් පත් විය.

42 ෆේබියන් සමාජය — 1884 ආරම්භ කරන ලද බ්‍රිතාන්‍ය ප්‍රතිසංස්කරණවාදී සංවිධානයකි. ක්‍රි. පූ. තුන්වැනි ශත වර්ෂයේ විසූ ෆේබි මක්සිමුස් නැමැති රෝමන් සේනාධිපතියාගේ නාමය මෙයට ලැබිණ. ගනිබාල් සමග කල යුද්ධයේදී ඔහුගේ හෙමින් උපක්‍රම හා තීරණාත්මක සටන් නොකිරීම නිසා ඔහුට කුන්ක්තාතර් (සුනංගුවා) නැමැති නම පටබඳින ලදී. ෆේබියන් සමාජයේ සාමාජිකයෝ නිර්ධන පංතියේ පංති සටන හා සමාජවාදී විප්ලවය ප්‍රතික්ෂේප කළ අතර ධනවාදයේ සිට සමාජවාදය කරා පරිවර්තනය වීම කළ හැක්කේ සුළු ප්‍රතිසංස්කරණ හා ක්‍රමයෙන් සමාජය හැඩගැස්වීමෙන් යැයි කියා සිටියහ.

43 කාල් මාක්ස්ගේ ''ප්‍රාග්ධනය'' කෘතිය බලන්න. වෙළුම 3, පළමුවැනි. කොටස හයවැනි පරිච්ඡේදය. ''මිළ වෙනස්වීමෙන් සිදුවන බලපෑම''

44 ලෙනින් සඳහන් කරනනේ 1899—1901 බොක්සර් කැරැල්ල මැඩලීමේ ප්‍රතිඵලයක් වශයෙන් අධිරාජ්‍යවාදී බලවතුන් (බ්‍රිතාන්‍ය, ඕස්ත්‍රියා-හංගේරියාව, බෙල්ජියම, ප්‍රංශය, ජර්මනිය, ඉතාලිය, ජපානය, රුසියාව, නෙදර්ලන්තය, ස්පාඤ්ඤය හා ඇමෙරිකා එක්සත් ජනපදය) හා චීනය අතර 1901 සැප්තැම්බර් 7 දින අත්සන් කරන ලද ඊනිය අවසාන ගිවිසුම ගැන ය.

45 බොක්සර් (වඩාත් නියත ලෙස අයි හෝ තුවාන්) කැරැල්ල — එය චීනයේ 1899—1901 කාලයේ ඇති වූ පොදුජන අධිරාජ්‍ය විරෝධී කැරැල්ලකි. අයි හෝ-චූවාන් (උත්තම සංගත මුෂ්ටි) සංගමය විසින් සංවිධානය කරන ලද එය පසුව අයි හෝ-තුවාන් (උත්තම සංගත කණ්ඩායම්) යන නමින් ප්‍රසිද්ධ විය. ජර්මන් ජනරාල් වල්ඩර්සීගේ මෙහෙයවීම යටතේ, ජර්මන්, ජපන්, බ්‍රිතාන්‍ය, ඇමෙරිකානු හා රුසියානු අධිරාජ්‍යවාදී සේනාවල සහභාගිත්වය ඇති මර්දනකාරී හමුදවක් විසින් එය නිර්දය ලෙස මර්දනය කරදමන ලදී. චීනය විදේශීය අධිරාජ්‍යවාදයේ අර්ධ යටත් විජිතයක් බවට පත්කළ අවසාන ගිවිසුම අත්සන් කිරීමට එයට මේ අනුව සිදුවිය.

46 ''පැෂෝඩා සිද්ධිය''. මෙය ඇතිවූයේ නයිල් මිටියාවතේ ආධිපත්‍යය සඳහා බ්‍රිතාන්‍යය සහ ප්‍රංශය අතර වූ අරගලය අතරතුරය. 1898 දී පැෂෝඩා (සුදු නයිල් ගඟබඩ ඇති නැගෙනහිර සුඩානයේ ගමකි) අල්ලා ගැනීමට ප්‍රංශුවෝ උත්සාහ කළහ. නමුත් බ්‍රිතාන්‍යයේ බලය හමුවේ එය අත්හැර දැමීමට ඔවුනට සිදුවිය. මෙම සිද්ධිය නිසා බ්‍රිතාන්‍යය හා ප්‍රංශය අතර යුද්ධයක් ඇති වීමට ඉතා ආසන්න තත්වයක් ඇති විය.

47 ''අධිරාජ්‍යවාදී ආර්ථිකවාදයේ'' ජායමාන උපනතිය නැමති ලිපිය හා එයට පසු ''පී.කියෙව්ස්කිට (යූ. ප්‍යතකොව්ට) පිලිතුරු'' හා '' ''මාක්ස්වාදය මත උපහාසය ගැන හා ''අධිරාජ්‍යවාදී ආර්ථිකය'' '' නැමැති ලිපි පළකරන ලද්දේ බුහාරින්ගේ හා ප්‍යතකෝව් — බොෂ්ගේ මාක්ස්වාදී නොවන විරෝධී හා බොල්ෂෙවික් විරෝධී ආකල්පයකින් යුත් කණ්ඩායම්ට වලට විරුද්ධවය. මෙම කණ්ඩායම හැඩ ගැසෙන්නට පටන්ගන්නේ ''කොමියුනිස්ට්'' සඟරාව මුද්‍රණය කිරීම ආරම්භ කරමින් සිටි අවධියේදීය. එය මුද්‍රණය කිරීමට තීරණය කළේ 1915 වසන්තයේ දීය, 1915 සැප්තැම්බරයේදී ''කොමියුනිස්ට්'' අංක 1—2 නිකුත්වීමෙන් පසුව බුහාරින්, ප්‍යතකොව් හා බොෂ් කණ්ඩායම සමග ලෙනින්ගේ මත වෙනස්කම් තවත් දියුණු විය. 1915 ග්‍රීෂ්ම ඍතුවේදී බෝජි අත්හැර ස්ටොක්හොම් බලා ගිය බුහාරින්, ප්‍යතකොව් හා බොෂ් ''ස්වාධිපත්‍යය ගැන සටන් පාඨය'' යන ප්‍රවාදය පදනම් කරගෙන එක්සත් වූහ. ඔවුහු එය 1915 දී ''සොට්සල් ඩෙමොක්‍රට්'' පත්‍රත වෙත යැවූහ. එම ප්‍රවාදය මගින් ඔවුහු ලෙනින්ගේ සමාජවාදී න්‍යායයට විරුද්ධ වූ අතර, අධිරාජවාදී යුගයකදී ප්‍රජාතන්ත්‍රවාදය සඳහා අරගල කිරීමේ අවශ්‍යතාවය ප්‍රතික්ෂේප කරමින්, ස්වාධිපත්‍යය සඳහා ජාතීන්ගේ අයිතිය පිළිබඳ සටන් පාඨය ඉවත ලන මෙන් පක්ෂයට බල කළහ.

විදේශගත මධ්‍යම කාරක සහා බියුරෝවට වග කීමට නොබැඳුනු, රුසියාවේ මධ්‍යම කාරක සභිකයන් සමග ස්වාධීනව සම්බන්ධකම් පැවැත්වීම හා පත්‍රිකා සහ වෙනත් සාහිත්‍ය පළකිරීමට බලය ඇති වෙනම කණ්ඩායමක් ලෙසට තමන් පිළිගත යුතුයයි ප්‍යතකොව් සහ බොෂ් බල කර සිටියහ. මෙම ඉල්ලීම ප්‍රතික්ෂේප කරන ලද නමුත්, රුසියාවේ මධ්‍යම කාරක සභා බියුරෝව සමග සම්බන්ධකම් පැවැත්-

වීමට එම කණ්ඩායම උත්සාහ කළේය. ලෙනින්, මෙම කණ්ඩායමේ අදහස හා පක්ෂ විරෝධී කාණ්ඩ කටයුතු තදින් විවේචනය කළේය. ''සොට්සල් ඩෙමොක්‍රටික්'' කර්තෘවරු සහ මෙම කණ්ඩායම ඒකාබද්ධ ලෙස ''කොමියුනිස්ට්'' සඟරාව පළකිරීම ඔහුගේ යෝජනාව අනුව නවත්වන ලදී.

''අධිරාජ්‍යවාදී ආර්ථිකවාදයේ ජායමාන උපනතිය යන ලිපිය ලියන ලද්දේ ''සමාජවාදී විප්ලවය සහ ස්වාධිපත්‍යය සඳහා ජාතීන්ගේ අයිතිය''යන ප්‍රවාදය ගැන බුහාරින්ගේ අදහස්''සෝට්සල් ඩෙමොක්‍රට්'' සංස්කාරකවරු වෙත ලැබුණු පසුවය. එම අවස්ථාවේදී ලිපිය පළ නොකරන ලදි.

48 මෙහි සඳහන් කෙරෙන්නේ ''දේශපාලන විප්ලවය ඉටු කරන්නේ කවුද?'' යන ලිපිය ගැනය. එහි කර්තෘ, ඒ. ඒ. සානින්, රුසියාවේ ක්ෂණික කර්තව්‍යය සමාජවාදී පරිවර්තනය යයිද, එය සමන්ත මහා වැඩ වර්ජනයක් මගින් ඉටු කළ හැකි යයිද විශ්වාස කළ අතර, ස්වාධීන-කම්කරු පංති පක්ෂයකට විරුද්ධ වූයේය; එසේම දේශපාලන විප්ලවයක අවශ්‍යතාවය ප්‍රතික්ෂේප කළේය.

49 මෙහි සඳහන් වන්නේ 1915 බෙර්නෙවල පැවති රුසියානු සමාජ-ප්‍රජ-තන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ සාකාච්ඡා සභාව ගැනය.

50 මෙහි සඳහන් කෙරෙන්නේ ''ස්වාධිපත්‍යය ගැන සටන් පාඨය'' යනු-වෙන් බුහාරින් 1915 දෙසැම්බරයේදී ලියූ ප්‍රවාදය ගැනය. එය එන්. ඊ. බුහාරින්, ජී. එල්. ප්යතකොව් හා ඊ. බී. බොෂ් යන අයගේ අත්සනින් ''සොට්සල් ඩෙමොක්‍රට්'' කර්තෘවරුන් වෙත ඉදිරිපත් කරන ලදී.

51 මෙම සඳහන කර ඇත්තේ හෙන්රියට් රෝලන්ඩ්-හොල්ස්ට් විසින් සකස් කරන ලද ලන්දේසි වාමාංශයේ කෙටුම්පත් වැඩ පිළිවෙළ ගැනය.

52 "Vorbote" (''නිවේදකයා'') — 1916 දී ජර්මනියේ බර්න්හි පළ කරන ලද, ට්සිමර්වෝල්ඩ් වාමාංශයේ නිල න්‍යායික සඟරාව විය. මෙයින් කලාප දෙකක් පළ කෙරුණි. එහි නිල ප්‍රකාශකයන් වූයේ හෙන්රියේ රෝලන්ඩ්-හොල්ස්ට් සහ ඇන්ටන් පැනිකොයෙක් ය. මෙම සඟරාව ආරම්භ කිරීමේ දී සහ එහි ප්‍රථම කලාපය නිකුත් වීමෙන් පසුව වඩාත් පුළුල් පාඨක පිරිසක් ඇති කර ගැනීම පිණිස



එහි ප්‍රංශ සංස්කරණයක් සංවිධානය කිරීමේදී ලෙනින් ක්‍රියාශීලී කාර්ය කොටසක් ඉටු කළේය. ට්සිමර්වෝල්ඩ් වාමාංශිකයෝ එය මගින්, ස්වාධිපත්‍යය සඳහා ජාතීන්ගේ අයිතිය සහ ''නිරායුධ කරණය'' යන සටන් පාඨය ගැන උනන්දුමත් සාකච්ඡාවක් කළහ.

53 ලෙනින් සඳහන් කරන්නේ 1916 පෙබරවාරි 5—9 දිනවල බර්න්හි පැවති ජාත්‍යන්තර සමාජවාදී කාරක සභාවේ පුළුල් කරන ලද රැස්වීම ගැන ය. එයට රටවල් ගණනාවක ජාත්‍යන්තරවාදීන්ගේ නියෝජිතයන් 22 ක් සහභාගි විය. ට්සිමර්වෝල්ඩ් සාකච්ඡා සම්මේලනයේදී මෙන්, නියෝජිතයන් බහුතරය මධ්‍යස්ථවාදීන් වූ නමුත්, වාමාංශයට වාසිව-නසේ බලවේග පෙළ ගැස්ම වෙනස් වී තිබුණු බව රැස්වීමට සහභාගි වූවන්ගෙන් පෙනිණි.

මෙම රැස්වීම ''සියළුම අනුබද්ධ පක්ෂ වලට හා කණ්ඩායම්වලට'' යන ආයාචනය අනුමත කළේය. බොල්ෂෙවික්වරුන්ගේ හා වාම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ බලපෑම නිසා ට්සිමර්වෝල්ඩ් වාමාංශයේ ප්‍රතිපත්තියට ගැලපෙන සංශෝධන එයට ඇතුලත් කරන ලදී.එසේ වූවද මෙම ආයාචනය සමාජ-ජාත්‍යෝන්මාදවාදයෙන් හා අවස්ථාවාදයෙන් ඉවත්වන ලෙසට ඉල්ලීමක් නොකළ හෙයින් එය සසංගත නොවීය. අනුමත කරන ලද්දේ ලෙනින්ගේ සංශෝධන සියල්ලක්ම නොවේ. ආයාචනය සියලු කරුණු අතින්ම සතුටුදයක යයි තමන් නොසලකන නමුත්, ට්සිමර්වෝල්ඩ් හි ප්‍රථම ජාත්‍යන්තර සමාජවාදී සාකච්ඡා සභා-වේ තීරණ හා සසඳා බලන විට, එය ඉදිරියට තැබූ පියවරක් සේ සලකා එයට ඡන්දය දෙන බව ට්සිමර්වෝල්ඩ් වාමාංශයේ නියෝජිතයෝ ප්‍රකාශ කළහ.

''දෙවැනි සමාජවාදී සාකච්ඡා සභාව කැඳවීම ගැන කෙටුම්පත් තීරණය'' හා සම්බන්ධයෙන් සාකච්ඡා කළ රැස්වීම, එහි කරුණු ගණ-නාවක් අනුමත කර, එය කැඳවීමට දිනයක් නියම කළේ ය. ඉන්පසු ලෙනින් විදේශගත බොල්ෂෙවික් කණ්ඩායම් වෙත මෙම රැස්වීම ගැන වාර්තාවක් අප්‍රමාදව යවා, වහාම දෙවැනි ජාත්‍යන්තර සමාජවාදී සාකච්ඡා සභාවට සූදානම්වන ලෙස ඒවාට උපදෙස් දුන්නේය.

54 61 වැනි සටහන බලන්න.

55 ''රබෝචය මිස්ල්'' 1897 ඔක්තෝබර් සිට 1920 දෙසැම්බර දක්වා පළ වූ ''ආර්ථික විදවිඥයන්ගේ'' ප්‍රධාන පත්‍රයයි. ''රබෝචයා මිසල්'' අදහස් ජාත්‍යන්තර අවස්ථාවාදයේ රුසියානු විවිධත්වයක් ලෙස ලෙනින්

''කළ යුත්තේ කුමක්ද'' පොතෙන් (මෙම වෙළුම් එකතුවේ පළමුවැනි වෙළුම බලන්න) විවේචනය කළේය.

56 මෙහි දී ලෙනින් සඳහන් කරන්නේ 1880 දී සම්මත කළ ප්‍රංශ කම්කරු පක්ෂයේ වැඩ පිළිවෙළත්, 1875 ගෝතා හිදී සහ 1891 එර්පුට් හිදී සම්මත කළ ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ වැඩ පිළිවෙළත් ගැනය.

57 ජර්මන් බසින් ලියන ලද මෙම ලිපිය (''නිරායුධ-කරණය ගැන'' යයි ලෙනින් ලිපියක සඳහන් කරයි) ස්විට්සර්ලන්ත, ස්වීඩන හා නෝර්වීජියානු වාම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පත්‍රවල පළ කිරීමට අදහස් කරන ලදී. එසේ වුවද, එය එම වකවානුවේදී පළ නොකෙරුනි. ඊට මඳ කලකට පසු, එය රුසියානු බසින් පළ කිරීම සඳහා ලෙනින් එය යළිත් සංස්කරණය කළේය.

මුල් ජර්මන් ලිපිය සමාජවාදී තරුණ සංවිධානවල ජාත්‍යන්තර ලීගයේ නිල ප්‍රකාශනය වන "Jugend-Internationale" යන ප්‍රකාශනයෙහි අංක 9 සහ 10 කලාපවල 1917 සැප්තැම්බර් හා ඔක්තෝබර් මාස වල පළ විය. එහි සිරස්තලය වූයේ "Das Militärprogramm der proletarischen Revolution" යනුයි.

58 "Jugend-Internationale" (තරුණ ජාත්‍යන්තරය) — ට්සිමර්වෝල්ඩ් වාමාංශය සමග සම්බන්ධව පැවති, සමාජවාදී තරුණ සංවිධානවල ජාත්‍යන්තර ලීගයේ නිල ප්‍රකාශනය. එය 1915 සැප්තැම්බර් සිට 1918 මැයි දක්වා සූරිච්හි පළ කරන ලදී.

59 මෙම සටහන, යුද්ධය පිළිබඳ ප්‍රශ්නය ගැන "Grütlianer" අංක 162 සහ 164 හි 1916 ජූලි 14 සහ 17 පළ කෙරුණු, රොබට් ග්‍රිම්ගේ යුද්ධය පිළිබඳ ප්‍රවාදය ගැනය.

60 "Neues Leben" (නව ජීවිතය) — ස්විට්සර්ලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ මාසික සඟරාවකි. එය 1915 ජනවාරි සිට 1917 දෙසැම්බර් දක්වා බර්න්හිදී පළ කරන ලදී. ට්සිමර්වෝල්ඩ් දක්ෂිණාංශයෙහි අදහස් පළ කළ එය 1917 මුල් කාලයේදී සමාජ-ජාතෛයෝන්මාදවාදී ප්‍රතිෂ්ඨාවක් ගත්තේය.

61 ලෙනින් සඳහන් කරන්නේ ට්සිමර්වෝල්ඩ් හි සහ කින්තාල්හි පැවැත්වුනු ජාත්‍යන්තර සමාජවාදී සාකච්ඡා සභා ගැනය.



ප්‍රථම ට්සිමර්වෝල්ඩ් සාකච්ඡා සභාව 1915 සැප්තැම්බර් 5—8 දක්වා පැවැත්වුනු අතර යුරෝපීය රටවල් එකොළහකින් නියෝජිතයන් 38 දෙනෙක් ඊට සහභාගි වූහ. රු. ස. ප්‍ර. ක. ප. මධ්‍යම කාරක සභාවේ නියෝජිත මණ්ඩලයේ නායකත්වය දැරුවේ ලෙනින් ය. මෙම සම්මේලනය ''යුරෝපීය නිර්ධන පංතිය වෙත'' යන ප්‍රකාශනය සම්මත කළේය. ලෙනින්ගේ හා වාම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ බල කිරීම අනුව විප්ලවවාදී මාක්ස්වාදයේ මූලික ප්‍රස්තුතයන් කීපයක් ඇතුලත් කරන ලදී. එය ජර්මන් හා ප්‍රංශ නියෝජිත මණ්ඩලවල ඒකාබද්ධ ප්‍රකාශනයක්, එනම් යුද්ධයෙන් විනාශයට පත් වූවන්ට හා ස්වකීය දේශපාලන කටයුතු නිසා තාඩන පීඩනවලට භාජනය කරන ලද අයට සහයෝගය ප්‍රකාශ කිරීමේ පණිවුඩයක් ද සම්මත කළ අතර ජාත්‍යන්තර සමාජවාදී කාරක සභාව ද තෝරා පත් කළේය.

මෙම සාකච්ඡා සභාවේ දී, ට්සිමර්වෝල්ඩ් වාමාංශික කණ්ඩායම පිහිටුවන ලදී. එයට ලෙනින්ගේ නායකත්වයෙන් යුත් රු. ස. ප්‍ර. ක. ප. මධ්‍යම කාරක සභාවේ නියෝජිතයන් ද, පෝලන්ත හා ලිතුවේනියා රාජධානියේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ ප්‍රාදේශීය සංවිධායනයේත්, ලත්වියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ මධ්‍යම කාරක සභාවේත්, ස්වීඩන වාමාංශයේත් (එස්. හියොග්ලුන්ද්), නෝර්වීජියානු වාමාංශයේත් (ටී. නෝර්මන්), ස්විට්සර්ලන්ත වාමාංශයේත් (එෆ්. ප්ලටෙන්) සහ ''ජර්මනියේ ජාත්‍යන්තර සමාජවාදීන්'' ගේ කණ්ඩායමේත් (යූ. බොර්හර්ද්ත්) නියෝජිතයන්ද එයට ඇතුලත් විය. ට්සිමර්වෝල්ඩ් වාමාංශය සම්මේලනයේ මධ්‍යස්ථ බහුතරයට විරුද්ධව ක්‍රියාශීලී අරගලයක් ගෙන ගියේය. නමුත් වාමාංශිකයින් අතුරෙන් සම්පූර්ණයෙන් සසංගත ප්‍රතිපත්තියක් සඳහා කටයුතු කළේ බොල්ෂෙවික්වරු පමණකි.

කින්තාලියන් නොහොත් දෙවැනි ජාත්‍යන්තර සාකච්ඡා සභාව 1916 අප්‍රියෙල් 24 සිට 30 දක්වා ස්විට්සර්ලන්තයේ කින්තාල් නැමති ගමෙහි පැවැත්විනි. එයට රටවල් 10 කින් සමාජවාදීහු 43 දෙනෙක් සහභාගි වූහ. ලෙනින් හා තවත් නියෝජිතයන් දෙදෙනෙක් එහිදී රු. ස. ප්‍ර. ක. ප. නියෝජනය කළහ.

මෙම සාකච්ඡා සභාව පහත සඳහන් ප්‍රශ්න සාකච්ඡා කළේය. 1) යුද්ධය කෙළවර කිරීමට අරගලය; 2) සාම ප්‍රශ්නය සම්බන්ධයෙන් නිර්ධන පංතියේ ආකල්පය; 3) උද්ඝෝෂණය හා ප්‍රචාරය; 4) පාර්ලිමේන්තු කටයුතු; 5) පොදු ජන අරගලය; 6) ජාත්‍යන්තර සමාජවාදී බියුරෝ සභාව කැඳවීම.

ලෙනින්ගේ නායකත්වයෙන් යුත් ට්සිමර්වෝල්ඩ් වාමාංශය, කලින් පැවති ට්සිමර්වෝල්ඩ් සාකච්ඡා සභාවේදී තත්වයට වඩා

කින්තාල් හිදී බොහෝ ශක්තිමත් විය. කින්තාල් හිදී එයට නියෝජිතයන් 12 දෙනෙක් එක්සත් වූ අතර, එහි යෝජනා සමහරකට ඡන්ද 20 ක් තරම්, නැතහොත් මුළු ඡන්ද සංඛ්‍යාවෙන් අඩක් පමණ ලැබිණ. ලෝක කම්කරු ව්‍යාපාරය තුළ, ජාත්‍යන්තරවාදයට වාසිවන සේ බලවේග පෙළ ගැස්ම වෙනස්වූයේ කෙසේද යන්න මෙයින් පෙනී ගියේ ය.

මෙම සාකච්ඡා සභාව ''විනාශයට හා මරණයට කැපවන ජනතාවන්ට'' යන ප්‍රකාශනයක්ද සාමාදනවාදය හා ජාත්‍යන්තර සමාජවාදී බියුරෝව විවේචනය කිරීමේ යෝජනාවක්ද සම්මත කළේය. මෙම සාකච්ඡා සභාවේ තීරණත් අධිරාජ්‍යවාදී යුද්ධයට විරුද්ධව ජාත්‍යන්තර බලවේගයන් එක්සත් කිරීමේ තවත් පියවරක් ලෙසට ලෙනින් සැලකුවේය.

මාක්ස්-ලෙනින්වාදයේ ප්‍රතිපත්ති මත බටහිර යුරෝපීය සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරවල වාම කොටස් එක්සත් කිරීමට ට්සිමර්වෝල්ඩ් සහ කින්තාල් සාකච්ඡා සභා ආධාර කාරී විය. අනතුරුව මෙම වාම කොටස් තමන්ගේ රටවල කොමියුනිස්ට් පක්ෂ පිහිටුවීමටත්, තුන්වැනි කොමියුනිස්ට් ජාත්‍යන්තරය පිහිටුවීටත් ක්‍රියාශීලී ලෙස කටයුතු කළහ.



[62] සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ශ්‍රම කණ්ඩායම ("Arbeitsgemeinschaft" — ''ශ්‍රම සංගමය'') රියිහ්ස්ටාග් පාර්ලිමේන්තුවේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කණ්ඩායම සමග භේද වී වෙන් වූ රියිහ්ස්ටාග් සභා සාමාජිකයින් විසින් 1916 මාර්තුවේදී ආරම්භ කරන ලද ජර්මන් මධ්‍යස්ථවාදීන්ගේ සංවිධානයකි. බර්ලින් සංවිධානවලින් බහුතරයක සහයෝගය එම සංවිධානයට ලැබුණේය. එය 1917 අප්‍රියෙල් මස පිහිටුවන ලද ස්වාධීන සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ කොඳුනාරටිය විය. නව පක්ෂය ප්‍රසිද්ධ සමාජ-ජාතෝයන්මාදවාදීන් නිවැරදියයි පෙන්වීමට උත්සාහ කළ අතර ඔවුන් සමග සමගිය ආරක්ෂා කිරීමට කටයුතු කළේය.

[63] බ්‍රිතාන්‍යයේ නිදහස් කම්කරු පක්ෂය (Independent Labour Party) වැඩ වර්ජන අරගල ඉස්මතු වීමේ හා බ්‍රිතාන්‍යයේ ධනපති පක්ෂවලින් කම්කරු පංතිය නිදහස ලබාගැනීම සඳහා කළ ව්‍යාපාරය ශක්තිමත්වීමේ තත්වයන් යටතේ 1893 දී ආරම්භ කරන ලද ප්‍රතිසංස්කරණවාදී සංවිධානයකි. සියලුම නිෂ්පාදන මාධ්‍යයන්ද බෙදාහැරීමේ හා හුවමාරු මාධ්‍යන්ද සාමූහික ලෙස අත් කර ගැනීමත් පැය අටක වැඩ දිනයක් ලබා ගැනීමත්, අඩු වයස් කරුවන්ට වැඩ කිරීම තහනම් කිරීමත් සමාජ සංරක්ෂණය හා රැකියා විරහිත පුද්ගලයින්ට ආධාර මුදල් ලබා දීමත් එම පක්ෂය තම වැඩ පිළිවෙළ ලෙස ඉදිරිපත් කළේය.

නිදහස් කම්කරු පක්ෂයේ ස්වභාවය නිරූපනය කරමින් ලෙනින් මෙසේ ලීවේය. ''ඇත්ත වශයෙන්ම එය නිතරම ධනපති අවස්ථාවාදී පක්ෂවල බලය යටතේ පැවතියේය. එය ''සමාජවාදයෙන්'' පමණක් නිදහස් ය. ''ලිබරල්වාදයට ඉතාමත් ගැතිය'' (සම්පූර්ණ කෘති, පස්වැනි මුද්‍රණය, වෙළුම, 39 පිටුව 90).

[64] යුද්ධ කර්මාන්ත කාරක සභා — යුද්ධය කරගෙන යාමට සාර් ආණ්ඩුවට ආධාර කිරීම පිණිස අධිරාජ්‍යවාදී ධනපති පංතිය විසින් මෙම කාරක සභා 1915 මැයි මස රුසියාවේ පිහිටුවන ලදී. මධ්‍යම යුද්ධ කර්මාන්ත කාරක සභාවේ නායකත්වය දැරුවේ රුසියාවේ ලොකුම ධනපතියන්ගෙන් කෙනෙකු වූ ගුච්කොව් විසිනි. ඔහු ඔක්තොබර්වාදීන්ගේ නායකයා ද විය. කම්කරුවන් ස්වකීය බලපෑම යටතට ගෙන ඒම සහ ජාතෝයන්මාදවාදී අදහස් පැතිරවීම සඳහා, මෙම කාරක සභා තුළ ''කම්කරු කණ්ඩායම්'' පිහිටුවීමට ධනපති පංතිය තීරණය කළේ, එමගින්, රුසියාවේ ධනපති පංතිය හා නිර්ධන පංතිය අතර ''පංති සාමය'' ඇතැයි යන අදහස ඇති කරවීම පිණිස ය.

යුද්ධ කර්මාන්ත කාරක සභා වර්ජනය කළ බොල්ෂෙවික්වරු එම වර්ජන බහුතරය කම්කරුවන්ගේ ආධාරය ඇතිව දිගටම කරගෙන ගියහ.

බොල්ෂෙවික්වරුන් විසින් ගෙනයන ලද වැඩ කටයුතුවල ප්‍රතිඵලයක් වශයෙන් ප්‍රාදේශීය හා දිස්ත්‍රික්ක යුද්ධ කර්මාන්ත කාරක සභා 239 කින් ''කම්කරු කණ්ඩායම්'' සඳහා ඡන්ද පැවැත්වූයේ කාරක සභා 70 ක පමණකි. ඉන් කම්කරු නියෝජිතයින් තෝරා පත් වූයේ කාරක සභා 36 ක පමණකි.

[65] බාස්ල් ප්‍රකාශනය — යුද්ධය පිළිබඳ ප්‍රශ්නය ගැන වූ මෙම ප්‍රකාශනය 1912 නොවැම්බර් 24—25 දිනවල බාස්ල්හි පැවැත් වුනු අති විශේෂ ජාත්‍යන්තර සමාජවාදී සම්මේලනයේදී සම්මත විය (අංක 7 දරන සටහන බලන්න).

[66] "La Sentinelle" (''මුරකරු'') ප්‍රවෘත්ති පත්‍රයකි. එය (ස්විට්සර්ලන්තයේ) නිව්ෂැතල් කැන්ටන ප්‍රදේශයේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී සංවිධානයේ නිල පත්‍රය වූ අතර ෂො-දෙ-ෆෝන් හි 1890 සිට 1906 දක්වා පළ විය. නැවත 1910 දී පළ කිරීම ආරම්භ විය. ප්‍රථම ලෝක යුද්ධය කාලයේ දී එය ජාත්‍යන්තරවාදී ප්‍රතිපත්තියක් අනුගමනය කළේය.

67 "Volksrecht" ("ජනතා අයිතිය")—දිනපතා ප්‍රවෘත්ති පත්‍රයකි.ස්විට්සර්ලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ නිල පුවත් පත වූ එය 1898 දී සූරිච්හිදී ආරම්භ කෙරිනි. ප්‍රථම ලෝක යුද්ධය කාලයේ දී එය වාම ටිසිමර්වෝල්ඩ්වාදීන්ගේ ලිපි පළ කළේය.

68 "Berner Tagnacht" ("බර්න් මුරකරු") — 1893 දී බර්න්හි ආරම්භ කරන ලද සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රවෘත්ති පත්‍රයකි. ප්‍රථම ලෝක යුද්ධයේ මුල් කාලයේ දී එය කාල් ලියෙබ්නෙහ්ට්, ෆ්‍රාන්ස් මේරිං හා වෙනත් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ ලිපි පළ කළේය. 1917 දී එය විවෘත ලෙසම සමාජ-ජාත්‍යෝන්මාදවාදීන්ට ආධාර කළේය.

69 අරාවු සම්මේලනය — ස්විට්සර්ලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ "අරාවු සම්මේලනය" 1915 නොවැම්බර් 20—21 දිනවල රැස්විය. එහි ප්‍රධාන ප්‍රශ්නය වූයේ ටිසිමර්වෝල්ඩ් ජාත්‍යන්තර කණ්ඩායම කෙරෙහි පක්ෂය දක්වන ආකල්පය ය. අරගලය ඇතිවූයේ පහත සඳහන් උපනති තුන අතරය. 1) ටිසිමර්වෝල්ඩ්වාද-විරෝධීන්, 2) ටිසිමර්වෝල්ඩ් දක්ෂිණාංශයේ ආධාරකරුවන් හා 3) ටිසිමර්වෝල්ඩ් වාමාංශයේ ආධාර කරුවන්.

ටිසිමර්වෝල්ඩ් කණ්ඩායමත් සමග ඒකාබද්ධ විය යුතු බවත්, ටිසිමර්වෝල්ඩ් දක්ෂිණාංශයේ දේශපාලන වැඩ පිළිවෙළ අනුමත කළ යුතු බවත් කියන යෝජනාවක් රොබට් ග්‍රිම් විසින් සභාගත කරන ලදී.වාම බලවේග ලොසාන් ශාඛාවෙන් ඉදිරිපත් කෙරුන යෝජනාවක් මගින්, යුද්ධයට විරුද්ධව පොදුජන විප්ලවීය අරගලයක් සඳහා හඬ නැඟූ අතර, අධිරාජ්‍යවාදී යුද්ධය කෙළවර කළ හැක්කේ ජයග්‍රාහී නිර්ධන පංති විප්ලවයෙන් පමණක් වන බව ප්‍රකාශ කළහ. ග්‍රිම්ගේ බලපෑම යටතේ සංශෝධනය ඉල්ලා අස්කරගන්නා ලද නමුත්, ශාඛාවකින් පවරන ලද බලය අනුව ඡන්ද බලය හිමිව සිටි බොල්ෂෙවික්වාදියෙකු වූ එම්. එම්. හරිතෝනව් එය නැවත යෝජනා කළේය. උපක්‍රමීය කරුණු සැලකිල්ලටගත් ග්‍රිම්ට හා ඔහුගේ ආධාරකරුවන්ට සංශෝධනය අනුමත කිරීමට සිදු වූ අතර එයට ඡන්ද 258 ක් පක්ෂව හා 141 ක් විරුද්ධව ලැබීමෙන් සම්මත විය.

## නාමාවලිය

අගාද් (Agahd) ඊ. — ජර්මන් සුළු ධනපති ආර්ථික විද්‍යාඥයෙකි රුසියානු-චීන බැංකුවේ නිලධාරියෙකි — පිටු 79, 81, 146

අගිනල්ඩො [අග්විනල්දො (Aquinaldo)] එමිල් (උපත 1869) — පිලිපයින් දේශපාලඥයෙකි. ඉඩම් හිමියන්ගේ සහ ධනපතීන්ගේ අවශ්‍යතාවයන් නියෝජනය කළ ඔහු 1896 දී ස්පාඤ්ඤ ආධිපත්‍යයට විරුද්ධව පිලිපයින් ජනතාව කළ කැරැලි සටන්වලට එකතු විය. කැරැල්ලේ නායක ඒ. බොනිෆාචියෝ මරා දැමීම ඔහු විසින් සංවිධාන කරන ලද පසු 1897 දී ව්‍යාපාරයේ නායකයා බවට පත් විය. 1899 දී එම අවුරුද්දේම ගොඩනගන ලද පිලිපයින් ජන රජයේ ජනාධිපති ධුරයට ඔහු පත් විය. පිලිපීනයේ ස්පාඤ්ඤයට තිබූ ස්ථානය ඇමෙරිකා එක්සත් ජනපදය ගත් පසු අගිනල්ඩො, පිලිපයින් ජනතාව ඇමෙරිකානු ආක්‍රමණිකයින්ට විරුද්ධව කළ සටනට නායකත්වය දුන්නේය. — පිටුව 145

අක්සෙල්රොද්, පාවෙල් බරිසවිච් (1850-1928) — මෙන්ෂෙවික්වාදයේ එක් නායකයෙකි. 1883 දී "ශ්‍රම විමුක්තිය" කණ්ඩායම සංවිධානය කිරීමට සහභාගි විය. 1900 සිට "ඉස්ක්‍රා" කර්තෘ මණ්ඩලයේ කටයුතු කළේය. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සම්මේලනයෙන් (1903) පසු ප්‍රධාන පෙලේ මෙන්ෂෙවික්වාදියෙකි. ප්‍රතිගාමිත්වය කාලයේ (1907—1910) හා නව විප්ලවවාදී උන්නතිය කාලයේ ලික්විඩේටර් නායකයෙක් බවට පත් විය. පළමුවැනි ලොක යුද්ධය කාලයේදී (1914—1918) මධ්‍යස්ථවාදියෙකු විය. — පිටුව 143

අරිස්ටෝෆාන් (ක්‍රි. පූ. 446—385 පමණ කාලය) — පුරාණ ග්‍රීක නාට්‍ය රචකයෙකි. ඔහු දේශපාලන නාඩගම් රචනා කළේය. — පිටුව 94

හත්වැනි එඩ්වඩ් (1841—1910) — බ්‍රිතාන්‍ය අධිරාජයා (1901—1910). — පිටුව 87

එසොප් — පුරාවෘතයන් ලෙස කථා ලියූ ග්‍රීක පුරාණ උපමා කථා ප්‍රබන්ධකයෙකි. (ක්‍රි. පූ. 6 වැනි ශත වර්ශය) — පිටුව 28

එංගල්ස් (Engels), ෆ්‍රෙඩරික් (1820—1895) — පිටු 18, 141, 142, 177

එෂ්වෙගෙ (Eschwege), ලුද්විග් — ජර්මන් සුළු ධනපති ආර්ථික විද්‍යාඥයෙකි. ජර්මන් ආර්ථික සඟරාවක් වූ "Die Bank" (''බැංකුව'') සඳහා වැඩ කළේය. මූල්‍ය ප්‍රාග්ධනය පිළිබඳ ඔහුගේ ලිපි ගණනාවක්ම එහි පළ විය. — පිටු 52, 85, 87, 146

ඕවන්ස් (Owens), මිහයිල් ජෝසෆ් (1859—1920) — බෝතල් නිෂ්පාදනය සඳහා යන්ත්‍රයක් නිර්මාණය කළ මොහු පසුව බෝතල් නිෂ්පාදන කර්මාන්ත කරුවෙක් බවට පත්විය. — පිටුව 133

කැල්වර් (Calwer), රිහර්ද් (1868—1927) — ප්‍රසිද්ධ ජර්මන් ආර්ථික විද්‍යාඥයෙකි. ඔහු ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ ප්‍රතිසංස්කරණවාදය හා සංශෝධනවාදය නියෝජනය කළේය. 1909 දී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයෙන් අස්විය. 1908—1913 අවුරුදු වලදී ජර්මානු වෘත්තීය සමිගම් වල ප්‍රධාන කොමිසමේ ආර්ථික පරීක්ෂණ කටයුතුවල හා ලේඛන කටයුතුවල යෙදුනේය. — පිටුව 128

කර්නේජි (Carneqie), ඇන්ඩෘ (1835—1919) — 1848 දී ස්කොට්ලන්තයෙන් ඇමෙරිකාවට සංක්‍රමණය වූ කෝටි පතියෙකි. ඇමෙරිකානු සිවිල් යුද්ධය කාලයේදී සමපේක්ෂණය මාර්ගයෙන් විශාල ධනයක් රැස්කරගත් ඔහු 1873 දී වානේ කර්මාන්තය සඳහා ධනය ආයෝජනය කළේය. පසුව 1889 දී කර්නේජි වානේ සංස්ථාව ආරම්භ කළේය. — පිටුව 139

කෞට්ස්කි (Kaytsky), කාල් (1854—1938) — ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයේ සහ දෙවැනි ජාත්‍යන්තරයේ නායකයෙකි. ඔහු මුලදී මාක්ස්වාදියෙකු වුවද, පසුව මාක්ස්වාදය පාවාදෙන්නෙකු විය. අවස්ථාවාදයේ ඉතාම භයානක සහ හානිදයක ආකාරය වන මධ්‍යස්ථවාදයේ (කෞට්ස්කිවාදයේ) න්‍යායාචාර්ය වරයාය. ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයේ න්‍යායාත්මක සඟරාව වන "Die Neue Zeit" (නවීන කාලය) සඟරාවේ කර්තෘ වරයාය. — පිටු 27, 29, 33, 46, 50, 51, 105, 122—125, 129, 142,145—149, 152—158, 162, 177, 178, 183

කුත්ලෙර්, නිකලායි නිකලායෙවිච් (1859—1924) — කැඩෙට් පක්ෂයේ ප්‍රධාන පෙළේ නායකයෙකි, මුදල් අමාත්‍යාංශයේ නිලධාරියෙකි, දෙවැනි හා තුන්වැනි රාජ්‍ය දූමා සභාවේ නියෝජිතයෙකි, කැඩෙට්වරුන්ගේ කෘෂිකාර්මික වැඩ පිළිවෙළවල් කෙටුම්පතේ එක් කර්තෘවරයෙකි. — පිටුව 17

කුනොව් (Cunow), හෙන්රිහ් (1862—1936) — දක්ෂිණාංශික අදහස් දරූ ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි, ඉතිහාසඥයෙකි. සමාජ විද්‍යාඥයෙක් හා මානව විද්‍යාඥයෙකි. — පිටුව 125

කෙස්ත්නර් (Kestner), ෆ්‍රිත්ස් — ජර්මන් ආර්ථික විද්‍යාඥයෙකි. — පිටු 46, 50, 51

කොල්චාක්, අලෙක්සාන්දර් වසීල්යෙවිච් (1873—1920) — සාර්ගේ නාවික හමුදවේ ඇඩ්මිරල් වරයාය. රාජාණ්ඩු වාදියෙකි. 1918—1919 අවුරුදුවලදී රුසියානු ප්‍රතිවිප්ලවයේ නායකයෙකි. එන්ටෙන්ට් සංවිධානයේ ආධාර කරුවෙකි. — පිටුව 34

ක්‍රපොත්කින්, පියෝතර් අලෙක්සේයවිච් (1842—1921) — ආරාජිකවාදයේ ප්‍රධාන පෙළේ නායකයෙක් හා න්‍යායාචාර්ය වරයෙකි. විදේශගත වූ ඔහු 1872 දී බකුනින් කණ්ඩායමට එකතු විය. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී (1914-1918) ජාත්‍යෝන්මාදවාදියෙකි. 1917 දී ආපසු රුසියාවට පැමිණි ඔහු,ධනපති අදහස් දරුවද, 1920 දී යුරෝපීය කම්කරුවන් වෙත ආයචනයක් කරමින් ඔක්තෝබර් සමාජවාදී විප්ලවයේ ඓතිහාසික වැදගත්කම පිළිගත්තේය. සෝවියට් රුසියාවට එදිරිව ආක්‍රමණය කළ විදේශීය රජයන්ට අවහිර කරන ලෙස හෙතෙම එම රටවල කම්කරුවන්ගෙන් ඉල්ලා සිටියේය. — පිටුව 16

ක්‍රෙස්තොව්නිකොව්, ග්‍රිගෝරි අලෙක්සාන්ද්‍රවිච් (උපත 1855) — මහා පරිමාන කර්මාන්ත කරුවෙක් සහ වෙළඳ ව්‍යාපාරිකයෙකි. රාජාණ්ඩුවාදී ධනපති පංතියේ,එනම්, ඔක්තෝබර්වරුන්ගේ එක් නායකයෙකි.— පිටුව 17

කෲප් (Krupp) — ජර්මනියේ යුද්ධායුද-වානේ කර්මාන්ත ව්‍යාපාරයේ නායකත්වය උසුලන කර්මාන්ත හිමි පවුලකි. ජර්මන් අධිරාජ්‍යවාදයට ප්‍රධාන වශයෙන් අවි ආයුධ සපයන්නේ ඔවුන් විසිනි. — පිටු 68, 95, 151, 152

ගලිෆෙප (Galliffet), ගස්තොන් (1830—1909) — ප්‍රංශ ජෙනරල් වරයෙකි, 1871 දී පැරිස් කොමියූනය විනාශ කළ වදකයා ය. — පිටුව 178

ග්වින්නෙර් (Gwinner). අර්තූර් (1856—1931) — මහා මූල්‍ය රජෙකි. ''ජර්මන් බැංකුවේ අධ්‍යක්ෂක වරයාය. — පිටුව 101

ගිෆෙපන් (ජිෆෙපන්) (Giffen), (1837—1910) — ඉංග්‍රීසි ආර්ථික විද්‍යාඥයෙක් හා සංඛ්‍යා විද්‍යාඥයෙකි. ඔහු ආර්ථික විද්‍යාව, මූල්‍ය කටයුතු හා සංඛ්‍යා ලේඛනය පිළිබඳ ලිපි ගණනාවක්ම ලීවේය. — පිටුව 134

ගුච්කොව්, අලෙක්සාන්ද්‍ර් ඉවානවිච් (1862—1936) — මහා ධනපතියෙකි. ඔක්තෝබර්වාදීන්ගේ පක්ෂයේ සංවිධායකයා හා නායකයාය. පළමුවැනි රුසියානු විප්ලවය අවධියේදී (1905—1907) කම්කරු පංතිය හා ගොවිජනතාව සම්බන්ධයෙන් රජය ගෙන ගිය මාග ලෙස ජනතාව මර්ධනය කිරීමේ පිළිවෙතට සහයෝගය දුන්නේය. 1910—1911 කාලයේදී තුන්වැනි රාජ්‍ය දූමා සභාවේ සභාපති ලෙස කටයුතු කළේය. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී මධ්‍යම යුද්ධ-කර්මාන්ත කොමිටියේ සභාපති ධුරය සහ ආරක්ෂක කටයුතු පිළිබඳ විශේෂ කොමිටියේ සාමාජික ධුරයද ඉසිලීය. — පිටුව 17

ගොම්පෙර්ස් (Gompers), සැමුවෙල් (1850—1924) — ඇමෙරිකානු වෘත්තීය සමිති ව්‍යාපාරයේ නායකයෙකි. ඇමෙරිකානු කම්කරු සංගමයේ එක් ප්‍රාරම්භකයෙකි. 1895 සිට එහි සභාපති ධුරය ඉසුලුවේය. ධනපතීන් සමග පංති සහයෝගීතාවය පැවැත්වීමේ ප්‍රතිපත්තියක් ගෙන ගිය ඔහු කම්කරු පංතියේ විප්ලවවාදී අරගල වලට විරුද්ධ විය. පළමුවැනි ලෝක යුද්ධය සමයේදී සමාජ-ජාත්‍යෝන්මාදවාදියෙකු විය. — පිටුව 33

ගොර්තෙර් (Górter), හර්මන් (1864-1927) — ලංදේසි වාම සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි. පද්‍ය රචකයෙක් හා ප්‍රකාශකයෙකි. 1897 දී සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට එකතු විය. ඕලන්ද සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කම්කරු පක්ෂයේ වාමාංශික පිළේ ප්‍රධාන පුවත්පත වූ "De Tribune" (''වේදිකාව'') පත්‍රය ආරම්භ කිරීමට 1907 දී සහභාගි විය. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී (1914—1918) — ජාත්‍යන්තරවාදියෙකි. එසිමර්වෝල්ඩ් වාමාංශයේ ආධාර කරුවෙකි. — පිටුව 174



ග්‍රිම් (Grimm), රොබට් (1881—1958) — ස්විට්සර්ලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ එක් නායකයෙකි. 1909—1918 අවුරුදුවලදී "Berner Tagwacht" (''බර්න් මුරකරුවා'') පත්‍රයේ ප්‍රධාන කතුකම හා ස්විට්සර්ලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ ලේකම් ධුරයද ඉසිලුවේය. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී (1914—1918) මධ්‍යස්ථවාදියෙකු විය. එසිමෙර්වෝල්ඩ් හා කින්තාලියන් සාකච්ඡා සභාවල සභාපති වරයාය. ජාත්‍යන්තර සමාජවාදී කොමිසමේද සභාපති වරයා ය. — පිටුව 175

චහේයිද්සෙ, නිකොලායි සෙමියොනවිච් (1864—1926) — බොල්ෂෙවික් නායකයෙකි. තුන්වැනි හා හතරවැනි රාජ්‍ය දූමා සභාවල නියෝජිතයෙකු වූ මොහු හතරවැනි දූමා සභාවේ මෙන්ෂෙවික් කණ්ඩායම මෙහෙයවූයේය. පළමුවැනි ලෝක යුද්ධය අවධියේදී (1914—1918) මධ්‍යස්ථ ස්වභාවයක් ඉසිලූ නමුත් ක්‍රියාවලියේදී රුසියානු සමාජ-ජාත්‍යෝන්මාදවාදීන්ට සහයෝගය දක්වූවේය. — පිටු 143, 183

චහෙයින්කෙලි, අකාකි ඉවානවිච් (උපත 1874) — සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි, මෙන්ෂෙවික්වාදියෙකි, වෘත්තියෙන් නීතිඥයෙකි. ප්‍රතිගාමිත්වය කාලයේදී (1907 —1910) හා නව විප්ලවවාදී උන්නතිය කාලයේදී ලික්විඩේටර් වරයෙකි. හතරවැනි රාජ්‍ය දූමා සභාවේ නියෝජිතයෙකුව සිටියේය. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී (1914—1918) මධ්‍යස්ථවාදය අනුගමනය කළේය. — පිටුව 143

චිර්ෂ්කි (Tschierschky), සිග්ෆ්‍රිද් (උපත 1872) — ජර්මන් ආර්ථික විද්‍යාඥයෙකි. සංගත හා සම්මේලවල සේවය කළේය. — පිටු 47, 62

චෙම්බර්ලෙන් (Chamberlain), ජෝසෆ් (1836—1914) — බ්‍රිතාන්‍ය රාජ්‍ය නායකයෙකි. යටත් විජිත අල්ලා ගැනීමේ ප්‍රතිපත්තිය ගෙන ගියේය. 1899—1902 ඇතිවූ ඇන්ග්ලෝ-බූවර් යුද්ධයේ ප්‍රධාන සංවිධායකයෙකි. — පිටුව 110

චෙර්නිෂෙව්ස්කි, නිකොලායි ගව්රීලවිච් (1828—1889) — රුසියානු විප්ලවවාදී ප්‍රජාතන්ත්‍රවාදියෙකි, සමාජවාදී-මනෝරාජ්‍යවාදියෙකි, ලේඛක-

යෙක් හා සාහිත්‍ය විචාරකයෙකි, ද්‍රව්‍යවාදී දර්ශනවාදියෙකි. 1860 ගණන්වල රුසියානු ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයේ නායකයාය.

1862 දී සාර් රජය විසින් ඔහුට හත් අවුරුද්දක බරපතල වැඩ ඇතිව සිර දඬුවමක් නියම කර ජීවිතාන්තය දක්වා සයිබීරියාවට පිටුවාහල් කරන ලදී. එහෙත් 1882 දී ඔහු සයිබීරියාවෙන් ආපසු පැමිණියේය. — පිටුව 17

ඩිස්රායෙලි (Disraeli), බෙන්ජමින්, බිකන්ස්පීල්ඩ් ආදිපාදවරයා (1804—1881) — බ්‍රිතාන්‍ය රාජ්‍ය නායකයෙකි. කොන්සර්වේටිව් පක්ෂයේ නායකයාය. බිහිවෙමින් තිබූ අධිරාජ්‍යවාදී ධනේෂ්වරවාදයේ එක් දෘෂ්ටිවාදියෙකි. කීප වතාවක්ම රජයට ඇතුළුවූ ඔහු අගමැති ධුරයද ඉසිලුවේය. — පිටුව 109

ඩෙනිකින්, අන්තෝන් ඉවානවිච් (1872—1974) — යාර්වාදී ජෙනරාල්වරයෙකි. සිවිල් යුද්ධය කාලයේදී සුදු හමුදව මෙහෙයවූ එක් වදකයෙකි. ජෙනරල් කර්නිලව්ගේ මරනින් පසු දකුණු රුසියාවේ සෝවියට් විරෝධී හමුද මෙහෙයවූයේය. සෝවියට් හමුද විසින් ඔහුගේ හමුද විනාශ කර දැමීමෙන් පසු විදේශගත විය — පිටුව 34

තෝමස් (Thomas), ඇල්බට් (1878—1932) — ප්‍රංශ දේශපාලඥයෙකි, සමාජ-ප්‍රතිසංස්කරනවාදියෙකි. 1910 සිට සමාජවාදී පක්ෂයේ පාර්ලිමේන්තු කණ්ඩායමේ නායකයාය. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදි සමාජ-ජාත්‍යෝන්මාදවාදී ආකල්පයක් ඉසිලුවේය.හමුද කටයුතු පිළිබඳ ඇමතිවරයා ලෙස ප්‍රංශයේ ධනපති රජයට ඇතුළු විය. — පිටු 33, 183

ත්‍රෙවැස් (Treves), ක්ලාව්දියෝ (1868—1933) — ඉතාලියානු සමාජවාදී පක්ෂයේ එක් ප්‍රතිසංස්කරනවාදී නායකයෙකි. පළමුවැනි ලෝක යුද්ධය කාලයේ (1914—1918) මධ්‍යස්ථවාදී විය. — පිටුව 183

දවිදව්, එල්. එෆ්. — පීටර්ස්බර්ග්හි ණය දෙන ආයතනයේ අධ්‍යක්ෂකවරයාය. — පිටුව 88

දවීද් (David), එදුවාර්ද් (1863—1930) — ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ දක්ෂිණාංශයේ නායකයෙකි. සංශෝධනවාදියෙකි, වෘත්තියෙන් අර්ථ ශාස්ත්‍රඥයෙකි පළමුවැනි ලෝක යුද්ධය කාලයේ (1914—1918) සමාජ-ජාත්‍යාන්මාදවාදියෙකි. — පිටුව 110



දෙෂනෙල් (Deschanel), පෝල් (1855-1922) — ප්‍රංශ රාජ්‍ය පාලකයෙක් හා ප්‍රකාශකයෙකි. 1889 සිට 1919 දක්වා නියෝජිත මන්ත්‍රණ සභාවේ සාමාජිකයෙකුව සිටි ඔහු කීප වතාවක්ම එහි සභාපති තනතුරද ඉසිලීය — පිටුව 95

දෙල්ගොරුකව්, පාවෙල් දිමිත්‍රියෙවිච් (1866—1930) — මහා ඉඩම් හිමියෙකි. ව්‍යවස්ථාදයක-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ (කැඩෙට්) එක් ප්‍රාරම්භකයෙකි. — පිටුව 17

ද්‍රියෝ (Driault), ජේ. එදුවාර්ද් — ප්‍රංශ ඉතිහාසඥයෙක්. — පිටුව 17

නෙයිමාර්ක් (Neymark), අල්ෆ්‍රෙද් — ප්‍රංශ ආර්ථික-සංඛ්‍යා විද්‍යාඥයෙකි— පිටු 89, 146

දෙවැනි නිකොලායි (ලේ තැවරුනු නිකොලායි) (1861—1918) — අවසාන රුසියානු අධිරාජයා (1894—1917) — පිටු 10, 16

නෝබල් (Nobel) — ස්වීඩන් ව්‍යාපාර හිමි පවුලකි. ඔක්තෝබර් සමාජවාදී විප්ලවයට පෙර බාකු මහා තෙල් කර්මාන්ත හිමිකරගෙන සිටියහ. — පිටුව 100

නොස්කෙ (Noske), ගුස්තාෆ් (1868—1946) — ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ එක් අවස්ථාවාදී නායකයෙකි. පළමුවැනි ලෝක යුද්ධයට (1914—1918) බොහෝ පෙර සිටම මිලිටරිවාදය ආරක්ෂා කළේය. යුද්ධය අවධියේදී සමාජ-ජාත්‍යෝන්මාදවාදියෙකි. 1918 ජර්මනියෙහි නොවැම්බර් විප්ලවය කාලයේදී කිල් හි නාවිකයින්ගේ විප්ලවවාදී ව්‍යාපාරය මර්ධනය කිරීම මෙහෙයවූයේය. 1919—1920 අවුරුදුවලදී යුධ කටයුතු පිළිබඳ ඇමතිවරයාය. බර්ලින් කම්කරුවන් මර්ධනය කිරීම සහ කේ. ලීබ්ක්නෙහ්ත් හා රෝසා ලුක්සෙම්බුර්ග් ඝාතනය සංවිධානය කළේය. — පිටුව 35

පුවන්කාරෙ (Poincaré), රයිමොං (1860—1934) — ප්‍රංශ දේශපාලනඥයෙක් හා රාජ්‍ය පාලකයෙකි. 1913 සිට 1920 දක්වා ප්‍රංශ ජනාධිපති තනතුර ඉසිලුවේය. අධිරාජ්‍යවාදී ලෝක යුද්ධයට සූදන නම් වීමේදී එයට දැඩි සහයෝගයක් දක්වූවේය. — පිටුව 10

පුරිෂ්කේවිච්, ව්ලදිමීර් මිත්‍රිපානවිච් (1870—1920) — මහා ඉඩම් හිමි-යෙකි, රාජාණ්ඩුවාදී ප්‍රතිගාමියෙකි. 1905—1907 අවුරුදුවලදී විප්ලව-වාදී ව්‍යාපාරය විනාශ කිරීමේ අරමුණ ඇතිව පිහිටුවන ලද කළු සියය ඝාතනකාරී සංවිධාන ආරම්භ කළේය. — පිටු 18, 20

පොත්රේසව් — ස්තරවේර් බලන්න.

ප්‍රෙස්මාන් (Pressemanne), අද්රිඑන් (උපත 1879) — ප්‍රංශ සමාජ-වාදියෙකි. පළමුවැනි ලෝක යුද්ධය අවධියේදී මධ්‍යස්ථවාදියෙකි. — පිටුව 183

ප්රූදෙන් (Proudhon), පියෙර් ජෝසෆ් (1871—1955) — ප්‍රංශ ප්‍රකාශක-යෙක්, අර්ථ ශාස්ත්‍රඥයෙක් හා සමාජ විද්‍යාඥයෙකි. ආරාජිකවාදයේ මූලාරම්භකයෙකි. සුළු ධනපති පංතියේ දෘෂ්ටිවාදියෙකි. කුඩා පරිමාන දේපල අයිතිය ආරක්ෂා කිරීමට උත්සාහ ගත් ප්රූදෙන් සුළු ධනපති දෘෂ්ටියක පිහිටා මහා පරිමාන දේපල අයිතිය විවේචනය කළේය. — පිටුව 24

ප්ලෙහානව්, ගියෝර්ගි වලෙන්තිනවිච් (1856—1918) — රුසියානු හා ජාත්‍යන්තර කම්කරු ව්‍යාපාරයේ සම්භාවනීය නායකයෙකි. රුසියාව තුළ මාක්ස්වාදය ප්‍රචාරය කළ පුරෝගාමියාය. ''ශ්‍රම විමුක්තිය'' නැමැති පළමුවැනි රුසියානු මාක්ස්වාදී සංවිධානය 1883 දී ජිනීවාහි ආරම්භ කළේය.

රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සම්මේලනයෙන් (1903) පසුව අවස්ථාවාදීන් සමග සමාදානවීමේ ප්‍රතිපත්තියක් අනුගමනය කළේය. අනතුරුව මෙන්ෂෙවික්වාදීන් සමග එකතු විය. පළමුවැනි රුසියානු විප්ලවය කාලයේදී (1905—1907) සැම ප්‍රධාන ප්‍රශ්නයකදීම මෙන්-ෂෙවික් මත දැරීය. ප්‍රතිගාමිත්වය පැනනැගි කාලයේදී (1907—1910) හා විප්ලවවාදී නව රැල්ළ ඇතිවූ කාලයේදී මාක්ස්වාදය මහ්වාදී ලෙස සංශෝධනය කිරීමට හා ලික්විඩේටර්වාදයට විරුද්ධව නැගී සිටියේය. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී සමාජ-ජාතෝන්මාදවාදියෙකු විය. — පිටු 13, 16, 21, 183

ෆෝල්කර් (Völker) — ජර්මන් රාජ්‍ය නිලධාරියෙකි. පසුව ජර්මන් වානේ කාර්මික සංගමයේ පාලක තනතුරට පත් විය. — පිටුව 87

ෆෝගෙල්ෂ්ටයින් (Vogelstein), තෙයොදො — ජර්මන් අර්ථ ශාස්ත්‍ර-ඥයෙකි — පිටු 45



බවර් (Bauer), ඔමෝ — ඔස්ත්‍රියානු සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ සහ දෙවැනි ජාත්‍යන්තරයේ නායකයෙකි. ඊනියා ''ඔස්ත්‍රෝමාක්ස්වාදයේ දෘෂ්ටි-වාදියා ය. ''සංස්කෘතික-ජාතික ස්වතන්ත්‍රය'' නැමැති ධනපති-ජාතික-වාදී න්‍යායයේ කර්තෘවරයාය. 1918—1919 දී ඔස්ත්‍රියානු සමූහාණ්ඩුවේ විදේශ කටයුතු භාර ඇමතිවරයාය. ඔස්ත්‍රියානු කම්කරු පංතියේ විප්ලව-වාදී නැගීසිටීම පාගාදැමීමට සහභාගි විය. — පිටුව 33

බිස්මර්ක් (Bismarck), ඔටෝ එදුවාර්ද් ලියොපොල්ද් (1815—1898) — ප්රුසියාවේ සහ ජර්මනියේ රාජ්‍ය නායකයෙක් හා රාජ්‍ය තන්ත්‍රික-යෙකි. බිස්මර්ක්ගේ ප්‍රධාන අරමුණ වූයේ ''ලෙයින් සහ යකඩෙන්'' ජර්මනියෙන් කැඩී බිඳී ගිය කුඩා රාජ්‍යයන් ඒකාබද්ධ කොට ප්රුසි-යාවේ ජුන්කර් ආධිපත්‍යය යටතේ ජර්මන් අධිරාජ්‍යය ගොඩ නැගීමය. — පිටු 20, 21

බුර්ත්සෙව්, වලදීමිර් ල්වෝවිච් (1862—1936) — 1880 ගණන්වලදී විප්ල-වවාදී ව්‍යාපාරයට සහභාගි විය, නරෝද්නයා වොලියවාදීන්ට ආසන්නව සිටියේය. පළමුවැනි රුසියානු විප්ලවයට පෙර (1905—1907) එස්එර්වරුන් සමග සිටි ඔහු විප්ලවයේ පරාජයෙන් පසු කැඩෙට්වරුන්ට සහයෝගය දුන්නේය. පළමුවැනි ලෝක යුද්ධය අවධියේදී (1914—1918) විවෘත ජාතෝන්මාදවාදියෙකි. — පිටුව 16

බුහාරින්, නිකොලායි ඉවානවිච් (1888—1938) — ප්‍රකාශකයෙක් හා අර්ථ ශාස්ත්‍රඥයෙකි. 1906 සිට පක්ෂ සාමාජිකත්වය දැරුවේය. රජය ගැන, නිර්ධන පංතියේ ආඥාදායකත්වය ගැන, ජාතීන්ගේ ස්වාධිපත්‍ය සඳහා ඇති අයිතිය ගැන හා වෙනත් ප්‍රශ්නවලදී ලෙනින්ට විරුද්ධ විය. ඔක්තෝබර් සමාජවාදී විප්ලවය ආසන්නයේදී රුසියාවෙහි සමාජ-වාදී විප්ලවය ජය ගැනීමේ ඇති නොහැකියාව පිළිබඳ මෙන්ෂෙවික් ට්‍රොට්ස්කිවාදී න්‍යායය ආරක්ෂා කරමින් එයට සහයෝගය දුන්නේය. ඔක්තෝබර් විප්ලවයට පසු මධ්‍යම කාරක සභාවේ දේශපාලන බල-මණ්ඩලයේ සමාජිකයෙකි, ''ප්‍රාව්දා'' පත්‍රයේ කර්තෘවරයෙකි, කොමෙ-න්ටර්නයේ විධායක සභාවේ සාමාජිකයෙකි. පක්ෂයේ ලෙනින්වාදී පිළිවෙතට විරුද්ධව කටයුතු කළේය. 1929 දී පක්ෂයේ දේශපාලන බලමණ්ඩලයෙන් හා කොමෙන්ටර්නයේ විධායක සභාවෙන්ද ඉවත් කරන ලදී. පක්ෂ විරෝධී වැඩ කටයුතු නිසා 1937 දී පක්ෂයෙන්ද නෙරපන ලදී. — පිටුව 70

බෙර් (Beer), මැක්ස් (1864—1948) — සමාජවාදය පිළිබඳ ජර්මන් ඉතිහාසඥයෙකි. 1880 ගණන්වලදී ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ වාමාංශයේ සිටියේය.විදේශගතව ලන්ඩන්හි පදිංචිව සිටියේය. 1915 දී ජර්මනියට පැමිණි ඔහු දක්ෂිණාංශික සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ට හේත්තු විය. — පිටුව 109

බෙරාර් (Bérard), වික්තර් (1864—1931) — ප්‍රංශ සුළු ධනපති පංතික අර්ථ ශස්ත්‍රඥයෙකි, ප්‍රකාශකයෙක් හා වාග් විද්‍යාඥයෙකි. — පිටුව 146

බර්න්ෂ්ටයින් (Bernstein), එදුවාර්ද් (1850—1932) — ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ සහ දෙවැනි ජාත්‍යන්තරයේ අන්ත අවස්ථාවාදී පිළේ නායකයා. සංශෝධනවාදයේ හා ප්‍රතිසංස්කරනවාදයේ න්‍යායාචාර්ය වරයාය.

බර්න්ෂ්ටයින්ගේ හා ඔහුගේ අනුගාමිකයන්ගේ න්‍යායාත්මක චින්තනද එසේම ඔවුන්ගේ ව්‍යවාහාරික ක්‍රියාකාරිත්වයද මගින් ඔවුහු කම්කරු පංතියේ අවශ්‍යතාවයන් පාවා දුන්හ. එම නිසාම දෙවැනි ජාත්‍යන්තරය බිඳවැටින. — පිටුව 33

බොබ්රින්ස්කි, වලදිමීර් අලෙක්සේයවිච් (උපත 1868) — ප්‍රතිගාමී දේශපාලඥයෙකි, රාජාණ්ඩුවාදියෙකි. විශාල ඉඩම් හිමියෙකු වූ ඔහු සීනි පිරිපහදු කම්හල්ද හිමියෙකි. දෙවැනි, තෙවැනි හා හතරවැනි රාජ්‍ය දූමා සභාවල නියෝජිතයෙකි. රුසියාවේ විවිධ ජාතික ප්‍රදේශ රුසියානු කිරීම පිළිගත්තේය. — පිටු 18, 20

මායෙරස් — මායෙර, බී. බලන්න

මාක්ස් (Marx), කාල් (1818—1883) — පිටු 18, 19, 41, 43, 141

මාර්තව්, එල්, (ට්සෙදර්බවුම් යූලි ඕසිපවිච්) (1873—1923) — මෙන්ෂෙවික් නායකයෙකි. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සම්මේලනයේදී අවස්ථාවාදී අල්පතරය මෙහෙයවූ අතර එතැන් පටන් මෙන්ෂෙවික් මධ්‍යම සංවිධානවල නායකයෙක් හා මෙන්ෂෙවික්, මධ්‍යම ප්‍රකාශනවල කර්තෘවරයෙක් ලෙසද කටයුතු කළේය. ප්‍රතිගාමීත්වය කාලයේ (1907—1910) ලික්විඩේටර් වරයෙකි. පළමුවැනි ලෝක යුද්ධය සමයේදී මධ්‍යගත වාදියෙක් බවට පත්විය. — පිටු 143, 162



මාස්ලව්, පියෝතර් පෙත්රෝවිච් (1867—1946) — අර්ථ ශාත්‍රඥයෙකි, සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි. මාක්ස්වාදය සංශෝධනය කිරීමට තැත් කරමින් කෘෂිකර්මය පිළිබඳ පොත් කීපයක්ම ලියා ඇත. රු. ස. ප්‍ර. ක. පක්ෂයේ දෙවැනි සම්මේලනයට පසු (1903) මෙන්ෂෙවික්වාදීන්ට එකතු විය. ප්‍රතිගාමීත්වය කාලයේ (1907—1910) හා නව විප්ලවවාදී රැල්ළ කාලයේ ලික්විඩේටර්වරයෙකි. පළමුවැනි ලෝක යුද්ධය කාලයේ සමාජ-ජාතෝන්මාදවාදියෙකි. — පිටු 13, 16, 110, 143

මායෙර (Mayéras), බර්තේලොමි (උපත 1879) — ප්‍රංශ පත්‍ර කලාවේදියෙකි, සමාජවාදියෙකි. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී මධ්‍යස්ථසමාදනවාදියෙකි. ප්‍රංශ සමාජවාදී පක්ෂයේ පාලක මණ්ඩලයේ සමාජිකයෙකු වූ ඔහු පක්ෂය තුළ විවෘතවම සමාජ-ජාතෝන්මාදවාදී කටයුතු ගෙන ගිය කොටස් සමග එක්වීමට උත්සාහ ගත්තේය. — පිටුව 183

මැක්ඩොනල්ඩ් (Mac Donald), ජේම්ස් රැම්සෙ (1866—1937) — බ්‍රිතාන්‍ය දේශපාලඥයෙකි. ස්වාධීන කම්කරු පක්ෂයේ සහ ලේබර් පක්ෂයේ ප්‍රාරම්භකයෙක් හා නායකයෙකි. පළමුවැනි ලෝක යුද්ධය ආරම්භයේදී සමාදනකාරී පිළිවෙතක් අනුගමනය කළ අතර පසුව විවෘතවම අධිරාජ්‍යවාදී ධනපති පංතියට සහයෝගය දක්විය. 1924 හා 1929—1931 අවුරුදුවලදී අග්‍රාමාත්‍ය ධූරය ඉසිලුවේය. — පිටු 34, 183

මිලියරන් අලෙක්සාන්දර් එතියන් (1859—1943) — ප්‍රංශ දේශපාලඥයෙකි. 1890 ගණන්වලදී සමාජවාදීන්ට හේත්තු විය. එහෙත් 1899 දී සමාජවාදී ව්‍යාපාරය පාවා දෙමින් ප්‍රංශයේ ධනපති ප්‍රතිගාමී රජයට ඇතුළු විය. — පිටුව 33

මෙන්ෂිකොව්, මිහයිල් ඕසිපවිච් (1859—1919) — ප්‍රතිගාමී ප්‍රකාශකයෙකි. කළු සියය ප්‍රකාශනයක් වූ "නෝවය ව්රේමිය" පත්‍රයෙහි සේවය කළේය. — පිටුව 16

මෝර්ගන් (Morgan), ජෝන් පිර්පන්ට් (1867—1943) — ඇමෙරිකානු කෝටිපතියෙකි. දහනවවැනි ශත වර්ෂයේ මැද්දී ආරම්භ කරන ලද ඇමෙරිකාවේ විශාලතම බැංකුවේ ප්‍රධානියාය. මෝර්ගන් බැංකුවේ ප්‍රධාන පාලකයින් වන්නේ ඇමෙරිකා එක්සත් ජනපදයේ අධිරාජ්‍යවාදී ප්‍රතිපත්ති තීරණය කරන උග්‍ර ප්‍රතිගාමී කොටස්ය. — පිටු 67

මොරිස් (Morris), හෙන්රි කේ. (උපත 1868) — ඇමෙරිකන් ඉතිහාසඥයෙකි. නීතිය හැදෑරුවේය. ඉතිහාසය හා අර්ථ ශාස්ත්‍රය පොත් ගණනාවක්ම ලියා ඇත. — පිටුව 108

යුනිවුස් — ලුක්සෙම්බුර්ග් බලන්න

යෙයිඩල්ස් (Jeidels), ඕටෝ — ජර්මන් අර්ථ ශාස්ත්‍රඥයෙකි — පිටු 53, 54, 68, 70, 72, 73, 97, 100

රදෙක්, කාර්ල් බෙන්ගාර්දවිච් (1885—1939) — 1900 ගණන්වල ආරම්භයේදී ගැලීසියාවේ, පෝලන්තයේ හා ජර්මනියේ සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරවලට සහභාගි විය. ජර්මන් වාමාංශික සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන්ගේ පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී, මධ්‍යස්ථවාදය පැත්තට වැනුන නමුත්, ජාත්‍යන්තරවාදය ආරක්ෂා කළේය. ස්වාධිපත්‍ය සඳහා ජාතීන්ගේ ඇති අයිතිය පිළිබඳ ප්‍රශ්නයේදී වැරදි මගක් ගත්තේය. 1917 දී බොල්ෂෙවික් පක්ෂයට ඇතුළු වූ නමුත් පසුව පක්ෂ විරෝධී කටයුතු නිසා පක්ෂයෙන් නෙරපා හරින ලදී. — පිටු 167

රදීෂෙව්, අලෙක්සාන්දර් නිකොලායෙවිච් (1749—1802) — රුසියානු ලේඛකයෙකි, විප්ලවවාදී දේශකයෙකි. — පිටුව 17

රීසර් (Riesser), යාකොබ් (1853—1932) — ජර්මන් අර්ථ ශාස්ත්‍රඥයෙක් හා බැංකු පාලකයෙකි. ඔහු පොත් ගණනාවක්ම ලිවේය. එම පොත්වලින් අධිරාජ්‍යවාදය හා මූල්‍ය ප්‍රාග්ධනය නිවැරදි බව ඔහු ප්‍රකාශ කළේය. — පිටු 49, 57, 59, 68, 74, 75, 92, 100, 104, 156, 161

රුබනෝවිච්, ඉලියා අදොල්ෆ්විච් (1860—1920) — සුළු ධනවාදී එස්ඒර් පක්ෂයේ එක් නායකයෙකි. පළමුවැනි ලෝක යුද්ධය කාලයේ සමාජ-ජාත්‍යෝන්මාදවාදියෙකි. — පිටුව 16

රොදීචෙව්, ෆෙයෝදර් ඉවානවිච් (උපත 1856) — මහා ඉඩම් හිමියෙක් හා සෙම්ස්ත්වො නායකයෙකි. නීතිඥයෙකි කැඩෙට් පක්ෂයේ එක් නායකයෙක් හා එහි මධ්‍යම කාරක සභාවේ සාමාජිකයෙකි. රාජ්‍ය දූමා සභාවේ සියළුම සැසිවාර වල නියෝජිතයෙකි. — පිටුව 11

රොඩ්ස් (Rhodes), සිසිල් ජෝන් (1853—1902) — බ්‍රිතාන්‍ය දේශපාලඥයෙකි, අධිරාජ්‍යවාදයේ හා යටත්විජිතවාදයේ න්‍යායාචාර්ය වරයාය. දකුණු අප්‍රිකාවේ විශාල භූමි ප්‍රමාණයක් අල්ලා ගැනීම සංවිධානය කළේය. ඉංග්‍රීසි-බුවර් යුද්ධය ඇවිලවූ තැනැත්තාය.— පිටු 100, 118

රොක්ෆෙලර් (Rockefeller), ජෝන් ඩේවිසන් (1839—1937) — මූල්‍ය අධිකාරය ආරම්භ කළේය. ඇමෙරිකාවේ තෙල් රාජා.—පිටු 67, 100, 101

රොමානොව්වරු — 1613 සිට 1917 දක්වා රුසියාව පාලනය කළ සාර් අධිරාජ්‍යවරුන්ගේ පරම්පරාව. — පිටු 18, 19

රොත්ෂිල්ද්වරු (Rothschield) — බටහිර යුරෝපයේ මහා මූල්‍ය ධනකුවේරයින්ගේ පරම්පරාවකි — පිටුව 100

ලසාල් (Zassalle), ෆෙර්දිනන්ද් (1825—1864) — ජර්මන් සුළු ධනපති පංතික සමාජවාදියෙකි. ජර්මන් කම්කරු ව්‍යාපාරය තුළ එක් ආකාරයක — ලසාල්වාදයේ — මූලාරම්භකයාය. ඔහු සමස්ත ජර්මන් කම්කරු සංගමයේ මූලාරම්භකයින්ගෙන් කෙනෙකි (1863). සංගමය ආරම්භ කිරීමෙන් කම්කරු ව්‍යාපාරයට සෙතක් සිදුවූ නමුත් සංගමයේ සභාපති ධුරයට පත්වූ ලසාල් එය අවස්ථාවාදී මාර්ගයක් ඔස්සේ මෙහෙය වූයේය. — පිටුව 17

ලාන්ස්බුර්ග් (Lansburgh), ඇල්ෆ්‍රඩ් (උපත 1872) — ජර්මන් අර්ථ ශාස්ත්‍රඥයෙකි. මූල්‍ය ප්‍රාග්ධනය පිළිබඳ ප්‍රශ්න ගැන තම ලිපි පළ කළ “Die Bank” සඟරාවේ ප්‍රකාශකයාය. — පිටු 55, 57, 146, 149, 150, 151

ලිසිස් (Lysis), [ලෙතයියර් (Letailleur) යෙව්ජින්] — ප්‍රංශ අර්ථ ශාස්ත්‍රඥයෙකි. මූල්‍ය හා දේශපාලන ප්‍රශ්න පිළිබඳ ලිපි ගණනාවක්ම ලියා ඇත. — පිටු 82, 83

ලින්කන් (Lincoln) ඒබ්‍රහම් (1809—1865) — සම්භාවනීය ඇමෙරිකන් රාජ්‍ය පාලකයෙකි රිපබ්ලිකන් පක්ෂයේ එක් නායකයෙකි. ඇමෙරිකාවේ ජනාධිපති වරයාය (1861—1865). ඇමෙරිකානු සිවිල් යුද්ධය පැවති අතරතුර කාලයේදී පොදු ජනතාවගේ බලකිරීම පරිදි, වැදගත් ධනපති-ප්‍රජාතන්ත්‍රවාදී ප්‍රතිසංවිධාන කීපයක්ම කළේය. එම ප්‍රති සංවිධාන නිසා යුද්ධය මෙහෙයවීම විප්ලවවාදී ක්‍රමයකට පරිවර්තනය විය. 1865 අප්‍රියෙල් මස වහල් හිමියෙකුගේ ඒජන්තවරයෙකු විසින් ඝාතනය කරන ලදී. — පිටුව 146

ලීෆ්මන් (Liefmann), රොබර්ත් (1874—1947) — ජර්මන් අර්ථ ශාස්ත්‍රඥයෙකි. අර්ථ ශාස්ත්‍රය හා සමාජ විද්‍යාව පිළිබඳ ලිපි ගණනාවක්ම ලියා ඇත. — පිටු 46, 47, 53, 57, 74, 75, 76, 81, 85, 105

ලුක්සම්බුර්ග් (Luxemburg), රෝසා (යුනිවුස්) (1871—1919) — ජාත්‍යන්තර කම්කරු ව්‍යාපාරයේ සම්භාවනීය නායිකාවකි. දෙවැනි ජාත්‍යන්තරයේ වාමාංශයේ නායිකාවකි. පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ ආරම්භක සාමාජිකාවක් හා නායිකාවක්ද වූවාය. පෝලන්ත සමාජ-ප්‍රජාතන්ත්‍රවාදීන් අතර වූ ජාතිකවාදයට විරුද්ධව ඉදිරිපත් වූවාය. 1897 සිට ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී ව්‍යාපාරයට සහභාගි වූ ඇ බර්න්ෂ්ටයින්වාදයට සහ මිලෙරන්වාදයට විරුද්ධව දැඩි සටනක් කළාය. ප්‍රතිගාමිත්වය කාලයේදී (1907—1910) හා නව විප්ලවවාදී උද්වේගය කාලයේදී ලුක්සම්බුර්ග් ලික්විඩේටර්වරුන් සමග එකඟවීමේ ආකල්පයක් දැක්වූවාය.

පළමුවැනි ලෝක යුද්ධයේ ආරම්භයේ සිටම ජාත්‍යන්තරවාදී ප්‍රතිපත්තියක් අනුගමනය කළාය. 1919 ජනවාරි මස ෂෙයිදමාන් රජය විසින් සිරභාරයට ගත් ඇය පසුව එම රජයේ අත පරිදි මරාදමන ලදී. පිටුව 176

ලෙවි (Levy), හර්මන් (උපත 1881) — ජර්මන් අර්ථ ශාස්ත්‍රඥයෙකි. මූල්‍ය ප්‍රාග්ධනය පිළිබඳ පළවූ පොත් ගණනාවකම කර්තෘවරයාය. — පිටුව 42, 43

ලෙගින් (Legien), කාල් (1861—1920) — ජර්මන් දක්ෂිණාංශික සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි. ජර්මන් වෘත්තීය සමිතිවල නායකයෙක් හා සංශෝධනවාදියෙකි. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී (1914—1918) අන්ත සමාජ-ජාත්‍යෝන්මාදවාදියෙකි. — පිටුව 183

ලෙනින්, ව්ලදීමීර් ඉල්යිච් (උල්‍යානව් වී. අයි.) (1870—1924)

ලොංගෙ (Lonquet), ජාන් (1876—1936) — ප්‍රංශ සමාජවාදී පක්ෂයේ හා දෙවැනි ජාත්‍යන්තරයේ නායකයෙකි, ප්‍රකාශකයෙකි. ෂාර්ල් ලොංගෙ ගේ හා ජෙනී මාක්ස්ගේ පුතා ය. ප්‍රංශ හා ජාත්‍යන්තර සමාජවාදී ප්‍රකාශන වලට ක්‍රියාකාරී ලෙස සහභාගි විය. පළමුවැනි ලෝක යුද්ධය අවධියේදී (1914—1918) ප්‍රංශ සමාජවාදී පක්ෂයේ මධ්‍යගතවාදී සමාදානකාමී අල්පතරයට නායකත්වය දුන්නේය. — පිටුව 183



වන්දෙර්වෙල්දෙ (Vandervelde), එමිල් (1866—1938) — බෙල්ජියම් කම්කරු පක්ෂයේ නායකයෙකි. දෙවැනි ජාත්‍යන්තරයේ අන්තර්ජාතික බියුරෝවේ සභාපති වරයාය. අන්ත අවස්ථාවාදියෙකි. පළමුවැනි ලෝක යුද්ධය සමයේදී (1914—1918) සමාජ-ජාත්‍යෝන්මාදවාදියෙකු වී ධනපති රජයට ඇතුල් විය. — පිටුව 183

විල්හෙල්ම් 11 (හොඑන්ට් සොල්සොල්රේන්) (1859—1941) — ජර්මානු අධිරාජයා හා ප්‍රරුසියානු රජතුමාය. (1888—1918) — පිටුව 8, 87

විල්සන් (Wilson), වුඩ්රෝ (1856—1924) — ඇමෙරිකානු රාජ්‍ය පාලකයෙකි. 1913—1921 අවුරුදු වලදී ඇමෙරිකානු ජනාධිපති වරයා. රට අභ්‍යන්තර කම්කරු ව්‍යාපාරය දැඩි ලෙස මර්ධනය කිරීමේ පිළිවෙතක් අනුගමනය කළේය. — පිටුව 32

ෂ්තාවුස් (Stauß), එමිල් ගියෝර්ග් (උපත 1877) — ජර්මන් බැංකු කරුවෙක්. — පිටුව 101

ෂුල්දෙර් (Schilder), සිග්මුන්ද් (විපත 1932) — ජර්මන් අර්ථ ශාස්ත්‍රඥයෙකි. — පිටු 92, 95, 118, 183

ෂුල්ත්සෙ-ගෙවෙර්නිත්ස් (Schulze-Gävernitz), ගෙර්හර්ද් (1864—1943) — ජර්මන් අර්ථ ශාස්ත්‍රඥයෙකි. ෆ්‍රෙයිබුර්ග් විශ්ව විද්‍යාලයේ දේශපාලන අර්ථ ශාස්ත්‍රය පිළිබඳ මහාචාර්ය වරයාය. කතීඩර් සමාජවාදියෙකි. 1892—1893 අවුරුදුවලදී ඔහු රුසියාවේ පේෂකර්මාන්තය හා ඉඩම් පිළිබඳ මොස්කව් විශ්ව විද්‍යාලයේ දේශන පැවැත්වීය. සමාජමය සමගිය, එනම්, සියළුම පංතිවල — ධනපති, කම්කරු හා ගොවි — සමාජ තත්වයන් උසස් කිරීම සඳහා ධනපති සමාජය තුළ ''සමාජ ඒකාග්‍රතාවය'' ඇතිකිරීමට හැකියයි ඔහු තම ලිපි මගින් ඉදිරිපත් කළේය.—පිටු 56, 59, 65—67,73, 76, 117, 118, 134, 135, 138,163

ෂෙයිදමාන් (Scheidemann) ෆිලිප් (1865—1939) — ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ උග්‍ර දක්ෂිණාංශයේ නායකයෙකි. පළමුවැනි ලෝක මහා යුද්ධය කාලයේදී උග්‍රතම සමාජ-ජාත්‍යෝන්මාදවාදියෙකු විය. 1918 නොවැම්බර් විප්ලවය කාලයේදී ඊනියා ජනතා ආණ්ඩුවේ ප්‍රතිවිප්ලවවාදී මණ්ඩලයට ඇතුළු විය. ස්පාටකස් වරුන්ට විරුද්ධව මර්ධනකාරී ක්‍රියා කළේය. 1919 පෙබරවාරි — ජුනි මාසවලදී වෙයිමාර්

සභාග ආණ්ඩුවේ ප්‍රධානියා විය. 1918—1921 දී ජර්මනියේ කම්කරු ජර්මනියේ කම්කරු පංති ව්‍යාපාරය කෲර ලෙස මර්ධනය කිරීමේ සංවිධායකයෙකි. — පිටු 183

ස්කොබෙලෙව්, මත්වෙයි ඉවානවිච් (1885—1939) — සමාජ -ප්‍රජාතන්ත්‍රවාදියෙකි, මෙන්ෂෙවික් වාදියෙකි. හතරවැනි රාජ්‍ය දූමා සභාවේ නියෝජිතයෙකි. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී (1914—1918) මධ්‍යස්ථවාදියෙකි. — පිටුව 143

ස්මීර්නොව්, ඊ (ගුරේවිච් එමනුයිල් ල්වෝවිච් (උපත 1865) — සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි, මෙන්ෂෙවික්වාදියෙකි. ප්‍රතිගාමිත්වය කාලයේ (1905—1907) සහ විප්ලවවාදී නව රැල්ළ කාලයේදී ලික්විඩේටර්වාදියෙකි. පළමුවැනි ලෝක යුද්ධය කාලයේ (1914—1918) සමාජ-ජාතොයාන්මාදවාදියෙකි. — පිටු 13, 16

ස්පෙක්තාතර් (නහිම්සොන්, මිරෝන් ඉසාකවිච්) (1880—1938) — අර්ථ ශාස්ත්‍රඥයෙක් හා ප්‍රකාශකයෙකි. 1899 සිට 1921 දක්වා බුන්ඩ්වාදියෙකි. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී (1914—1918) මධ්‍යස්ථ වාදියෙකි. — පිටු 110, 143

ස්තරවේර් (පොත්රේසව්, අලෙක්සාන්දර් නිකොලායෙවිච්) (1869—1934) — මෙන්ෂෙවික් නායකයෙකි. ප්‍රතිගාමිත්වය කාලයේ (1905—1907) සහ විප්ලවවාදී නව රැල්ළ කාලයේ ලික්විඩේටර් න්‍යායාචාර්ය වරයාය. පළමුවැනි ලෝක යුද්ධය කාලයේ (1914—1918) සමාජ-ජාතොයාන්මාදවාදියෙකි. — පිටු 100, 143

ස්ටෙඩ් (Stead), විලියම් තෝමස් (1849—1912) — බ්‍රිතාන්‍ය පත්‍ර කලාවේදියෙකි. — පිටු 110

සර්තොරිවුස් ෆොන් වල්තෙර්ස්හවුසෙන් (Sartorius von Waltershausen), අවුගුස්ත් (උපත 1852) — ජර්මන් අර්ථ ශාස්ත්‍රඥයෙකි. ලෝක ආර්ථිකය සහ දේශපාලනය පිළිබඳ පොත් ගණනාවක්ම ලිවේය.

සීමන්ස් (Siemens), ගයෝර්ග් (1839 — 1901) — ජර්මනියේ මහා කර්මාන්ත හිමියෙක් හා මූල්‍ය රජෙකි. 1870 දී "ජර්මන් බැංකුව ආරම්භ කළ ඔහු එහි අධ්‍යක්ෂකවරයා විය.

සුපාන් (Supan), අලෙක්සාන්දර් (1847—1820) — ජර්මන් භූගෝල ශාස්ත්‍රඥයෙකි — පිටු 106, 107

සිනොවියෙව් (රොදමිස්ල්ස්කි), ග්‍රිගෝරි යෙව්සියවිච් (1883—1936) — 1901 සිට රු. ස. ප්‍ර. ක. පක්ෂයේ සාමාජිකයෙකි. ප්‍රතිගාමීත්වය කාලයේදී ලික්විඩේටර් වරුන්, ඔත්සොවිසට් වරුන් හා ට්‍රොට්ස්කිවාදීන් කෙරෙහි සමාදනකාරී ආකල්පයක් දක්විය. ඔක්තෝබර් විප්ලවයට සූදනම් වූ කාලයේදී සහ විප්ලවය කාලයේ වැනෙන සුළු ස්වභාවයක් දක්වූ ඔහු කාමෙනේව් සමග අවිගත් නැගිටීමට තම විරුද්ධත්වය දක්වන ලිපියක් අර්ධ මෙන්ෂෙවික්වාදී ප්‍රකාශනයක් වූ "නෝවයා ෂිස්න්" පත්‍රයෙහි පළ කළේය. එමගින් ඔවුහු පක්ෂයේ මධ්‍යම කාරක සභාවේ තීරණ හා වැඩ පිළිවෙළවල් තාවකාලික ආණ්ඩුවට හෙළිදරව් කළහ. ඔක්තෝබර් සමාජවාදී විප්ලවයට පසු සිනොවියෙව් රජයේ වගකිවයුතු තනතුරු කීපයක්ම ඉසිලුවේය. ඔහු නිතරම පක්ෂයේ ලෙනින්වාදී වැඩ පිළිවෙළට විරුද්ධත්වය දක්වූයේය. 1927 නොවැම්බර් මාසයේදී පක්ෂය තුළ කණ්ඩායම්වාදී වැඩ නිසා එහි සාමාජිකත්වයෙන් නෙරපන ලදී. ඊට පසු දෙවතාවක්ම පක්ෂයට බඳවා ගන්නා ලද නමුත් පසුව නැවතත් එයින් නෙරපන ලදී. — පිටුව 173

සියුදෙකුම් (Südekum), අල්බෙර්ත් (1871—1944) — ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ එක් අවස්ථාවාදී නායකයෙකි, සංශෝධනවාදියෙකි. 1900 සිට 1918 දක්වා රෙයිහ්ස්ටාග් මන්ත්‍රීවරයෙකි. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී (1914—1918) කැපී පෙනුන සමාජ-ජාත්‍යාන්මාද වාදියෙකි. යටත්විජිත ප්‍රශ්නයේදී අධිරාජ්‍යවාදී අදහස් දේශනා කළේය. කම්කරු පංතියේ විප්ලවවාදී ව්‍යාපාරයට විරුද්ධව දැඩි සටනක් ගෙනගියේය. 1918—1920 අවුරුදුවලදී ප්රුසියාවේ මුදල් ඇමති වරයාය. — පිටුව 107

සෙම්බට් (Sembat), මර්සෙයි (1862—1922) — ප්‍රංශ සමාජවාදී පක්ෂයේ එක් ප්‍රතිසංස්කරන වාදියෙකි, පත්‍ර කලාවේදියෙකි. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී (1914—1918) සමාජ-ජාතොයාන්මාදවාදියෙකි. 1914 අගෝස්තු සිට 1917 සැප්තැම්බර් දක්වා අධිරාජ්‍යවාදී "ජාතික ආරක්ෂක රජයේ" සමාජ කටයුතු බාර ඇමතිවරයා විය. පිටුව 183

සෙන්-සිමොන් (Saint-Simon), අන්රි ක්ලෝද් (1760—1825) ශ්‍රේෂ්ඨ ප්‍රංශ මනෝරාජික සමාජවාදියෙකි. — පිටුව 164

හවෙමේයර් (Havemeyer), ජෝන් කේ. (1833—1922) — ඇමෙරිකන් කර්මාන්ත කරුවෙකි. යෝධ සීනි සංගතය අධිපතියාය. දුම්රිය හා වෙනත් සමාගම්වල හිමිකරුවෙකි. — පිටුව 82

හයින්ඩ්මන් (Hyndman), හෙන්රි මායියර්ස් (1842—1921) — බ්‍රිතාන්‍ය සමාජවාදී පක්ෂයේ ආරම්භක සමාජිකයෙකි. එහි දක්ෂිණාංශයේ නායකයා. අවස්ථාවාදියෙකි. අධිරාජ්‍යවාදී යුද්ධයට පක්ෂව ප්‍රචාරක කටයුතු කිරීම නිසා 1916 දී පක්ෂයෙන් නෙරපා දමන ලදී. — පිටු 183

හාසෙ (Haase), හියුගෝ (1863—1919) — ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රයේ එක් නායකයෙකි, මධ්‍යස්ථවාදියෙකි. 1912 සිට රෙයිහ්ස්තාග්හි සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී කණ්ඩායමේ සභාපතිවරයාය. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී (1914—1918) මධ්‍යස්ථවාදී ප්‍රතිපත්තියක් අනුගමනය කළේය. — පිටු 138

හිල්දෙබ්රන්ද් (Hildebrand) ගෙර්හර්ද් — ජර්මන් අර්ථ ශාස්ත්‍ර යෙකි, ප්‍රකාශකයෙකි. ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ සාමාජිකයෙකුව සිටියේය. අවස්ථාවාදය නිසා 1912 දී පක්ෂයෙන් ඉවත් කරන ලදී. — පිටුව 138

හිල්ෆර්දිංග් (Hilferding) රුදෙල්ෆ් (1877—1941) — ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදයේ සහ දෙවැනි ජාත්‍යන්තරයේ අවස්ථාවාදී නායකයෙකි. ඊනියා ''ඔස්ත්‍රොමාක්ස්වාදයේ'' න්‍යායාචාර්ය වරයාය. 1907 සිට 1915 දක්වා ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදී පක්ෂයේ ප්‍රධාන පුවත් පත වූ “Vorwärts” (''ඉදිරියට'') හි කර්තෘ වරයාය. 1910 දී ''මූල්‍ය ප්‍රාග්-ධනය'' නැමති ලිපිය පළ කළේය. පළමුවැනි ලෝක යුද්ධය කාලයේ (1914—1918) මධ්‍යස්ථවාදියෙකි. සමාජ-අධිරාජ්‍යවාදීන් සමග එකඟ-ත්වය පැවැත්වූවේය. යුද්ධයට පසු ''සංවිධානාත්මක ධනවාදයේ න්‍යායාචාර්ය'' වරයා බවට පත්විය. රාජ්‍ය-ඒකාධිකාරී ධනවාදය නිවැරැදි බව කියා සිටියේය. — පිටු 74, 81, 84, 92, 117, 133, 147, 157

හිල් (Hill), ඩේවිඩ් ජේන් (1850—1932) — ඇමෙරිකන් ඉතිහාසඥයෙක් හා රාජ්‍යතාන්ත්‍රිකයෙකි. — පිටුව 156

හියුබනර් (Hübner), ඔටෝ — ''ලෝකයේ සියලුම රටවල භූගෝල ශාස්ත්‍රීය-සංඛ්‍යා සටහන්'' නමින් පළවූ වාර්ෂික සංග්‍රහය පිළියෙළ කර ප්‍රසිද්ධ කළ තැනැත්තා. — පිටුව 110

හුයිස්මාන් (Huysmans), කමිල් (1871—1968) — බෙල්ජියම් කම්කරු ව්‍යාපාරයේ පැරණි නායකයෙකි. 1904—1919 අවුරුදු වලදී දෙවැනි ජාත්‍යන්තරයේ අන්තර්ජාතික සමාජවාදී බියුරෝවේ ලේකම් වරයාය. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී (1914—1918) මධ්‍යස්ථවාදියෙක් විය. කීප වතාවක්ම බෙල්ජියම් රජයට ඇතුළු විය. — පිටුව 162

හෙයිමාන් (Heymann), හාන්ස් ගිදියොන් — ජර්මන් අර්ථ ශස්ත්‍රඥ-යෙකි. — පිටු 41, 42, 75, 76

හෙයිනිංග් (Heinig), කුත් (1886—1956) — ජර්මන් සමාජ-ප්‍රජාතන්ත්‍රවාදියෙකි, අර්ථ ශාස්ත්‍රඥයෙක් හා ප්‍රකාශකයෙකි. —පිටු 99, 100

හැන්ඩර්සන් (Henderson), ආතර් (1863—1935) — ලේබර් පක්ෂයේ හා බ්‍රිතාන්‍ය වෘත්තීය සමිති ව්‍යාපාරයේ නායකයෙකි. පළමුවැනි ලෝක යුද්ධය කාලයේදී සමාජ-ජාත්‍යෝන්මාදවාදියෙකි.

හොබ්සන් (Hobson), ජෝන් ඇට්කින්සන් (1858—1940) — බ්‍රිතාන්‍ය අර්ථ ශාස්ත්‍රඥයෙකි. ධනපති පංතික ප්‍රතිසංස්කරනවාදයේ සහ සමාද-නවාදයේ නියම නියෝජිතයෙකි. ඔහුගේ ජීවිතයේ අවසාන කාලයේදී හොබ්සන් විවෘතවම අධිරාජ්‍යවාදය නිවැරැදි බව ප්‍රකාශ කළ අතර ''ලෝක රාජ්‍යයක් පිළිබඳ න්‍යායය''දේශනා කළේය. — පිටු 28, 109, 124, 125, 132, 134, 136, 137, 138, 140, 144

## පාඨකයින් වෙතටයි

මෙම පොතෙහි අඩංගු කරුණු, අනුවාදය හා මුද්‍රණය පිළිබඳව ඔබගේ අදහස් දන්වා එවීමෙන් ප්‍රගති ප්‍රකාශක මන්දිරයේ කෘතඥතාව ඔබට හිමිවේ. ඔබගේ වෙනත් යෝජනා ඇතොත් අපි එය කරුණාවෙන් බාර ගනිමු. අපේ ලිපිනය:

Progress Publishers,
Zubovsky Boulevard 17, Moscow, USSR

# LIBERATIONBASE
## ඩිජිටල් පුස්තකාලය

ඩිජිටල් පුස්තකාලය සහ ලේඛණ සංරක්ෂණ ව්‍යාපෘතිය
ආරම්භය (***NMSG Library*** ලෙස): 2010
***LIBERATIONBASE*** ලෙස නැවත නාමකරණය: 2013

සූචිකරණ දත්ත


කෘතිය: ලෙනින් තෝරාගත් කෘති වෙළුම් දොළහ, වෙළුම 4
කතෘ/පරිවර්තක: වී.අයි. ලෙනින්/උ. මු. අබයරත්න
ප්‍රකාශක: ප්‍රගති ප්‍රකාශක මන්දිරය, මොස්කව්
පළමු ඩිජිටල් පළ කිරීම: 2014-09-22
ඩිජිටල් සංස්කරණයන්: V1:2014-09-22, V2:2019-05-29
පිටු ගණන: 232
භාෂා මාධ්‍ය: සිංහල
ගොනු ආකෘතිය: PDF



Web: https://liberationbase.wordpress.com
Email: slradical@ymail.com